71 කැරළි සමයේ රඳවාගෙන සිටියදී ලියන ලදී

# ලංකා ඉතිහාසය දෙස මාක්ස්වාදී ඇසකින්



ඇන්. ෂන්මුගදාසන් විසිනි

"අපක්ෂපාතිත්වය මෝඩයකුගේ නොදැනුවත්කමයි, නැත්නම් - චපලයකුගේ කෛරාටික කමයි"

ඇන්. ෂන්මුගදාසන් විසිනි



මෙම පොතේ කතුවරයා ඇන්. ශන්මුගදාසන්, ලංකා කම්කරු සමිති සම්මේලනයේ සහලංකා කොමියුනිස්ට් පක්ෂයේ ප්‍රධාන ලේකම්ය. ඔහු 1943 පිහිටුවන ලද ලංකා කොමියුනිස්ට් පක්ෂයේ සම ආරම්භක සාමාජිකයෙකි. උපාධිය ලබාගැනීමෙන් පසු 1943 දී ඔහු විශ්ව විද්‍යාලයෙන් පිටවිය. ලංකා කොමියුනිස්ට් පක්ෂය ආරම්භ කිරීමත්, කතුවරයා වශ්ව විද්‍යාලයෙන් පිටවීමත්, අහම්බෙන් මෙන් එකම අවුරුද්දේ සිදුවූ අතර ඔහු එවක් පටන කොමියුනිස්ට් ව්‍යාපාරයේ පූර්ණකාලීන දේශපාලන කාර්යධරයෙක විය. කොමියුනිස්ට් පක්ෂයේ නායකත්වය යටතේ ක්‍රියාත්මක වූ වෘත්තීය සමිති වැඩකටයුතු වලදී, ඔහු අද්විතීය කාර්ය භාරයක් ඉටුකර ඇත.

1963 දී ලංකා කොමියුනිස්ට් පක්ෂය තුළ ඇතිවූ මතවාදී අරගලයේදී, මාක්ස්-ලෙනින් වාදී මාඕ සේතුං චින්තනයේ ශ්‍රේෂ්ඨ රතු පතාකය ඉහලින් ඔසවාගෙන එය ආරක්ෂා කරගැනීමේ සටනටත්, නූතන සංශෝධන වාදයේ විෂඝෝර න්‍යායන්ට විරුද්ධ සටනටත්, ඔහු නායකත්වය දුන්නේය. මාක්ස්-ලෙනින්වාදී කොමියුනිස්ට් පක්ෂය නැවත ප්‍රතිසංවිධානය කිරීමේ කාර්යයේදී ඔහු මූලිකත්වය ගත් අතර, ඒ වෙනුවෙන් මහත් වැඩකොටසක් ඉටු කළේය.

යුරෝපයේ සහ ආසියාවේ පුළුල් ලෙස සංචාරය කර ඇති ඔහු, ඇල්බේනියාව සහ මහජන චීන සමූහාණ්ඩුව විසින් ආරාධිත අමුත්තෙකු වශයෙන් සාදරයෙන් පිළිගනු ලැබිණ.

1971 අප්‍රේල් කැරළි සමයේදී, ඔහුව දිගු කලක් අත්අඩංගුවේ රඳවා තබාගන්නා ලදී. ඔහුගේ සම්මානයට හේතු වූ කෘතීන් රාශියකි. මෙම පොත ඔහු විසින් ලියන ලද්දේ එසේ රඳවාගෙන සිටි සමයේදීය.

71 කැරළි සමයේ රඳවාගෙන සිටියදී ලියන ලද..

# ලංකා ඉතිහාසය දෙස මාක්ස්වාදී ඇසකින්

ඇන්. ශන්මුගදාසන්
විසිනි

"අපක්ෂපාතිත්වය, මෝඩයෙකුගේ නොදැනුවත්කමයි;
නැත්නම්, චපලයකුගේ කෛරාටිකකමයි."

# පිළිගැන්වීම

මාගේ තුරුණුවියේදී නිසියාකාර වූ නිවැරදි මගපෙන්වීමකින් තොර වීම හේතු කොට ගෙන, මා විසින් සිදුකරන ලද සමහර වැරදි වලින් මිදී, මාගේ මුණුබුරු (සත්‍යන්) විප්ලවීය මාවතට අවතීර්ණවනු ඇතැයි යන උත්කෘෂ්ඨ බලාපොරොත්තුවෙන් යුතුව, දූනට තෙවසරට පාතබා සිටින මාගේ "මුණුබුරුට" මේ පොත පිරිනැමෙනු ඇත.

-1976 සැප්තැම්බර් 8 දා-

# -පටුන-

## -පෙරවදන-

1971 දී සිරිමා බණ්ඩාරනායක ආණ්ඩුව විසින් ඉතාමත්ම අසාධාරණ අන්දමින්, මා සිරභාරයේ රඳවාගෙන සිටි දස මාසය තුළදී, මේ පොත ලියන්නට යෙදිණ. මාව අක්‍රිය කිරීම තුළින්, සතුරාට වාසි සලසා ගැනීමට ඉඩ නොදීමට මා දැඩි ලෙසම අදිටන්කර ගතිමි. ඒ හා සමානම, නරක දෙයක්, හොඳ දෙයක් බවට හරවා ගැනීමට ද මම තීරණය කළෙමි.

විප්ලවවාදියකු ඔහුගේ රටේ ඉතිහාසය පිළිබඳව මනා අවබෝධයක් ලබාගැනීම ඉතාමත්ම මූලික කොන්දේසියක් නිසා, ලංකාවේ ඉතිහාසය පිළිබඳව පොතක් ලිවීම සම්බන්ධයෙන්, අවස්ථා කීපයකදීම, අපේ පක්ෂය තීරණ ගෙන තිබුණි. මාඕ සේතුං සහෝදරයා මෙසේ පවසා ඇත. ''විප්ලවවාදී න්‍යායයකින් සන්නද්ධ වී නොමැත්තේ නම්, ඉතිහාසය පිළිබඳව මනා අවබෝධයක් නොමැත්තේ නම්, ක්‍රියාකාරී ව්‍යාපාරය දැඩි ලෙස ග්‍රහණය කරගෙන නොමැත්තේ නම්, කුමන හෝ දේශපාලන පක්ෂයකට, ශ්‍රේෂ්ඨ විප්ලවවාදී ව්‍යාපාරයක්, එහි ජයග්‍රහණය කරා මෙහෙයවිය නොහැක.''

මෙම පොත ලිවීමේදී මට මේ තුළින් උසස් ආශ්වාදයක් ලබාදුණි. කුමන මට්ටමේ අඩුපාඩුකම් සහිතව වුවද, ලංකා ඉතිහාසය පිළිබඳව මාක්ස්වාදී විග්‍රහයක්, අපගේ සහෝදරවරුන්ගේ සහ හිතවතුන්ගේ අතට පත්කිරීමට මට අත්‍යාවශ්‍ය විය. මා ලංකා විශ්ව විද්‍යාලයෙන් ඉතිහාසය පිළිබඳව උපාධියක් ලබාගෙන තිබීමේ සාධකය, මේ පොත ලිවීම සඳහා වූ මාගේ සුදුසුකම වශයෙන්, සමහර මිනිසුන් සිතනු ඇත. එහෙත්, ඒ කාලයේදී මා පෙරදිග ඉතිහාසය අධ්‍යයනය කළද, මාගේ අවසාන විභාගයේදී, මා පිළිතුරු සැපයූ ප්‍රශ්න පත්‍ර දහයෙන්, ලංකා ඉතිහාසය පිළිබඳව සඳහන් වී තිබුණේ, එකම ප්‍රශ්න පත්‍රයක පමණි. එය පවා නම්කර තිබුණේ ''දකුණු ඉන්දියානු සහ ලංකා ඉතිහාසය'' යනුවෙනි. එබැවින්, ලංකා ඉතිහාසය පිළිබඳව මා දන්නා සියල්ලම මා ඉගෙන ගත්තේ විශ්ව විද්‍යාලයෙන් පිට වූවාට පසුවය. මම, මෙම දැනුම මාක්ස්වාදී විග්‍රහයකට භාජනය කොට ඇත්තෙමි.

මේ දක්වා සත්‍ය සිද්ධීන් වශයෙන් ඉතිහාසයට එක්වී ඇති බොහෝ මිත්‍යාවන් විනාශකර දැමීමට උත්සාහකොට ඇති බැවින්, මාගේ බොහෝ අර්ථ නිරූපනයන් විසින් වැඩි දෙනා තෘප්තිමත් නොකරනු ඇත. එහෙත්, මේ පොත ලියන ලද්දේ කවරෙකු හෝ සතුටුකිරීම පිණිස නොවේ. අතීතය දැනගැනීම තුළින් වර්තමානය අවබෝධ කර ගැනීමත්, අනාගතය සකස් කර ගැනීමත් පදනම් කර ගෙනය. මෙම කාර්‍යයේදී, එක්තරා සුළු ප්‍රමාණයකට හෝ මෙම පොත ආධාර වන්නේ නම්, මා ඉමහත් තෘප්තියට පත්වන අතර, ඒ නිසාම මා ඉහළම ත්‍යාගලාභියෙක්ද වන්නෙමි.

-ශන්-

1972 මැයි 1 දද

1 වෙනි පරිච්ඡේදය

# පුරාණ ලංකාව

ඕනෑම භූගෝල හෝ ඉතිහාස පොතක් අපට පවසන පරිදි ලංකාව, ඉන්දියානු උප මහාද්වීපයේ අන්තිම දකුණු කෙළවර පිහිටි, හැඩහුරුකම අතින් අඹගෙඩියකට මෙන්ම මුතුඇටයකට සමාන කර ඇති දූපතකි. ලංකාව ඉන්දියාවෙන් වෙන් කෙරෙන පටු සමුද්‍ර තීරය සැතපුම් විස්සක් පමණි. ඇත්ත වශයෙන්ම, ඉතිහාසඥයින් විසින්, ලංකාව ඉන්දීය මාල පෙත්තේ එල්ලූ මුතු ඇටයකට විචිත්‍ර අයුරින් සමාන කර ඇත.

මූලාරම්භයේ සිටම ලංකාවේ ඉතිහාසය හා දේශපාලනය කෙරෙහි අනෙකුත් සියළුම සාධකයන්ට වඩා දැඩි ලෙස යම් තනි භූගෝලීය සාධකයක් බලපෑවේනම්, එය වූ කලී ලංකාව ඉන්දියාවට ඇති සමීප කමයි. මෙම කිට්ටු සමීපකම හේතුවෙන්, ලංකාවට ඉන්දියාවෙන්, එහි ජනතාවන්, භාෂාවන්, ආගම්, ශිෂ්ඨාචාරයන් හා ආක්‍රමණකයින් මෙන්ම, විශාල ප්‍රමාණයක දේශපාලනික අදහස් ද උරුම විය.

දැනට සිංහලයන් වශයෙන් හැඳින්වෙන ජාතිය ආරම්භ කළ, බොහෝ මිථ්‍යාකතා වලින් සරසනු ලැබූ විජය සහ ඔහුගේ අනුගාමිකයින් ක්‍රි.පූ.6 වන සියවසේදී (ක්‍රි.පූ.543 දී පමණ) ලංකාවට පැමිණියේ ඉන්දියාවෙනි. ලංකාවේ ඊට පෙර මිනිසුන් පදිංචිව නොසිටි බවක්, මෙයින් අදහස් නොකෙරේ. එහෙත් වාර්තාගත ඉතිහාසය මෙයයි.

ක්‍රි.ව.412 දී ලංකාවට පැමිණි සුප්‍රකට චීන දේශාටකයා වූ පාහියන් මෙසේ පවසයි. ''ලංකාවේ මුලින්ම මිනිසුන් පදිංචිව නොසිටි අතර, රාක්ෂයින් හා මකරුන් පමණක් විසූහ. විවිධ රටවල වෙළෙන්දෝ වෙළඳාම සඳහා මෙහි පැමිණියහ. මේ ගමන් වලදී රාක්ෂයෝ වෙළඳ ගනුදෙනු වලට පෞද්ගලිකව ඉදිරිපත් නොවූ අතර, ඔවුන්ගේ වටිනා හුවමාරු භාණ්ඩවල මිල සඳහන් කර තැබූහ. එවිට වෙළෙන්ඳෝ සටහන්කර ඇති වටිනාකම් අනුව බඩු මිලදී ගෙන ගියහ. එහෙත් මේ ගමන්වල ප්‍රතිඵලයක් වශයෙන් වෙනත් රටවල මිනිසුන්ද ජනතාවගේ ප්‍රියමනාප බව ගැන අසා විශාල වශයෙන් පැමිණ මෙහි එක්රැස් වූ අතර, එයින් විශාල රාජධානියක් පිහිටවිණි.''

ඇතැම් විට මෙම විස්තරයෙන් තේරුම් යන්නේ ලංකාවේ මුල් පදිංචිකරුවන්, පසුව රට ආක්‍රමණය කළ ඉන්දු ආර්යයන්ට වඩා ශිෂ්ඨාචාරයෙන් අඩුව සිටි බවකි. එහෙත් ඔවුන් අඩු වශයෙන් විදේශීය වෙළෙන්ඳුන්, බොහෝ විට අරාබි වරුන් සමග, තමන් හුවමාරු කරගත් වෙළඳ භාණ්ඩ වල නියමිත මිලක් සටහන් කිරීමට තරම් ප්‍රමාණයකට ශිලාචාරව සිටි



බවක් පෙනේ.

මෙයින් අපට තීරණය කළ හැක්කේ ලංකාවේ අවුරුදු තුන්දහසකට වැඩි කාලයක ශිෂ්ඨාචාරයක් පැවති බව සහ දිවයිනේ වර්තමාන පදිංචිකරුවන්ගේ මුතුන් මිත්තන් ක්‍රි.පූ.6 වන සියවසේදී ඉන්දියාවෙන් මෙහි පැමිණි බවය. එසේම ඉන්දු ආර්ය ගණයට අයත් මුල් පදිංචි කරුවන් උතුරු ඉන්දියාවෙන් (ඇතැම් විට බටහිර හා නැගෙනහිර යන දෙකෙන්ම) පැමිණි අතර, ඊට වෙනස් ද්‍රවිඩ ගණයට අයත් අය, එයින් බොහෝ කලකට පසුව දකුණු ඉන්දියාවෙන් පැමිණි බවද පෙනේ.

ආදී සිංහල රජවරුන් ක්‍රි.ව. 1 වන සියවස තරම් ඈත කාලයක රෝම අධිරාජ්‍යය සමගත්, ක්‍රි.ව. 4 වන සියවසේ සිට චීන රාජ්‍ය සභාව සමගත් සබඳකම් පවත්වා ඇති බව පෙනේ.

මේ හැම දෙයකින්ම පෙන්වන්නේ අප පැරණි ඊජිප්තු, රෝම සහ චීන ශිෂ්ඨාචාරයන් සමග සම්බන්ධකම් පැවැත්වූ, පැරණි සභ්‍යත්වයක උරුම කරුවන් බවය. මෙම ශිෂ්ඨාචාරයේ එහි සම්මානයට හේතුවන බොහෝ ජයග්‍රහණයන් ප්‍රධාන වයෙන්ම පැරණි සිංහල රජුන් විසින් ඉදිකරන ලද යෝධ වැව් සහිත වාරි කර්මාන්ත ක්‍රමයක් තිබූ නමුත්, එය වැඩවසම් සූරාකෑම මත පදනම් වූ බැවින්, ජනතාව දුක්ඛිත තත්වයෙන් පසු වූ බවද, අප විසින් එසේම අමතක නොකළ යුතුය. <u>ක්ෂණික කාර්යභාරයන්ගෙන් ජනතාවගේ අවධානය වෙනත් අතකට යොමු කිරීමේ ජනප්‍රිය ක්‍රීඩාව සඳහා ධනේශ්වර දේශපාලකයන් අපේ ශිෂ්ඨාචාරයේ පැරණි ශ්‍රී විභූතිය දෙස බැලුවද, අප එය දැකිය යුත්තේ සියලුම ආකාරයේ සූරාකෑම් විනාශ කිරීම මත පදනම් වූ, වඩාත් දීප්තිමත් අනාගතයක් කරා පියනැගීම සඳහාය.</u>

ලංකාව සමකයට මදක් උතුරින් පිහිටි, සර්ම කලාපීය දූපතකි. එහි වර්ග ප්‍රමාණය සතරැස් සැතපුම් 25481 කි. උතුරේ සිට දකුණට දුර ප්‍රමාණය සැතපුම් 270 ක් වන අතර, නැගෙනහිර සිට බටහිරට සැතපුම් 140 කි. ලංකාවේ දකුණු මධ්‍යම කොටසේ පිහිටි මධ්‍ය කඳුකරය දිවයින දළ වශයෙන් කොටස් දෙකකට බෙදන අතර, එහි උස්ම ස්ථානය අඩි 8292 ක් වූ පිදුරුතලාගල කඳු මුදුනයි. මැයි සිට සැප්තැම්බර් දක්වා විශාල වශයෙන් වර්ෂාව ගෙන එන නිරිත දිග මෝසම් සුළං වල ප්‍රතිඵලයක් වශයෙන් මධ්‍ය හා නිරිත දිග ප්‍රදේශ වැඩිම වර්ෂාපතනයක් ලබන අතර, සාමාන්‍ය වශයෙන් මෙම ප්‍රදේශ තෙත් කලාපය ලෙසින් හැඳින්වේ. මෙම කඳුවැටි තෙත් කලාපය හා වියළි කලාපය බෙදා වෙන් කෙරෙන සීමාව වෙයි. කඳුකරයෙන් ඊසාන දිග ප්‍රදේශයට ඔක්තෝම්බර් සිට අප්‍රේල් දක්වා ඊසාන දිග මෝසම් සුළඟින් වර්ෂාව ලැබේ. මෙම මෝසම් කාලයේදී වර්ෂාපතනය අඩු අතර, එම මෝසමට අසුවන ප්‍රදේශය වියළි කලාපය වශයෙන් සාමාන්‍යයෙන් හැඳින්වේ.

වියළි කලාපය ලංකවේ වඩා විශාල ප්‍රදේශය සහ ඓතිහාසිකව

වඩාත්ම වැදගත් කොටස වන අතර, එය සිංහල ශිෂ්ඨාචාරයේ තොටිල්ල විය. අද ජනගහණය පැතිරියාම අතින් තෙත් කලාපයට වඩා අඩු වැදගත්කමක් ලැබුවද, වියළි කලාපය පැරණි සිංහල ශිෂ්ඨාචාරය දියුණුව පැවති ප්‍රදේශය නියෝජනය කරයි. මහාචාර්ය පරණවිතාන මහතා පෙන්වා ඇති පරිදි "සිංහලයින් මුල් කාලයේදී පදිංචි වූයේත්, පසුව ඔවුන්ගේ නගර හා ආගමික සිද්ධස්ථාන ගොඩනැංවූයේත් මෙහිය." ඔහු මෙසේද පවසයි. "හත්වන සියවසේදී, එහි ඉහළ සංවර්ධන තත්වයකට පත්වූ සංකීර්ණ වාරි කර්මාන්ත ක්‍රමය තුළින්, එම ප්‍රදේශ වල ඵලදායී බව වැඩි දියුණු වූ අතර, 12 වන සියවස අග භාගයේදී 1 වැනි පරාක්‍රමබාහු විසින් මෙම වාරිකර්මාන්තය එහි උපරිම සංවර්ධන අවදියට පත්කරන ලදී."

ආචාර්ය පරණවිතාන මෙසේ දක්වා ඇත. "ලංකාවේ පැරණි ජනාවාස ඇතිකළ ඉන්දු ආර්යයෝ වී ගොවිතැන සහ වාරි කර්මාන්ත යන දෙකම පිළිබඳ දැනුමක් ලබා සිටියහ. මෙම මූලික දැනුම පසුව දියුණු වී විවිධ දිසාවන්ට ගලායන ගංගා හා සමග අන්තර් සම්බන්ධතා ඇති අති විශාල වූ සංකීර්ණ වේලි, ඇළවල් සහ වැව් ඉදිකිරීම ක්‍රමානුකූලව දියුණුවීම තුළින් පැරණි සිංහල රාජධානියේ උසස්ම ඉංජිනේරු දක්ෂතාවය ප්‍රදර්ශනය කර ඇත. විශාලත්වයෙන් හෝ සූක්ෂමභාවයෙන් මීට සමකළ හැකි වාරිමාර්ග ක්‍රමයක් සමකාලීන ඉන්දියාවේ හෝ නොපැවතුණි.

අපේ අතීත උසස්ම උරුමයන්ට වඩාත්ම කිට්ටු සබඳතා ඇති රජුන්ගේ නම් අතර එන පණ්ඩුකාභය, වැව් තැනීම ආරම්භ කළ තැනැත්තාය. එසේම වැව් ඉදිකරන්නා යනුවෙන් හැඳින්වෙන මහසෙන් (ක්‍රි.ව. 276-303) ගේ පාලන කාලයේදී විද්‍යාව හා වාරිකර්මාන්ත ඉංජිනේරු ශිල්පයේ භාවිතය පිළිබඳ විශිෂ්ඨ දියුණුවක් ලැබීමේ ප්‍රතිඵලයක් ලෙස ප්‍රථම යෝධ ජලාශය, ඉතාමත්ම ප්‍රසිද්ධ මින්නේරිය වැව ගොඩ නැංවූ අතර, මහා පරාක්‍රමබාහු එය පරිපූර්ණත්වයට පත් කළේය. පළමුවැනි පරාක්‍රමබාහු මුළු රටම එක් සේසත් කිරීමට පෙර මායා රටේ පාලකයා වශයෙන් සිටියදී, ඔහු විසින් ප්‍රකාශ කරන ලදැයි සැලකෙන සුප්‍රකට කියමන මෙහිදී සඳහන් කිරීම වැදගත්ය. ඔහු මෙසේ පවසා ඇතැයි වාර්තා වේ. "මගේ රාජධානියේ තැනින් තැන බොහෝ කුඹුරු තීරු වල අස්වැන්න සරුසාර කර ගන්නේ ප්‍රධාන වශයෙන් වර්ෂා ජලයෙනි. එහෙත් ජලය නිරතුරුව ගලා යන ගංගා හා විශාල ජලාශවලින් පෝෂණය වන කුඹුරු ඇත්තේ ස්වල්පයකි. එසේම මගේ රාජධානිය තවම කඳු, ඝනකැලෑ සහ පැතිරීගිය වගුරු බිම් වලින් බොහෝ සේ ගහණව ඇත."

<u>සත්‍ය වශයෙන්ම එවැනි රටක වැස්සෙන් ලැබෙන එක දිය බිඳකුදු මිනිසා විසින් ප්‍රයෝජනයට නොගෙන මුහුදට ගලා යා යුතු නොවේ. මැණික් රත්තරන් වැනි දේ ලැබෙන ආකර හැර අනෙකුත් සෑම බිම් පෙදෙසකම කුඹුරු අස්වැද්දිය යුතුය.</u>



ඔහු ලංකාවේ අසහාය පාලකයා බවට පත්වූ අවස්ථාවේදී ඇලවල් 3910 ක්ද, විශාල වැව් 163 ක් හා කුඩා වැව් 2376 ක්ද, නිර්මාණය කළ බැව් හෝ නැවත ප්‍රතිසංස්කරණය කළ බැව් වාර්තා වී ඇත. මෙය අසමසම ජයග්‍රහණයකි. එසේ වුවද, ඔහුගේ ශ්‍රේෂ්ඨතම ජයග්‍රහණය පරාක්‍රම සමුද්‍රය ඉදිකිරීමය. එනම් "ඇඟමැඩිල්ලේ දී කර (අඹන්) ගඟ හරහා වේල්ලක් බැඳ, ජලය ඇඟමැඩිල්ල ඇල දිගේ ජලාශයට යැවීමයි. එසේම අතරමැද වැව් දෙකක් තුලින් වැටී ඇති ඇලකින් එය ගිරිතලේ වැවෙන්ද ජලය ලබයි."

අනුරාධපුර හා පොලොන්නරුව යන යුග දෙක තුළදීම, පැරණි සිංහල ශිෂ්ඨාචාරයේ සකල ශ්‍රී විභූතියේම පදනම වූයේ, පැරණි සිංහලයින්ගේ ඉංජිනේරු දක්ෂතාවයට උපහාරයක් වන මේ විශිෂ්ඨ වාරිමාර්ග ක්‍රමය බව මෙහිදී පෙන්වා දිය යුතුව ඇත. මෙහි පසුව සඳහන් කරනු ලබන විදේශීය ආක්‍රමණ හා අභ්‍යන්තර අවුල් නිසා මේ වාරි කර්මාන්තය බිඳ වැටීම, පැරණි සිංහල ශිෂ්ඨාචාරයේ පිරිහීම ආරම්භ විය.

ලංකාව භූගෝලීය වශයෙන් වියලි කලාපය හා තෙත් කලාපය යනුවෙන් බෙදිය හැකි වුවද, දේශපාලන වශයෙන් පුරාණයේ එය ප්‍රාන්ත තුනකට වෙන්කර තිබුණි. (1) රජරට : එනම්, අනුරාධපුර අගනුවර වශයෙන් තිබූ, ලංකාවේ විශාලම ගඟ වූ මහවැලි ගඟට බටහිරින් පිහිටි මූලික වශයෙන් සම්පූර්ණ වියලි කලාපය (2) රුහුණු රට : එනම් තිස්සමහාරාමය අගනුවර වූ, මහවැලි ගඟ නැගෙනහිරින් පිහිටි ප්‍රදේශය සහ මඩකලපු, මොණරාගල, හම්බන්තොට, මාතර සහ ගාලු දිස්ත්‍රික්ක ඇතුලත් සම්පූර්ණ දකුණු පලාත සහ (3) මලය දේශය : එනම්, දළ වශයෙන් අද උඩරට වශයෙන් හැඳින්වෙන ප්‍රදේශයයි.

ලංකාවේ ක්‍රමවත් භූගර්භ සමීක්ෂණයක් කිසිදාක හෝ කර නැත. එහෙත් පුරාණ කාලයේ සිට ලංකාව, එහි මන්නාරමෙන් ඔබ්බෙහි මුතුපර හා හක්බෙල්ලන් ගැන ප්‍රසිද්ධියට පත්ව ඇත. මීට අමතරව එය හැම විටම විශාල වශයෙන් මැණික් ගැන, ප්‍රධාන වශයෙන් රතු කැට හා පුෂ්පරාග සැපයීම ගැන ප්‍රකටව ඇත. අද පවත්නා ප්‍රමාණයට වඩා අඩි 10,000 කින් පමණ උස්වූ, අති පැරණි භූගර්භසම්භවයකින් යුත් උස් කඳු මුදුන් ඛාදනය වීම නිසා, මෙම මැණික් ගල් පහළ මට්ටම් වලට සේදී ගොස් ඇති බව සලකනු ලැබේ. ලංකාව වරක් "රත්නද්වීපය" නමින් හැඳින්වූයේ එහෙයිනි.

පුරාණ කාලයේ පටන්ම ස්වාභාවික යපස් නිධි පැවති බැව් පෙනේ. ලංකාවේ හමුවන අනෙක් වටිනා ඛනිජ වර්ග නම් මිනිරන්, හුණුගල්, මැටි, ඉල්මනයිට් සහ මොනොසයිට්ය. ඉතා මෑතකදී කළ භූගර්භ සමීක්ෂණ වලින් ලංකාවේ ඊසානදිග පෙදෙසේ ඛනිජ තෙල් තිබෙන බවද සොයාගෙන ඇත.

අවාසනාවකට මෙන් ලංකාවේ පැරණි ඉතිහාසය පිළිබඳ මූලාශ්‍රයන් අඩුය. බොහෝ සෙයින් මුල් කාලීන ලංකා ඉතිහාසයේ වැඩිම කොටස මහා

වංශයෙන් හා එහි ඊළඟ කොටස වන චූල වංශයෙන් ලබාගෙන ඇත. මහා වංශය ලේඛනාරූඪ කලේ ක්‍රි.ව.6 වන සියවස ධාතුසේනගේ රාජ්‍ය කාලයේ එම රජුගේ මාමා කෙනෙකු වූ මහානාම නම් උගත් බෞද්ධ භික්ෂුවක් විසිනි. මහාවිහාරීය භික්ෂූන් විසින් රැකගෙන සිටි වාර්තාවන් ඔහුගේ මූලාශ්‍රයන් විය. වංශ කථාව, පරාක්‍රමබාහු රජ්‍ය කාලයේදීත් ඒ අයුරින්ම ලියවුනු අතර, 18 වන සියවසේ අවසාන භාගය දක්වා වරින් වර පසු කාලීන උගතුන් විසින් ලේඛණගත කරන ලදි.

ලාංකිකයින් එබඳු පැරණි ඓතිහාසික වාර්තාවක් තිබීම ගැන අඩම්බර වන අතර, එය ලංකා ඉතිහාසයේ මූලාශ්‍රයක් වශයෙන්ද නිසැක ලෙසම වැදගත්වී ඇත. එහෙත් එහි අපක්ෂපාතී බව සැකයට තුඩු දෙයි. රජුන්ගේ උපදේශකයන් වශයෙන්, බලපෑම් ඇති කළ හැකි තත්වයක සිටි භික්ෂූන්ගෙන් කෙනෙකු අතින් ලියනු ලැබීමේ අවාසිය එයට තිබුණි. මක්නිසාද යත් සංඝයාට උපකාර කළ රජුන් වර්ණනාකිරිමට හා එසේ නොකළ අය හෙළා දැකීමට ස්වාභාවික පෙළඹවීමක් තිබූ බැවිනි.

භික්ෂුවක් ඉතිහාසඥයකු වන විට සිදුවන්නේ ආගම හා ඉතිහාසය එකට මිශ්‍ර වීමයි. එහි ප්‍රතිඵලය වූයේ බුදුන් පිරිනිවීමට පෙර තම ධර්මය අන්තිමේදී එහි ප්‍රතිස්ථාපනය වන බව දැන, ලංකාව අරක්ෂා කිරීම ශක්‍රයාට පැවරීමත්, බුදුන්ගේ නියෝගය පිළිගත් ශක්‍රයා ලංකාවේ අරක්ෂාව විෂ්ණුට පැවරීමත් වැනි ජනප්‍රවාද, සත්‍යය හා ඉතිහාසය ලෙස පිළිගැනීමට නැඹුරුවීමයි. ඒ අනුව ගිය බෞද්ධ ඉතිහාසඥයෝ බුදුන් සිය ජීවිත කාලයේදී තුන්වරක් ලංකාවට වැඩිය බවත්, එයින් එක් වතාවකදී සමනල කන්ද මත සිය පාද ලාංඡනය පිහිටවූ බවත්, ඓතිහාසික සාධකයක් ලෙස දක්වති. මීට සමාන ජනප්‍රවාද අනෙක් බෞද්ධ රටවලත් දක්නට ලැබෙන බව පෙන්වා දෙමින්, මේ කථාන්තරයට එරෙහි වීමට තරම් විද්‍යානුකූල දැක්මක් හා ධෛර්‍යයක් තිබූ එකම ඉතිහාසඥයා ආචාර්ය පරණවිතාන පමණි.

සංඝයා අතරම ඇති වූ භේදයක ප්‍රතිඵලයක් වශයෙන් මේ තත්වය වඩාත්ම නරක අතට හැරිණ. ලංකාවේ සියලුම බෞද්ධ භික්ෂූන් විසින් සියලු ධර්ම හා විනය කරුණු වලදී, බුද්ධ ශාසනය ආරම්භයේදී පිහිටුවන ලැදැයි සලකන මහා විහාරයේ ආධිපත්‍යය පිළිගන්නා ලදි. මුල්ම භේදය වට්ටගාමිණී අභය (ක්‍රි.පූ. 103-102 සහ 89-77) ගේ රජ්‍ය කාලයේදී ඇතිවිය. අලුත් නිකාය හැඳින්වූයේ, එම නිකාය පිළිගත් ධර්මය අර්ථ නිරූපනය කළ ආචාර්ය වරයාගේ නමින් අභයගිරි නිකාය යනුවෙනි. පසුව අභයගිරි නිකායෙන් බිඳුන තවත් කොටසක් මහසෙන් රජු විසින් ගොඩනගන ලද ජේතවනාරාමය මූලස්ථානය කර ගත්හ.

ධර්ම ග්‍රන්ථ වල හා අර්ථකථනයේ ඇතැම් වෙනස්කම් තිබූ නමුත්, මේ තුන් නිකායම ථෙරවාදී හෙවත් සම්ප්‍රදායික බෞද්ධ ඉගැන්වීම් ක්‍රමයට අයත්



විය. බුදුන් පිරිනිවීමෙන් පසු බුද්ධාගම ලංකාවට ගෙන ඒමට පෙර එය විවිධ නිකායන් 18 කට කැඩී තිබූ බවද සඳහන් කළ යුතුව ඇත.

එහෙත් ඒ වන විටත් ඉන්දියාවේ බෞද්ධයන් අතර අලුත් ව්‍යාපාරයක් මුල්බැස ගනිමින් තිබුණි. ආචාර්ය පරණවිතාන අලුත් දර්ශනය මෙසේ විස්තර කරයි. "පැරණි නිකාය වල මෙන්ම ථෙරවාද භික්ෂූන්ගේද පරමාර්ථය වූයේ අනුගාමික හෙවත් ශ්‍රාවක ජීවිතය ගතකර ඒ තුළින් නිර්වාණය අවබෝධ කර ගැනීමය. මෙය කෙනෙකුගේ ස්වයං විමුක්තියටම යොමුවිය. මෙම අලුත් ව්‍යාපාරයේ ආචාර්යවරයා ප්‍රකාශ කළේ, බෞද්ධයෙකුගේ ශ්‍රේෂ්ඨ පරමාර්ථය විය යුත්තේ ගුරුවරයා කළාක් මෙන් සියළුම මිනිස් වර්ගයාගේ විමුක්තිය සඳහා වීර්‍ය දරමින් බෝධිසත්ව ජීවිතයක් ගත කිරීම බවයි. එබැවින් ඔවුන් වීර්‍ය දැරිය යුත්තේ මේ ආත්මයේදී රහත්ඵලය ලැබීමට නොව අනාගතයේ බුද්ධත්වය ලැබීමටය. ඔවුහූ මෙය ශ්‍රේෂ්ඨ පැවැත්ම හෙවත් මහායානය යනුවෙන් විශේෂත්වයෙන් හැඳින්වූහ. කෙනෙකුගේ සවයං විමුක්තිය පමණක් ලබා ගැනීම සඳහා ක්‍රියා කිරීම පහත් පැවැත්ම හෙවත් හීන යානය යනුවෙන් හැඳින්වූහ."

බුද්ධශාසනයේ මේ ප්‍රභේදයන් ඇතැම් ලක්ෂණ අතින් රෝමානු කතෝලික පල්ලියේ ආගමික ප්‍රතිසංස්කරණයෙන් මතුවූ ප්‍රභේද වලට සමාන බවට සැකයක් නැත. ප්‍රතිසංස්කරණ වාදීන් මෙන්ම, බුද්ධාගමේ මහායාන ධර්මය වඩා නිදහස් බැවින් නිර්භීත න්‍යායාචාර්යවරුද, එය ප්‍රගතිශීලී හා ජනප්‍රිය අතට යොමු කළහ. එහෙත් ලංකාව සම්බන්ධයෙන් සලකා බලන විට ඇති විශේෂත්වය නම්, සම්ප්‍රදායික බුද්ධ ධර්මයේ ප්‍රධාන මධ්‍යස්ථානය වූ මහා විහාරය ඊට දැඩි විරෝධය පළ කිරීම හා, අභයගිරි විහාරය මහායාන ධර්මයේ අනුගාමිකයන් වීමය.

මෙසේ මහා විහාරය විසින් ලංකාව, බුරුමය, සියම සහ කාම්බෝජය යන රටවල පැවති "දකුණු දිග" බෞද්ධ ධර්මය ඉගැන්වූ අතර, අභයගිරි විහාරය ඉන්දියාවේ වෛතුල්‍යයන්ගෙන් උගත් කාශ්මීරය, ටිබැට් සහ චීනයේ පැවති "උතුරු දිග" ධර්මය ඉගැන්විය.

මහා විහාරය සහ අභයගිරි විහාරය අතර වූ මෙම ධර්මයේ වෙනස් කම් වල ප්‍රතිඵලය වශයෙන් මතුවූ උණුසුම් විවාද අප විසින් සඳහන් කළ පරිදි ලංකාවේ පැරණි ඉතිහාසය නිවැරදිව විවරණය කිරීමේ ප්‍රධාන බාධකය විය. මක් නිසාද යත්, වෝහාරක තිස්ස (ක්‍රි.ව. 215-237) රාජ්‍ය කාලයේ ආරම්භ වූ, ඇතැම් විට විරුද්ධ නිකායට මුළුමනින්ම හිංසා පැමිණවීමේ ස්වරූපය ගත් මේ ප්‍රකෝපකාරී විවාද නිසා, අභයගිරි විහාරයේ තිබූ ලිපි ලේඛන ගිනිබත් කර විනාශ කරන ලදි. මේ අනුව මහා විහාරයේ හෙවත් සම්ප්‍රදායික බුද්ධ ධර්මයේ ජයග්‍රහනය සම්පූර්ණ වූ අතර, අද ඉතිහාසය වශයෙන් පවතින්නේ ලංකා ඉතිහාසය පිළිබඳව ඔවුන්ගේ විවරණයයි.

නිසැකවම පැරණි ලංකා ඉතිහාසය පිළිබඳව විශාලම තනි බලපෑම, දේවානම්පියතිස්ස (ක්‍රි.පූ. 250-210) රාජ්‍ය කාලයේ බුද්ධ ධර්මය හඳුන්වා දීමයි. මේ ලේඛනයේ අරමුණ ලංකාව හෝ එහි ඉතිහාසය කෙරෙහි බුද්ධාගමේ බලපෑම් තක්සේරු කිරීම නොවේ. එහෙත් ක්‍රි.පූ. 3 වන සිය වසේදී, අශෝක අධිරාජ්‍යයා විසින් කාලිංගය ජය ගැනීමෙන් පසු බුද්ධ ධර්මයේ බලපෑම නිසා මනුෂ්‍ය ඝාතනයේ වරද අවබෝධ කර, ඉන්පසු එවැනි ඝාතන සිදුවීම වලක්වනු සඳහා අලුත් භක්තිය ඉන්දියාව තුළ පමණක් නොව අවට රටවලද පැතිරවීමට ඔහුගේ සම්පූර්ණ ශක්තිය කැප කළ නමුත්, එම ධර්මය වැළඳගත් ලාංකිකයන් තුළ එබඳු බලපෑමක් ඇති නොවීමේ සත්‍යය පෙන්වා දීමෙන් තොරව කෙනෙකුට ඉන් ඉදිරියට යා නොහැක. දුටුගැමුණු සිට පරාක්‍රමබාහු දක්වාත්, ඊට පසුවත් හැම සිංහල රජෙක්ම පාහේ සිංහාසනය ලබා ගැනීමේ අභිලාශයෙන් හිංසාව උපයෝගී කර ගත්තේය. මේ හැම අවස්ථාවකදීම පාහේ ඔවුනට සංඝයාගේ ආශිර්වාදය ලැබිණි. පරාක්‍රමබාහු වැනි රජවරුන් ඉන්දියාවට හා බුරුමයට විරුද්ධව විදේශ ආක්‍රමණ වල යෙදුණේද, සංඝයාගේ සම්පූර්ණ ආශිර්වාදය ලබාගෙන බවට සැකයක් නැත.

එබැවින් අපට ලංකාවේ බෞද්ධ බලපෑම ගැන කථා කිරීමට අයිතියක් තිබේද? නැතහොත් ලංකාව නිර්මල බුද්ධාගම ආරක්ෂාවන ස්ථානය ලෙස පවතින්නේද?

බුද්ධාගම ප්‍රචලිතවීම නිසා සත්‍ය වශයෙන්ම වෙනත් බලපෑම්ද ඇති විය. මුල් ඉන්දු ආර්ය පදිංචිකරුවන් පැමිණීමට අමතරව ඉන්දියා මහද්වීපයෙහි ශිෂ්ඨාචාරය, ලේඛන කලාව, ගෘහ නිර්මාණය, මූර්ති ශිල්පය, සාහිත්‍ය ආදිය ලංකාවට ලැබුනේ බුද්ධාගම පැමිණීම හේතුකොටගෙනය. බුද්ධාගම පැමිණීමත් සමගම ඉන්දියානු සංස්කෘතිය අපේ දිවයිනට කාවැදීම නිසා, බෞද්ධ ශිෂ්ඨාචාරය හා ලාංකිකයන්ගේ ශිෂ්ඨාචාරය බුද්ධාගම තුළින් හඳුනා ගැන්ම පිළිබඳ කථා ඇතැම් පිරිසක් අතර මතු විය. අදත් පටු ජාතිවාදී දේශපාලඥයන් රට, භාෂාව, ආගම ගැන කථා කරනවා අසන්නට ලැබෙන්නේ එහෙයිනි. එවැනි වූ හැඳින්වීමක් කළ හැකිද? බෞද්ධ ශිෂ්ඨාචාරය නමින් යම් දෙයක් තිබෙනවාද? එබඳු තත්වයක් පිළිගැනීම සිංහලයන් නොවන බෞද්ධයන් සිටින බව හෝ ඔවුන් තුළ බෞද්ධ බලපෑම් ඇති බව හෝ ප්‍රතික්ෂේප කිරීමකි. ශිෂ්ඨාචාරය යනු ජනතාවගේ ජීවත් වන ක්‍රමය හා ඔවුන්ගේ ජීවිත කාලයේදී භාවිතය සඳහා උගන්නා වටිනාකම් සමූහයකි. බොහෝ බලපෑම් මේ සංවර්ධනය සකස් කරයි. එහෙත් ශිෂ්ඨාචාරය ගැන ආගම් තුළින් කථා කිරීම භේද කිරීමේ ආකල්පය හඳුන්වාදීමකි. එය හැම දෙනාම අපේ අරමුණ විය යුතුයයි පිළිගනු ලබන විවිධ ජාතික-විවිධ ආගමික-විවිධ භාෂා කථා කරන ජනතාවන්, එකම ජාතියක් බවට වර්ධනය වීමට හා සම්මිශ්‍රනය වීමට සුභ නිමිත්තක් නොවේ.



එබඳු වූ පටලැවීමකට පදනමක් නැත. මූලික වශයෙන් බුද්ධාගම ක්ෂත්‍රිය හෙවත් රාජ වංශයට අයත් පංතිය, සමාජයේ බ්‍රාහ්මණ ආධිපත්‍යයට විරුද්ධව කළ විප්ලවයකි. බුදුහු ක්ෂත්‍රිය වංශිකයෙක් වූ අතර, මෙම විප්ලවයට නායකත්වය දුණි. බුද්ධාගමේ බ්‍රාහ්මණ විරෝධී හා අදේව වාදී දෘෂ්ඨිය තීරණය කළ හැක්කේ එසේය. එහෙත් බුදුන්ගේ ඉගැන්වීම වැඩිකල් නොයා බොහෝ වෙනස්කම් වලට භාජනය විය. බුද්ධාගම ලංකාවට පැමිණීමට පෙර එහි විවිධ නිකායන් 18 ක් ඇතිවීම පැහැදිලි කරන්නේ මේ අයුරිනි. ක්‍රි.පූ.6 වෙනි සියවස වැනි පූර්ව කාලයක අදේවවාදී ධර්මයක් පැවතීමේ එක් හේතුවක් විය හැක.

බුද්ධාගමට විරුද්ධව පසුපසින් සිට සටන් කළ හින්දු ධර්මයේ ආරම්භයේදී පරාජය වූ අතර, පසුව ඒ තුළට බුද්ධ ධර්මය ඇද ගැනීම තුළින් ජය ලබා ගත්තේය. ඉන්දියාව තුළ බුද්ධාගම අතුරුදහන් වූයේ ඒ අයුරිනි. ඒ අතර ලංකාවේ පවා හින්දු ආභාෂය පැතිරිණි. මිත්‍යාමය විජයගේ කාලයේ සිට සිංහල රජවරුන් ඔවුන්ගේ බිසෝ වරුන් සඳහා දකුණු ඉන්දියාවට යාමේ පුරුද්ද නිසා මෙය වඩාත් පහසු විය. එම බිසෝවරුන් විසින් ඉතාමත්ම ස්වභාවික අයුරින් ඔවුන්ගේ දෙවිවරුන්ද ඔවුන් සමග ගෙනාහ. මේ අයුරින් හින්දු දෙවිවරුන්ද බෞද්ධ වෙහෙර විහාර තුළට ඇතුල්කර ගත්හ. ලංකාවේ ක්‍රියාත්මක වන පරිදි විෂ්ණු ඇදහීම බුද්ධාගමේ පිළිගත් චාරිත්‍රයක් බවට පත්වූයේ එපරිද්දෙනි. යම් අයකු පොලොන්නරුව නිස්සංක මල්ල මාලිගයේ නටබුන් නැරබීමට ගියහොත්, ඔහු මාලිගය ඉදිරිපිට පූජ්‍යස්ථාන දෙකක නටබුන් දකිනු ඇත. ඉන් එකක් වූකලී රජු විසින් වන්දනාමාන කරන ලද බෞද්ධ විහාරයයි. අනෙක ඔහුගේ ඉන්දියානු බිසව ඇදහූ විෂ්ණුට කැප කළ කෝවිලයි. පසුව විෂ්ණු එම විහාරය තුළටම වැද්ද ගන්නා ලදි. අද හින්දුන්ගේ අතිශයින්ම වැදගත් ඇදහීමක් වන කාවඩි නැටුම පවා බෞද්ධ ඇදහීමක් බවට පත්වී ඇත. උසස් සමාජයේ පුද්ගලයන්ගේ අනුශාසකත්වයෙන් යුත්, එහෙත් අප කීර්තිමත් ලුනාව දේවාලයේ සිරිමාවෝ බණ්ඩාරනායක කාවඩි නැටූ බව අප අසා ඇත. ඒ දර්ශනය බුදුන් පවා ප්‍රකෝප කරවන අතර, ඕනෑම අවංක බෞද්ධයකු පිළිකුල් කරනු ඇත.

මේ අනුව අප විසින් බෞද්ධයයි සලකනු ලබන බලපෑම්වලින් විශාල ප්‍රමාණයක යථාර්ථය ගෙන ඇත්තේ හින්දු ධර්මයෙනි. වඩාත් පැරණි සිංහල රාජ්‍ය සභාවල, බුද්ධාගම රාජ්‍ය ආගම වූ පොලොන්නරු යුගයේ පවා පුරෝහිතයන් ලෙස උසස් තත්වයක වැජඹුණ බ්‍රාහ්මණයෝ රජුන්ගේ අභිෂේක මංගල පැවැත්වීම, වැදගත් කටයුතු සඳහා සුබ මොහොත් යෙදීම ආදී වශයෙන් වූ බොහෝ සේවාවන් ඉටු කළහ.

කෙසේ වුවද, අපට නොතකා හැරිය නොහැකි එක් අනියම් බලපෑමක්ද බුද්ධාගම නිසා ඇතිවිය. ලංකා ඉතිහාසයේ මූලාරම්භයේදීම

වට්ටගාමිණී (ක්‍රි.පූ.103-102 සහ 89-77) ගේ කාලයේ සිට සිංහල රජුන් සංඝයා සඳහා ආරාම වලට, ඒවායින් ලැබෙන ආදායම් පවරා ගනු සඳහා ඉඩම් පරිත්‍යාග කිරීමේ පුරුද්ද ඇති කරන ලදි. මෙය "සංඝයා වස්තු සම්පත් හිමිකර ගැනීමෙන් මිදිය යුතුය" යන බුද්ධ ධර්මයේ ප්‍රතිපත්තිවලට මුළුමනින්ම පරස්පරවිරෝධී වේ. වට්ටගාමිණී තමා සැඟවී සිටි කාලයේ තමාට උදව් කළ භික්ෂු නමකට තෑගි දීම සඳහා මේ ක්‍රමය ආරම්භ කළේය. අනෙක් රජවරුද සංඝයාගේ අනුග්‍රහය ලබා ගැනීමේ අදහසින් මෙය දිගටම පවත්වාගෙන ආහ. බෞද්ධ ඉගැන්වීම් වලට වෙනස්ව සංඝයාට ද්‍රව්‍යමය ලාභ ප්‍රයෝජන ලැබීමෙන්, පැවිදි පක්ෂයට වඩාත් සැපවත් ජීවිතයක් ඇතිවිය. එය පැවිදිවීමේ සංඛ්‍යාව වැඩිවීමට මග පෙන්විය. මෙසේ මෙම සංඝයා කිසිම නිෂ්පාදන කාර්යයක නොයෙදී, තමන්ට අවශ්‍ය හැම දෙයක්ම ලබාගන්නා පරපෝෂිතයන් බවට පත් වූහ. ඔවුන්ගේ සංඛ්‍යාව වැඩිවීම ආර්ථිකයට මරු පහරක් වූ අතර, මෙය පොලොන්නරු රාජධානිය බිඳ වැටීමට හේතු වූ සාධකයක් බව ඇතැම් උගත්හූ පවසති.

මහායාන නිකායට මේ ඉරණම අත් නොවූයේ, එහි භික්ෂූන් ශ්‍රමය යොදා කරන නිෂ්පාදන කාර්යයන්හී නිරත වූ හෙයිනි.

එබැවින් ලාංකික හෙවත් සිංහල ශිෂ්ඨාචාරයක් ගැන කථා කරන විට බුද්ධාගමේ ආභාෂය ප්‍රධාන නමුත්, බුද්ධාගමේ හා හින්දු ආගමේත්, පසුව ක්‍රිස්තියානි ආගමේත් ආභාෂය ලැබූ, දිවයින තුළ පැවති ප්‍රාග් සිංහල සංස්කෘතියේ සහ ඉන්දීය සංස්කෘතියේ සංකලනයක් ලෙස කථා කිරීම වඩා නිවැරදිය.

ලංකා ඉතිහාසයේ දෙවන විශාලම බලපෑම වූයේ නිරන්තරයෙන් සිදුවූ විදේශීය ආක්‍රමණයන්ය. එනම්, මුල් යුගයේ දකුණු ඉන්දියානු ආක්‍රමණ හා පසු යුගයේ යුරෝපීය ආක්‍රමණත් විය. පහසුවෙන් තරණය කළ හැකි පටු දිය කඩකින් පමණක් ලංකාව ඉන්දියාවෙන් වෙන් කර ඇති සාධකය නිසා (ප්‍රධාන රටේ) ඉන්දියාවේ තම විරුද්ධවාදීන් ජය ගෙන දකුණු ඉන්දියානු රාජ්‍යයක් බලයට පත්වූ විට, ලංකාව ඔවුන්ගේ ආධිපත්‍යයට යටත් කර ගැනීමේ හැඟුම යටපත් කළ නොහැකි වීමයි. ඒ හා සමානවම දිවයින තුළ බල සම්පන්න එක්සත් සිංහල රාජ්‍යයක් ඇතිවූ විට, දකුණු ඉන්දියාවේ දේශපාලනයට මැදිහත් වූ ආක්‍රමණ ද විය.

ලංකාව දරුණුම ආක්‍රමණ තර්ජනයකට මුහුණපෑවේ ඉන්දියා ඉතිහාසයේ කේරල, චෝල සහ පාණ්ඩ්‍ය කුමාරවරුන් ඔවුන්ගේ බලයේ උපරිම මට්ටමට පත්වූ යුගයේදීය. එහෙත් ලංකා ඉතිහාසයේ මූලාරම්භයේදීම දකුණු ඉන්දියානු ආක්‍රමණ එල්ල වූ බව පෙනෙන්නට තිබේ. ප්‍රථම ශ්‍රේෂ්ඨ සිංහල රජු වූ දුටුගැමුණුගේ කථාව, ලංකාව ද්‍රවිඩ ආධිපත්‍යයෙන් නිදහස්කර ගැනීමේ කථාවයි.



ලංකාවට ඊලඟ භයානකම ආක්‍රමණ තර්ජනය එල්ල වූයේ චෝලයන් ඔවුන්ගේ බලයේ උපරිම අවස්ථාවේ පසුවූ 11 වන සිය වස ආරම්භයේදීය. මේ කාලයේ චෝලයන්ට ලංකාව ජයගෙන ශත වර්ෂ බාගයක් පමණ යටත්කොට තබා ගත හැකි විය. දකුණු ඉන්දියාවේ ආධිපත්‍යය සඳහා තරඟය සිදුවූයේ කේරල, චෝල සහ පාණ්ඩ්‍ය රාජධානි අතරය. සිංහල රාජධානිය එම ප්‍රදේශයේ බලය සඳහා තරඟ කළ හතරවැන්නා විය. චෝලයන් මෙන්ම බලවත් මුහුදු ආධිපත්‍යයක් දැරූ ශ්‍රී විජයගේ මැලේසියානු රාජධානියද, 11 වන 12 වන සියවස්වල මේ බල තරඟයට ඇතුලත් වූ බවත්, ලංකාවේ ප්‍රබල සගයකු බවට පත් වූ බවත් පෙනේ.

මෙම රාජධානි අතර බලය පිළිබඳ ප්‍රතිපත්තියේ ස්වයංක්‍රීය සමතුලිතතාවයක් මතු විය. ඉහළම බලයට විරුද්ධ වීම සඳහා අනෙක් සියලුදෙනාම මිත්‍ර සම්බන්දතාවය තුළින් බැඳී කටයුතු කළහ. නැපෝලියානු යුගයේදී බ්‍රිතාන්‍ය අනුගමනය කළේද, මේ හා සමානවූ ප්‍රතිපත්තියකි. සිංහල රජවරු මේ යුද්ධවලට සහ තුළිත ක්‍රීඩා වලට මුලුමනින්ම සහභාගී වූහ. එහි ප්‍රතිඵලයක් වශයෙන් දකුණු ඉන්දියාව ජය ගැනීමේ සටන්වලට සිංහල හමුදා සම්බන්ධවීම සහ නායකත්වය සඳහා තරඟකළ එක් පක්ෂයකට හෝ අනිකට ආධාර දීම සිදු විය. සිංහල හමුදාව මැදිහත්වීමේ ප්‍රතිඵලයක් වශයෙන් පාණ්ඩ්‍ය කුමාරවරු එක් අයෙකුට වැඩි සංඛ්‍යාවක් සිංහාසනාරූඪ කරවන ලදි. එපරිද්දෙන්ම දකුණු ඉන්දියානු ආක්‍රමණයන්ට ගොදුරු වූ ලංකාව ඔවුන්ගේ ආධිපත්‍යයට යටත් විය.

මෙම ආක්‍රමණ හා ජයග්‍රහණ ජාතීන් අතර සිදුවූ සටන්යැයි හැඳින්වීම වැරදිය. එම යුගයේදී ජාතික තත්වය ප්‍රශ්නයක් නොවීය. එය ධනවාදය වර්ධනය වීමෙන් පසුව මතුවූ සංකල්පයක් පමණි. මෙම සටන්වලට සහභාගීවූ සියලුම කුමාරවරුන් එකම ගෝත්‍රයකට අයත්වූ හෝ විවාහයෙන් ඥාතීන් බවට පත්වූ හෝ වැඩවසම් කුමාරවරුය. යුද්ධ විශාල වශයෙන් කෙරුනේ කුලී හමුදා මගිනි. කාශ්‍යප පරදා ලක් කිරුළ හිමිකරගත් මුගලන්ගේ සේනාව දකුණු ඉන්දියානු කුලී හමුදාවක් බව ලංකා ඉතිහාසය හදාරන හැම ශිෂ්‍යයෙකුටම මතක ඇත.

දකුණු ඉන්දියාවේ හා ලංකාවේ රදළ කුමාරවරුන් අතර වූ මෙම සටන් ප්‍රංශයේ හා එංගලන්තයේ රදළ අධිපතීන් අතර සිදුවූ සියක් අවුරුදු යුද්ධය වැනි වැඩවසම් යුද්ධවලට සමානය. ඒවා සිදුවූයේ ජාතියක් හා ජාතියක් අතර හෝ රටක් හා රටක් අතර නොවේ. හුදෙක් වැඩවසම්වාදී සටන්වලට ජාතික හැඟුමක් ආරෝපණය කිරීම පසු කාලයක ජාතිවාදය ඇවිස්සීමේ අදහසට පමණක් සේවය කළේය. එළාර හා ඔහුගේ පාලනයට විරුද්ධව මහා වංශයට කිසිවක් සොයාගත නොහැකි වූ බව සඳහන් කළ යුතුය. එබැවින් ඔහු බෞද්ධයෙකු නොවේය යන සාධකය ජනතාව ඔහුට විරුද්ධව නැගීටුවීම සඳහා ප්‍රයෝජනයට ගැනීම ඒ කාලය අනුව කිසිසේත්ම ඇදහිය නොහැක.

වැඩවසම් ක්‍රමය යටතේ රදළ සිංහල රජෙකු හෝ අධිපතියෙකු, සිංහල ගොවි දාසයෙකුට හෝ ගැමියෙකුට වඩා, ද්‍රවිඩ රජෙකුට හෝ අධිපතියෙකුට සමීපවීමේ සත්‍යයට මුහුණදිය යුතුය. වැදගත් වූයේ වැඩවසම් සමාජයක කෙනෙකුගේ තත්වයයි. ඔවුනට ජාතිය හෝ භාෂාව එතරම් වැදගත් නොවේ. බොහෝ සිංහල රජවරුන් ඉන්දියානු බිසෝවරුන් විවාහ කර ගත්තේ එහෙයිනි. ඒ අනුව ශ්‍රේෂ්ඨතම සිංහල රජු ලෙස සලකන පරාක්‍රමබාහු සිංහලයෙකු ලෙස සැලකීම කළ නොහැක්කකි. ඔහුගේ පියා වූයේ පාණ්ඩ්‍ය කුමරෙකි. සිංහල වූයේ මව පමණය. මෙහිදී පවා ඇයගේ පියාද සිංහලයෙක් නොවීය. පරාක්‍රමබාහුට සිංහාසනය අයිතිය ලැබුනේ මේ කාලයේ සිංහලයන් මව් පක්ෂයේ උරුමය සැලකූ හෙයිනි. මෙපරිද්දෙන්ම දෙමළ කුමරෙකු වූ 6 වන බුවනෙකබාහු හෙවත් සපුමල් කුමරු 6 වන පරාක්‍රමබාහු වෙනුවෙන් යාපනය ජයගෙන ඔහුගේ දුව හා විවාහ විය.

ලංකාවේ අන්තිම රජවරුන් දකුණු ඉන්දියාවේ අය වීමට හේතුව වූයේද එයයි. මෙය ආක්‍රමණයක ප්‍රතිඵලයක් නොවූ අතර උඩරට අධිපතීන් විසින් තීරණය කරන ලද්දකි. සිංහලයන්ගේ අන්තිම රජවූ ශ්‍රී වික්‍රම රාජසිංහ ද්‍රවිඩයෙකු යැයි වැරදි සහගතව හැඳින්වූවත්, උඩරට අධිපතියෙකු වූ පිළිමතලාව නිසා අන්ද්‍රා දේශයේ කුමරියකට උපන් පුතෙකි. ඔහුගේ රාජ සභාවේ භාෂාව වූයේ දෙමළය. 1815 දී අත්සන් කළ උඩරට ගිවිසුමට කැප්පෙටිපොළ හැර ඉතිරි සියලුම උඩරට නායකයින් අත්සන් තබා ඇත්තේ දෙමළෙන් බව සඳහන් කිරීම වැදගත්ය. සිරිමාවෝ බණ්ඩාරනායකගේ මුත්තාවූ රත්වත්තේ දිසාවද අත්සන්කර ඇත්තේ දෙමළෙනි. එය ඔවුනට කරදර වීමට කරුනක් නොවීය. ජනතාවට, විශේෂයෙන්ම ගැමියන්ට විරුද්ධව සිංහල හා ද්‍රවිඩ අධිපතියන් වැඩවසම් බැමිවලින් එක්සත් කරන ලදි.

මේ තත්වය තේරුම් ගත් බ්‍රිතාන්‍ය පාලකයින්, ඉන්දියාවත් ලංකාවත් වෙන්කර තබා ගැනීමේ හා ලංකාවේ සිංහල හා දෙමළ ජනතාව භේද කර තැබීමේත් අදහසින් වැඩවසම් තරඟය වැඩිදියුණු කිරීම තුළින් එය සිංහල හා ද්‍රවිඩ ජනතාව අතර ජාතික වෛරයක් බවට පත්කර ඇත. මේ මගින් විශේෂයෙන්ම දෙපක්ෂයටම අයත් ප්‍රාදේශීය ජාතිවාදීන්ගේද ආධාර ඇතිව ඔවුන් විශාල ප්‍රමාණයක සාර්ථකත්වයක් ලබාගෙන ඇත.

තවත් දැක්විය යුතු කරුණක් නම් දකුණු ඉන්දියානු රජුන් හා සිංහල රජුන් අතර සිදුවූ යුද්ධ මෙන්ම, සිංහාසනය සඳහා උරුමකම් කියන ලද සිංහලයින් අතරද දිගින් දිගටම අභ්‍යන්තර සටන් සිදුවීමයි. රජරට, රුහුණු සහ මලය දේශයේත්, බොහෝ විට එකිනෙකා මුලු ලංකාවේම රජ වීමට තැත් කළ වෙන වෙනම රජවරු සිටියහ. පළමුවන පරාක්‍රමබාහුට තම පාලනය යටතේ දිවයින එක්සත් කිරීමට පෙර රට විනාශ වන තරමට සිවිල් යුද්ධ ඇතිවීමද සිදුවිය.



මේ නිරතුරුවම පැවති යුද්ධවල ප්‍රතිඵලයක් වූයේ දිවයිනේ උතුරු කොටසේ ද්‍රවිඩ රාජ්‍යයක් පිහිටුවීමයි. තවත් ප්‍රතිඵලයක් වූයේ දකුණු ඉන්දියානු ලාංකීය සංස්කෘතීන් සම්මිශ්‍රණය වීමයි. ඔවුන් එකිනෙකා සටන් නොකරන විට දකුණු ඉන්දියානු හා ලාංකීයයන් අතර අති මහත් ලෙස සහජීවනයක් හා සහයෝගීතාවයක් තිබිනි. ලංකාවේ යටත් විජිත යුගයට පෙර ඉතිහාසයේ වැඩි කාලයක් තුළ සිංහල රාජධානියේ පුරෝහිතයන්, කලා කරුවන්, කුලී හේවායන් (පොලොන්නරු යුගය තුළ රජුගේ ආරක්ෂක භටයන් වශයෙන් ක්‍රියා කළ (ද්‍රවිඩ ආරක්ෂකයින්) වේලයික්කාර නමින් බලඇනියක් තිබිණි) වෙළඳුන් ආදී වශයෙන් දකුණු ඉන්දියානුවන් සේවය කර ඇත. එමෙන්ම රජුන්ගේ ශ්‍රී යහන් ගබඩාවද ඔවුන්ගේ ආක්‍රමණයන්ට යටත්විය. මේ සියලුම දේ වලින් බලපෑමක් නැති විය නොහැකිය.

16 වන සියවසේ ආරම්භයේ සිට ලංකාව යුරෝපීය ජාතීන්ගේ ආක්‍රමණ වැලකට මුහුණදීම වෙනම කථාවකි. ඔවුහු සිරිත් විරිත්, ඇබ්බැහිකම්, භාෂාව හා ආගම අතිනුත් සිංහලයන්ට වඩා සැලකිය යුතු ප්‍රමාණයකින් වෙනස් වූ අතර වඩා බලසම්පන්න ආර්ථිකයකට හිමිකම් කීහ. පළමුවෙන්ම චීනය විසින් වෙඩි බෙහෙත් සොයා ගන්නා ලද්දේ වී නමුත්, එය භාවිතා කිරීමේ අයිතිය තමන්සතු කර ගැනීම තුළින්, පෙරදිග ජනතාව යටත් කිරීමේදී අතිරේක වාසියක් ලබා ගත් ඔවුහු, වෙනත් සංස්කෘතියකට හිමිකම් කියූ ජනතාවකි.

යුරෝපීය ආක්‍රමණයන් විසින්, දුම් නැව්, දුම් රිය, විදුලි සංඥා, විදුලි සංදේශ, මෝටර් රථ හා ගුවන් යානා සහිතවූ නව ලෝකය ලංකාවට හඳුන්වා දෙන ලදි. එය අපට විශේෂයෙන්ම විද්‍යාවන් පිළිබඳව වඩා දියුණු දැනුමක් ගෙනාවේය.

එහෙත් එය එසේම එවකට ලංකාවේ පැවති ස්වභාවික වැඩවසම් ආර්ථිකයට විනාශය ගෙන එන ලද අතර, මුදල් මත පදනම්වූ යටත්විජිත ආර්ථිකයක් හඳුන්වා දුන්නේය. එය එසේම ජනතාව වැඩියෙන් සූරාකෑම සහ කිසිදිනක හෝ සිහිනෙන් පවා නොසිතූ විරූ ප්‍රමාණයකට අපේ ස්වභාවික සම්පත් කොල්ලකෑමක් අප වෙත ගෙනාවේය. අපේ ජනතාවගේ ඉහල පන්තීන් ඔවුන්ගේ පරිසරයට නොගැලපුන, ආක්‍රමණිකයන් විසින් ඔවුන් මත බලෙන් පැටවූ, විජාතික සංස්කෘතිය වහල් අන්දමින් අනුකරණය කරන්නෝ වූහ. මෙම ප්‍රවනතාවයට විරුද්ධව ව්‍යාපාරයක් පටන්ගත යුතුව තිබුණි. එහෙත් එය නූතන ඉතිහාසයයි.

මෙහිදී අපේ අධ්‍යාශය වනුයේ ලංකා ඉතිහාසය ගැන සවිස්තර කරුණු ඉදිරිපත් කිරීමක් නොව, රටේ අනාගත සංවර්ධනය කෙරෙහි බලපෑම් ඇතිකරන වඩාත් වැදගත් අංග ජීවමාන කිරීම පමණි.

ලංකා ඉතිහාසය පහත සඳහන් යුගවලට පහසුවෙන් බෙදිය හැක. (1) අනුරාධපුර යුගය (2) පොලොන්නරු යුගය (3) කෝට්ටේ රාජධානි යුගය දක්වා,

පොළොන්නරු යුගයෙන් පසු කාලසීමාව (4) යටත්විජිත යුගය සහ (5) නව යටත්විජිත යුගය යනුවෙනි.

පැරණි ලංකා ඉතිහාසය වූ කලී, පුලුල් වශයෙන් ගත් කල විවිධ රජුන් සහ ඔවුන්ගේ පාලනය යටතේ ලංකාව එකසේසත් කිරීමට ගත් උත්සාහයන් පිළිබඳ කථාන්තර පුනපුනා කීමයි. අප මේ රජවරුන්ගේ නාම ලේඛනය ගැන සැලකිලිමත් නොවන අතර, වඩාත් කැපී පෙනෙන සමහරකු ගැන දැක්වීම පමණක් කරන්නෙමු.

මුලින්ම, සඳහන් නොකරම බැරි රජ, ප්‍රථම වාරි මාර්ග වැව ඉදිකිරීමෙන් ලංකාව ප්‍රසිද්ධියට පත්කිරීමට මුලපිරීම පමණක් නොව, අවුරුදු දහස් ගණනක් තුළ පැවති එහි සෞභාග්‍යයට පදනම දැමූ පණ්ඩුකාභයයි, පණ්ඩුකාභයට පසු සිහසුනට පත් රජවරුන් අනුරාධපුරය ඔවුන්ගේ අගනුවර කරගත් අතර, මේ තුළින් ඉතිහාසයේ මෙම කාල පරිච්ඡේදයට ඒ නම දුන්හ.

දේවානම්පියතිස්ස (ක්‍රි.පූ.250-210) රාජ සමයේදී, තම පුත් මහින්ද හා සංඝමිත්තා ධර්ම දූතයන් ලෙස ලංකාවට එවූ බවට කීර්තියක් දරන ඉන්දියාවේ අශෝක අධිරාජ්‍යයාගේ මූලිකත්වයෙන් ලංකාවට බුද්ධාගම හඳුන්වා දෙන ලදි. ලංකා බුද්ධ ශාසනයේ නායකයා සිංහල භික්ෂුවක් විය යුතුයයි, මහින්ද විසින් අවධාරණය කළ බව වාර්තා වේ. මේ අයුරින් ජාතික ආගමක් සහතික වීම තුළින් ලංකාවේ බෞද්ධයන් රෝමානු කතෝලික ආගම වැනි විදේශීය ආගම්වලට යට වීමෙන් වැලකින.

මෙම යුගයේ ශ්‍රේෂ්ඨතම රජු ලෙස සැලකෙන්නේ ද්‍රවිඩ ආධිපත්‍යයෙන් ලංකාව මුදාගත් දුටුගැමුණුය. එහෙත් තම රාජ්‍ය කාලය තුළ මුලු රටේම අනාගත සෞභාග්‍ය කෙරෙහි දශක ගණනක්ම බලපෑම් ඇතිකළේ, වැව් ඉදිකරන්නා ලෙස හැඳින්වෙන (ක්‍රි.ව.276-303) මහසෙන්ය. දැනටමත් සඳහන් කර ඇති පරිදි ප්‍රථම විශාල ජලාශයන් ඉදිකිරීම සහ වාරිමාර්ග ඉංජිනේරු විද්‍යාවේ මහා පිම්මක් ඉදිරියට පැනීම සිදුවූයේ ඔහුගේ රාජ්‍ය සමයේදීය. වැව් 16 ක් හා විශාල ඇලක් තැනීමේ සම්මානය ඔහුට හිමි වේ. ඔහු තැනූ වැව්වලට මින්නේරිය වැව (අක්කර 4670), කවුඩුලු වැව, හුරුලු වැව, කහ වැව, මිහින්තලය අසල මහා කනදරා වැව, මහගල් කඩවල වැව, ආදිය ඇතුලත්ය. ඔහුගේ රාජ්‍ය කාලය තුළ සම්පූර්ණවූ ඇළහැර - මින්නේරිය කවුඩුලු යෝජනා ක්‍රමය ලංකාවේ වාරි කර්මාන්ත ඉතිහාසයේ වාර්තාගත වන සිද්ධියක් ලෙස සැලකේ.

ධාතුසේන (ක්‍රි.ව. 459 - 477) සුප්‍රකට කලා වැව ඉදි කරවීය. ඔහුගේ පුත් කාශ්‍යප (ක්‍රි.ව. 477-495) ඇතැම්විට අප හඳුන්වන පරිදි ලංකාවේ පැරණි අතීතයේ උසස්ම සෞන්දර්යාත්මක උරුමයන්ගෙන් එකක් වන සීගිරි බිතු සිතුවම් සහිත සීගිරිය බලකොටුව ඉදිකිරීමෙන් චිර ප්‍රසිද්ධියට පත් විය. විවිධ රටවල කලාවන් හා සංස්කෘතිය ඔහුගේ රාජ්‍ය සභාව තුළ පෝෂණය වූ අතර,



ඔහු කලාව පිළිබඳ ශ්‍රේෂ්ඨ අනුශාසකයෙක් වූ බව පෙනේ.

චෝලයන් ලංකාව ජයගෙන පස්වන මහින්ද අල්ලා ගැනීමෙන් සහ 1029 දී සිර භාරයේදීම සිදුවූ ඔහුගේ මරණයෙන් ක්‍රි.ව. 1000 දී පමණ අනුරාධපුර යුගය අවසානයට පැමිණෙයි.

එයින් පසුව ශත වර්ෂ භාගයක් පමණ චෝල ආධිපත්‍ය පැවතිණි. 1 වන විජයබාහු (1055-1110) ලංකාව චෝල ආධිපත්‍යයෙන් මුදාගෙන තම පාලනය යටතේ එකසේසත් කළ රජුය. ඔහු තම අගනුවර පොළොන්නරුවට ගෙන ගියේ ඇතැම්විට දකුණු ඉන්දියාවෙන් එල්ලවන චෝල ආක්‍රමණවලින් වැඩි සුරක්ෂිතභාවයක් ලබා ගැනීම සඳහාය. එතැන්සිට එය ලංකා ඉතිහාසයේ එම යුගයේ නම විය.

පොළොන්නරු යුගය ඇතැම්විට පැරණි සිංගල ශිෂ්ඨාචාරයේ උපරිම දියුණුව නියෝජනය කරයි. එහිදී සිංහල රජවරුන් අතර ශ්‍රේෂ්ඨතමයා වන මහාපරාක්‍රමබාහු යටතේ ලංකාව එක්සේසත් කිරීම සහ සිංහල හමුදාවන් දකුණු ඉන්දියාව හා බුරුමය සාර්ථක අන්දමින් ආක්‍රමණය කිරීමද සිදුවිය.

1 වන පරාක්‍රමබාහු බුරුමය ආක්‍රමණය කිරීම සඳහා තමා විසින්ම නාවික හමුදාවක් තැනූ බව වාර්තාවේ. මෙය ලංකාවේ මේ කාලයේ නැව් තැනීමේ කර්මාන්තය පැවති බවට සාධකයකි. 1 වන පරාක්‍රමබාහුගේ රාජ්‍ය කාලයේදී ලංකාවේ වාරි කර්මාන්ත ක්‍රමය එහි උපරිම දියුණුවට පත් වූ අයුරු අප දැනටමත් දක්වා ඇත. එම සාධකය නැවත දැක්වීමට අවශ්‍ය නොවේ. ඔහුගේ මරණයෙන් පසු කිසිදු වාරි කර්මාන්තයක් පිළිබඳ වාර්තා සටහනක් නැත. 1186 දී සිදුවූ ඔහුගේ මරණයෙන් පසු අවුරුදු 10 ක් යාමටත් මත්තෙන් සිංහල රාජධානියේ පිරිහීම ආරම්භ විය. සිංහල ජනතාවගේ උසස්ම ජයග්‍රහණයක් ලෙස විශ්ව කීර්තියක් දරන විශාලවුත් සංකීර්ණවුත් වාරි කර්මාන්ත ක්‍රමය ඊළඟ ශත වර්ෂය අවසානයට පෙර නටබුන් බවට පත්විය.

පැරණි සිංහල ශිෂ්ඨාචාරය පිරිහීමට හා බිඳ වැටීමට හේතුවූයේ මේ ප්‍රදේශවල නිෂ්පාදනය හා සෞභාග්‍ය රඳා පැවැති සංකීර්ණ වාරිකර්මාන්ත ක්‍රමය ගොඩ නැගීම හා නඩත්තු කිරීම සිදුකළ විශාල පරිමාණයකින් වූ සමාජයීය හා පරිපාලනමය සංවිධානවල බිඳ වැටීමයි.

වාරි කර්මාන්ත ක්‍රමය නඩත්තු කිරීමට ශ්‍රමය සැපයීම පිළිබඳ වගකිව යුතු ප්‍රාදේශීය අධිපතියෝ කුලීනයන් නමින් හඳුන්වනු ලැබූහ. ඔවුනට වාරිමාර්ග වැඩ නඩත්තු කිරීම ඇතුළු මහජන පරිපාලනය ගෙනයාමට අවශ්‍ය වූ විශේෂඥ දැනුම හා පළපුරුද්ද තිබුනි.

විදේශීය ආක්‍රමණ සහ අභ්‍යන්තර භේද මේ කටයුතුවලට බාධා කළ අතර සම්පූර්ණ ක්‍රමයම අකර්මන්‍ය කරමින් කුලීනයෝ වෙනත් ප්‍රදේශවලට පලා ගියහ.

1 වන පරාක්‍රමබාහුගේ රාජ්‍යයේ තේජාන්විත භාවය සාර්ථක කර

ගත්තේ ජනතාව බිහිසුනු අන්දමින් සූරාකෑම තුළින් බව පෙනේ. ඔහු බදු වැඩි කිරීමේ හා රජය වෙනුවෙන් වැඩි කාලයක් නොමිලේ වැඩට යෙදීමෙන් (රාජකාරියක්) වැඩි ප්‍රමාණයක් වැඩ ගැනීමත් සිදුකළ බව පෙනේ. මේ බදු ගෙවීම පැහැරහල අය සිරකළ බව පෙනෙන්නේ ඔහුට පසුව රජවූ දෙවන පරාක්‍රමබාහු හා නිශ්ශංක මල්ල ඔවුන් නිදහස් කළ බවද කියන හෙයිනි. චූල වංශය මෙසේ කියයි. ''පැරණි රජ දරුවන්ගේ සිරිත් උල්ලංඝණය කළ මහා පරාක්‍රමබාහු විසින් දැඩි හා නීති විරෝධී දඩුවම් මගින් බොහෝ මිනිසුන් පීඩාවට පත් කරන ලදී.''

අනුරාධපුර යුගය මෙන්ම අභ්‍යන්තර යුද්ධ විසින් තවත් විදේශීය ජයග්‍රහණ සඳහා මග පෑදූ යුගයක් තුළින් පොළොන්නරු යුගයද අවසන් වේ. මෙවර එය සිදු වූයේ කාලිංගයේ සිට පැමිණි මාඝ ගෙනි. කාලිංගය ඉන්දියාවේ නොව මලයාසියාවේ ප්‍රදේශයක් බව දැන් හැඳිනගෙන ඇත. මෙම ආක්‍රමණය හා අත්පත් කර ගැනීම ලංකාව මුහුණපෑ කෘතිම අත්දැකීමක් බව පෙනෙන්නට ඇත.

දඹදෙනි කුමාරවරුන් ලංකාවෙන් විශාල ප්‍රමාණයක් නිදහස් කර ගත් විට අගනුවර දඹදෙනියට ගෙන ගියහ. පසුව එයින් ගම්පළට, රයිගමට හා 1505 දී පෘතුගීසීන් එනවිට පැවති කෝට්ටේට පිළිවෙලින් ගෙනයන ලදි. මේ කාලය තුළ iv වනපරාක්‍රමබාහු විසින් යටත්කළ නමුත් පෘතුගීසි යුගයේදී නැවතත් අසන්නට ලැබෙන ආර්ය චක්‍රවර්තී පාලනය කළ යාපනය රාජධානිය පැවතිනි.

මේ කාලය තුළ කෝට්ටේ සිංහල රජෙකු අල්ලාගෙන සිරකරුවෙකු ලෙස චීනයට ගෙනයාමේ අපූරු සිද්ධියක් පවතී. කෝට්ටේ රජවූ වීර අලකේශ්වර 1411 දී මෙයට මුහුණ පෑ අතර මෙය සිදුවූයේ චීනය පාලනය කළ 3 වන මින් අධිරාජ්‍යයා වූ චෙං සූගේ (යන්ලෝ) කාලයේදීය මේ පියවරේ ගෞරවය හිමිවන්නේ නපුංශක චෙං හෝටය. අල්ලාගත් රජ චීනයේදී නිදහස් කළ අතර, V වන පරාක්‍රමබාහුයැයි සලකන වෙනත් රජෙකු චීන අධිරාජ්‍යයා යටතේ ලංකාව පාලනය කිරීමට පත් කළේය. 1412 සිට 1467 දක්වා ලංකාව පාලනය කළ vi වන පරාක්‍රම 1416 දී සහ 1421 දී චීනයට ගිය බව කියනු ලැබේ. චීනයට අන්තිම වාර්තාගත තුටු පඬුර යැවූයේ 1459 දීය.

ලංකාවට ගලා ආ යුරෝපීය ආක්‍රමණවලට පෙර කුමන හෝ ජයග්‍රහනයක් ලැබූ අන්තිම කාලය කෝට්ටේ vi වන පරාක්‍රමබාහුගේ රාජ්‍ය කාලයයි.



2 වෙනි පරිච්ඡේදය

# යුරෝපීයයන්ගේ පැමිණීම

''අපේ කොළඹ වරායට සුදු පැහැති දකුම්කලු මිනිසුන් වර්ගයක් පැමිණ ඇත. ඔවුහු යකඩ හැට්ට ඇඳ යකඩ තොප්පි පැළඳ සිටිති. ඔවුන් මොහොතක් එක තැනක රැඳී සිටින්නේ නැත. ඔවුහු එහා මෙහා ඇවිදිති. ගල් කුට්ටිකා ලේ බොති. මාළු කුරියෙකුට හෝ දෙහි ගෙඩියකට රන් හෝ රිදී කාසි දෙක තුන දෙති. ඔවුන්ගේ කාල තුවක්කු වල හඬ යුඟන්දර පර්වතයට විදින අකුණුවල හඬටත් වැඩිය. ඔවුන් ගේ තුවක්කු උන්ඩ ගව් ගණනක් ගොස් කළු ගලින් කළ බලකොටු සුනු විසුණු කරයි.''

ක්‍රි.ව. 1505 නොවැම්බර් 15 වන දින පෘතුගීසීන් කොළඹ වරායට පැමිණි විට. කෝට්ටේ රජව සිටි viii වන වීර පරාක්‍රමබාහු වෙත ගෙන ගිය වාර්තාව මෙය විය. පෙර දිගට මුහුදු මාර්ගයක් සොයා ගෙන ආසියාවට පැමිණි මුල්ම යුරෝපීය රටවල් වලින් එකක් පෘතුගාලයයි. ඔවුන් කුළු බඩු සොයාගෙන පැමිණි අතර, ලංකාව එවකට කුරුඳු නිපදවන ප්‍රධාන රටක් විය. එවකට ලංකාව පාලනය කළ රජවරුන්ට ඔවුන් මැඩලිය නොහැකි වූයේ, ඔවුන්ගේ උසස් නාවික බලය හා වෙඩි බෙහෙත් භාවිතය නිසාය. ස්වදේශීය හමුදාවන්ට විරුද්ධව ඔවුන්ගේ ජයග්‍රහණයේ රහස, කෝට්ටේ රජු වෙත ගෙන යන ලද ඉහත උපුටා දක්වා ඇති වාර්තාවෙහි අන්තිම වගන්තියේ ඇතුලත් වේ. එනම් ''ඔවුන්ගේ තුවක්කු උණ්ඩ ගව් ගණනක් ගොස් කළු ගලින් කළ බල කොටු සුණු විසුණු කරයි.''

එසේ වුවද, මෙම අරගලය එක් පැත්තකට පමණක් වාසි සිදු වූවක් නොවේ. පෘතුගීසීන් දැඩි විරුද්ධතාවයන්ට මුහුණ දුන් අතර ඔවුන්ට කිසි දිනක මුළු දිවයිනම ජය ගත නොහැකි විය. කොළඹ බලකොටුවක් බැඳ ගැනීම සඳහා පෘතුගීසීන් කළ ඉල්ලීමට විරෝධය පෑමට එවකට සිටි කෝට්ටේ රජුට නොහැකි විය. එපරිද්දෙන්ම පසුව කෝට්ටේ රජවූ ධර්මපාල කුමරු දොන් ජුවන් ධර්මපාල නමින් බෞතීස්ම ලැබීමෙන් අනතුරුව හෙවත් 1580 දී පෘතුගාලයේ රජු තමාගේ රාජ්‍යයේ උරුමකරු කළ නමුත්, ඊලඟට පැමිණි සිංහල රජවරු සහ කුමාරවරු විරෝධය පෑම දිගටම කරගෙන ගියහ. ඇත්ත වශයෙන්ම සිංහලයන් විසින් යුරෝපීය ආක්‍රමණිකයන්ට විරුද්ධව අතිශයින් වීරෝධාරව සටන් කළ කාලය ලෙස වාර්තා ගත වන්නේ මේ ඓතිහාසික යුගයයි. මේ වීර ක්‍රියාවන්ගෙන් වඩාත්ම ප්‍රසිද්ධියක් උසුලන්නේ මායාදුන්නේ හා ඔහුගේ පුත් 1

වන රාජසිංහ, පෘතුගීසි බලයට විරුද්ධව කළ සටන්ය.

මේ සටන් අතරින් වඩාත්ම ප්‍රසිද්ධියට පත්වුයේ, රාජසිංහ විසින් පෘතුගීසීන්ට තීරණාත්මක පරාජයක් අත්කරදුන්, කොළඹින් සැතපුම් 9 ක් ඔබ්බෙහි පිහිටි මුල්ලේරියාවේදී 1559 දී සිදුවූ සටනය. අනෙක ii වන රාජසිංහ විසින් 1638 දී ගන්නෝරුව අසලදී මහනුවර කොල්ලකා පසු බැස සිටි පෘතුගිසි හමුදා සමුලඝාතනය කිරීමයි. මේ සටනින් සියදිවි ගලවාගෙන පලාගියේ යුරෝපීයයන් 38 දෙනෙකු පමණක් යයි කියනු ලැබේ.

පෘතුගීසි පාලනයේ අවසානය වඩාදුර නොවීය. යුරෝපයේ සිට පෙරදිගට වැටී ඇති ප්‍රධාන වෙළඳ මාර්ගවල මධ්‍යස්ථානයේ පිහිටීම සහ මෙම යුරෝපීය මුහුදු බලයන්ට යුද්ධ කටයුතු අතින් ලංකාව වැදගත් වීම නිසා තවත් යුරෝපා බලයක් වන ඕලන්දය දැන් ලංකාව වෙත නෙත් හෙලන්නට පටන් ගනී. බෙංගාල බොක්ක හා ඉන්දියන් සාගරය පාලනය කළ හැකි, පෙරදිග පිහිටි හොඳම නාවික වරාය වන ත්‍රිකුණාමලය ලංකාවේ පිහිටා තිබීම තව දුරටත් වැදගත් විය. 1802 දී බ්‍රිතාන්‍යන් ලංකාවේ මුහුදුබඩ පලාත් අල්ලා ගත්විට පීට් (කනිෂ්ඨ) බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුව තුල එය විස්තර කළේ මෙසේය. ''අපේ ඉන්දියන් අධිරාජ්‍යය පිහිට වූ දින සිට එයට මෙතෙක් නොතිබුණ ආරක්ෂාව සලසා දුන් ලෝක ගෝලයේ ඉතාමත්ම වටිනා යටත් විජිතය එයයි.'' මෑත යුගයේ වඩාත් ප්‍රබල යුද්ධ අංශයක් බවට ගුවන් හමුදාව පත්වන තුරුම, ත්‍රිකුණාමලය මේ යුද්ධමය වටිනාකම දැරුවාය. ඊට අමතරව, දැනටමත් පෙන්වාදී ඇති පරිදි, ලංකාව ලෝකයේ හොඳම වගීයේ කුරුඳු නිෂ්පාදකයෙක් වීමද, ඔවුන් ඇදගැනීමට හේතුවක් විය. 1638 දී ii රාජසංහ, ලන්දේසීන් සමග මහනුවරදී අත්සන් කළ ගිවිසුමෙන්, ලංකාවෙන් පෘතුගීසින් පැන්නීමට දෙන සහයට කෘතෝපකාර වශයෙන් යම් යම් වෙළඳ අයිතිවාසිකම් ලන්දේසීන්ට පැවරීමට පොරොන්දු විය. මෙම බලවත් යුරොපීය තරඟකරුවන් දෙදෙනා අතර තිබූ ප්‍රති විරෝධතාවයන් තම රටේ යහපත වෙනුවෙන් පාවිච්චි කිරීමට හැකිවේයයි සිංහල රජතුමා නිසැකවම සිතිය. එහෙත් එය වැරදි සිතිවිල්ලක් විය.

ලන්දේසීන්ගේ උසස් මුහුදු බලය පෘතුගීසීන්ගේ පරාජය සහතික කළේය. ලංකාවේ පෘතුගීසින්ගේ අවසාන බලකොටුව වූ යාපනය 1658 දී බිඳ වැටිණි. ලන්දේසීහු සියලුම ගිවිසුම් පොරොන්දුවලට පිටුපා, පෘතුගීසීන් සතුව තිබූ සියලු බලතල තමන් අතට ගත්හ. සිංහල රජු මුලා විය.

ලංකාව කෙරෙහි පෘතුගීසින්ගේ පාලනයේ බලපෑම් විශාල වූ නමුත් වැඩිකල් නොපැවතිණි. ඔවුන්ගේ ගොඩබැසීම පිළිබඳ වූ වාර්තාවේ සනිටුහන් කර ඇති පරිදිම, ඔවුහු මුළුමණින්ම අළුත් ශිෂ්ඨාචාරයක්, අළුත් ආගමක් වූ කතෝලික ආගම, අළුත් සිරිත් විරිත් හා පුරුදු ගෙනාහ. ඔවුහු වඩාත් දියුණු බටහිර හා සමග සම්බන්ධයට මග පෑදුහ. එහෙත් කඳුරට හැර දිවයිනෙන් වැඩි



කොටසක ශත වර්ෂ එක හමාරක් පැවති ඔවුන්ගේ පාලනය කෲරතර එකක් විය. පසුව රට අල්ලා ගත් අය, විශේෂයෙන් බ්‍රිතාන්‍යයන් මෙන් නොව, ආගමික වධ හිංසා දරුණුම තත්වයකින් ක්‍රියාත්මක කිරීම, බලහත්කාරයෙන් ආගමට හරවා ගැනීම, අන්‍ය ආගම්වල පූජනීය ස්ථාන විනාශ කිරීම සහ නිර්ධය නිරුවත් සූරාකෑම ඔවුන්ගේ පාලනයේ සලකුණු විය. අද ලංකාවේ පවතින සියලුම ආගම් වලින් අන්ත ප්‍රතිගාමී කතෝලික පල්ලිය ඔවුහු මෙහි ඉතිරි කර ගියහ. එසේම ලාංකිකයන් භාවිතා කරන පෙරේරා, සිල්වා, ප්‍රනාන්දු ආදී වශයෙන් වැඩිපුර කොටසක් පාවිච්චි කරන නම් ඔවුන්ගෙන් උරුම කරගෙන ඇත.

1796 දක්වා පැවතුන ලංකාවේ ලංදේසි ආධිපත්‍යය සංසන්දනාත්මකව ගත් කල වැදගත් සිද්ධීන්ගෙන් තොර වකවානුවකි. ඔවුන් පාලනය කළේ මුහුදු බඩ ප්‍රදේශ පමණය. ඔවුන්ගේ ප්‍රධාන අභිලාශය වූයේ දිවයිනෙන් හැකි තරම් විශාල ප්‍රමාණයක් කුරුඳු ලබා ගැනීමයි. මේ කාලයේදී කුරුඳු වලින් වැඩි ප්‍රමාණයක් වැවුනේ රජුට අයත් කැලෑ ප්‍රදේශ වලය. මේ නිසා ලන්දේසීන්ට මහනුවර රජු සමග සුහදතාවයෙන් තම පාලනය ගෙන යාමට සිදු විය. ලන්දේසීන් මුල් තැනක් දුන්නේ වෙළඳාමටය. කුරුඳු වලට අමතරව ඔවුහු පුවක්, ඇතුන්, හක්ගෙඩි ආදියෙන් අපනයන වෙළඳාමක් ගොඩනැගුහ. මේ කාලයේද දේශීය පරිබෝජනය සඳහා ඉන්දියාවෙන් සහල් අපනයනය කළ බව සඳහන් කළ යුතුව ඇත. ගම්මිරිස් සහ කෝපි වගාව ආරම්භ විය. විශාල වශයෙන් පොල් වගා කිරීමද ආරම්භ වී තිබුණි.

ලන්දේසීහු ලංකාවට රෝමානු ලන්දේසි නීතිය හඳුන්වාදුන් අතර, ''තේශවලමෙයි'' නම් වූ ද්‍රවිඩ ප්‍රදේශයෙහි පැවති සම්ප්‍රදායික නීති ලේඛන ගත කරන ලදී. මේ දෙකම අද දක්වාම නීතිය වශයෙන් පවතී. මෙය ඔවුන් ලංකාවට ලබා දුන් වැදගත්ම දෙය යි.

බ්‍රිතාන්‍යයන් විසින් පසුව හඳුන්වා දුන් බොහෝ දේවල පෙරනිමිති කිහිප ආකාරයකින්ම ලන්දේසි සමය තුළ දිස් විය. පසු කලක බ්‍රිතාන්‍යන් විසින් ආර්ථිකයක් ලෙස වර්ධනය කළ වෙළඳ වගාවන් හඳුන්වා දුන්නේ ලන්දේසීන්ය. බ්‍රිතාන්‍යයන් විසින් වැඩි දියුණු කරන ලද පාසැල් ක්‍රමයද හඳුන්වා දෙන ලද්දේ ලන්දේසීන් විසිනි. පෘතුගීසීන් උපයෝගී කර ගත්තේ බලහත්කාරයෙන් ආගමට හැරවීම නම්, ඒ වෙනුවට ලන්දේසීන් අනුගමනය කළේ ද්‍රව්‍යමය පෙළඹවීම් වලින් යුත් වඩා සියුම් ක්‍රමයයි. සියලුම රජයේ තනතුරු හිමිවූයේ බෞතීස්ම ලැබූවන්ට පමණි. ලාංකීය ජනතාවට විරුද්ධව කළ සංස්කෘතික ආක්‍රමණයේ සාර්ථක ආයුධ වශයෙන් ආගම සහ අධ්‍යාපනය යොදාගත හැකි ආකාරයද පෙන්වා දෙන ලද්දේ ලන්දේසීන් විසිනි. බ්‍රිතාන්‍යයෝ මේ ක්‍රමය වඩාත් විධිමත් කළහ. අධිරාජ්‍යවාදී ආර්ථික ආක්‍රමණයේ මධ්‍යස්ථානය වැවිලි කර්මාන්තය වූ තරමටම, අධිරාජ්‍යවාදී සංස්කෘතික ආක්‍රමණයේ මධ්‍යස්ථානය බවට පත්වූයේ පල්ලිය සහ පාසැලය.

බ්‍රිතාන්‍යයන් විසින් 1706 දී ලංකාවේ ලංදේසීන්ගේ තැන ගන්නා ලදී. ලන්දේසීන්ගේ පරාජයට ප්‍රධාන වශයෙන් හේතුවුයේ අත්ලාන්තික් සාගරයේ ඔවුන්ගේ මුහුදු බලය පිරිහීමයි. ලංකාව මුළුමනින්ම යටත් කළ මුල්ම සහ එකම යුරෝපීය බලවතාවු බ්‍රිතාන්‍යයන්ගේ පැමිණීමත් සමගම, දිවයිනේ ආර්ථිකය සහ සමාජ සංස්ථාවල උන්නතිකාමී විපර්යාසයන් ඇතිවූ යුගයකට අපි එළඹෙමු.

ලංකාවේ ලන්දේසීන් යටතේ තිබූ මුහුදු බඩ ප්‍රදේශ පමණක් බ්‍රිතාන්‍ය පාලනයට යටත්වූ මුල් විසිපස් වසර, සාපේක්ෂකව එතරම් වැදගත් සිද්ධීන්ගෙන් ගහන කාල පරිච්ඡේදයක් නොවීය. 1796 සිට 1802 දක්වා ලංකාව පාලනය කරන ලද්දේ පෙරදිග ඉන්දියා වෙළඳ සමාගමට අයත් මද්‍රාසි ආණ්ඩුව විසිනි. මෙය රාජ්‍ය විජිතයක් බවට පත්කොට කෙළින්ම එංගලන්තයෙන් පාලනය කිරීම ඇරඹුණේ 1802 දීය. බ්‍රිතාන්‍ය පාලනයේ මුල් අවුරුද්ද තුළදී ආදායම් බදු ක්‍රමය වෙනස් කිරීමට දැරූ ප්‍රයත්නයක් නිසා බරපතල නොසන්සුන්තාවයක් ඇතිවිය. එහි ප්‍රතිඵලයක් වශයෙන් ලන්දේසීන් යටතේ පැවති පැරණි ක්‍රමය තව දුරටත් පවත්වාගෙන යන ලදී.

බ්‍රිතාන්‍ය ආණ්ඩුව යුරෝපයේ නැපෝලියානු යුද්ධ වල තදින් පැටලී සිටි නිසා ලංකාව මුළුමනින්ම යටත්කර ගැනීම කෙරෙහි වැඩි අවධානයක් යොමු නොකළේය. එහෙත් මෙරට පාලනය කළ ආණ්ඩුකාරවරු අතිශයින් බලලෝභී වූහ. උඩරට නායකයින් අතර නිරතුරුවම පැවති කුළල් කාගැනීම් සහ තම රජුට විරුද්ධව කළ කුමන්ත්‍රණ බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරුන්ගේ මේ බල ලෝභයට මහත් රුකුලක් විය.

එංගලන්තයෙන් කෙලින්ම පත් කර එවුනු ප්‍රථම බ්‍රිතාන්‍ය ආණ්ඩුකාර ෆ්‍රෙඩ්රික් නෝර්ත් ලංකාවට පැමිණීමත්, උඩරට අන්තිමට රජවූ ශ්‍රී වික්‍රම රාජසිංහ සිංහාසනාරූඪ වීමත්, 1797 දී එකවිටම වාගේ සිදු විය. ඔහුව සිංහාසනාරූඪ කරනු ලැබුවේ ඔහුගේම පියා යයි සැක කරනු ලබන පිළිමතලාවේ මහ අදිකාරම විසිනි. එහෙත් රාජසිංහ, මහ අදිකාරමට අවශ්‍ය පරිදි පහසුවෙන් නැටවිය හැකි ආයුධයක් නොවූයෙන්, මහ අදිකාරම රජුට විරුද්ධව බ්‍රිතාන්‍යයන් සමග කුමන්ත්‍රණ කිරීමට පටන්ගත්තේය.

1803 දී සිදුවීයයි සැලකෙන ප්‍රථම උඩරට යුද්ධයේදී බ්‍රිතාන්‍ය හමුදාව මහනුවරට ගමන් කළ විට, උඩරැටියන් එය අතහැර ගොස් තිබුණෙන් බ්‍රිතාන්‍යයින්ගේ රූකඩයක් වූ මුත්තුසාමි සිහසුනේ තබන ලදී. එහෙත් බ්‍රිතාන්‍යයින්ට මහනුවර අල්ලා ගැනීමට නොහැකි විය. ගමනා ගමන අපහසුකම් නිසාද, ලෙඩ රෝග හා මෝසම් වර්‍ෂාවෙන් පීඩාවට පත්වීම නිසාද, බ්‍රිතාන්‍යයන්ට මහනුවර අතහැර යාමට බල කෙරිණි. ගරිල්ලා උපක්‍රම උපයෝගී කර ගත් උඩරැටියන්, පසු බසින බ්‍රිතාන්‍ය හමුදාව අවහිර කර 1803 ජුනි 24 දා මහවැලි ගං ඉවුරේදී සමූලඝාතනය කරන ලදී. මෙය නැපෝලියන්



ඔහුගේ සුප්‍රකට මොස්කව් ගමනේදී ලැබූ විනාශය හා සමාන වූවකි.

උඩරැටියන් විසින් බ්‍රිතාන්‍යයන් තමන් යටත් කිරීමට දැරූ මුල් ප්‍රයත්නය වැලැක්වූ නමුත්, ඔවුන්ගේ අවසාන විනාශය ඔවුන් තුළින්ම ඇති කර ගනු ලැබූවකි. 1811 දී පිළිමතලාව ඔහුගේ කුමන්ත්‍රණ වලට සිය ජීවිතයෙන් වන්දි ගෙවූ අතර, මහ අදිකාරම් තනතුරට ඇහැළේපොල පත්විය. ඔහුද ඉක්මනින්ම තමන්ට කලින් සිටි තැනැත්තාගේ අඩිපාරේ ගොස් සිංහල භාෂාව හොඳින් දැනසිටි ඉංග්‍රීසි සිවිල් සේවකයෙකුවූ ඩොයිල් මගින්, බ්‍රිතාන්‍යයන් සමග රාජද්‍රෝහී කුමන්ත්‍රණ වලට සම්බන්ධ විය. රජු විසින් කුමන්ත්‍රණ ගැන සැක පහළ කරගත් පසු, ඇහැළේපොල විසින් සබරගමුවේ තම ජනතාව රජුට විරුද්ධව කැරලි ගැසීමට පෙළඹවූ නමුත්, එය අසාර්ථක විය. ඉන් පසු ඔහු 1814 මැයි 23 දා බ්‍රිතාන්‍ය පාලන ප්‍රදේශයට පලාගිය අතර, ඔහුගේ ක්‍රියාත්මක ආධාරය ඇතිව දෙවන උඩරට යුද්ධය දියත්කළ බ්‍රිතාන්‍යයෝ, මහනුවර රාජධානිය තමන් යටතට ගත්හ.

මෙසේ 1815 දී, උඩරට රාජධානියේ වැටීමට රාජද්‍රෝහී කුමන්ත්‍රණ හා අභ්‍යන්තර භේද ප්‍රධාන වශයෙන් බලපෑහ. 1815 මාර්තු 2දා බ්‍රවුන්රිග් විසින් මහනුවර මගුල් මඩුවේදී උඩරට ප්‍රධානීන්ගේ යටත් වීම පිළිගත්තේය. උඩරට ගිවිසුම නමින් හැඳින්වෙන ප්‍රෝඩාව අත්සන් කිරීම සතියකින් පසුව කෙරිණ. මේ ගිවිසුම, බ්‍රිතාන්‍ය පාලකයන් සමග සම තත්වයක සිටි උඩරට රදලයන් රාජසිංහ කෙරෙහි වූ රාජපාක්ෂික භාවය බ්‍රිතාන්‍යයේ iii ජෝර්ජ් රජුවෙත මාරු කිරීමක්ය යන්න, තවමත් අඟවා සිටීමට වෑයම් කරන අයද සිටිති. එවැනි ඇඟවීමකට පදනමක් නොමැත. මෙම ගිවිසුම වූ කලී, ආක්‍රමණිකයකු විසින් යටත් වූවන් මත බලෙන් පටවන ලද්දකි.

"බෞද්ධ හා දේව ආගම් වලට වධ හිංසා නොපැමිණවිය යුතු බව, සංඝයා , පූජනීය ස්ථාන, දාගැබ් හා ආගමික උත්සව ආරක්‍ෂා කිරීම" යන්න ප්‍රකාශ කළ ගිවිසුමේ 5 වන වගන්තිය අවස්ථාවාදී එකක් බවට සැකයක් නැත. මෙය ජනතා හැඟීම් සැනසීම සඳහා යෙදූ ප්‍රයත්නයක් බවට සැකයක් නැත. එය එසේ වුවත්, ක්‍රිස්තියානි මිෂනාරීන්ගේ ඉලක්කයට ලක්වූයේ එයයි. 1818 කැරැල්ල බ්‍රිතාන්‍යයින්ට මෙම පොරොන්දුව උල්ලංඝනය කිරීම සඳහා අවස්ථාවක් ලබා දුනි.

සිංහල රජුන්ගේ පැරණි වැඩ වසම් ක්‍රමය, බ්‍රිතාන්‍ය ආක්‍රමණිකයන්ගේ උසස් ආර්ථිකය හා තුවක්කු බලය ඉදිරියේ යටපත් වීම පුදුම විය යුත්තක් නොවේ. පළමු හා දෙවන උඩරට යුද්ධ වලදී මෙන් වැඩවසම් ක්‍රමය පෑවේ දුබල විරුද්ධත්වයකි. එහෙත් විරෝධයේ අසාර්ථකත්වය කලින්ම තීරණය වී තිබුණි. 1815 ගිවිසුමට අත්සන් කළ රදලයන්ගෙන් කෙනෙකු වූ කැප්පෙටිපොලගේ නායකත්වයෙන් ඇරඹුණු, වෙල්ලස්ස කැරැල්ල යනුවෙන් සාමාන්‍ය වශයෙන් හැඳින්වෙන 1818 කැරැල්ල, නිවී යමින් තිබූ විරෝධය පෑමේ ගිනි ජාලාවේ

අවසාන ගිනිසිළුව විය. පහත රට සිංහලයන් දෙදෙනෙකු වූ ගොංගාලේගොඩ බණ්ඩා හෙවත් පැලියගොඩ ඩේවිඩ් සහ පුරන් අප්පු යන අයගේ නම් හා සම්බන්ධ 1848 මාතලේ කැරැල්ල, කලින් කැරැල්ල හා සංසන්දනාත්මකව ගත් විට දුර්වල ප්‍රයත්නයක් වූ අතර, එකම බ්‍රිතාන්‍ය ජීවිතයක් හෝ විනාශ නොවී මැඩ පවත්වන ලදී. අද කැප්පෙටිපොල ජාතික වීරයකු කිරීමට ප්‍රයත්න දරණු ලැබේ. මෙවැනි උත්සාහයක් සාර්ථක වේද යන්න සැක සහිතය. අද අප එය තේරුම් ගන්නා පරිදි කැප්පෙටිපොල ජාතික වීරයෙක් නොවේ. ඔහු විදේශීය ආක්‍රමණිකයන්ට විරුද්ධව සිංහල ජනතාව වෙනුවෙන් සටන් කළේ නැත. ජනතාව ආදරයෙන් ආරක්‍ෂා කර ගත් නිදහස බ්‍රිතාන්‍ය ආක්‍රමණිකයන් විසින් උදුරාගත්තේයයි සිතූ නිසා, ඔහු විදේශීය ආක්‍රමණිකයන්ට විරුද්ධව සටන් කළා නොවේ. ජනතාවට කිසිඳු හෝ අයිතිවාසිකම් ඇත්තේ යයි සිතීම හෝ උඩරට රදලයින් නොදන්නා දෙයකි. කැප්පෙටිපොල කැරලි ගැසුවේ, බ්‍රිතාන්‍යයන් විසින් උඩරට ප්‍රධානීන්ගේ සාම්ප්‍රදායික බලතල උදුරා ගැනීමට විරුද්ධවය. මෙම නායකයින් සිතාගෙන සිටියේ බ්‍රිතාන්‍ය රජ හෝ ඔහුගේ නියෝජිතයා ශ්‍රී වික්‍රම රාජසිංහ රජුගේ තැන පමණක් ගනු ලැබීමත්, සමාජ රටාව, කලින් පැවති පරිදි දිගටම පවතීය යන්නත්ය.

ඔවුන්ගේ අභිලාෂයන් භංග වන බව ඔවුන් දැන සිටියේ නැත. බ්‍රිතාන්‍යයුන්ගේ අදහස වූයේ තමන් නියම පාලකයින් වීමටය. ප්‍රධානීන්ගෙන් කොටසක් කැරලි ගැසීමට හේතු වූයේ මෙම කරුණ ඔවුන් අවබෝධ කර ගැනීමයි. ඔවුන් සටන් කළේ පැරණි වැඩවසම් ක්‍රමය ප්‍රතිශ්ඨාපනය කිරීමටය. ජනතාවගේ නිදහස කිසිවිටක ඔවුන්ගේ අරමුණු වලට ඇතුලත් නොවීය. තව දුරටත් සුළු වශයෙන් බ්‍රිතාන්‍ය පාලනයට විරුද්ධව නැගී සිටීම් සිදුවුවත්, මේ කැරැල්ල මැඩලීමෙන් පසු උඩරට රදලයෝ බ්‍රිතාන්‍යයින්ගේ පූර්ණ පාලනයට යටත් වීමට එකඟ වූහ. <u>ඉතා ඉක්මණින්ම බ්‍රිතාන්‍ය ආක්‍රමණිකයන් සමග ක්‍රියාශීලීව කල්ලි ගැසුණු මොවුහු ජනතාව පීඩාවට පත්කිරීමේ හවුල් කරුවෝ වූහ. ඔවුහු විදේශීය පාලනය සඳහා සමාජ පදනම සැපයූහ. මේ ක්‍රියා පටිපාටිය එතැන් සිට ඔවුහු නිතරම වාගේ දිගටම කරගෙන ගියහ.</u>

ගරාවැටෙන තත්වයක සිටි උඩරට රදලයින් විසින් විදේශීය අධිරාජ්‍ය වාදීන් වෙත දැක්වූ මේ හීන දීන වහල් ආකල්පය නූතන යුගය දක්වා දිගටම පැවතී ඇත. 1951 බණ්ඩාරනායක එක්සත් ජාතික පක්‍ෂයට විරුද්ධව මහ අරගලය පටන් ගත් විට, ඔහුට තම පියාගේ හෝ භාර්‍යාවගේ පාර්ශවයන්හි, කිසිම හෝ වැඩවසම් රදලයකුගෙන් ආධාර නොලැබුණි. ඔහු ඔවුන් කිසිදාක විශ්වාස නොකලේත්, 1956 ආණ්ඩුව පිහිටුවීමේදී ඔවුන් අතේ දුරින් තබා ගත්තේත් එහෙයිනි. පසු කාලයකදී (1959 පසුව) බණ්ඩාරනායක කැරොල් කරත්තයට ඔවුන් ගෙන් සමහරෙක් එක්වූවා නම්, එසේ කරන ලද්දේ තමන්ගේ පවතින සමාජ තත්වය දිගටම පවත්වා ගත හැකිවීම පිළිබඳව සහතික කර



වීමක් ඔවුනට හැඟුන නිසා විය යුතුය.

උඩරට පළාත් මුලින් වෙනම පලාතක් වශයෙන් පාලනය කළ නමුත්, පසුව මුළු රටේම ඒකාබද්ධ පාලනයට එය සම්බන්ධ කෙරිණි. උඩරට ජය ගැනීමෙන් පසු බ්‍රිතාන්‍යයන් විසින් කරන ලද මුල්ම කාර්යයන්ගෙන් එකක් වූයේ කොළඹ, ත්‍රිකුණාමලය සහ කුරුණෑගල සමග නුවර යා කරමින් හමුද එහා මෙහා ගෙන යාමේ මාවත් තැනීමයි. කඳුරටට ඇතුළුවීමට හොඳ මාර්ග හිඟ වීමේ තීරණාත්මක වාසිය මෙයින් නැතිකර දමන ලදී. පාරවල් ඉදි කළේ අනිවාර්යයෙන් කළයුතු වූ රාජකාරිය හෙවත්, රජු වෙනුවෙන් කරන සේවයේ මාර්ගයෙනි. ලංකාව නැවතත් එක්සත් විය. මෙවර එය සිදු වූයේ විදේශීය යුරෝපීය ජාතියක් යටතේය.

බ්‍රිතාන්‍ය පාලනය යටතේ ලංකාව එක්සත් කිරීමත් සමග ලංකා ඉතිහාසයේ අලුත් පරිච්ඡේදයක් ආරම්භ වෙයි. අද දවස දක්වා රටේ ආර්ථිකයේ ඉරණම හා සම්බන්ධ වී ඇති යටත් විජිත වැවිලි ආර්ථිකය ඇති කිරීම මෙතැනදී  අපට පෙනේ. සිදුවූ වෙනස්කමේ මූලික ස්භාවය තේරුම් ගැනීම සඳහා, අවුරුදු 2000 කට ආසන්න කාලයක් තිස්සේ සිංහල රජවරුන් යටතේ ලංකවේ පැවති ආර්ථිකයේ ලක්‍ෂණ දල වශයෙන් හෝ අප විසින් සොයා බැලීම අත්‍යාවශ්‍යය.

යුරෝපීය ආක්‍රමණ මගින් විනාශ කිරීමට පෙර ලංකාවේ ආර්ථිකය, වැඩ වසම්, ස්වාභාවික ආර්ථිකයක් ලෙස විස්තර කළ හැක. එය, මුදල් භාවිතය යන්තමින් පැවති හෝ කොහෙත්ම නොපැවති ස්වයංපෝෂිත ආර්ථිකයක් විය. මිනිස්සු තමන්ට අවශ්‍ය හැමදේම නිෂ්පාදනය කළ අතර, අතිරික්තය, ඔවුන්ට නොතිබුන දේවල් ලබා ගැනීම සඳහා හුවමාරු කර ගත්හ. බාහිර ලෝකය සමග පැවති වෙළඳාම, ලංකාව හැම විටම ප්‍රසිද්ධියට පත්ව තිබූ මැණික්, මුතු, කුළුබඩු වැනි ද්‍රව්‍ය මත පැවතිණි.

උඩරට රාජධානියේ පැවති මෙම <u>ස්වාභාවික</u> ආර්ථිකය ගැන වඩාත්ම කැපී පෙනෙන විස්තරයක් ඉදිරිපත් කර ඇත්තේ රොබට් නොක්ස් ලංකාව ගැන ලියා ඇති සුප්‍රකට ග්‍රන්ථයේය. 1660 සිට 1679 දක්වා අවුරුදු 19 ක් තිස්සේ උඩරට රාජධානියේ සිරකරුවකු ලෙස විසූ නොක්ස්, දිවයිනෙන් නිදහස් වී ගිය පසු ඔහුගේ පොත ලිවීය.

ඔහුගේ පොතෙන් උපුටා ගත් කොටසක් මෙසේ දක්වමු. ''හැම වර්ගයකම මුදල් මෙහි ඉතා දුර්ලභය. භාණ්ඩ හුවමාරු කිරීම මගින් ඔවුහු නිතරම භාණ්ඩ මිළදී ගැනීම හා විකිණීම කරති. දිවයිනේ ස්වභාවය අනුව සැකසුනු සුළු පරිමාණයක වෙළ හෙළඳාම් ඔවුන් අතර පැවතුණි. එයට හේතු වූයේ රටේ එක කොටසකින් ලබාගත හැකි දේ අනෙක් කොටසෙහි නොවැවුන නිසාය. තමන්ට සෑහෙන භාණ්ඩ ප්‍රමාණයක් මෙම රටේ එක් කොටසක හෝ වෙනත් කොටසක තිබෙන නිසා, වෙනත් කිසිම රටකින් ගෙන්වන භාණ්ඩ වල

ආධාරයක් නොමැතිව, එක් භාණ්ඩ වර්ගයක් තවත් එකක් සමග හුවමාරු කරමින්, තමන් වෙත ඇති දේ වෙනත් ප්‍රදේශ වලට ගෙන යමින්, තමන්ට අවශ්‍ය දේ ලබා ගනිති.''

වැඩවසම් ක්‍රමය යටතේ වූ ස්වාභාවික ආර්ථිකයක් පිළිබඳව, ඇසින් දුටු සාක්ෂිකරුවකුගේ අංග සම්පූර්ණ විස්තරයක් මෙහි ඇත. ලංකාව එසේ පවතින්නට ඉඩහැරියේ නම්, කාලයාගේ ඇවෑමෙන් ධනවාදය කරා වර්ධනය වීම පිළිබඳව සැකයක් නැත. එහෙත්, මෙය එසේ නොවීය. ඒ වෙනුවට, විදේශීය අධිරාජ්‍යවාදී ආක්‍රමණය ලංකාවේ පැවති නොදියුණු හා එක තැන පල්වූ වැඩවසම් ආර්ථිකය සුනු විසුණු කර, ඒ වෙනුවට අළුත් යටත් විජිත වැවිලි ආර්ථිකය ඇති කළේය. මෙය මූලික වශයෙන් මුදල් භාවිතයමත පදනම් වූ ආර්ථිකයක් විය. එහෙත්, එය වචනයේ පරිසමාප්ථාර්ථයෙන්ම ධනවාදය නොවීය. අමුද්‍රව්‍ය නිෂ්පාදකයකු හා තමන් නිෂ්පාදනය කරන බඩු සඳහා වෙළඳ පොළක් වශයෙන් ලංකාව තබා ගැනීමට අවශ්‍යවූ බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන්ට, දේශීය ධනවාදයේ වර්ධනය වාසිදායක නොවීය. එබැවින්, හැම විටකම එය ධනවාදී සංවර්ධනයට ගත් සෑම උත්සාහයක්ම වලක්වා දැමීය. අවසර දුන්නේ හා පෝෂණය කරනු ලැබුවේ, ප්‍රධාන රට පොහොසත් කිරීම සඳහා දිවයිනේ ස්වාභාවික සම්පත් වලින් සෑදුනු විශාල ලාභ ගලා යාමට සැලැස්වූ යටත් විජිත ආර්ථිකයකි.

විදේශීය ආක්‍රමණයේ එක් ප්‍රතිඵලයක් වූයේ, සිංහල රජුන්ගේ ප්‍රෞඪත්වය වී තිබුණා වූද, සිංහල ශිෂ්ඨාචාරයේ සෞභාග්‍යයේ දියුණුම මට්ටමේ පදනම සැපයූවාවූද, විශාල වාරිමාර්ග ක්‍රමය අවසාන වශයෙන් නොසලකා හැරීම සහ ජරාපත් වීමට සැලසීමය. වැව් ප්‍රතිසංස්කරණය නොකර නටඹුන් වන්නට හැරීම හෝ අළුත් පාරවල් සඳහා ඒවා බිලි කිරීම සිදුවිය. මේවායින් සමහරක් වැව් කන්ඩි මත ගොඩ නංවන ලදී. ක්‍රමයෙන් ඒවා වන ගත වූ අතර, මෙම ශත වර්ෂයේ ඒවා ප්‍රතිසංස්කරණය කරන තුරු එම තත්වයේම පැවතුණි. ලන්දේසි කාලයේ සිට ලාංකිකයන්ගේ ප්‍රධාන ආහාරය වූ හාල්, පිට රටින් ගෙන් වීම ඇරඹුණි.

ඉහතින් සඳහන් කර ඇති පරිදි, බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීහු ලංකාවට වැවිලි ආර්ථිකය හඳුන්වා දුන්හ. ලන්දේසීන් යටතේ කෝපි වගාව විනාශවූ විට, ඒ වෙනුවට තේ එම ස්ථානය ගත්තේය. රබර් වගාවද විශාල පරිමාණයෙන් ආරම්භ විය.

මේ වගාවන් සඳහා විශාල ඉඩම් ප්‍රමාණයක් හා විශාල කම්කරු පිරිස් අවශ්‍ය විය. බ්‍රිතාන්‍යන් ඒවා ලබා ගත්තේ කොහින්ද? ප්‍රාග්ධන සංකේන්ද්‍රනය අනෙක් රටවල සිදුවූයේ යම්සේද, එපරිද්දෙන්ම ලංකාවේ ප්‍රග්ධන සංකේන්ද්‍රනය (මෙම අවස්ථාවේදී ඉඩම් වල ස්වරූපයෙනි ) සිදුවූයේද විශාල පරිමාණයේ කොල්ලකෑම් තුලිනි. එය කරනු ලැබුවේ 1840 මුඩුබිම් පණත හා



1888 ධාන්‍ය බද්ද තුලිනි.

බ්‍රිතාන්‍යයන් ලංකාවට එන විට, ලන්දේසීන් විසින් තමන් පාලනය කළ මුහුදුබඩ ප්‍රදේශයන්ට නීති ක්‍රමයක් ලබාදී තිබුණි. ඉඩම් හිමිකරුවන්ට තම ඉඩම් වල අයිතිය ඔප්පු කිරීම සඳහා යම් අන්දමක නීත්‍යානුකූල ඔප්පුවක් තිබුණි. උඩරට ප්‍රදේශ වල එවැන්නක් නොවීය. මෙහි සියලුම ඉඩම් රජුට අයත්යැයි සැලකිණි. රජු විසින්, රදලයින්ගේ මාර්ගයෙන් තම ඉඩම් ගොවීන් ලවා වගාකරවන ලදී. මෙම ඉඩම් වගා කිරීමේ අයිතිය සුරක්ෂිත එකක් වූ අතර, මාරු කළ හැකි වූයේ ගොවියා කෙරෙහි රජුගේ විශ්වාසය නැතිවූ විට පමණි. එහෙත් මෙය සාමාන්‍යයෙන් පරම්පරාවෙන් පරම්පරාවට අඛන්ඩව හිමි විය. මෙය කවුරුත්පාහේ හොඳින් අවබෝධ කොට ගෙන තිබූ ක්‍රමයයි. එහෙත් මෙම අයිතිය ඔප්පු කිරීම සඳහා නීත්‍යානුකූල ඔප්පු නොවීය.

බ්‍රිතාන්‍යයන් විසින්, මුඩුබිම් පණත මගින්, ජනතාවට තම අයිතිය ඔප්පු කර ගත නොහැකි වූ සියළුම ඉඩම් රජයට අයිති බව ප්‍රකාශ කරන ලදී. තමන් වැඩ කළ කුඹුරු වල අයිතිය ඔප්පු කළ හැකි වූ ගැමියන් එක්තරා ප්‍රමාණයක් සිටියත්, ගැමියනට කුඹුරු ඉඩම් ගොවිතැන් කිරීමට නැතිවම බැරි, ගමේ ආර්ථිකයේම කොටසක් වූ ජනතාවට අයත් කැලෑවේ හා ගවයන් තණ කැවූ පොදු තණ බිමේ අයිතිය ඔප්පු කළ නොහැකි විය. ගෙවීන් විශාල ප්‍රමාණයකට තම කුඹුරු විකුණා පිට ප්‍රදේශ වල පදිංචියට යාමට මෙයින් බල කෙරිණි. රජයේ දේපල බවට ප්‍රකාශ කරනු ලැබූ මේ ඉඩම් සහ කැලෑ බ්‍රිතාන්‍ය වැවිලි කරුවන්ට කුණු කොල්ලෙට - ඇතැම් විට අක්කරය ශත 50 ටත් අඩුවෙන් විකුණන ලද බව වාර්තා වී ඇත. පසුව ලාංකික වැවිලිකරුවන්ටද, ඉඩම් මිළදී ගැනීමට ඉඩ දෙන ලදී. තව දුරටත් ඉඩම් හිමි ගැමියන් සිටියේ නම්, ධාන්‍ය බද්ද ඔවුනට විරුද්ධව, නැගී සිටියේය. ඉඩම් හිමියන් හා පන්සල් ඉඩම් ආදිය නිදහස් කළ මෙය, විශේෂයෙන්ම ගැමියන්ට පමණක් එල්ල කළ දුෂ්ඨ බදු ක්‍රමයක් විය. තව දුරටත් රැඳී සිටි ගැමියන් විශාල සංඛ්‍යාවක් මෙම බරපතල බද්ද ගෙවිය නොහැකිව තමන්ගේ ඉඩම් විකුණා දමා ඉවත්ව ගියහ. ඔවුන්ගෙන් සැහෙන සංඛ්‍යාවක් කුසගින්නෙන් මියගිය බව වාර්තාවේ.

මේ ක්‍රමයෙන්ම තවදුරටත් බ්‍රිතාන්‍යයන් විසින් 1856 අංක 10 දරණ විහාර ඉඩම් ලියා පදිංචි කිරීමේ ආඥාපණත යටතේ, විහාර ඉඩම්ද අත්පත් කර ගන්නා ලදී. අඳ ක්‍රමය අනුව පන්සල් ඉඩම් වගා කිරීම ගොවියන් විසින් කරන ලද නිසා, මෙම ආඥා පණතින් පහර වැදුනේද ගොවීන්ටමය. මෙම ආඥාපණත ක්‍රියාත්මක කිරීමට පත් කළ ඉඩම් කොමසාරිස්වරු, ඉඩම් වලට නීත්‍යානුකූල ඔප්පු ඉදිරිපත් නොකළ බව ප්‍රකාශ කරමින් අක්කර දහස් ගණනක් වූ විහාර ඉඩම් රජයට අත්පත් කර දුන්හ.

උඩරැටියන්ගෙන් ඉඩම් අත්පත් කර ගැනීමේ කටයුත්තට රදල නායකයින්ගෙන් කොටසක්ද, බ්‍රිතාන්‍යයන්ට උදව් කළ බව සඳහන් කිරීම

වැදගත්ය. මේ ක්‍රියාවලියේදී රදල නායකයින්ද විශාල ඉඩම් කොටසක් තමන් සඳහා අල්ලා ගත්හ. ඇත්ත වශයෙන්ම අද පවත්නා විශාල නින්දගම්වල උපත මෙයයි. ''සැක සහිත ඔප්පු සහිත ඉඩම් ගැමියන්ගෙන් මිළට ගෙන, තමන්ගේම වාසිය වෙනුවෙන්, එම කාර්යයෙහි යෙදුනෝ වැඩි වශයෙන්ම ඔවුන්ගේම රට වැසියන්ය.'' යි ක්ලිපර්ඩ් ආණ්ඩුකාරයා මෙය අවඥා සහගතව විවේචනය කළේය.

බ්‍රිතාන්‍ය ආක්‍රමණිකයින් විසින් උඩ රට ගැමියන්ගේ ඉඩම් සොරා ගත්තේ මේ අයුරිනි. නීති පද්ධතියක මුවාවෙන් කරගෙන ගියේ වී නමුත්, එය මංකොල්ල කෑමක් මිස අන් කිසිවක් නොවීය. මෙය හොඳින් සිතේ තබා ගැනීම වැදගත්ය. මක්නිසාද යත්, උඩරට ගැමියන්ගෙන් ඔවුන්ගේ ඉඩම් සොරා ගත්බව පමණක් සිහි කරන නූතන පටු ජාතිවාදීන්, උඩරට ඉඩම් සොරා ගත්තේ කවුරුන්ද, යන්න කීමට අමතක කරන හෙයිනි. ඔවුන්ගේම මුතුන් මිත්තන්ගෙන් සොරකම් කළ ඉඩම් වලින් වැඩි කොටසක් තවමත් අයිති බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන් නියම සූරාකන්නවුන් ලෙස සැලකීම වෙනුවට, අධිරාජ්‍යවාදීන්ගේ සූරාකෑමට භාජනය වූ, ඉන්දියානු සම්භවයකින් යුක්ත අහිංසක වතු කම්කරුවන් අපරාධකරුවන් ලෙස හැඳින්වීමට පවා ඔවුහු පෙළඹෙති.

තිරිඟු වගාව වෙනුවට ලොම් ලබා ගැනීම සඳහා බැටළුවන් ඇති කිරීමේ ප්‍රතිඵලයක් වශයෙන් එංගලන්තයේ කාර්මික විප්ලවය පටන් ගැනීමට ටික කලකට පෙර, රදල ඉඩම් හිමියන් විසින් ඉංග්‍රීසි ගොවීන් ඉඩම් වලින් පන්නා හැරියේ යම්සේද, ඒ හා සමානව උඩරට ගොවීන් ඔවුන්ගේ ඉඩම් වලින් එළියට ඇද දැමීමද සිදුවිය. එහෙත් ඉංග්‍රීසි ගොවීන්ගෙන් වැඩි සංඛ්‍යාවක් අළුතින් ගොඩනැගූ නගර වල පැනනැගුණු කම්මාන්ත ශාලාවල වැඩට ගොස්, ඒ තුලින් නිර්ධන පංතිය බවට පත්වූ නමුත්, ඉඩම් වලින් පන්නාදැමූ උඩරට ගැමියන්ට එබඳු වාසනාවක් උදා නොවිණි. බ්‍රිතාන්‍යයින් විසින් ආරම්භ කරන ලද වැවිලිවල, උඩරට ගැමියන් කිසිදු හෝ සැලකිය යුතු ප්‍රමාණයකින් රැකියාවල නොයෙදූහ. ඇතැම් විට ඒ සඳහා කරුණු දෙකක් හේතු වූවා විය හැකිය. එයින් එකක් නම් 1818 සහ 1848 කැරලි වලින් පසුව බ්‍රිතාන්‍යයින් සිංහලයන් කෙරෙහි සැක පහලකර ගැනීමය. අනෙක, වඩා පහසුවෙන් පාලනය කළ හැකි, මුළු අවුරුද්ද පුරා වැඩ ගතහැකි සංක්‍රමණය වූ කම්කරුවන්ට ඔවුන් වඩාත් කැමති වීමය.

මෙසේ ඉඩම් වලින් පන්නාදැමූ උඩරට ගැමියන්ට හෙමිහිට මැරීයාමට හෝ කාලකණ්ණි ජීවිතයක් ගත කිරීමට සිදුවිය. 1935 ඉඩම් කොමිසම් වාර්තාවේ සඳහන් වන ''ලංකාවේ ගැමියා පංතියක් වශයෙන් මිය යමින් සිටින්නේය.'' යන ප්‍රකාශය තුලින් මෙය මනාව පැහැදිළිවේ. මේ ක්‍රියාවලිය නැවැත්වීම සඳහා, කොමිසම යෝජනා කළේ, රජයේ ඉඩම් පෞද්ගලික



ධනපතියන්ට හෝ සමාගම් වලට දීම නැවැත්වීමත් අනාගතයේදී රජයේ ඉඩම් ගැමියන්ට පමණක් දීමත්ය. එක්දහස් නවසිය තිස් ගණන් වලදී ගොවිජනපද යෝජනා ක්‍රම පටන් ගැණුනේ මේ අයුරිනි. මේ ඉඩම් ප්‍රතිපත්තිය 1965 දී එක්සත් ජාතික පක්ෂ ආණ්ඩුව විසින් ආපස්සට දමා රජයේ ඉඩම් නැවතත් පෞද්ගලික ධනපතියන්ට හෝ සමාගම් වලට දෙනතෙක්, සියලුම ආණ්ඩු විසින් මේ ඉඩම් ප්‍රතිපත්තිය අනුගමනය කරන ලදී.

බ්‍රිතාන්‍ය වැවිලිකරුවන් ඔවුන්ට අවශ්‍ය කම්කරුවන් සපයා ගත්තේ කොහින් ද? ඒ වන විට ඔවුන් විසින්ම ආර්ථිකය විනාශකර දමනු ලැබූ රැකී රක්ෂා නොමැති විශාල ජනකායක් සිටි දකුණු ඉන්දියාව දෙස ඔවුහු නෙත් හෙලූහ. ඉන්දියානු කංකානිවරුන්ගේ උපකාරය ඇතිව මේ අසරණ කම්කරුවන් වැවිලි වහල්කමට, (මුලින් ඒවා පටන් ගැනීම සහ පසුව ඒවායේ වැඩ කිරිම,) ලංකාවට පැමිණීම වෙනුවෙන් බොරු පොරොන්දු දී කැමති කරවා ගත්හ. ප්‍රවාහනයේ අමානුෂික ක්‍රම නිසා සිය ගණනක් අතරමගදී මිය ගියහ. ඔවුන්ට ජීවත් වීමට බල කළ සෞඛ්‍ය තත්වය කොතරම් අහිතකරද යත්, කොළරාව වැනි රෝග බෝවීමට පටන් ගති. මේ සංක්‍රමණීය කම්කරුවන්ගේ නිවාස, සෞඛ්‍ය, සනීපාරක්ෂාව හා ජීවත්වීමේ අනෙක් තත්වයන් පාලනය කිරීම සඳහා ඉන්දියානු ආණ්ඩුව මැදහත්ව ඇතැම් අවම නීති පැනවීම සඳහා ලංකාණ්ඩුවට බල කිරීම සිදු වූයේ (වෙන් වෙන්ව තිබූ නමුත් මෙම ආණ්ඩු දෙකම බ්‍රිතාන්‍ය ආණ්ඩු විය.) තත්වය ඒ තරමට අයහපත් වූ බැවින් විය හැක. අන්තයටම සූරා කෑමට භාජනය වූවන් පවා, තවදුරටත් සූරා කෑම සඳහා ජීවත් කරගත යුතුව තිබුණි.

මෙසේ බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන්, පසුගිය ශත වර්ෂය මැද්දී ඉන්දියානු සංක්‍රමණීය කම්කරුවන් විශාල ප්‍රමාණයක් ගෙනැවිත්, ඔවුන් උඩරට ගැමියන් අතරට දමා, ඒ තුළින් මෙරට දේශපාලනය අද දක්වා, පරම්පරාවෙන් පරම්පරාවට, අවුලෙන් අවුලට පත්කරන සාධකයක් උරුම කර තිබේ. මේ අනුව ලංකාවට ඉන්දිය සංක්‍රමණීය කම්කරුවන් ගෙන ඒම පිළිබඳව වගකිව යුත්තේ ඉංග්‍රීසි අධිරාජ්‍යවාදීන් බව පැහැදිලිව තේරුම් ගත යුතුය. තව දුරටත් රාජ්‍ය මන්ත්‍රණ සභාව වැනි, ප්‍රථම නියෝජිත මණ්ඩලයක් පැවති කාලයේ පටන්, වැවිලි සඳහා ඉන්දිය සංක්‍රමණීය කම්කරුවන් මෙරටට ගෙන ඒමේ ප්‍රතිපත්තියට ලාංකික ධනේශ්වර දේශපාලනඥයෝද රුකුල් දුන්හ. රාජ්‍ය මන්ත්‍රණ සභාව සෑම වර්ෂය කම මේ සංක්‍රමණයට ආධාර කිරීම සඳහා අරමුදල් සම්මත කළාය. ඩී.ඇස්. සේනානායකගේ සිට ඇස්.ඩබ්ලිව්.ආර්.ඩී. බණ්ඩාරනායක දක්වා සියලුම ධනේශ්වර නායකයින් ඊට හවුල්කරුවන් වී ඇත. මෑත සිට ඇතිවී සිටින ඉන්දියානු විරෝධී වීරයන්ට මෙය මතක්කර දිය යුතුව ඇත.

ඉන්දියානුවන් හා ලාංකිකයන් එකසේ සූරාකනු ලැබූ ඉන්දියානු

වෙළෙන්දන්, පොලී කාරයන් හා අනෙකුත් පරපෝෂිතයන්ද, ඉන්දියානු කම්කරුවන් සමග පැමිණියහ. ''බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදියෙක් කොහේ ගියත්, ඉන්දියානුවෙක් ඔහුගේ සාක්කුවේ දමාගෙන යන්නේ'' යයි අප්‍රිකාවේ කියමනක් ඇත. ලංකාව ගැන සලකා බලන විට, එය නිසැකයෙන්ම සත්‍ය බව පෙනේ. ඉන්දියානු විරෝධී හැඟීමේ උපත සඳහා අප විසින් බැලිය යුත්තේ ඉන්දියානු වෙළඳුන් හා පොලී කාරයින්ගේ සිත් පිත් නැති අමානුෂික සූරාකෑම දෙසය. එහෙත් අවාසනාවකට මෙන් කපටි දේශපාලනඥයන් විසින් එය ඉන්දීය සම්භවයක් ඇති කම්කරුවන්ට විරුද්ධව දක්ෂ අන්දමින් එල්ල කර ඇත.

අපේ සතුරෝ කවරහුද ? අපේ මිතුරෝ කවරහුද ? යන ප්‍රශ්නයට නිවැරදිව පිළිතුරු සැපයීමට නම්, අප විසින් දැනට ඉන්දු ලංකා ප්‍රශ්නය, එසේ නැත්නම් ඉන්දියානු සම්භවයක් ඇති, රටක් නැති, සියදහස් ගණන් කම්කරුවන්ගේ ප්‍රශ්නයට ඇති මෙම පසුබිම මුළුමනින්ම තේරුම් ගත යුතුය. මෙම පසුබිම ගැන සාමාන්‍යයෙන් නොදැන සිටීම හෝ නියම අවබෝධය අඩුකම නිසා, දේශීය හා විදේශීය ප්‍රතිගාමීන්ට, ලංකාවේ විප්ලවීය ශ්‍රේණීන් භේද කිරීම සඳහා, ප්‍රයෝගකාරී ඉන්දියානු විරෝධී ප්‍රචාරයක් ගෙන යාමට හා ලංකාවේ වැඩ කරන පංතියෙන් සෑහෙන කොටසක් නියෝජනය කරන ඉන්දියානු වතු කම්කරුවන් ලංකාවේ ඉතිරි ජනතාවගෙන් වෙන්කර තැබීමට හැකි වී තිබේ.

මේ බෙදීම විප්ලවීය ව්‍යාපාරයට බරපතල හානියක් සිදුකර ඇත. ඉන්දියානු සම්භවයකින් යුත් කම්කරුවන් හා සිංහල ගැමියන් යන කොටස් දෙකම එකම බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදයට ගොදුරු වූවන් බවත්, එබැවින් ඔවුන් සතුරන් ලෙස නොව ස්වාභාවික මිතුරන් ලෙස ක්‍රියා කළ යුතු බවත් පෙන්වීම අත්‍යාවශ්‍යවන්නේ එබැවිනි. සදාකාලික විසඳුමක් ලබා ගත හැක්කේ ප්‍රශ්නය දෙස ඒ අයුරින් බැලීමෙන් පමණි. මේ අනුව දක්නට ඇති පරිදි බ්‍රිතාන්‍යයන් හඳුන්වා දුන් වැවිලි ආර්ථිකය සංවර්ධනය වූයේ උඩරට ගැමියන්ගෙන් සොරා ගත් ඉඩම් (ප්‍රග්ධනය) හා ඉන්දියානු සංක්‍රමණීය කම්කරුවන්ගේ ශ්‍රමය මතය. රටේ මුළු මහත් ආර්ථිකයම ගොඩ නැගුනේ තේ සහ රබර් වැවීමේ, නිෂ්පාදනයේ සහ පිටරට පැටවීමේ ව්‍යාපාරය වටාය. අනෙක් හැම දේම රඳා පැවතුනේ ඒ මතය. අපනයන බෝග එකක් හෝ දෙකක් මත ආර්ථිකය මුළුමනින්ම වාගේ රඳා පැවතීම තුලින් අධිරාජ්‍යවාදීන්ට හිතුමනාපයේ ක්‍රියා කිරීමට අවස්ථාව සලසා දීම, අධිරාජ්‍යවාදී සූරාකෑමේ සුපුරුදු රටාව විය. අධිරාජ්‍යවාදීන්ට ඔවුගේ කැමැත්ත අනුව ආර්ථිකය නැටවිය හැකි තත්වයක් උද්ගත විය.

ඒ වන විටත් ආසියාවේ කරන ලද අධිරාජ්‍යවාදී සූරාකෑම්වල ලාභයෙන් ලංකාවේ පිහිටුවන ලද සියලුම විදේශ බැංකු වැවිලි කර්මාන්තයට මුදල් ආයෝජනය කිරීම සඳහා පිහිටුවන ලද ඒවා බව පෙනෙනු ඇත.



සීමාසහිත හොංකොං සහ ෂැංහයි බැංකුව වැනි සමහර බැංකු වල නම්වලින්ම ඔවුන් ලාභ උපදවා ගත්තේ කුමන රටවලින්ද යන්න හෙළිදරව් කරයි. වෝකර් සහ පුත්‍රයෝ, කොමර්ෂල් කොම්පැණිය වැනි ඉන්ජිනේරු සමාගම් මුලින්ම මෙහි පැමිණියේ තේ හා රබර් කර්මාන්ත ශාලාවලට අවශ්‍ය යන්ත්‍ර සූත්‍ර සවි කිරීමට, නඩත්තු කිරීමට හා අළුත් වැඩියා කිරීමටය. මෙහි පැමිණීමෙන් පසු ඔවුහු අතිරේක ආදායමක් ලැබෙන අංශයක් ලෙස කාර් ආනයනය ආරම්භ කළහ. කාර් අළුත් වැඩියා කිරීම සඳහා ඉන්ජිනේරු වැඩ පොලවල් ඇති විය.

ලංකාවේ මහා මාර්ග හා දුම්රිය මාර්ග දෙස බැලුවොත් හොඳම ඒවා වතු පිහිටා ඇති නුවරට, නුවරඑළියට හා බදුල්ලට වැටී ඇති බව පෙනේ මක්නිසාද යත්, තේ සහ රබර් අපනයනයන් කොළඹට ගෙන ආ යුතු වූයේ මේ මහා මාර්ග හා දුම්රිය මාර්ග ඔස්සේ වු හෙයිනි. කොළඹ වරාය පුළුල් කිරීමට එතරම් විදේශ ආධාර ප්‍රමාණයක් ලැබීමට හේතුව වූයේ, අප පසුගිය දශක තුන හතර තුළ තේ නිෂ්පාදනය දෙගුණයකටත් වඩා වැඩිකර ඇති හෙයින් කාර්යක්ෂම අයුරින් පිටරට යැවීමට ඉඩකඩ ඇති වරායක් අවශ්‍යවූ හෙයිනි.

තේ සහ රබර් වලින්, විශේෂයෙන්ම තේ වලින් විශාල ප්‍රමාණයක් ලාභ උපදවා ගන්නා ලදී. බ්‍රිතාන්‍ය වැවිලිකරුවෝ විශාල වස්තු සම්භාරයක් ලබාගත්හ. බොහෝ අවස්ථාවලදී ආයෝජනය කළ මූලික ප්‍රාග්ධන කීප වරක් දෙගුණ විය. ලංකා තේ ලෝක ප්‍රකට විය. ඇත්තෙන්ම ලංකාව හා තේ යන වචන දෙක කොතෙක් එකට බැඳුනේද යත්, ලංකාව ''ලිප්ටන්ගේ තේ වත්ත'' යැයි සඳහන් කළ කාලයක්ද විය.

එහෙත්, තේ ඉතාහොඳින් වැවෙන කඳුකරයේ තේ වගාව ආරම්භ කිරීම නිසා මෙරට ස්වාභාවික සම්පත් විදේශීය ආක්‍රමණිකයන් තම ලාභය සඳහා සූරා කෑම හැරෙන්නට, ලංකාවට වෙනත් භයානක ප්‍රතිවිපාකද, ඇතිකර තිබේ. බ්‍රිතාන්‍යයින් කළ වඩාත් දරුණු ක්‍රියා වලින් එකක් නම් තේ වගාවට ඉඩ ලබා ගැනීම සඳහා අපේ කඳු මුදුන් වසා සිටි රමණීය කැලෑව කපා දැමීමයි. ඕනෑම ජීව විද්‍යාඥයකු කියන ලෙස කඳු මුදුන් වල කැලෑවේ ගස් ප්‍රයෝජනවත් වැඩ කොටසක් ඉටුකරයි. මේ කැලෑ වැහිබර වලාකුළු සිසිල් කර ඒවා වැස්ස බවට හරවයි. දෙවනුව, ශක්තිමත් ගස් වැල්. වැසි ජලය එක් වරම පහලට ගලායාම වලක්වා, ඒවා පස තුලට උරාගෙන නොසිඳී ගලාබසින දිය දහරා පමුණුවයි.

කැලෑවේ ගස් කපා දැමීමෙන් සිදුවූයේ වැසිවතුර එක්වරම පහලට ගලායාමට සැලසීමකි. තව දුරටත් පෝර දැමීම සඳහා තේ පඳුරු වටා පස මුල්ලු වලින් බුරුල් කළ යුතු නිසා උඩින් ඇති පොලවේ සාරවත්ම පස වර්ෂා ජලය විසින් ගංගා වලට සෝදාහරිනු ලැබේ. මඩ හෝ දුඹුරු පැහැයෙන් තොරව ගලා යන එකදු හෝ ගංගාවක් ලංකාවේ දක්නට නැත. සෝදාපාලුව නමින් අප විසින් හඳුන්වන ගැටලුව මෙයයි. අවුරුදු ගණනක් තිස්සේ ගංගා තුලට පස්

සෝදා යාමෙන් ගංගා පතුල් ගොඩ වීමට පටන්ගෙන ඇත. එහි ප්‍රතිඵලය වූයේ තද වැහි කාලයේ ඒවාට ලැබෙන වර්ෂා ජලය රඳවාගැනීමට නොහැකිව ගංවතුර ඇතිවීමයි. බ්‍රිතාන්‍යයන් අපේ කඳු මුදුන් වල කැලෑව කපා දැමීමේ දූෂ්‍ය ප්‍රතිපත්තියේ ප්‍රතිඵලය වී ඇත්තේ, එක් කාලයක ගංවතුර හා අනෙක් කාලයේ නියඟය ඇති වීමයි. නවසිය තිස් ගණන් වලදී පැරණි වාරිමාර්ග වැව් ප්‍රතිසංස්කරණය කළ විට ඒවාට පුරාණ කාලයේ දී මෙන් ප්‍රමාණවත් ජලය ලබාගත නොහැකි වූයේ, වැසිජලය වැවට ගලා එන්නට පෙර ගංවතුර ලෙස අපතේ යාම නිසාය. මෙසේ බ්‍රිතාන්‍යයන් ලංකාව ආහාර අතින් ස්වයංපෝෂිත වීමට එරෙහි වූ ප්‍රධාන සාධකය නිර්මාණය කළ අතර, අද අස්වද්දා ඇති කුඹුරු ප්‍රමාණය මුළුමණින්ම දෙකන්නයේම ගොවිතැන් කිරීමට ප්‍රමාණවත් වාරිමාර්ග පහසුකම් ඇතොත්, ලංකාව ස්වයංපෝෂිත වන බව පිළිගෙන ඇත.

රටේ දැඩි ආර්ථික සූරාකෑම සමග බ්‍රිතාන්‍යයෝ ඔවුන්ගේ දේශපාලන පදනම ශක්තිමත් කිරීම සඳහා ජනතාවට විරුද්ධව සංස්කෘතික ආක්‍රමණයේ විවිධ ස්වරූප ක්‍රියාත්මක කළහ. මේ සම්බන්ධයෙන් ඒ වන විටත් ලන්දේසීන් විසින් පාසැල් පිහිටුවීමෙන් සහ මිෂනාරි වැඩ උනන්දු කරවීමෙන් පදනම සකස් කර තිබුණි. බ්‍රිතාන්‍යයෝ මෙම පදනම් මත පිහිටා, සංස්කෘතික ආක්‍රමණය ක්‍රියාත්මක කළහ.

ඉංග්‍රීසි භාෂාව සහ ක්‍රිස්තියානි ආගම මගින් ස්වදේශිකයන් යුරෝපීයයන් කිරීමට තැත් කිරීම පටන් ගැනුණි. ඉංග්‍රීසි දැනුම වැදගත් වූවා පමණක් නොව, වාසි සහගතද විය. බ්‍රිතාන්‍යයන්ට ඔවුන්ගේ පරිපාලන සේවයේ පහළ තට්ටුවට මිනිසුන් සැපයීමට ඉංග්‍රීසි උගත් ලිපිකරු හමුදාවක් අවශ්‍ය විය. අළුත පටන්ගත් පාසල් වලින් ඔවුන් නිෂ්පාදනය කරන්නට යෙදුණි. මිෂනාරි සංවිධාන මගින් පවත්වනු ලැබූ එන්ගලන්තයේ පාසල්වල මෙන්ම, ක්‍රිස්තියානි ආගම හා ඉංග්‍රීසි භාෂාව සමාන්තරව ඉදිරියට ගමන් කළේය. ඉක්මනින්ම ස්වදේශිකයන්ට උසස් අධ්‍යාපනයක් ලබා දීමට විද්‍යායතනයක් ආරම්භ කෙරුණි.

ඉංග්‍රීසිහු බොහෝ දූරදර්ශී වූහ. අධිරාජ්‍යවාදී බලවේග වලින් ඇතැම් විට වඩාත්ම අත්දැකීම් ලැබූ අය ඔවුහුය. ඔවුන්ගේ අවශ්‍යතාව පරිදි 1818, 1848, හා 1915 වැනි අවස්ථා වල මෘග බලය යෙදවීම මෙන්ම, ඔවුහු බෙහෙත් ගුලි වල සීනි තවරන ආකාරයද දැන සිටියහ. භාෂාව ඇඳුම හා සිරිත් විරිත් වලින් රිලාමොටුන් මෙන් ස්වාමියා අනුකරණය කරන කළු ඉංග්‍රීසි ගෝත්‍රයක් නිපදවීමට සහ ඔවුන්ගේ එක් අපේක්ෂාවක් වූ ලංකාව "පුංචි එංගලන්තයක්" කිරීම සඳහා ඔවුහු දේශීය සංස්කෘතිය අනික් පැත්ත පෙරලීමේ අවියක් ලෙස අධ්‍යාපනය, විශේෂයෙන් බ්‍රිතාන්‍ය විශ්ව විද්‍යාලවල උසස් අධ්‍යාපනය භාවිතා කළහ. 1811 දී මේට්ලන්ඩ් ආණ්ඩුකාරයා ලංකාව හැර යන විටද, සේරම් මුදලාලිගේ පුතුන් දෙදෙනෙකු ඉංග්‍රීසි විශ්ව විද්‍යාලවල උසස් අධ්‍යාපනය



සඳහා ඔහු සමග ගිය බව වාර්තා ගත වී ඇත. පෙරහැර පටන් ගැනුණි.

එංගලන්තයේ විශ්ව විද්‍යාල අධ්‍යාපනයක් ලබා ආපසු පැමිණි අය ලංකාවේ දේශපාලනය කෙරෙහි සැලකිය යුතු කාලයකට බලපෑම් කළ අතර, එංගලන්තයේ තමන් දුටු ආකෘතියට අනුව මෙරට දේශපාලනය හැඩ ගැස්වීමටද උත්සාහ ගත්හ. අද දක්වා ඔවුන්ගේ බලපෑම් පවතී. බොහෝ දුරට විදේශීය ආයතන කල්පනා නොකර හා වහල්ව අනුකරණය කිරීම නිසා, දේශීය තත්වයට උචිතවන පරිදි සංවර්ධනය වීමට ඉඩක් නොලැබිණ. ශ්‍රේෂ්ඨාධිකරණයේ විනිශ්චය කරුවන් ලංකාව සර්ම කලාපීය උෂ්ණ රටක්ය යන සාධකය නොසලකමින් පලඳින හිස්වැස්ම, ඉංග්‍රීසි පාර්ලිමේන්තු ක්‍රමය මෙහි රෝපනය කරන්නට යාම හා ජාති හා කුල වලට දැඩි ලෙස බෙදී ගිය සමාජයක එක් අයෙකුට එක් ඡන්දයක් දීම වැනි න්‍යාය යෙදීම යනාදී විකාර අංග ලක්ෂණ මෙමෙ වහල් අනුකරණය නිසා අප රටට බෝවිය.

එයින් සමහර හොඳ ප්‍රතිඵලද ඇති විය. මින් එකක් නම් ප්‍රථම ලෝක යුද්ධයෙන් පසු කාලය තුළ මේ අන්තර් සම්බන්ධය තුලින් ලංකාවට මාක්ස්වාදී විප්ලවීය බීජ හඳුනා ගැනීමට ලැබීමයි. ඉංග්‍රීසි මාධ්‍යයෙන් ලද උසස් අධ්‍යාපනය තුලින් ඉතා සුළු ප්‍රමාණයක් හෝ ලාංකිකයන්ට නවීන දැණුම, විශේෂයෙන්ම විද්‍යා අධ්‍යාපනය ලබා ගැනීමට දොර විවෘත විය.

මෙලෙස ඉංග්‍රිසි වූ හැමදේම පිදීමට විරුද්ධ ප්‍රතික්‍රියාවක් ඇති වීම නොවැලැක්විය හැකි දෙයක් විය. එම ප්‍රතිවිරෝධය පැන නැගුණේ සිංහලයන්ගේ ඈත අතීතයේ සෞභාග්‍යය නැවත පණ ගැන්වීමේ හා බෞද්ධ පුණර්ජීවය නැවත ඇති කිරීමේ ව්‍යාපාරයක නැගී සිටීමක මුහුණුවරකිනි. ඉංදියාවේ විශේෂයෙන් බෙංගාලයේ ඇතිවූ ප්‍රබල සාහිත්‍ය පුණර්ජීවන ව්‍යාපාරයට යම්තමින් සමකළ හැකි මේ ව්‍යාපාරය, විදේශීය විඥාණවාදීන් වූ ඕල්කොට් හා ඇනී බෙසන්ට්ගේ ආධාර ඇතිව, මිගෙට්ටුවත්තේ ගුණානන්ද, අනගාරික ධර්මපාල, ආනන්ද කුමාරස්වාමි සහ අරුමුග නාවලර් වැනි අය මෙහෙය වූහ. මේ පුද්ගලයන්ගේ ක්‍රියාවන් හා වැඩ ශෛලීයයන් පිළිබඳව පිටුපස තිබූ හේතු ගැන අපට මෙහිදී වැඩිමනත් කථාකල නොහැකි වූවත්, අක්‍රමණිකයන්ගේ ආගමට විරුද්ධ වීම තුලින් අධිරාජ්‍ය විරෝධී හා ජාතික හැඟීම් ඇවිස්සීම අතින් සලකා බලන විට ඔවුන්ගේ වැඩවල ප්‍රගතිශීලී හරයක් ද තිබුණි.

විදේශීය ආක්‍රමණිකයන් විසින් ඔවුන්ගේ සංස්කෘතික ආක්‍රමණය පාසල හා පල්ලිය තුලින් ක්‍රියාත්මක කලාක් මෙන්ම, බෞද්ධ ප්‍රතිසංස්කරණ වාදයට සම්බන්ධ වූ අයද, ප්‍රතිප්‍රහාරය සඳහා එම මාධ්‍යයන්ම යොදා ගත්හ. පරම විඥානාර්ථ බෞද්ධ සමාගම, හින්දු අධ්‍යාපන සභාව වැනි ආයතන පිහිටුවන ලදී. මේ සංවිධාන බෞද්ධ සහ හින්දු පාසැල් පිහිටුවීමෙන් ක්‍රිස්තියානි මිෂනාරීන් හා තරගය ආරම්භ කළහ. අවශ්‍යයෙන්ම

ජාතිකත්වයෙන් සායම් පෙවූ අධ්‍යාපනයක් බෙදාහැරීම තුළින්, අධිරාජ්‍ය විරෝධී පදනම දමන ලදී. බෞද්ධ සහ හින්දු ප්‍රතිසංස්කරණ ව්‍යාපාරවල දක්නට ලැබුණේ, ජනතාවගේ මූලික අධිරාජ්‍ය විරෝධී අපේක්ෂා හා ජාතික අභිමානය රැක ගැනීමේ අවශ්‍යතාවයක් බව මේ අනුව ප්‍රකාශ කිරීම උචිතය.

ඒ කාලයේදී එනම් බෞද්ධ පුණර්ජීවය නැවත ඇති කිරීමේ ව්‍යාපාරයත් සමගම වාගේ, බ්‍රිතාන්‍යයන්ගේ ඇසින් බ්‍රිතාන්‍ය දේශපාලන විරෝධී නැම්මක් ඇති ව්‍යාපාරයක් ලෙස ඔවුන් දුටු, ලංකාවේ අමද්‍යප ව්‍යාපාරය මතු විය. අරක්කු වෙළඳාමේ ඒකාධිකාරය දැරූ බ්‍රිතාන්‍ය ආණ්ඩුව ඔවුන්ගේ ආදායම වැඩි කරගනු සඳහා, රට ඇතුලේ පවා හැම ප්‍රමාණයකම ගමක් පාසා තැබෑරුම් පටන් ගත් මිනිසුන්ට, අරක්කු විකිණීමේ බලය දුනි. එයින් ඉටුකර ගැනීමට බලාපොරොත්තු වූ අරමුණ වූ කලී, බ්‍රිතාන්‍යයන් විසින් චීනයට බලහත්කාරයෙන් අබිං පැටවීම තුළින් බලාපොරොත්තු වූ අරමුණමය. අරක්කු රේන්දයෙන් විශාල මුදල් සම්භාරයක් උපයාගත් අයගෙන් සමහරෙක්, ඔවුන්ගේ ප්‍රාග්ධනය වැවිලි කර්මාන්තයට හරවා, අමද්‍යප ව්‍යාපාරයට මග පෙන්වීමට ඉදිරිපත් වූහ. පළමුවන ලෝක යුද්ධයෙන් පසු යුගයේ ලංකාවේ ධනේශ්වර නායකත්වය ගත්තේ මේ අයගෙන් සමහරෙකි.

බ්‍රිතාන්‍යයෝ පාසල හා පල්ලිය තුළින් සංස්කෘතික ආක්‍රමණය කරගෙන යන අතරම, වහලුන්ගෙන් තම වහල්කම පිළිබඳ කැමැත්ත දිනා ගැනීම අරමුණු කරගත් යටත් විජිත දේශපාලන ප්‍රතිසංස්කරණ හැඳින්වීම කෙරෙහිද යුහුසුලුවූහ. පෘතුගීසීන් මෙන් නොව, බ්‍රිතාන්‍යයෝ සූරාකෑමේ කලාව මටසිළුටු ලෙස කරගෙන යෑමට දැන සිටියහ. දිවයින පාලනය කිරීමේදී බ්‍රිතාන්‍යයන්ට සහයවීමේ කටයුතු වලට ලාංකිකයන් ඇද ගැනීමේ අරමුණ ඔවුහු ක්‍රියාත්මක කළහ. සැබෑ බලය තමන් අත තබා ගත් ඔවුහු, ස්වදේශිකයන්ට බලයේ මායාව ටිකෙන් ටික දුන්හ. මේ සඳහා වරින් වර විවිධ ප්‍රතිසංස්කරණ ඇති කරන්නට යෙදුණි. 1831 - 32 ප්‍රසිද්ධ කළ කෝල්බෲක් - කැමරන් කොමිෂන් සභාවේ නිර්දේශය අනුව, ව්‍යවස්ථාදායක හා විධායක සභා පිහිටුවීමත් සමග මේ වැඩ පිළිවෙල ක්‍රියාවට නගන ලදී. බ්‍රිතාන්‍ය අණ්ඩුකාරයාගේ නිෂේධ බලයෙන් නිරුපද්‍රිතව සන්නද්ධ හමුදා, රජයේ සේවය හා මුදල් පිළිබඳ පාලනයේ තෝන්ලණු තමන් අතේම හිර කර තබාගත් බ්‍රිතාන්‍යයන්, මුලින්ම නිළනොලත් මන්ත්‍රීන් ඇතුළත් කිරීම, පසුව නියෝජිතයන් තෝරා පත් කිරීමේ ප්‍රතිපත්තිය හඳුන්වා දීම, ඉන්පසු නිල නොලත් මන්ත්‍රීන් වැඩි කිරීම, ඊලඟට සර්වජන ඡන්ද බලය හා ඩොනමෝර් කොමිසම යටතේ විධායක කාරක සභා ක්‍රමය ඇති කිරීම - ලාංකිකයන්ට ලබාදුන් බලතල වලින් සමහරකි.

බ්‍රිතාන්‍යයන්ට ලංකාව පැත්තෙන් බ්‍රිතාන්‍ය නීති අනුව ක්‍රීඩාව පවත්වාගෙන යාමට කැමති දක්ෂ පුද්ගලයන් සොයා ගැනීම අපහසු නොවීය. ඊ.



ඩබ්ලිව්. පෙරේරා, ජේම්ස් පීරිස්, පොන්නම්බලම් රාමනාදන්, පොන්නම්බලම් අරුණාචලම් වැනි අය මාරුවෙන් මාරුවට වැඩි වැඩියෙන් ප්‍රතිසංස්කරණ ඉල්ලා බලකර සිටියහ. ඔවුහු නිතරම "ධවල ශාලාවට" (වයිට් හෝල්) පෙත්සම් යැවූ අතර, දිගින් දිගටම තත්වය පෙන්වාදීම සඳහා එංගලන්තය කරා නියෝජිත සවාරි යමින්, ඔවුන්ගේ උද්ඝෝෂණ නොමැරී පවත්වාගෙන යනු සඳහා ප්‍රතිසංස්කරණ සංගමය (රිෆෝම්ලීග්) වැනි සංවිධාන හා අන්තිමේදී ලංකා ජාතික සංගමය පිහිට වූහ.

පවතින රාමුව තුල ලාංකිකයන්ට, වඩා හොඳ තත්වයක් බලාපොරොත්තුවූ මොවුන් සියල්ලෝම දක්ෂ, ධනේශ්වර, ප්‍රතිසංස්කරණ වාදීහු වූහ. බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදයෙන් නිදහස් වීමේ ප්‍රශ්නය ඔවුන් කවදාවත් නැගුවේ නැත. මේ අර්ථයෙන් ගත් කළ ඔවුන් රටේ නිදහස වෙනුවෙන් සටන් කළ අය ලෙස සැලකීම වැරදි සහගතය. 1907 දී ඊ. ඩබ්ලිව්. පෙරේරා ලියූ "20 වන සියවස ලංකාව පිළිබඳ හැඟුම්" යන ප්‍රකාශනයේ පෙන්වන කරුණු වලින් ඔබ්බට ඔවුන්ගේ අභිලාශයන් ගියේ කලාතුරකිනි.

"කැපී පෙනෙන ලැදි ජනතාවක් වූ, බ්‍රිතාන්‍ය පාලනයේ ලාභ ප්‍රයෝජන ගැඹුරු ලෙස අවබෝධ කරගත් ලාංකිකයෝ බ්‍රිතාන්‍ය පුරවැසිකම මුළුමනින්ම දිනා ගැනීමේ අභිලාෂයෙන් පසු වෙති. ලංකාවේ බ්‍රිතාන්‍ය රාජ්‍යත්වය පිහිටුවා ශත වර්ෂයක් තුලදී ඇති කළ පාලනයෙහි දීප්තිමත් සිහිවටනයට ඔටුනු පලඳවන්නේ, මහත් ආශාවෙන් බලාපොරොත්තු වූ, ඉක්මනින්ම අවශ්‍යව පවතින ප්‍රතිසංස්කරණ වලින් සමහරක් වන, වඩා නිදහස් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක්, ගංවතුර සහනාධාර වැඩ, ඡන්දදායකයින් ලියාපදිංචි කිරීමේ බද්ද අහෝසි කිරීම, ජනාකීර්ණ බටහිර හා දකුණු පලාත් වලින්, ජනයා අලුත්වැඩියා කළ වැව් ප්‍රදේශ වල ක්‍රමවත්ව පදිංචි කරවීම, අධ්‍යාපනයට වැඩි මුදලක් වෙන් කිරීම සහ ලංකා ජනතාවට රජයේ සේවයේ ඉහල අංශවල පුළුල් ඉඩ කඩ සැලසීමයි"

අසල්වාසී ඉන්දීය මහද්වීපයේ වැඩුණු ජාතික නිදහස් ව්‍යාපාරයේ විප්ලවීය ස්වරූපයට ප්‍රතිවිරුද්ධ ලෙස ලංකාවේ ව්‍යාපාරයෙහි එක් විශේෂත්වයක් වූයේ, එය මුළුමණින්ම ප්‍රතිසංස්කරණ ස්වරූපයක් ගැනීම හා පෙත්සම් ලිවීමත් නියෝජිත ගමන් යෑමත් වැනි පටු සීමාවන් තුළ හිරවී සිටීමය. ඊ. ඩබ්ලිව්. පෙරේරාගේ සිට ඩී. ඇස්. සේනානායක හා ඇස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක දක්වා කිසිම ධනේශ්වර ප්‍රතිසංස්කරණවාදී නායකයෙක්, කවදාවත් ජාතික නිදහස සඳහා වූ ඉල්ලීම ඉදිරිපත් කළේ නැත. ජාතික නිදහස් හඬ ලංකාවේ මුලින්ම නැගුවේ වාමාංශික ව්‍යාපාරය විසිනි.

'එඩ්මන්' නැමති ජර්මන් කාලතුවක්කු බෝට්ටුව ලංකාවේ වෙරල දෙසට පැමිණීම පිළිබඳ වාර්තාවෙන් ඇතිවූ තිගැස්ම හැර, පළමුවන ලෝක යුද්ධය ලංකාව කෙරෙහි බලපෑවේ ඉතා ස්වල්ප වශයෙනි. ලංකාවට මේ

යුගයේදී වඩාත්ම වැදගත් අයුරින් බලපෑ සිද්ධිය වූයේ, 1915 ඇතිවූ දුක්මුසු ජාතිවාදී කැරළිය. කැරළිවල ආසන්න හේතුව වූයේ නුවර-ගම්පොල ප්‍රදේශයේ බෞද්ධයන් හා මුහුදුබඩ යෝනකයින් අතරවූ ආගමික අමනාපයකි.

බෞද්ධ පෙරහැරකට මුස්ලිම් පල්ලියක් පහුකර යාමට අවසර දීම ප්‍රතික්ෂේප කිරීමෙන් අරගලය පැන නැගුණි. බෞද්ධයෝ උඩරට ගිවිසුමෙන් ඊනියා ලෙස ආරක්ෂාවී ඇතැයි විශ්වාස කළ අයිතිය ඉල්ලා සිටියහ. මහනුවර දිස්ත්‍රික් විනිශ්චයකාර ආචාර්ය පෝල් ඊ. පීරිස් බෞද්ධයින්ගේ ඉල්ලීම නිවැරදි බැව් පිළිගත්තේය. එහෙත් ඉංග්‍රීසි විනිශ්චයකරුවන් දෙදෙනෙකුගෙන් සමන්විත ශ්‍රේෂ්ඨාධිකරණය ඔහුගේ තීරණය වෙනස් කළේය. මෙයින් වෙඩි නූලට ගිනි ඇවිළුණි. එහෙත් ලංකාවේ බ්‍රිතාන්‍ය නිලධාරීහු, ආණ්ඩු විරෝධී තත්වයක් ආරෝපණය කර තිබූ, අලුතෙන් මතුවූ බෞද්ධ පුනරුදය හා අමද්‍යප ව්‍යාපාරය මේ සම්බන්ධයෙන් සැක කළහ. බියට පත්වූ ඔවුහු අතිශයින් අන්තවාදී ක්‍රියා මාර්ගයන් උපයෝගී කොට ගත්හ. රට තුන් මසක් යුද්ධ නීතිය යටතේ තිබූ අතර, මර්ධනය සඳහා පන්ජාබ් සොල්දාදුවන් සිංහලයන්ට විරුද්ධව යෙදවූහ. මරා දැමූ සංඛ්‍යාව කවදාවත් ගණන් බලා නැත. සමහරු විවිධ කාල සීමාවල්තුල හිරදුක් වින්දාහ.

ආණ්ඩුකාරයා ආපසු කැඳවනු ලැබීය. එහෙත් මෙනිසා ජනිත වූ සිංහලයින්ගේ වේදනාව විසින් ජනතාවගේ අධිරාජ්‍ය විරෝධී හැඟීම මෙන්ම විදේශීය පාලකයින් කෙරෙහි ඔවුන්ගේ වෛරයද ගැඹුරු කරන්නට යෙදුණි. මෙය පසුව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා ප්‍රතිසංස්කරණ ව්‍යාපාරය ඉදිරියට ගමන් කරවීය. එහෙත් කැරලි කාලයේ හිරභාරයේ සිටි නායකයින්ගෙන් සමහරෙක් මෙයින් ක්ෂණික වාසි ලැබූවන් වූහ. දශක දෙකක් යන්නට පෙර ඔවුහු දේශපාලන නායකයින් වූ අතර, තමන් සිරකළ ඒ අධිරාජ්‍යවාදීන්ගේම යටහත් සේවකයින්ද වූහ.



තුන්වන පරිච්ඡේදය

# පළමුවන ලෝක යුද්ධය හා පසුකාලය

පළමුවන ලෝක යුද්ධයෙන් පසුව පැමිණි කාල පරිච්ඡේදය ලෝකයට බොහෝ වෙනස්වීම් ගෙන ආ අතර, විශේෂයෙන්ම පසුගිය ශත වර්ෂ දෙක හෝ ඊටත් වැඩි කාලයක් විදේශිය අධිරාජ්‍යවාදී පාලනය යටතේ පැවති ආසියාව තුළ විශාල වශයෙන්ම මෙම වෙනස්වීම් ක්‍රියාත්මක විය. ශ්‍රේෂ්ඨ ඔක්තෝබර් විප්ලවයේ ජයග්‍රාහී වෙඩි හඬ ආසියාවේ බොහෝ රටවල දෝංකාර දුනි. ලෝකයේ පැරණිම ශිෂ්ඨාචාරයන්ගෙන් එකක තෝතැන්න වූත්, ලෝකයේ වැඩිම ජනගහණයෙන් යුක්තවූත්, විශාල රටක් වූ චීනයේ විප්ලවයේ ගිණිසිලු දැල්විණි. ඉන්දුනීසියාව ලන්දේසි ආධිපත්‍යයට විරුද්ධව අසාර්ථක විප්ලවයක යෙදුණි. පූර්ණ ස්වාධීනත්වය හෙවත් "පූර්ණ ස්වරාජ්" ව්‍යාපාරය ඉන්දියාවේ මතුවිණ. ලංකාවද මෙම බලපෑම් වලින් මිදුනේ නැත.

කම්කරුවන් වෙනුවෙන් ක්‍රියා කිරීමට පුද්ගලයන් හා සංවිධාන මතුවිය. 1919දී පොන්නම්බලම් අරුණාචලම්, සී,එච්.ඉසෙඩ්. ප්‍රනාන්දු සහ මාටිනස් පෙරේරා, කම්කරු සුභ සාධක සංගමය ගොඩ නැගීය. 1920 දී ලංකා කම්කරු සම්මේලනය ආරම්භ කරන ලදි. එහෙත් ඔවුන්ගේ බලපෑම් සීමා සහිත විය. මේ යුගයේ කම්කරු සංවිධානවල මූලිකත්වය ගත්තවුන් අතර, වඩාත් කැපී පෙනුනේ ඒ.ඊ. ගුණසිංහ සහ නටේස් අයියර්ය. මුලින් සඳහන් කළ අය නාගරික කම්කරුවන් අතරත්, පසුව සඳහන් කළ අය වැවිලි කම්කරුවන් අතරත් ප්‍රමුඛත්වය දරණ ලදි. කලක් දෙදෙන එකට වැඩ කළහ. 1922 සැප්තැම්බර් මස ඒ.ඊ.ගුණසිංහ, වික්ටර් කොරයා සහ තවත් අය ලංකා කම්කරු සමිතිය පිහිටුවන ලදි. කම්කරුවන් 20,000 ක් සහභාගීවූ ලංකාවේ ප්‍රථම මහා වැඩ වර්ජනය 1923 දී සිදුවිය. ගුණසිංහ කම්කරු නායකයෙකු ලෙස ඉදිරියට තල්ලු කළේ මේ වැඩ වර්ජනයයි.

කලින් පාසල් ගුරුවරයෙකු වූ ඒ.ඊ.ගුණසිංහ තමා ද ටොප්හැට් හා වල්ගා කෝට් වලින් සැරසී සම්මේලන වලට සහභාගි වූ බ්‍රිතාන්‍ය වෘත්තීය සමිති සම්මේලනයේ හා බ්‍රිතාන්‍ය කම්කරු පක්ෂයේ මග ගනිමින්, බ්‍රිතාන්‍ය ආයතන අනුකරණය කර, ඔහුගේ සමස්ථ ලංකා වෘත්තීය සමිති සම්මේලනය සහ කම්කරු පක්ෂය ආරම්භ කළේය. එය වූ කලී ඔහු විසින් තම ස්වාමියා වහල් අන්දමින් අකුරටම අනුකරණය කිරීම සම්බන්ධයෙන් හොඳම නිදසුනකි. එකල

ඔහුගේ ව්‍යාපාරය ප්‍රතිසංස්කරණවාදී සහ ධනේශ්වර සීමාවන් තිබියදීත් (සේව්‍ය පක්ෂයේ ශ්‍රේෂ්ඨතම මිතුරා ලෙස යූ.ඇන්.පී. යේ උකුල මත ඔහුගේ අවසානය සිදුවිය.) බ්‍රිතාන්‍යයන් එවකට ගුණසිංහව සැලකුවේ අනතුරුදායක බෝල්ෂෙවික් වාදියෙකු ලෙසිනි.

1915 කැරළි සමය තුළදී බ්‍රිතාන්‍ය නිලධාරී පැලැන්තිය ලංකාව තුළ විශාල පරිමාණයෙන් පැතිරීම, ප්‍රතිසංස්කරණ ව්‍යාපාරයේ නැගී සිටීමක් ඇතිවීමට හේතු විය. එහෙත් එය ක්‍රියාත්මක වූයේ දැඩිලෙසම ධනේශ්වර ප්‍රතිසංස්කරණ සීමාවන් තුළය. ස්වාධීනත්වය ඉල්ලීම සඳහා බහුජන සහයෝගය සහතික කළ සිවිල් නීති කැඩීමේ ජනතා ව්‍යාපාරයක් තුළින් බහුජන සහභාගිත්වයක් ඉන්දියාවේ ඇති වුවද, ලංකාවේ මෙම ව්‍යාපාරයට එවැනිවූ ජනතා සහයෝගයක් නොලැබිණ. මේ වෙනසට හේතුව වූයේ, ඉන්දියාවේ මෙන් අධිරාජ්‍යවාදය ඉවත් කර ඒ වෙනුවට තමන් විසින්ම පාලනය ගෙනයාමට අවශ්‍යතාවය ඇති ජාතික ධනේශ්වර පංතියක් ඒ වනවිට ලංකාවේ බිහිවී නොතිබීමයි. 1927 දි බ්‍රිතාන්‍ය ආණ්ඩුව ලංකාවට අවශ්‍ය ප්‍රතිසංස්කරණයන් වාර්තා කිරීමට ඩොනමෝර් කොමිසම පත් කළේය. ඩොනමෝර් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ වැදගත්කම වූ කලී ප්‍රංශය, ස්විට්සර්ලන්තය වැනි යුරෝපයේ දියුණු රටවල කාන්තාවන්ට ඡන්ද බලය පවා නොතිබුන අවදියක, ලංකාවේ කාන්තාවන්ද ඇතුලු සැමට සර්වජන ඡන්ද බලය ප්‍රදානය කිරීමේ සාධකයයි. ඒ.ඊ. ගුණසිංහ සහ ඔහුගේ කම්කරු පක්ෂය හැර වෙනත් කිසි ලාංකිකයෙක් හෝ එය ඉල්ලා තිබුනේවත් නැත. මෙය යටත් විජිතයක් ලෙස තිබූ අවදියක එම අවස්ථාවේ බ්‍රිතාන්‍යයන් ලංකාවට වැඩිහිටි සර්වජන ඡන්ද බලය ප්‍රදනය කළේ මන්ද? බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන් (කම්කරු පක්ෂය හෝ ප්‍රතිගාමී පක්ෂ වේවා) පරාර්ථකාමී අදහසකින් මෙය කළායයි පැවසීම පිළිගත නොහැක. සමහරුන් යෝජනා කරන්නේ මේ වැඩිහිටි සර්වජන ඡන්ද බලය ප්‍රධානය කිරීම, ප්‍රගතිශීලී පියවරක් සහ ඉන් පසුව ඇතිවූ අනෙක් ප්‍රතිසංස්කරණ වලට මගපෑදීමක් වූ බවය. මෙය සැක සහිත ප්‍රකාශයකි.

බ්‍රිතාන්‍ය ධනේශ්වර පංතිය බ්‍රිතාන්‍යයේ වැඩ කරන පංති ව්‍යාපාරය යටත් කිරීමට සහ සුප්‍රකට "චාටිස්ට්" ව්‍යාපාරය කාලයේ එය දියුණුවෙමින් ගමන් ගත් විප්ලවීය මාවතෙන් වෙන අතකට හැරවීමට මැතිවරණ හා සර්වජන ඡන්දය ඒ වන විටත් යොදගෙන තිබුණි. ලංකාවේත් වැඩෙමින් පැවති හා බලවත් විය හැකිව තිබූ අධිරාජ්‍ය විරෝධී ව්‍යාපාරය බෙදීමට හා අවුල් කිරීමටත්, ජනතාවගේ සටන්කාමී ජීව ගුණය මොට කිරීමටත්, පාර්ලිමේන්තුව හරහා වූ සාමකාමී පරිවර්තනයන් කිරීම පිළිබඳ හැකියාවේ මායාව පැතිරවීමටත්, සැබෑ බලය රඳා පවතින ස්ථානවූත් සන්නද්ධ හමුදාවන්ගෙන් ජනතා අවධානය ඉවත් කිරීමටත්, මේ ආයුධය ලංකාවේද යොදවන ලදි. මෙය ආයුධ සන්නද්ධ අරගලයකට වාචික අරගලයක් ආදේශ කිරීමකි.



කෙනෙකු සර්වජන ඡන්ද බලය මත පදනම්වූ ලංකාවේ පසුගිය අවුරුදු හතලිහ දෙස ආපසු හැරී බලන්නේ නම්, බ්‍රිතාන්‍යයන් බලාපොරොත්තු ඉක්මවා සාර්ථක ප්‍රතිඵල ලබා ඇතිබව ඒත්තු යනවා ඇත. ඩොනමෝර් යුගයත් සමගම ජාතිවාදී දේශපාලනයේ අවලක්ෂණ හිස එසවීමට පටන් ගැනීම අහම්බෙන් සිදුවූවක් නොවේ. 1915 යුද්ධ නීති සමයේදී සිරභාරයේ පසුවූ සිංහල නායකයන් වෙනුවෙන් <u>ලන්ඩන්වල බ්‍රිතාන්‍ය</u> වගකිව යුත්තන් ඉදිරියේ කරුණු ඉදිරිපත් කිරීමේ උත්සාහය වෙනුවෙන් තම ජීවිතය පරදුවට තබා ටෝර්පිඩෝවලින් ගහනවූ මුහුදු තරණය කළා වූත්, ව්‍යවස්ථාදායක සභාව තුළ සිංහල උගතුන්ගේ ආසනය වෙනුවෙන් තරග කර, සිංහලයින්ගේ සහයෝගය ඇතිව පිළිවෙලින් ශ්‍රීමත් මාකස් ප්‍රනාන්දු සහ එස්.ඩබ්ලිව්. ජයවර්ධන, දෙවතාවක්ම පරාජය කළාවූත්, පොන්නම්බලම් රාමනාදන්, ජාතික සංගමයෙන් ඉල්ලා අස් විය. ඔහු සහ ඔහුගේ සහෝදරයා වූ අරුනාචලම් මෙය ආරම්භ කිරීමට ආධාර වූ අයගෙන් මූලිකයෝ වෙති. සිංහල සහ දෙමළ නායකයන්ට වංචනික අධිරාජ්‍යවාදී බලය විසින් ඔවුන් වෙත පැවරූ නිලයේ කැතකුණු බෙදාගැනීමේදී එකඟ වීමට නොහැකි විය. බ්‍රිතාන්‍ය ආණ්ඩුව පොරකෑමට මස් කටුවක් ලාංකික නායකයන් අතරට විසිකර තිබුණි.

ලංකාවේ ද්‍රවිඩ නායකයන් බස්නාහිර පලාතෙන් වෙනම දෙමළ ආසනයක් ඉල්ලා සිටීමෙන් පැහැදිලි ආරවුළ මතු විය. එය ජාතිවාදී ඉල්ලීමක්ය යන පදනම මත සිංහල නායකයන් එය ප්‍රතික්ෂේප කළහ. ඔවුහු එය ජාතිවාදී නොවන බව දක්වමින් ප්‍රාදේශීය නියෝජනය ඉල්ලා සිටීම ඉදිරිපත් කළහ. ඇත්තෙන්ම ඉල්ලීම් දෙකම වෙනත් මට්ටම් අනුව ජාතිවාදී විය. මහ ජාතියට ප්‍රාදේශීය නියෝජනයේ ප්‍රතිඵලය වන්නේ ඔවුන්ගේ ජාතියට අයත් නියෝජිතයන් වැඩි සංඛ්‍යාවක් තේරී පත්වීමයි. සුලුජාතීන්ට ජාතිවාදී නියෝජනයේ ප්‍රතිඵලය වන්නේ ඔවුන්ගේ ජාතියට අයත් නියෝජිතයන් වැඩි සංඛ්‍යාවක් තෝරා ගත නොහැකිවීමයි. මෙය එකිනෙකට අයත් මත දෙකේම අගය තීරණය කිරීම අපහසුය. කෙනෙකුට කිවහැකි එකම දේනම්, වැඩි හා සුලු යන දෙපක්ෂයේම යහපත සඳහා එකඟතාවයකට පැමිණ, ඔවුන්ගේ පොදු සතුරාට සහ පීඩකයාට විරුද්ධව එක්සත් පෙරමුණක් ගොඩනැගිය යුතුව තිබුන බවය. කෙසේ හෝ මේ මූලික දැනුම ඔවුන්ට නැති විය. එබැවින් එයින් ජයග්‍රහණය කළේ බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන්ය. විදේශීය අධිරාජ්‍යවාදීන්, මුලු ලාංකීය ජනතාව මතම තම රාජ්‍ය බලය පතුරන විට, ලාංකිකයෝ ඔවුනොවුන් අතරම ජාති, ආගම්, කුල පදනම මත සිට කුලල්කා ගත්හ. මේ අතර ලංකා ආර්ථිකයේ අධිරාජ්‍යවාදී ග්‍රහණය එක ස්වරූපයකින් හෝ වෙනත් ස්වරූපයකින් කෙලින් හෝ වක්ව දිගටම පැවතුනි.

එහෙත් ඩොනමෝර් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව විරුද්ධත්වයකින් තොරව පිළිනොගැනුණි. ඇතැම් විට අසල්වාසී උප මහද්වීපය පිසගෙන හමාගිය වඩා

බලවත් විප්ලවීය ජාතික ව්‍යාපාරයේ බලපෑම නිසා,ඩොනමෝර් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව නියම නිදහස නොවේ යයි විවේචනය කරන ව්‍යාපාරයක් මතුවිය. තරුණ සංගමය නමින් සංවිධානයක් බිහිවූ අතර අලුත් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව යටතේ පැවැත්වෙන ඡන්ද විමසීම් වර්ජනය කරණ ලෙස ඉල්ලා සිටියේය දකුණේ ආධාරයත් පොරොන්දු වූ නමුත්, ව්‍යාපාරය සාර්ථක වූයේ උතුරු ප්‍රදේශ වල පමණි. උතුරු පලාතේ ආසන හතරේම මැතිවරණ වර්ජනය කරනු ලැබූ අතර, ප්‍රථම රාජ්‍ය මන්ත්‍රණ සභාවේ අවුරුදු හතරක් තුල උතුරු ප්‍රදේශයේ ද්‍රවිඩ ජනතාව නියෝජනය නොවිණි. උතුරු ප්‍රදේශයේ ඡන්ද විමසීම් වර්ජනය කිරීම සංවිධානය කිරීමෙන්, තරුණ සංගමය ලැබූ සාර්ථකත්වය සමහරු මනින්නේ ඊට මුළුමනින්ම වෙනස් කරුණක් වන ඩොනමෝර් කොමිසම ද්‍රවිඩයන් සඳහා ජාතිවාදී නියෝජනය ප්‍රතික්ෂේප කිරීම වැනි වඩාත් ප්‍රතිගාමී සාධකයන්ගේ ආධාරයෙන් බවය. එහිත් එක්තරා ප්‍රමාණයක සත්‍යයක් තිබිය හැක.

ඒ අවස්ථාවේ තරුණ සංගමය රටේ එක් කොටසක පමණක් සහයෝගය ලැබූ නමුත් ප්‍රගතිශීළී, අධිරාජ්‍ය විරෝධී සහ ජාතිවාදයෙන් තොර සංවිධානයක් විය. එහෙත් එය වැඩිකල් නොගොස්ම ජී.ජී. පොන්නම්බලම් හා ඔහුගේ සමස්ථ ලංකා ද්‍රවිඩ සංගමය මුදාහළ ජාතිවාදී දේශපාලනයේ ගිලුණි. ලංකා දේශපාලනයේ ජාතිවාදය මතුවුයේ දැනටමත් පෙන්වා දී ඇති පරිදි, බ්‍රිතාන්‍යයන් විසින් ඔවුන් වෙත පවරා දීමට කැමතිවූ බලයේ මායාව බෙදා ගැනීම පිළිබඳව, සිංහල හා දෙමළ නායකයන්ට ඔවුන් අතර එකඟතාවයක් ඇතිකර ගැනීමට නොහැකි වූ හෙයිනි. බ්‍රිතාන්‍යයන් විසින් වරක් එක පැත්තකට සහ තව වරක් අනෙක් පැත්තට සහයෝගය දෙමින් ලාංකිකයන් අන්තිම දක්වා භේද කර තැබීමට මේ තත්වය දක්ෂ අන්දමින් ප්‍රයෝජනයට ගන්නා ලදී.

ඩොනමෝර් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මන්ත්‍රීවරුන්ට ව්‍යවස්ථාදායක කටයුතු වලදී වඩා සහභාගී විය හැකිවූත්, ඇමතිවරුන්ට කැබිනට් සාමූහික වගකීමක් නැති කිරීම වැනි බාධක සහිත වූත්, තත්වයන් යටතේ රාජ්‍ය මන්ත්‍රණ සභාවක් හා විධායක මණ්ඩල ක්‍රමයක් සපයන ලදී. ඇමති මණ්ඩලයේ නායකයා කැබිනට් මණ්ඩලයක අගමැති මෙන් තනිබලයක් නොලැබීය. එහෙත් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට, බ්‍රිතාන්‍ය අවශ්‍යතා ආරක්ෂා කරනු සඳහා සිවිල් ඇඳුමෙන් සැරසුණ පොලිස් කාරයන් තිදෙනෙකු යයි ඊ. ඩබ්ලිව්. පෙරේරා විසින් නිවැරදිව පෙන්වූ පරිදි, ඡන්දයෙන් පත් නොවූ රාජ්‍ය නිලධාරීන් තිදෙනෙක්, මුදල් ලේකම්, නීති ලේකම් හා මහා ලේකම් ඇමති මණ්ඩලයට ඇතුළත් කිරීමට වග බලා ගත්තේය. ඔවුන් ඉවත් කළ නොහැකි වූ අතර වග කිව යුතු වූයේ ද, ඔවුන් පත් කරණු ලැබූ ආණ්ඩුකාරයාට පමණය. රජයෙන් පත් කළ නිළධාරීන් හා ඡන්දයෙන් පත්වූ ඇමතිවරුන් අතර



නොවැලැක්විය හැකි ගැටුම් මතු විය.

ඇමති මණ්ඩලය ඒකමතිකව අනුමත කළහොත් පමණක්, මොනයම් හෝ ප්‍රතිසංස්කරණයක් ගැන, සළකා බලන බව බ්‍රිතාන්‍යයන් විසින් පැහැදිළි කරන ලදී. බ්‍රිතාන්‍යයන් මෙසේ ජාතිවාදී සමගියක් තුළින් ඔවුන්ට වාසි බලාපොරොත්තු වූහ. එහෙත් මේ නිසා තත්වය වඩාත් දරුණු අතට පත්විය. වඩාත්ම ප්‍රයෝගකාරී මෙන්ම, සිංහල ධනේශ්වර නායකයන් අතර වඩාත්ම ප්‍රතිගාමී වූ ඩී. ඇස්. සේනානායක විසින් සිංහල හා දෙමළ නායකයන් අතර සමගිය පදනම් කරගෙන නොව, තනි සිංහල ඇමති මණ්ඩලයක් තුළින් ඒකමතික බව ඇතිකිරීමට බලන ලදී. ඇදහීමට පවා නොහැකි පරිදි 1936 දෙවන රාජ්‍ය මන්ත්‍රණ සභා ඡන්ද විමසීමෙන් පසුව, ඔහුට තනි සිංහල ඇමති මණ්ඩලයක් තෝරා ගැනීම සහතික කිරීම සඳහා සිද්ධාන්තයක් ඉදිරිපත් කළේ ද්‍රවිඩයෙකි. එනම් කොළඹ යුනිවර්සිටි කොලීජියේ ගණිත මහාචාර්ය වූ, එකල සේනානායකගේ මිත්‍රයෙකු හා උපදේශකයෙකු වූ සී. සුංදරලිංගම්ය.

තනි සිංහල ඇමති මණ්ඩලයක් පත් කිරීම තුළින් සිදුවූයේ ජාතිභේද වාදය තව දුරටත් තියුණු කිරීම පමණි. ජී.ජී පොන්නම්බලම් යටතේ ද්‍රවිඩ සංගමය පිහිටු වීමට සහ ඔහුගේ පණහට පණහ ඉල්ලීම් නැත්නම් සමානුපාත නියෝජනය සඳහා වූ ව්‍යාපාරය, ඇස්.ඩබ්.ආර්.ඩී. බණ්ඩාරනායක යටතේ දකුණේ පිහිටුවනු ලැබූ සිංහල මහා සභාවට සමාන්තර විය.

ද්‍රවිඩ ජාතිවාදය මත සිංහල ජාතිවාදය පෝෂණය වූ අතර, එහි අනෙක් පැත්ත වූ සිංහල ජාතිවාදය මත ද්‍රවිඩ ජාතිවාදය පෝෂණය විය. බණ්ඩාරනායකගේ ඉල්ලීම වූයේ සියලුම ජාතීන් සමගි කිරීමට පෙර මුලින්ම සිංහලයන් සමගි කළ යුතු බවයි. පසුව ආර්.ජී. සේනානායක විසින් මේ ඉල්ලීම නැවතත් ඉදිරිපත් කළේය. එහෙත් පිළිතුරු දියයුතු ප්‍රශ්නය මෙයි. එය විදේශීය ආක්‍රමණිකයා පලවා හැරීමට නම්, තනි ජාතියක සමගියක් පමණක් නොව, ආක්‍රමණයට පත්වූ සියලුම ජාතීන්ගේ සමගියක් විය යුතුය. එය ද්‍රවිඩ ජනතාවට විරුද්ධව යෙදවීම සඳහා නම් සිංහල මහා සභාව පිහිටුවීම යුක්ති සහගතය. එම සමගියේ අරමුණ ද්‍රවිඩ ජනතාවට විරුද්ධව කටයුතු කිරීම නම්, එවිට එය අධිරාජ්‍ය විරෝධී කාර්යභාරයෙන් ඉවත් කරනු ලැබූ ජාතිවාදී ව්‍යාපාරයක් වනු ඇත.

ලාංකික ජාතිය ලෙස සිංහලයන් පමණක් සැලකීමත්, ජාතික හා භාෂාමය වශයෙන්වූ සුළු ජාතීන්ගේ නීත්‍යානුකූල අයිතිවාසිකම් ගැන සැලකිලිමත්, සියළුම සිංහල ධනේශ්වර දේශපාලනඥයන්ගේ පොදු දුර්වල කමක් විය. ඇත්ත වශයෙන් ජාතිවාදී නොවූ පක්ෂ වූයේ වාමාංශික පක්ෂ පමණකි. එහෙත් ලංකා සමසමාජ පක්ෂය හා කේනමන් සංශෝධනවාදී කල්ලිය 1964 න් පසුව, විශේෂයෙන්ම 1970 සිට ජාතිවාදී මාවතට අවතීර්ණ විය. එක්සත් ජාතික පක්ෂය, ශ්‍රී ලංකා නිදහස් පක්ෂය, ලංකා සමසමාජ පක්ෂය, මහජන

එක්සත් පෙරමුණ කේනමන් සංශෝධනවාදී කල්ලිය මොනයම්ම හෝ ද්‍රවිඩ ප්‍රදේශයක හෝ ආසනයක් දිනා ගැනීම ලාංකිකයෙක් හඳේ පය තැබීම තරමටම දුර්ලබ වූවකි. ජාතිවාදී මගක් ගැනීම හේතු කොටගෙන ලංකාවේ දේශපාලනය අන්තිමේදී අතිශයින්ම ඛේදජනක තත්ත්වයකට පත්වීම ගැන ප්‍රශ්නයක් ඇති විය හැකි නොවේ. යුද්ධ කරන හැම කණ්ඩායමක්ම ඔවුනොවුන් මත තබනවාට වැඩි විශ්වාසයක් අධිරාජ්‍යවාදී ස්වාමිවරුන් මත තැබූහ. එය නැවතත් බෙදු පාලනය කිරීමේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියෙහි ජයග්‍රහණය පිළිබඳ ප්‍රශ්නයකි. එකල බ්‍රිතාන්‍යයන්ට අයත්වූ ''ටයිම්ස් ඔෆ් සිලෝන්'' ජී.ජී. පොන්නම්බලම්ට හා ඔහුගේ පණහට පණහේ ඉල්ලීමට මුළුමණින්ම සහයෝගය දීම සැලකිය යුත්තකි. ලිහිල් වචන වලින් දක්වතොත් මේ ඉල්ලීමෙ අදහස නියෝජිතයන් 100කින් යුත් රාජ්‍ය මන්ත්‍රණ සභාව සඳහා ඡන්ද කොට්ටාශ වෙන් කිරීම තුළින් මන්ත්‍රී වරුන් පණහක් සිංහලයන් වන අතර, ඉතිරි 50 සුළු ජාතිකයන් අතර බෙදහල යුතු බවය. ( ලංකා ද්‍රවිඩයන්ට 25ක් සහ ඉතිරිය අනෙක් සුළු ජාතිකයන් සඳහා ) මෙම ඛේදජනක ගැටුම තුළින් ද්‍රවිඩ සුළු ජාතිකයන් පරාජිතයන්ගේ තත්වයට පත්විය. ද්‍රවිඩ සුළු ජාතිකයන්ට දී තිබූ සියලුම මට්ටම් වල පොරොන්දු ඉවත දමා අන්තිමේදී දෙවන ලෝක යුද්ධය අගදී ඇතිවූ වෙනස් වාතාවරණය යටතේ, බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීහු ද්‍රවිඩයන් නොසලකා හරිමින්, මහජාතිය වන සිංහලයන් සමග ගිවිසුමකට පැමිණීමට තීරණය කළහ. පොදු ඉල්ලීමක පදනමේ සිට අධිරාජ්‍යවාදීන්ට විරුද්ධව සිංහල සහෝදරයින් සමග එකඟත්වයකට පැමිණ, එකම බලවේගයක් වශයෙන් ක්‍රියාකිරීමට ද්‍රවිඩ නායකයින්ටත් හැකිවූයේ නම්, මොනතරම් යහපත් තත්වයක් උද්ගතවීමට ඉඩ තිබුණාද? එහෙත් එවැනි දෙයක් කිරීමට ජාතීන් දෙකේම ධනේශ්වර නායකයින් තුළ දක්ෂතාවයක් නොවිය. ජී.ජී. පොන්නම්බලම්ගේ හා පසු කළක ඔහුගේ ගෝලයා වූ ඇස්.ජේ.වී. චෙල්වනායගම්ගේ නම් ඉතිහාස ගතවන්නේ, ද්‍රවිඩ ජනතාව නොමග යවා, තවමත් අඳුරේ අතපතගාන තත්වයට පත්කොට දේශපාලන වන කතරක මංමුලාවට ඇද දැමූ පුද්ගලයන් දෙදෙනෙකු ලෙසිනි. මෙය සිංහලයන් අතර සිටින ජාතිවාදී නායකයින්ට නිදහසට කරුණක් නොවේ. එහෙත් සුළු ජාතියක් වීමෙන් වැඩි දෙයක් නැතිවීමට ඇති නිසා ද්‍රවිඩ නායකත්වය මෙම තත්වයට වැඩිපුර වගකිවයුතු වූ අතර, වඩා දූර දර්ශී විය යුතුව තිබුණි.

මේ අතර තවත් ජාතිවාදී සාධකයක් තීරයට ඇතුල්වී තිබුණි. 1929-31 දක්වා වූ ලෝක ආර්ථික අර්බුදයේ බලපෑම් ලංකාවටද දැනුණි. රබර් මිළ එහි අවම තත්වයට බැස්සේය. ධනය විශාල ප්‍රමාණයක් නැති විය. මුල් වතාවට රැකිරක්ෂා නැති කම සිංහලයන් අතර දරුණු ප්‍රශ්නයක් බවට පත්විය. රක්ෂා වියුක්ත සිංහලයෝ, රැකියාව පිළිබඳව සම්පූර්ණ සහතිකයක් තිබූ වතුකරයේ ඉන්දියානු කම්කරුවන් දෙස සතුරු බැල්මක් හෙළුහ. මේ තත්වයෙන්



ප්‍රයෝජන ගත හැකි, එහි පවත්නා අර්බුදකාරී ස්වරූපය මුලින්ම දුටුවේ ඒ.ඊ. ගුණසිංහය. ඔහු වඩ දිය තත්වයක් ඇති කරන තරමට ඉන්දියානු විරෝධී කැළඹිලි රැල්ලක් නැංවීය. ඔහු ඉන්දියානු කම්කරුවන් ආපසු යවන ලෙස ඉල්ලා සිටියේය. එයින් සිදුවූයේ ඉන්දු ලංකා ප්‍රශ්නය නමින් හැඳින්වෙන ගැටළුව බිහි වීමය. දෙවන රාජ්‍ය මන්ත්‍රණ සභාව ලංකාවේ රැකියාවේ නියුතු ඉන්දියානු කම්කරුවන්ගෙන් කොටසක් ආපසු යැවීමේ යෝජනාවක් විවාද කර සම්මත කරගන්නා ලදී. එකල රාජ්‍ය මන්ත්‍රණ සභාවේ සිටි ඇන්.ඇම්. පෙරේරා, පිලිප් ගුණවර්ධන යන සමසමාජ නිඹුල්ලු ''වැඩකරන ජනතාවට ජාතිවාදී සීමාවක් නැත'' යි යන පක්ෂයේ නිල ප්‍රකාශනයට පිටුපායමින්, මෙම යෝජනාවට පක්ෂව ඡන්දය දුන්බව මෙහිදී සඳහන් කිරීම වැදගත්ය. ඉන්දියානු විරෝධය ලංකාවේ දේශපාලනයෙහි සැලකිය යුතු සාධකයක් බවට පත්විය. යුද්ධයෙන් පසු කාලයේ ඩී.ඇස්. සේනානායක විසින් මෙය වාමාංශික ව්‍යාපාරයට පහර දීමට පහසු ආයුධයක් කර ගත්තේය.

දෙවන ලෝක යුද්ධය ආසන්නයේ ඉන්දියානු ජාතික සංගමය ආණ්ඩුවක් පිහිටුවීමට එකඟවීමෙන් පසුව 1940 දී, පණ්ඩිත නේරු-ඉන්දුලංකා ප්‍රශ්නය නිරාකරණය කිරීමට හැකිදැයි බැලීම සඳහා ලංකාවට පැමිණියේය. එහෙත් ඔහු මෙහිදී සාර්ථකත්වයක් ලැබුවේ නැත. ලංකාවෙන් පිටත්ව යාමට පෙර නේරු ලංකාවේ සිටි ඉන්දියානු ජාතිකයින්ට ලංකා-ඉන්දියානු සංගමය තුල සංවිධානය වන ලෙස උපදෙස් දුන්නේය. එය අතිශයින් හානි කර වූත් වඩාත් ඛේදජනක වූත් උපදෙසකි. තමන්ගේම වූ සංවිධාන පිහිටුවා ගන්නා ලෙස වැරදි අන්දමින් මග පෙන්වනු නොලැබුවේ නම්ද, මෙය හේතුකොට ගෙන ඔවුන් ලංකාවේ වාමාංශික හා ප්‍රගතිශීලී ව්‍යාපාරයේ ප්‍රධාන ගමන් මාර්ගයෙන් කපා ඉවතට ඇද නොදමන ලද්දේ නම්ද, මෙම ඉන්දියානු සම්භවයකින් යුක්ත වූ කම්කරුවන් කිසිදක සේනානායකගේ හස්තයට ගොදුරුනොවන අතර, සිංහල කම්කරුවන්ගෙන් සහ ගොවීන්ගෙන් ඔවුන් වෙන් කර, තනිකර තැබීම සඳහා වූ ඔහුගේ උත්සාහයද කිසිදාක හෝ සාර්ථක නොවනු ඇත.

ඉන්දු ලංකා ප්‍රශ්නයේ වැදගත්කම මතුවන්නේ ඊට දස ලක්ෂ සංඛ්‍යාත ඉන්දියානු සම්භවයක් ඇති ජනතාවක් සම්බන්ධ වීමේ සාධකය මත නොවේ එහෙත් මේ ජනතාවගෙන් වැඩිම කොටස ලංකාවේ වැඩ කරන පංතියේ විශාල කොටසක් වන අතර, ඊටත් වඩා වැදගත් වන්නේ වර්තමාන ලංකාවේ සෞභාග්‍යය කෙරෙහි වඩාත්ම බලපාන කර්මාන්තයක නියැලී සිටීමේ සාධකය නිසාය, වාමාංශික ව්‍යාපාරයට අවබෝධ කරගත නොහැකි වූයේ වී නමුත් ඩී.ඇස්. සේනානායක මෙය ජාතික ප්‍රශ්නයක් නොව, පංති ප්‍රශ්නයක් බව නිවැරදිව දුටුවේය. මෙය ඉන්දියානු සම්භවයක් ඇති වතු කම්කරුවන් ඒකරාශී වූ විට මහා විප්ලවීය බලවේගයක් බවත් ඒ නිසාම ඔහුගේ සතුරන් බවත්

ඔහුතේරුම් ගත්තේය.

1947 පාර්ලිමේන්තු මැතිවරණයේදී මේ කම්කරුවන් විසින් ඔවුන්ගේ සංවිධානය වු ලංකා ඉංදියානු සංගමය මගින් ජයග්‍රහණයෙන් පසුව එක්සත් ජාතික පක්ෂ විරෝධීව සිටි ඔවුන්ගේ නියෝජිතයන් හත් දෙනෝකු තෝරා පත් කිරීමෙන් සහ අනෙක් ඡන්ද කොට්ඨාශවලද එක්සත් ජාතික පක්ෂ විරෝධී අපේක්ෂකයන් විශේෂයෙන් වාමාංශික අපේක්ෂකයන් විශාල සංඛ්‍යාවක් ජයග්‍රහණය කරවීමට උදව් කිරීමෙන් ඔහුගේ අවබෝධය තහවුරු විය 1947 මහ මැතිවරණයේ උණුසුම යාමටත් පෙර පැවති මහනුවර අතුරු මැතිවරණයේදී, අතර මැද තිබූ ඉන්දියානු ඡන්ද මගින් එක්සත් ජාතික පක්ෂ අපේක්ෂකයා පරදවා ටී.බී. ඉලංගරත්න ජයග්‍රහණය කරවීමෙන් ඉරණම විසඳුණි. එය නැවතත් සිදුනොවන බවට ඩී.ඇස්. සේනානායක වගබලා ගත්තේය.

1948 දි ඔහු පුරවැසි පණත ඉදිරිපත් කළ අතර ඒ හේතුවෙන් ලංකා පුරවැසියන් වීමට කැමතිවූ ඉන්දියානු හා පකිස්ථාන් සම්භවයක් ඇති ජනතාවට දැඩි පරීක්ෂණ වලට භාජනය වීමට සිදුවිය. ඉතා ස්වල්ප දෙනෙකුට පමණක් සමත් වියහැකි ලෙස පරීක්ෂණ සැලසුම් කර තිබුණි. ඒ සමගම පුරවැසියන්ට පමණක් ඡන්ද බලය හිමිවන බවට නියෝගයක් පනවන ලදී. එක පහරින්ම ඉන්දියානු සම්භවයක් ඇති කම්කරුවෝ පුරවැසිකම හා ඡන්ද අයිතිය යන දෙකම අහිමි වු රටක් නැති අසරණයන්ගේ තත්ත්වයට පත්වූහ. ඔවුහු ඉන්දියාවේ හෝ ශ්‍රී ලංකාවේ හෝ පුරවැසියෝ නොවූහ. ලංකා ඉන්දියානු සංගමය සංකේත සත්‍යග්‍රහයකට වඩා ප්‍රබල විරෝධය පෑමක් සංවිධානය කිරීමට අසමත් විය. වාමාංශික ව්‍යාපාරය ඔවුන්ගේ සදාකාලික ලජ්ජාවට හේතුවන පරිදි මුලුමණින්ම අක්‍රීයව සිටියේය ඩී.ඇස්. සේනානායක ප්‍රතිගාමීත්වයට ලේ සෙලවීමකින් තොර ජයග්‍රහණයක් ලබා දුනි.

මදක් ආපස්සට යමු. යුද්ධ දෙක අතර කාලයේදී ලංකාවේ මාක්ස්වාදී අදහස් පැතිරිණ. රුසියාවේ ඔක්තෝබර් විප්ලවය බ්‍රිතාන්‍ය විශ්ව විද්‍යාල තුල පවා බලපෑමක් ඇතිකල අතර, එම විශ්ව විද්‍යාල වලදී මාක්ස් වාදය සමග සම්බන්ධ වූ ලාංකීය ශිෂ්‍යයින් විසින් මෙම අදහස් ලංකාවට ගෙන එන ලදි. මේ අදහස් වල බලපෑම නිසා 1934 දී සූරිය මල් ව්‍යාපාරය ඇරඹුණි. මෙය ජාතික වාදීන්, අධිරාජ්‍ය විරෝධීන්, සමාජවාදීන් සහ කොමියුනිස්ට් වාදීන් අතර ලිහිල් එකතුවත් ඇති කලේය. නොවැම්බර් 11 ද යුද්ධ සාමදාන දිනයෙහි පොපිමල් විකිණීම විවෘත අධිරාජ්‍යගැති ක්‍රියාවක් විය. එබැවින් සූරියමල් ව්‍යාපාරයට සම්බන්ධ වූ අය එම දිනයේම ඊට විරුද්ධව සූරියමල් විකිණීමේ ව්‍යාපාරයක් සංවිධානය කළහ. අවුරුදු පතා මෙම ව්‍යාපාරය දෙවන ලෝක යුද්ධයේ මුල් අවුරුදු දක්වා අඛණ්ඩව පැවතුණි.

මේ අතර 1935 දී ලංකාවේ ප්‍රථම වාමාංශික පක්ෂය වූ ලංකා සමසමාජ පක්ෂය පිහිටුවන ලදී. නායකයන්ගෙන් වැඩිදෙනා විදේශීය විශ්ව විද්‍යාල වලින්



අධ්‍යාපනය ලබා ආපසු පැමිණි අය වූහ. ඔවුන් හැම දෙනෙක්ම දියුණු උන්නතිකාමී අදහස් දැරූහ. බොහෝ දෙනෙක් විදේශයන්හිදී මාක්ස්වාදය වැලඳගත්තවුන් යැයි කියාගත්හ. ඔවුන්ගෙන් සමහරෙක් සැඟවුන ට්‍රොට්ස්කිවාදීන් වූහ. නායකත්වයේ ඇතුලත සැඟවුන ට්‍රොට්ස්කිවාදී අරටුවක් තිබූ බවට සැකයක් නැත. ඇතැම් විට මෙය ඔවුන් කොමියුනිස්ට් පක්ෂයක් ලෙස සංවිධානය නොවීමේ සාධකය වශයෙන් සැලකිය හැක.

කෙසේ හෝ ආරම්භයේදී ලංකා සමසමාජ පක්ෂය මහා බ්‍රිතාන්‍යයේ හෝ ඉන්දියාවේ කොමියුනිස්ට් පක්ෂ හා සමීපව කටයුතු කළේය. ඉන්දියාවේ කොමියුනිස්ට් පක්ෂය එහි ද්‍රවිඩ කාර්යධරයන්ගෙන් කොටසක් ලංකාවේ ද්‍රවිඩ වැවිලිකරුවන් අතර වැඩ කිරීමට එවූහ. එසේම ලංකා සමසමාජ පක්ෂය සෝවියට් සංගමයට ආධාර කළ අතර, එහි ප්‍රථම සභාපති නීතිඥ කොල්වින් ආර්. ද සිල්වා මුල් අවුරුදු කීපය තුල කළ කථා එක්සත් සමාජවාදී සෝවියට් රුසියාව පිළිබඳ පැසසුම් වලින් පිරී තිබුණි. මේ කාලය තුලදී ලංකා සමසමාජ පක්ෂය අධිරාජ්‍ය විරෝධී සහ සමාජවාදී අදහස් විශාල වශයෙන් ප්‍රචාරය කරන ලදී. එහි නායකයන් දෙදෙනෙකු වන ඇන්.ඇම්. පෙරේරා සහ පිලිප් ගුණවර්ධන දෙවන රාජ්‍ය මන්ත්‍රණ සභාවට තේරී පත්වූහ.

එහෙත් බ්‍රිතාන්‍ය පාලනය යටතේ පවා කම්කරුවන්ගේ, ගොවීන්ගේ ආණ්ඩුවක් වෙනුවෙන් ඉදිරිපත් කළ සටන්පාඨය තුලින්ද, සියලුම වෘත්තීය සමිති වැඩ ප්‍රතිසංස්කරණවාදී ක්‍රියා ලෙස හෙලා දැකීමෙන්ද, ඔවුන්ගේ නිකාය වාදය ප්‍රදර්ශණය කරන ලදී. ඇත්තෙන්ම මේ මහත්වරුන්ගෙන් වැඩිදෙනා ඔවුන් කියා සිටි පරිදි විප්ලවවාදීන් නොවූ අතර, සුළු ධනේශ්වර උන්නතිකාමීන් වූහ. ඔවුන්ගේ නිකායවාදය හා අතිවාමාංශික සටන්පාඨ, ඇත්තෙන්ම එවකට සිටි ටී.බී. ජයතිලක සහ ඩී.ඇස්. සේනානායකගේ නායකත්වයෙන් යුක්ත වූ ලාංකික ධනේශ්වර දේශපාලනඥයන් විසින් ප්‍රදර්ශනය කරන ලද, වහල්වූත්, මුළුමණින්ම අධිරාජ්‍යගැති වූත්, මානසික ස්වභාවයට ප්‍රතික්‍රියාවක් විය. ඔවුහු ලංකාවේ අධිරාජ්‍ය විරෝධී ධනේශ්වර කණ්ඩායමක් නැතිවීමේ හිස්තැන් පිරවූහ. ඔවුහු ලංකාවේ නේරුලා හා බෝෂ්ලා වූහ. ඔවුහු ඉන්දීය ජාතික සංගමයේ වාමාංශිකයන් සමග හැඩගැසුනහ. ඉන්දියානු ජාතික සංගමයේ වාමාංශයේ විප්ලවකාරියක් වු කමලාදේවී චට්ටෝපද්‍යාය ලංකා සමසමාජ පක්ෂයේ ආගන්තුකයෙකු මෙන් ලංකාවේ සංචාරයේ යෙදුණි. 1940 දී ලංකාවට පැමිණි නේරු පවා, ලංකා සමසමාජ පක්ෂය විසින් ගෝල්පේස් රැස්වීමකදී තම අමුත්තකු වශයෙන් පිළිගන්නා ලදී. අද ආපසු හැරී බලන කල ලංකා සමසමාජ පක්ෂය විසින් ම හෙලිදරව්කර ඇති පරිදි, ලංකා සමසමාජ පක්ෂයේ නායකයින් විප්ලවවාදීන් නොවූහ. ඔවුහු විප්ලවවාදීන් ලෙස වෙස්මුහුණු පැළඳගත් සුළු ධනේශ්වර උන්නතිකාමීන් වූහ එහෙත් ඔවුන්ට ඒ සමගම ජනතාවගෙන් විශාල

පිරිසක් මුලා කිරීමට හැකිවිය. 1939-40 සෝවියට් හා පින්ලන්ත යුද්ධය සිදුවූ කාලයේ ලංකා සමසමාජ පක්ෂයේ ප්‍රථම දෙදරීම සිදුවිය. මේ කාලයේදී අධිරාජ්‍යවාදීන් හා ප්‍රතිගාමීන් විසින් මුදාහල සෝවියට් විරෝධී උන්මාදය විසින්, ලංකා සමසමාජ පක්ෂයේ නායකත්වය තුල සැඟවී තිබූ ට්‍රොට්ස්කිවාදය මතුකරන ලදී. ඔවුහු මධ්‍යම කාරක සභාව තුල සාකච්ඡාවට ඉඩනොදී තුන්වන කොමියුනිස්ට් ජාත්‍යන්තරය හා සෝවියට් සංගමය හෙලාදකින යෝජනාවක් සම්මත කරගත්හ. මේ යෝජනාවට විරුද්ධවූවන් නොයෙක්, නොයෙක් හේතු දක්වමින් පක්ෂයෙන් නෙරපන ලදී. මෙම බෙදීම ලාංකීය ව්‍යාපාරයේ ප්‍රතිපත්තීන් හා උපායයන්ට සම්බන්ධ නොවූ කෘතිම හේතු පදනම් කොටගත්තක් බව පෙන්වා දීම අවශ්‍යය. මේ කාලයේ සිට ලංකා සමසමාජ පක්ෂය ට්‍රොට්ස්කිවාදයේ ප්‍රතිවිප්ලවීය දර්ශනයට ඇති සම්බන්ධය ප්‍රසිද්ධියේම ප්‍රකාශකරන ලදී. ලංකාවේ ඇතිවූ සියලුම ට්‍රොට්ස්කිවාදී කණ්ඩායම් අවසානයේදී ප්‍රතිවිප්ලවවාදීවූ බව මෙහිදී වාර්තා කිරීම අත්‍යාවශ්‍යය. ලංකාවේ ට්‍රොට්ස්කිවාදයේ ඊනියා පියා වූ පිලිප් ගුණවර්ධන ඔහුගේ දේශපාලන ජීවිතය අවසන් කලේ එක්සත් ජාතික පක්ෂය තුරුල්ලේය. ඇන්. ඇම්. පෙරේරාගේ නායකත්වයෙන් යුත් ට්‍රොට්ස්කිවාදයේ ප්‍රධාන කොටස ජාතික ධනේශ්වර පංතියට යටත්වූ අතර, වැඩකරන පංතියේ ද්‍රෝහීන්වී හැම විප්ලවීය ක්‍රියා මාර්ගයකටම පිටුපෑහ. 1964 දී ලංකා සමසමාජ පක්ෂයෙන් කැඩී ගිය කණ්ඩායමේ එඩ්මන් සමරක්කොඩි හා මෙරිල් ප්‍රනාන්දු යන මන්ත්‍රීවරු දෙදෙන, 1965 දී එක්සත් ජාතික පක්ෂයට බලයට පැමිණීමට මගපාදමින්, 1964 දෙසැම්බර් මස එක්සත් ජාතික පක්ෂය සමග සභාග ආණ්ඩුව පරාජය කිරීමට ඡන්දය දුන්හ. හතරවන ජාත්‍යන්තරයේ වර්තමාන බලය ලත් නියෝජිතයෙක් වන බාලා තම්පෝ ඇමරිකන් තානාපති කාර්යාලයේ අනුග්‍රහය ලත් ආසියා පදනමේ ශිෂ්‍යත්වයක් පිලිගෙන ඇමරිකා එක්සත් ජනපදයේ චාරිකාවක යෙදුන අතර, එම අවස්ථාවේදී ඔහුගේ භාර්යාව ඊබට් පදනමේ ශිෂ්‍යත්වයක් පිට බටහිර ජර්මනියට ගියාය.

පිටමංකළ කොමියුනිස්ට්වරුන් විසින් මුලින් එක්සත් සමාජවාදී පක්ෂය පිහිටවූ අතර, 1943 දී එය ලංකා කොමියුනිස්ට් පක්ෂය බවට පත්විය. පංති සම්භවය අතින් වැඩි වශයෙන් ඉහල මධ්‍යම පංතියේ ඉතා ධනවත් වූ ලංකා සමසමාජ පක්ෂයේ නායකත්වයෙන් වෙනස් වුවද, කොමියුනිස්ට් පක්ෂයේ නායකත්වයද ඒ අයට වඩා විප්ලවවාදී නොවීය. එහි ඉහලම නායකත්වය මාක්ස්වාදී වූයේ ඔවුන් විශ්ව විද්‍යාල අධ්‍යාපනය ලැබූ කාලයේ බැඳුන මහා බ්‍රිතාන්‍ය කොමියුනිස්ට් පක්ෂය තුළිනි. එය කෘෂොප්ට පෙර පවා සංශෝධනවාදී විය. ප්‍රතිඵලය වූයේ මහා බ්‍රිතාන්‍යයේ "සහෝදරවරුන්ගෙන්" උගත් සංශෝධනවාදී ප්‍රතිපත්ති හා වැඩ ශෛලීන් "මේ කොමියුනිස්ට්වාදීන්" විසින් ලංකාවට ගෙන ඒමය.



කොමියුනිස්ට් පක්ෂය ලංකා සමසමාජ පක්ෂයේ වාමාංශික නිකායවාදී ට්‍රොට්ස්කිවාදයට ප්‍රතික්‍රියාවක්ලෙස, දක්ෂිණාංශික ප්‍රතිසංස්කරණවාදී ස්වරූපයක් ගනිමින් අතිශයින් හාස්‍යජනක තත්වයන්ට පත්විය. එහෙත් වැඩිකල් යාමට පෙර ලංකා සමසමාජ පක්ෂය හා කොමියුනිස්ට් පක්ෂය යන දෙකම ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ-පාර්ලිමේන්තුවාදයේ අතකොලුවක් හැටියට පිරිහීමට පත්විය. ලංකා සමසමාජ පක්ෂය මුලින්ම රාජ්‍ය සභා මැතිවරණයට තරඟ කරද්දී, මන්ත්‍රණ සභාව ඔවුන්ගේ ප්‍රතිපත්ති ප්‍රචාරය කිරීම සඳහා වූ වේදිකාවක් කර ගැනීමට අදහස් කරන බව ප්‍රකාශ කළ බැව් සත්‍යයකි. එහෙත් මේ දෙපක්ෂයේම නායකයින් දශක කීපයක් තුල ධනේශ්වර පාර්ලිමේන්තු දේශපාලනය කිරීමෙන් මතුවූ දූෂණවල ප්‍රතිඵලයක් වශයෙන්, මේ යහපත් අරමුණු හමස් පෙට්ටියට ඇද දමනු ලැබීය. ඔවුන් තුල කුමන හෝ විප්ලවීය හැකියාවක් ඉතිරිවී තිබුනේ නම්, 1956 බණ්ඩාරනායක මහතාගේ දීපව්‍යාප්ත පාර්ලිමේන්තු ජයග්‍රහණය විසින් එයද විනාශකර දමන ලදී. පක්ෂ දෙකම හීලෑ පාර්ලිමේන්තුවාදී පක්ෂ බවට පරිවර්තනය වීම සම්පූර්ණ විය. එසේම පක්ෂ දෙකම ජාතිවාදී සටන් පාඨ ඉදිරිපත් කරන මට්ටමට පිරිහිණි. (1956 ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ දක්ෂිණාංශිකයන්ගේ මසල වඩේ සටන් පාඨය පිලිගැනීම මෙයට නිදසුනකි.) මේ පක්ෂවල නායකයෝ මිනිසා සහ දෙවියා යන දෙදෙනා මුළා කිරීමට තැත් කරමින්, තමන් ආගමික කටයුතු වලට සහභාගී වන අතර, බුදුපිළිම වලට මල් පූජා කරද්දී ඡායාරූප ගනු ලැබීමට මහත් අභිරුචියක් දක්වති.

මේ පොත් පිංචේ අරමුණ මේ පක්ෂ තුල ඇතිවූ විවිධ දෙදරීම් මෙන්ම දේශපාලන ප්‍රතිපත්තීන් පිළිබඳ පිණුම් හා කරණම් විස්තර කිරීම නොවේ. එයට වෙනම අවධානය යොමුකල යුතුවඇත. එහෙත් 1964 දී කේනමන් සංශෝධනවාදීන්, ලංකා සමසමාජ පක්ෂය සමග හවුල් වී ශ්‍රී ලංකා නිදහස් පක්ෂයට යටත් වෙමින් පක්ෂ තුනේ එක්සත් පෙරමුණක් ගොඩනැගූ අතර, කොමියුනිස්ට් පක්ෂය ඇතුලේ වූ විප්ලවීය කොටස් මාක්ස්-ලෙනින්වාදී මාඕ සේතුං චින්තනය පදනම් කරගත් ලංකා කොමියුනිස්ට් පක්ෂය ලෙස නැවත ප්‍රති සංවිධානය වූ බව මෙහි දී සඳහන් කිරීම අත්‍යාවශ්‍යය.

පළමුවැනි ලෝක යුද්ධය මෙන් නොව දෙවැන්න ලංකාවට බොහෝ සෘජු බලපෑම් ඇති කළේය. පළමුවෙන්ම ජපානය යුද්ධයට සම්බන්ධ වීමත් සමග ලංකාව කෙලින්ම යුද්ධ කටයුතු මෙහෙයවන මධ්‍යස්ථානයක් බවට පත්විය. වාසනාවකට මෙන් ජපනුන්ගේ එක් ගුවන් ප්‍රහාරයක් පමණක් ලබා බේරෙන්නට හැකි වුවත්, ලංකාව මවුන්ට්බැටන්ගේ අග්නිදිග ආසියාවේ යුධ මූලස්ථානය බවට පත් කෙරිණ. මෙම මූලස්ථානය මහනුවර පිහිටුවා තිබිණ. පොදුරාජ්‍ය මණ්ඩලයේ සේනාංක ලංකාවේ රඳවා තැබීම හා දිවයිනේ සිට බෙදහරිනු ලැබූ අති විශාල අධිරාජ්‍යවාදී යුද්ධ වියදම් නිසා, කෘතීම

සෞභාග්‍යයක් මතුවිය. රැකියා වියුක්තිය අතුරුදහන් විය. වැඩිදෙනෙකුට රැකියා ලැබුනු අතර, වැඩි වශයෙන් ඒවා යුද්ධයට සම්බන්ධ වූ රැකියා විය. තේ සහ රබර් වලට, විශේෂයෙන්ම රබර් වලට හොඳ මිළ ගණන් ලැබුණි.

එය කොතරම් වීද යත් යුද්ධ අවශ්‍යතාව හා හදිසි ලාභය සඳහා විනාශකාරී ලෙස රබර් කපන ලදී. එහෙත් ලංකාව තමන් නිපදවූ රබර් සඳහා නියම වටිනාකම නොලැබුවාය. බ්‍රිතාන්‍යය එයින් වැඩි හරියක් නියමිත මිළකට ගත් අතර, මුදල් පසුව ගෙවීම සඳහා ලන්ඩනයේ අපේ ගිණුමට බැරකරන ලදී. ඩී.ඇස්. සේනානායක විසින් මෝඩ අන්දමින් ආහාර ද්‍රව්‍ය ආනයනය තුළින් සුළු කලකදී ඉවරකර දමන ලද මෙය රන්පවුම් ශේෂය යනුවෙන් හැඳින්වින.

ඇමති මණ්ඩලය බ්‍රිතාන්‍ය ආණ්ඩුව සමග පක්ෂපාතීව සහයෝගයෙන් කටයුතු කළේය. 1941 දි ලංකා සමසමාජ පක්ෂය හා එක්සත් සාමාජවාදී පක්ෂය (කොමියුනිස්ට් පක්ෂයේ කලින් නම) තහනම් කළ අතර, ඒවායේ නායකයන් රඳවා තැබීම හෝ නඩු පැවරීම සිදු කරන ලදී. 1942 දී ලංකා සමසමාජ පක්ෂයේ නායකයෝ සිරගෙය බිඳගෙන ඉන්දියාවට පළා ගියේ එහි විප්ලවය මෙහෙයවීමට විය යුතුය. ලංකා සමසමාජ පක්ෂය විසුරුවාහල ඔවුහු ඉන්දියාවේ ට්‍රොට්ස්කිවාදීන් පිරිසක් සමග ඉන්දියාව, බුරුමය සහ ලංකාවේ බෝල්ෂේවික්-ලෙනිනිස්ට් පක්ෂය සෑදුවෝය. උසස් අපේක්ෂාවන් සහිත නාම පුවරුවක් බවට සැකයක් නැති නමුත්, එය ඔවුන් යථාර්ථයට පිටු පා සිටීම ප්‍රදර්ශනය කරයි. ඉන්දියාවේ දී ඔවුන් සිරභාරයට ගෙන ලංකාවට ආපසු ගෙන්වා යුද්ධය අවසානයේදී නිදහස් කරනු ලැබීය. එවිට ඔවුහු ලංකා සමසමාජ පක්ෂය නැවත පණගැන්වූහ. ලංකා සමසමාජ පක්ෂය පිලිප් ගුණවර්ධන හා ඇන්.ඇම්. පෙරේරාගේ නායකත්වයෙන් නැවත ආරම්භ කරන ලදී. බෝල්ෂේවික්-ලෙනිනිස්ට් පක්ෂය කොල්වින් ආර්. ද සිල්වා සහ ලෙස්ලි ගුණවර්ධනගේ නායකත්වයෙන් දිගටම ක්‍රියාත්මක විය. 1951 දී නැවත සමගියක් ඇති වූ නමුත්, පිලිප් ගුණවර්ධන යළි බිඳී ගොස් විප්ලවකාරී ලංකා සමසමාජ පක්ෂය ගොඩ නැගීය. මේ අතර කොමියුනිස්ට්වාදීන් සෝවියට් සංගමය යුද්ධයට ඇතුල්වීම හා හිට්ලර්ගේ ජර්මනියට විරුද්ධව ලද ජයග්‍රහණයෙන් ඇතිවූ වාසිදායක තත්ත්වය ප්‍රයෝජනයට ගනිමින් 1943 දී කොමියුනිස්ට් පක්ෂය ලෙස මතුවූහ.

යුද්ධය පැවති අවුරුදු වල ලංකාවේ ප්‍රබල වෘත්තීය සමිති ව්‍යාපාරයක්ද මතු විය. මෙය එක් අතකින් එම අවුරුදු වල ශ්‍රමය හිඟ වීමේ ප්‍රතිඵලයක් වශයෙන් කම්කරුවන් ලබාගත් වාසිදායක තත්ත්වය නිසා හා අනෙක් අතින් වාමාංශික පක්ෂ විසින් දෙනු ලැබූ නායකත්වය නිසා සිදුවූවකි. වෘත්තීය සමිති ව්‍යාපාරයේ ඒ.ඊ. ගුණසිංහ දූරු නායකත්වය සාර්ථක අභියෝගයන් මගින් ඉවත් කරනු ලැබූ අතර ගුණසිංහ, පන්ති සහයෝගිතාවය පතන තුච්ච හොරිකඩයෙකු බව හෙළිදරව් විය.



කොමියුනිස්ට්වරු 1940 දී ලංකා කම්කරු සමිති සම්මේලනය ආරම්භ කළහ. එය යුද්ධය පැවති අවුරුදුවල නාගරික කම්කරුවන්ගේ ප්‍රධාන බලවේගය විය. යුද්ධය අවසානයේ නිදහස්වූ ලංකා සමසමාජ පක්ෂ නායකයෝ, ලංකා කම්කරු සමිති සම්මේලනයට විරුද්ධව ලංකා කම්කරු සම්මේලනය තමන් අතට ගෙන, එය ඔවුන්ගේ වෘත්තීය සමිති මධ්‍යස්ථානය ලෙස දියුණු කළහ. එසේ කිරීමේ දී ඔවුහු වෘත්තීය සමිති ක්‍රියාකාරීත්වය පිළිබඳ සමසමාජ වාදීන්ගේ කලින් තිබූ න්‍යායට පිටුපෑහ.

1939-40 දී ඉන්දු ලංකා ප්‍රශ්නය විසඳීමට නේරු විසින් දරන ලද අසාර්ථක උත්සාහයට අනුව, ඔහුගේ උපදෙස් පරිදි මද්‍රාසි රජය විසින් ඉන්දියානු කම්කරුවන් ලංකාවට සංක්‍රමණය වීම මුළුමණින්ම තහනම් කිරීමට ගත් ක්‍රියාමාර්ගය නිසා, වතු කම්කරුවන් වෘත්තීය සමිති තුළ සංවිධානය වීමට තල්ලුවක් ලැබිණ. එසේ වූයේ වතු හිමියන්ට දූන් කලින් කලාක් මෙන් තමන්ට කීකරු නොවන ශ්‍රමිකයින් ඉන්දියාවට යවා ඔවුන්ගේ හිතුමතයට අළුත් ශ්‍රමිකයින් ගෙන්වාගත නොහැකිවීම නිසාය. නටේස් අයියර්ගේ ඉන්දියානු කම්කරු සම්මේලනය සහ ලංකා ඉන්දියානු සංගමයේ කම්කරු සමිතිය මෙහි ප්‍රධාන කරඟකරුවන් වූහ. පසු කාලයකදී ලංකා කම්කරු සංගමය බවට පත් වූ දෙවැන්න මෙයින් ජය ලැබීය. එහෙත් එහිද බිඳීයාමක් ඇතිවූ අතර, ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු සංගමය බිහිකිරීම සඳහා එක් අංශයක් වෙන්ව ගියේය. බෙදීම් ඇති වූයේ නායකයින් අනුව යාමේ පදනම මත මිස, කිසියම් හෝ හඳුනාගත හැකි ප්‍රතිපත්තිමය වෙනස්කම් නිසා නොවේ. කොටස් දෙකේම නායකත්වය ධනේශ්වර වූ අතර, පංතියක් වශයෙන් හා ජාතික කණ්ඩායමක් වශයෙන් වැවිලි කම්කරුවන් කෙරෙහි බලපෑ ගැටළු සඳහා ඔවුන්ට විසඳුම් නොවීය.

4 වැනි පරිච්ඡේදය

# නව යටත් විජිතවාදය මතුවීම

මේ අතර යුද්ධය නිසා කාලසීමාව දික්කරනු ලැබූ දෙවන රාජ්‍ය මන්ත්‍රණසභාව තවදුරටත් ප්‍රතිසංස්කරණ ඔස්සේ යමින්, ඇස්.ඩබ්ලිව්.ආර්.ඩී. බණ්ඩාරනායක විසින් ඉදිරිපත් කරන ලද වඩාත් පුළුල් ප්‍රමාණයේ නිදහස් බලතල ලබාදෙන ලෙස ඉල්ලන ප්‍රතිසංස්කරණ යෝජනාවක් සම්මත කළාය. මෙම යෝජනාව මගින් රාජ්‍ය භාෂාව වූ ඉංග්‍රීසි වෙනුවට සිංහල හා දෙමළ යන භාෂා දෙක යොදන ලෙස ඉල්ලා සිටි බව සඳහන් කිරීම, අද තත්ත්වයේ සිට ආපසු හැරී බලන විට වැදගත් වේ.

කෙසේ වෙතත් බ්‍රිතාන්‍යයෝ වැඩිදුර ප්‍රතිසංස්කරණයන් සඳහා කරන ලද ඉල්ලීම් පිළිබඳව කරුණු විමසීම සඳහා සෝල්බරි කොමිසම පත් කළේය. ඩී.ඇස්.සේනානායක නිල වශයෙන් කොමිසම වර්ජනය කළ නමුත්, කොමසාරිස්වරුන්ට ඔහුගේ අදහස් පෞද්ගලිකව දැනුම් දුන්නේය. සෝල්බරි කොමිසමේ නිර්දේශයන් දෙස බැලිය යුත්තේ, ලෝක ඉතිහාසයේ මහත් වෙනසක් ඇති කළ දෙවන ලෝක යුද්ධය අවසානයේ දී පැවති වෙනස් වූ තත්ත්වයන් තුළය. ජර්මන් ඉතාලි හා ජපන් පැසිස්ට්වාදයේ පරාජය හා සමාජවාදී සෝවියට් සංගමය මහ බලවේගයක් ලෙස මතුවීම, ආසියාවේ ජාතික විමුක්ති ව්‍යාපාරයන්ට ඉමහත් ධෛර්යයක් ගෙනදුණි. තම යටත් විජිතවල පාලනය තව දුරටත් පැරණි ක්‍රමයටම පවත්වාගෙන යා නොහැකි බව බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදය විසින් අවබෝධ කර ගන්නට යෙදුණි. ජාතික විමුක්ති ව්‍යාපාරයන් වඩා විප්ලවීය ස්වරූපයකට වර්ධනය වීමට ඉඩහල හොත්, අධිරාජ්‍යවාදය සමග තමන්ද අතුගෑවී යාමේ අනතුර ඇති බව, බ්‍රිතාන්‍ය යටත් විජිතවල සිටි දේශීය ධනේශ්වර පංතියටද දැනෙන්නට පටන් ගෙන තිබිණ. මෙම පංතිය සමග එකඟත්වයකට පැමිණීමට බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදය තීරණය කළාය. <u>මෙසේ අධිරාජ්‍යවාදීන්ගේ කණිෂ්ඨ සහායකයන් ලෙස දේශීය ධනේශ්වර පංතිය ක්‍රියා කරමින්, ජනතාව හවුලේ සූරාකෑම සඳහා අධිරාජ්‍යවාදය හා දේශීය ධනේශ්වර පංතිය අතර ගිවිසුමකට පදනම දැමුණි.</u> බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන් යටත් විජිත වල තම ආර්ථික ආයෝජකයන්ගේ සුරක්ෂිතභාවය සහතික කිරීම වෙනුවෙන් නාමික බලයේ ස්වරූපයක් පවරා දීමට එකඟ විය.

සුළු වෙනස්කම් සහිතව පැරණි යටත් විජිත සූරාකෑම දිගටම



පවත්වාගෙන යන ලදී. සමහර අවස්ථාවල එය වඩා තියුණු වීමද සිදුවිය. එහෙත් දැන් අධිරාජ්‍යවාදීහු පසුබිමේ රැඳී සිටිති. දේශීය ධනේශ්වර පංතියට ඉදිරිපස රියදුරු අසුන දෙනු ලැබූ අතර, ඔවුහු පසුපස අසුන් ගත්හ. දේශීය වේදිකාවේ රඟන රූකඩ ස්වදේශිකයන් වුවත්, අදෘශ්‍යමාන නූල් අදින්නේ වොෂින්ටනයේ හෝ ධවල මන්දිරයේ සිටය. ඒ වනවිටත් ඇමරිකන් අධිරාජ්‍යවාදීන් විසින් ලතින්ඇමරිකානු රටවල් තුල සාර්ථක අන්දමින් ක්‍රියාත්මක කර තිබූ ක්‍රමය එයවිය. ලතින් ඇමරිකානු රටවල් නමට නිදහස් වී තිබූ රටවල් වූ අතර, එක්සත් ජාතීන්ගේ සංවිධානයේ පවා සමාජිකයෝ වූහ. එහෙත් එම රටවල් සියල්ලම සර්වබලධාරී ඩොලරයේ දැඩිපාලනයට යටවූ අතර, එහි අනසකට කීකරු වූහ. මෙය නව යටත් විජිතවාදය නමින් හඳුන්වනු ලබන ආර්ථික ආධිපත්‍යයේ විරාගත ස්වරූපයයි. 1948 දී ඉන්දියාව බුරුමය හා ලංකාව වැනි රට වල <u>"නිදහස" යන නමින් දෙනු ලැබූ ව්‍යාජ භාණ්ඩය මෙයයි.</u> 1948 දී ලංකාව යටත් විජිත තත්වයේ සිට නව යටත් විජිත පාලනයට මාරුවිය.

සෝල්බරි ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මගින් ප්‍රදානය කළ පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමය ක්‍රියාත්මක කිරීම සඳහා, 1947 දී ඩී.ඇස්. සේනානායක විසින් ඔහුගේ නායකත්වය යටතේ අලුත් පක්ෂයක් එක්සත් ජාතික පක්ෂය පිහිටුවීම පිණිස, සියලුම ධනේශ්වර පක්ෂ ජාතික සංගමය, සිංහල මහා සභාව, මුස්ලිම් සංගමය (ද්‍රවිඩ සංගමය හැර සියල්ලම) එක්සත් කරන ලදී. ඉන් පසුව එන ලංකාවේ දේශපාලන ඉතිහාසය සේනානායක හා බණ්ඩාරනායක පවුල් අතර සිදුවන සංගීත පුටු තරඟයට සමාන කළ හැක. 1947-1956 දක්වා මුල් අවුරුදු නවය තුළ සේනානායක පරපුර (පියා, පුතා සහ බෑනා) විසින් රට පාලනය කරන ලදී. 1956-1965 දක්වා ඊළඟ අවුරුදු නවය බණ්ඩාරනායක පවුලේ (ස්වාමිපුරුෂයා හා භාර්යාවගේ) වාරය විය. 1965-70 දක්වා තවත් අවුරුදු පහක් සේනානායකලා (පුතා) සෑදලය මත විය. 1970 බට්ටා ආපසු බණ්ඩාරනායකලා (භාර්යාව) දෙසට පැද්දුණේය.

සේනානායකලා හා බණ්ඩාරනායකලා අතර නැතහොත් එක්සත් ජාතික පක්ෂය හෝ ශ්‍රී ලංකා නිදහස් පක්ෂය අතර වෙනසක් නොවීය යන්නක් මෙයින් අදහස් කෙරේ. වෙනසක් තිබුණේ වී නමුත්, එය ජනතාවගේ මූලික ප්‍රශ්න විසඳීමට ප්‍රමාණවත් වන තරමේ මූලික වෙනසක් නොවීය. සේනානායකලාගේ හා බණ්ඩාරනායකලාගේ අවුරුදු 23ක ධනේශ්වර පාර්ලිමේන්තු පාලනයෙන් පසුවද, එම මූලික ප්‍රශ්න නොවිසඳී තවත් බරපතල වී ඇත. වෙනස් වචන වලින්, නියම කළ එකම ප්‍රතිකාර, පැතිදෙක විසින්ම අත්හදා බලා ඇති අතර, එකසේ අසාර්ථක වී ඇත. මේ අතර, සාමාන්‍ය මිනිසාගේ තත්ත්වය වඩාත් නරක් වෙමින් පවතී.

එක්සත් ජාතික පක්ෂය අධිරාජ්‍ය ගැති, බටහිරට ලැදි සහ ජාතික විරෝධී කොම්ප්‍රදෝරු ධනේශ්වර පංතිය නියෝජනය කරයි. එහි නායකයෝ

භාෂාව, ඇඳුම්, සිරිත් විරිත් හා සංස්කෘතිය අතින් බටහිර අනුකරණය කළහ. අපේ ආර්ථිකයේ අධිරාජ්‍යවාදී ආධිපත්‍ය දිගටම පවත්වාගෙන යාම සහතික කිරීම වෙනුවෙන්, ඔවුහු පෙනී සිටියහ. යුද්ධ කාලය තුළ හා ඉන් පසු, ව්‍යාපාරවල යෙදීමේ ප්‍රතිඵලයක් වශයෙන් ලාංකිකයන් අතේ ප්‍රාග්ධනය ඒකරාශී වීම තුලින් දෙවන ලෝක යුද්ධයෙන් පසු පළමු දශකයේදී වෙනම පංතියක් ලෙස වැඩුණු ලාංකික ධනේශ්වර පන්තිය, ශ්‍රී ලංකා නිදහස් පක්ෂය විසින් නියෝජනය කරන ලදී. ජාතික ධනේශ්වර පන්තියේ අභිලාෂය අධිරාජ්‍යවාදය වෙනුවට ජාතික ධනවාදය වර්ධනය කිරීම විය. ඒ ප්‍රමාණයට එම පන්තිය තුළ ප්‍රගතිශීලී දැක්මක් විය. එහෙත් පන්තියක් වශයෙන් ගත් කළ එයද ධනේශ්වර වූ අතර, එහි පන්ති ස්වභාවය තුළින් ගලා එන සියලුම ආකල්පයන් ප්‍රදර්ශනය කළාය. මෙය ජාතික ධනේශ්වර පන්තිය බලයෙහි රස බැලූ තුන්වන අවස්ථාව වන අතර, එහි ශ්‍රේණීන් තුළ නොවැලැක්විය හැකි වර්ධනය සිදුවී ඇත. ඔවුන්ගෙන් කොටස් කොම්ප්‍රදෝරු ධනේශ්වර පන්තිය බවට වර්ධනය වී ඇති නිසා, තව දුරටත් එක්සත් ජාතික පක්ෂය එම පන්තිය නියෝජනය වන තනි පක්ෂය නොවේ. මීට අමතරව රාජ්‍ය සංස්ථා වැඩි කිරීමේ ප්‍රතිඵලයක් වශයෙන් වෙනත් ධනපති කන්ඩායමක් වැඩී ඇත. මෙය තමන්ගේම වූ ප්‍රාග්ධනයකින් තොරව ධනවාදීන් වූ ධනපති පන්තියකි. මොවුන් වූ කලී තඩි වැටුපෙන්, දූෂණයන්ගෙන්, නිළබලයෙන්, වෙළඳ බලපත්‍ර විකිණීමෙන්, කොමිස් මුදල් ඉපයීම ආදියෙන් වාසි සලසා ගත් අළුත් රාජ්‍ය සංස්ථා අධිපතීහුය. තමන්ගේ පැවැත්ම පවතින රජය මත රඳාපවතින නිසා, ඔවුහු සියල්ලෝම බලයේ සිටින රජයට ආධාර කරති. මේ හේතුව නිසා ධනවාදය අහෝසි කිරීම සඳහා පෙනී සිටින්නේය යන අර්ථයෙන් ගත්විට, ශ්‍රී ලංකා නිදහස් පක්ෂය සමාජවාදී පක්ෂයක් යයි නම් කිරීම කිසිසේත්ම විද්‍යානුකූල නොවේ. දෙපැත්තම ජනතාව මුලා කිරීමට සමාජවාදය ගැන කථාකරන නමුත්, ධනවාදී ක්‍රමය දිගටම ගෙනයාම පිළිබඳව එක්සත් ජාතික පක්ෂය හා ශ්‍රී ලංකා නිදහස් පක්ෂය (දැන් සමගි පෙරමුණ) අතර එක්තරා ප්‍රමාණයක පොදු එකඟත්වයක් ඇත. මූලික කරුණු පිළිබඳව එබඳු වූ පොදු එකඟතාවයකින් තොරව, ධනේශ්වර පාර්ලිමේන්තු ක්‍රමයක් ක්‍රියාත්මක කරවීම අපහසුය.

අපි මේ සාමාන්‍ය අවබෝධයෙන් යුතුව 1947 ප්‍රථම පාර්ලිමේන්තු මැතිවරණයේ සිට ඇතිවූ දේශපාලන වර්ධනයන් දෙස වඩා සමීප බැල්මක් හෙලමු. එය කොමියුනිස්ට් පක්ෂය සහ ලංකා සමසමාජ පක්ෂය විසින් මෙහෙය වන ලද මැයි-ජූනි මස අතර සිදු වූ සුප්‍රකට මහා වැඩ වර්ජනය පැවති වර්ෂය විය. හවුල් කොමිටියක් මගින් නිලවශයෙන් එය මෙහෙයවූ වෘත්තීය සංගම් වූයේ, කොමියුනිස්ට් පක්ෂය මෙහෙයවූ ලංකා කම්කරු සමිති සම්මේලනය, ලංකා සමසමාජ පක්ෂය මෙහෙය වූ ලංකා කම්කරු සම්මේලනය සහ කොමියුනිස්ට්



පක්ෂය සහ ලංකා සමසමාජ පක්ෂය ඒකාබද්ධව මෙහෙයවූ ආණ්ඩුවේ කම්කරු සමිති සම්මේලනයත්ය. එහි උච්චම අවස්ථාවේ 50,000 කට ආසන්න සේවක පිරිසක් වැඩවර්ජනයට සහභාගී වූහ. පෙළපාලියකදී රජයේ ලිපිකරුවකු වූ, කන්දසාමිට වෙඩි තබා මරන ලදී. මෙම වැඩ වර්ජනය විප්ලවීය ව්‍යාපාරයේ ඉතිහාසයෙහි 1953 හර්තාලයට පමණක් දෙවැනි වන ඉහල වඩදිය රැල්ලක් සනිටුහන් කළේය. ධනේශ්වර පුවත් පත් වල ප්‍රබල ආධාරය ලැබූ - රජයේ නියෝගය යටතේ, එය ම්ලේච්ඡ බලය යොදා මැඩපවත්වනු ලැබීය. පලි ගැනීමේ යෙදුන රජයක් හා ධනපති පංතිය විසින් හැම අංශයකම කම්කරුවන් සිය ගණනින් ඔවුන්ගේ රැකියාවලින් පන්නා දමන ලදී.

මේ වර්ෂය තුලදීම ධවල ශාලාවේ පැවති සාකච්ඡාවකදී ඩී.ඇස්. සේනානායක සහ ඔලිවර් ගුණතිලක විසින් මෙම වැඩ වර්ජනය කේවල් කිරීමේ ආයුධයක් ලෙස පාවිච්චි කරන ලදී. තමන් ඉල්ලන ප්‍රතිසංස්කරණ ප්‍රදානය නොකර, තමන්ට බලය නොපැවරුවහොත්, ඉදිරියට සිදුවන දේවල්, එනම් රතු බලය ඇතිවීමක පෙරනිමිත්තක් ලෙස, මහා වැඩවර්ජනය පෙන්නූ ඔවුහු, ඒ මගින් බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන් තැති ගැන්වූහ.

එහෙත් එක්සත් ජාතික පක්ෂ විරෝධී අපේක්ෂකයන් ගණනාවකගේම මැතිවරණ ජයග්‍රහණයට, මහා වැඩ වර්ජනයෙන් මතු වූ සටන්කාමී හැඟීම් බලපෑ බවට සැකයක් නැත. මොන ක්‍රමයකින් හෝ, මාක්ස්වාදී ගින්නෙන් ආගම බේරාගන්න, වැනි සටන් පාඨ සහිත පෝස්ටර් හා දුෂ්ඨ මාක්ස්වාද විරෝධී ප්‍රචාර මගින් වුවද, ඩී.ඇස්. සේනානායකට හා ඔහුගේ එක්සත් ජාතික පක්ෂයට 1947 පැවති පාර්ලිමේන්තු මැතිවරණයෙන් වැඩි ඡන්ද ගණනක් ලබාගැනීමට නොහැකි විය - යන වැදගත් සත්‍යය දේශපාලන විචාරකයෝ වැඩිදෙනෙක් බොහෝ විට, පහසුවෙන් අමතක කරති, ආසන 100න් එක්සත් ජාතික පක්ෂය දිණුවේ 46 ක් පමණය. වාමාංශික පක්ෂ තුන වෙන වෙනම සටන් කර ආසන 20ක් (ලංකා සමසමාජ පක්ෂය 10, බෝල්ෂෙවික්-ලෙනිනිස්ට් පක්ෂය 5 සහ කොමියුනිස්ට් පක්ෂය 5 ) දිණූ අතර, ද්‍රවිඩ සංගමය සහ ලංකා ඉන්දියානු සංගමය ආසන 7 බැගින් ජය ගත්හ. ස්වාධීන අපේක්ෂකයන් අත ඉරණම රඳා පැවති බව පැහැදිළි විය. පැති දෙකම ඔවුන් දිනා ගැනීමට උත්සාහ කළහ. එච්.ශ්‍රී. නිශ්ශංක මහතාගේ නිවසේ පැවති සියලුම එක්සත් ජාතික පක්ෂ විරෝධී බලවේගයන් සහභාගීවූ, සුප්‍රකට "යමුණා" සාකච්ඡාව, එකඟත්වයකට පැමිණීමට නොහැකි වීමෙන් අසාර්ථක විය. බෝල්ෂේවික්-ලෙනිනිස්ට් පක්ෂයේ නායක කොල්වින් ආර්. ද සිල්වා විසින්, ස්වාධීන අපේක්ෂකයන් "ඔලු තුනේ බූරුවන්" ලෙස හෙලා දැක ඔවුන් සතුරු කරගැනීම නිසා, එක්සත් ජාතික පක්ෂයට හිතකර වාතාවරණයක් සකස් විය. ඩී.ඇස්. සේනානායක තමාට කැබිනට් මණ්ඩලයක් පිහිටු වීමට අවශ්‍ය තරම් නිදහස්වාදීන් තම කඳවුරට ඇද ගැනීමට සමත් විය. එහෙත් ඡන්ද විමසීමේදී ඔහුගේ පක්ෂයට ලැබුනේ අඩු

ඡන්ද සංඛ්‍යාවක්ය, යන සත්‍ය දගටම පවතී.

වාමාංශික පක්ෂ වැඩිම ජයග්‍රහණයක් ලබා ගත්තේ 1947 පැවති මහා මැතිවරණයේදීය යන්න මෙහිදී සඳහන් කළ යුතුව පවතින සත්‍යකි. මුළු පාර්ලිමේන්තු ආසන 100න් වාමාංශික පක්ෂ තුන ආසන විස්සක් දිණුහ. 1952 දී මෙම සංඛ්‍යාව 13 දක්වා අඩුවූ අතර, 1956 දී 17 ක් විය. පාර්ලිමේන්තු ආසන ගණන 150 දක්වා වැඩිකරන ලද 1960 සහ 1965 දී, වාමාංශික පක්ෂ දිණූ ආසන ගණන ප්‍රතිශතය අනුව පහළ බැස ඇත. 1970 දී පමණක් ශ්‍රී ලංකා නිදහස් පක්ෂය සමග ඇතිකරගත් සමගි පෙරමුණු ගිවිසුම නිසා, ඔවුන්ගේ තත්ත්වය දියුණු කරගත් නමුත්, 1947 දී ලබාගත් පහෙන් එකක මට්ටමේ මුළු ගණනක් ලබාගත නොහැකි විය.

<u>1948 පෙබරවාරි මස ලංකාවට ඊනියා නිදහස ප්‍රදානය කිරීමේ ප්‍රෝඩාව වේදිකා ගතවිය. මෙම නාමික බලය පැවරීමේ පදනම දැනටමත් විස්තර කරනු ලැබ ඇත. කලින් පාර්ලිමෙන්තුව විමසා බැලීමකින් තොරව, ඒ වෙනුවෙන් පෙනී සිටිමින් ඩී.ඇස්. සේනානායක බ්‍රිතාන්‍යයත් සමග ආරක්ෂක ගිවිසුමක් අත්සන් කරනතුරු, මෙම නාමික බලය පවා ප්‍රදානය නොකෙරුන බව සඳහන් කළ යුතුය. මෙම ගිවිසුම පසු කලකදී හෝ අවලංගු කර නැති බවද කිව යුතුය. යටත් විජිත තත්වයේ පැවති ලංකාව නව යටත් විජිතයක් බවට පත්විය. නිදහසේ බාහිර සැරසිලි වූ ජාතික කොඩිය, ජාතික ගීය, රජ ගෙදර කළු මිනිසකු සිටීම ආදී සියල්ලම එහි විය. එහෙත් අධිරාජ්‍යවාදී සූරා කෑමේ හරය දිගටම පැවතිණ.</u>

තමා ලංකාවේ බහුතර ජනතාව විසින් පිළිගෙන නොතිබීමේ සත්‍යය ඩී.ඇස්.සේනානායක විසින් ගැඹුරු ලෙස අවබෝධකර ගෙන තිබුණි. එබැවින් ඔහුගේ සියලුම ප්‍රතිපත්ති වල ඉලක්කය වූයේ මහා මැතිවරණයේදි සම්පූර්ණ වැඩි ඡන්ද සංඛ්‍යාවක් දිනා ගැනීමය. ඔහු ඡන්ද කොට්ඨාශ ක්‍රමානුකූලව බිලීබෑමේ ක්‍රියාදමයක් දියත්කළේය. ඔහු ආහාරද්‍රව්‍ය ආනයනය තුළින් ලන්ඩනයේ තිබූ රන්පවුම් ශේෂය ඉක්නින්ම අවසන් කළේය. එම මුදල් කාර්මික යන්ත්‍රෝපකරණ ආනයනය සඳහා යොදවන ලද්දේනම් එයින්, රටට ලැබෙන ඵල ප්‍රයෝජනය අති විශාල වියහැකිව තිබිණ. සේනානායක කාර්මික සංවර්ධනයක් කෙරෙහි විශ්වාසය නොතැබීය.

එහෙත් ඔහු කළ දරුණුම වරද එය නොවේ. සහල් සහනාධාරය ආරම්භ කළේ ඔහුගේ පාලන කාලයේදීය. වාර්ෂිකව රුපියල් කෝටි හැටක් ඉක්මවා ඇති මෙම සහල් සහනාධාරය විසින් ආර්ථිකය මත පටවා ඇති ඉසිලිය නොහැකි බර අද හැමදෙනාම අවබෝධ කරගෙන ඇත. එහෙත් අද සහල් සහනාධාරය දේශපාලනය බවට පත්වී ඇත. යම්කිසි ආණ්ඩුවක් විසින්, රටේ අර්ථිකයට වැඩි වශයෙන්ම විනාශකාරීව බලපාන අන්දමින් හිතාමතාම ගනුලැබූ එක් තනි පියවරක් ගැන කෙනෙකුට පෙන්විය හැකිනම්, එයවූ කලී



ඩී.ඇස්. සේනානායක විසින් ගනු ලැබූ සහල් සහනාධාර ක්‍රියාවයි. <u>අනාගත පරම්පරාවන් ඔහුගේ නමට ශාප කරනු ඇත.</u>

1948 අවසන් වන්නට පෙර ඩී.ඇස්. සේනානායක ඔහුගේ අත්‍යන්තිකර විරුද්ධ වාදියා වූ ජී.ජී. පොන්නම්බලම්, ඇමති තනතුරක් ප්‍රදනය කිරීම තුළින් දිනාගත්තේය. 1947 මහ මැතිවරණයේදී පොන්නම්බලම් විසින් පරාජය කරනු ලැබුවේ යාපනයට ඉදිරිපත් කළ සේනානායකගේ අපේක්ෂකයා වූ ඒ. මහාදේව (පොන්නම්බලම් අරුණාචලම්ගේ පුත්‍රයා) බව මතක තබා ගත යුතුය. එබැවින් මේ එක්වීම දෙගොල්ලන් විසින්ම ගන්නා ලද, මුළුමනින්ම අවස්ථාවාදී පියවරක් විය. එහෙත් එය විසින් ද්‍රවිඩ සංගමය කඩා දමන ලදී. පසුකාලයේ දී උතුරේ ජාතිවාදී දේශපාලනය දිගටම ගෙනගිය ෆෙඩරල් පක්ෂය පිහිටුවීම සඳහා, එස්.ජේ.වී. චෙල්වනායගම් එයින් ඉවත් විය. ද්‍රවිඩ සංගමය ජාතිවාදය අත්නොහල නමුත්, පොන්නම්බලම් විසින් 1970 දක්වා තම අසුන රැකගැනීම හැර, ද්‍රවිඩ හෝ ලාංකීය දේශපාලනය කෙරෙහි කිසිදු හෝ බලපෑමක් කිරීමට, 1948 පසුව ද්‍රවිඩ සංගමයට නොහැකි විය. ඔහු තමාගේ පණහට පණහ සටන අත් හැර, ඉන්දියානු සම්භවයකින් යුත් ද්‍රවිඩ වැවිලිකරුවන්ගේ පුරවැසිකම හා ඡන්ද අයිතිය පාගා දැමීම සඳහා, ඩී.ඇස්. සේනානායකට ආධාර කරන තරම් දුරට යමින්- තම පැරණි ප්‍රතිපත්ති පාවා දුන්නේය.

1951 දී එක්සත් ජාතික පක්ෂය අර්බුදයකට මුහුණ දුනි. එය ලංකාවේ අනාගත දේශපාලන හැඩගැස්ම කෙරෙහි බලපෑ සිද්ධියක් විය. පාර්ලිමේන්තුවේ සභානායක වූයේ ඩී.ඇස්. සේනානායක වටකොට ගෙන සිටි අය අතුරින් වඩාත්ම දක්ෂයා වූත්, ලංකාවේ අධිරාජ්‍යගැති සහ වංශවත් පවුල්වල උරුමක්කාරයා වූත්, උඩරට රදළ පවුලක් සමග විවාහ සම්බන්ධකම් ඇති කොට ගෙන සිටියා වූත්, ඔක්ස්ෆර්ඩ් විශ්වවිද්‍යාලයේදී ලිබරල්වාදී අධ්‍යාපනයක් ලබා සිටි ඇස්.ඩබ්ලිව්.ආර්.ඩී. බණ්ඩාරනායකය. ඔහු හැම විටම තමා අගමැති තනතුරේ ඊලඟ උරුමක්කරු ලෙස සිහින මැවීය. එහෙත් මහ සේනානායක තුළ වෙනත් අදහස් තිබූ බව පෙනෙන්නට විය. සේනානායක මුල පටන්ම ඔහුගෙන් පසු එම තනතුරට තම පුත්‍රයාගේ නම සිත්හි තබාගෙන ඉතා ශූර ලෙස, ඇස්.ඩබ්ලිව්.ආර්.ඩී. බණ්ඩාරනායක සහ තම බෑනා වූ සර් ජෝන් කොතලාවල අතර තරඟකාරී ස්වභාවය වැඩි දියුණු කළේය. කළකිරුණු බණ්ඩාරනායක එක්සත් ජාතික පක්ෂයෙන් අස්වී විරුද්ධ පක්ෂයට ආවේය.

එම වර්ෂයේදීම බණ්ඩාරනායක ශ්‍රී ලංකා නිදහස් පක්ෂය ආරම්භ කළේය. ඔහු එක්සත් ජාතික පක්ෂයෙන් අස්වීමට බලපෑ හේතුන් කුමක් වුවද, පොදු ජනතාවගේ ජාතික හා සංස්කෘතික අපේක්ෂාවන් තේරුම් ගත් අතර, සියලුම එක්සත් ජාතික පක්ෂ විරෝධී බලවේග එක්රැස් කිරීමේ හැකියාව ඔහු ඉකමණින් දුටුවේය. ඔහු ක්‍රිස්තියානිය අතහැර ඩොනමෝර් බෞද්ධයකු වී තිබුණි. ඔහු ජාතික ඇඳුමට බැස තිබුණි. ඔහු බටහිර සංස්කෘතියේ පාතාලයටම

ගිලී සිටි නමුත්, පසුව සිංහල භාෂාවේ වීරයා වන්නට පටන් ගත්තේය. ඔහු මේ හැමදේම කරමින් ජනප්‍රිය හැඟීම් වලට අසාමාන්‍ය ලෙස අනුකූලතාව දක්වූ අතර, එය ඔහුගේ පැවැත්මට හොඳ ආයුධයක් විය. <u>ඒ අවස්ථාවාදය වී නම්, එය සමාව දිය හැකි වර්ගයේ එකකි.</u> එහෙත් තාවකාලිකව ඔහු දේශපාලන කතරක තනිවිය.

1952 මාර්තු 22 වන දින ඩී.ඇස්. සේනානායක ගෝල්පේස් පිටියේදී අසුපිටින් වැටී මළේය. ඒත් සමගම මේ තැන ගැනීම සඳහා අතිශයින් නොහොබිනා ආරවුලක් ඇතිවූ අතර, එය තරඟ කරුවන්ගෙන් එක් අයෙකු වූ සර් ජෝන් කොතලාවලගේ ආධාරකරුවකු විසින් ලියන ලද පුළුල් ලෙස ජනප්‍රිය වූ "අගමැති පොරය" පොතෙහි මනාලෙස වාර්තා කර ඇත. එහෙත් කළයුත්තේ කුමක්දැයි "මහ මිනිහා" මිණිවලේ සිට තීරණය කළේය. ඔහුට (ඩී.ඇස්. ට) බලාපොරොත්තු නොවූ අනතුරක් සිදුවුවොත්, ආණ්ඩුවක් පිහිටුවීම සඳහා ඔහුගේ පුත් ඩඩ්ලිට ආරාධනා කළ යුතු බවට, ඔහු ආණ්ඩුකාර සොල්බරි සාමිට (එවිට එන්ගලන්තයේ නිවාඩු පිට සිටි) උපදෙස් දී තිබූ බව පෙනේ. හැකි තරම් ඉක්මණින් ආපසු පැමිණි වහාම සෝල්බරි, ඩී.ඇස්. ගේ ජ්‍යෙෂ්ඨ සගයා වූ සර් ජෝන් කොතලාවල ගේ අයිතිවාසිකම් පිළිබඳ ඉල්ලීම පැහැර හැර, ඩී.ඇස්. ගේ ඉල්ලීම ඉටු කළේය. ටික කලක් හිත රිදී අමනාපයෙන් සිටි කොතලාවල, අන්තිමේදී ඩඩ්ලි යටතේ සේවය කිරීමට එකඟ විය.

නියම පෙළපත් ක්‍රමය අනුව යමින්, ඩඩ්ලි සේනානායක ඔහුගේ පියාගෙන් පසුව එම තැනට පත්වීම, බණ්ඩාරනායක ඔහුගේ ඝාතනය කරණු ලැබීමෙන් පසු ඔහුගේ වැන්දඹුව ඒ තැන ගැනීම සහ සිංහල ගොවිගම, බෞද්ධ නොවූ කිසිවෙකු මෙතෙක් ලංකාවේ අගමැති ධුරයට පත්නොවීම යන සත්‍ය සිද්ධීන්, <u>රටේ වැඩවසම් අදහස් කොතරම් ගැඹුරට බලපවත්වන්නේද යන සත්‍යය හෙළිදරව් කරයි.</u> පියාගේ දේශපාලන දර්ශනය වඩාත්ම හොඳින් තේරුම් කළ හැක්කේ ඔහුගේ පුතාට පමණක් යයි ද, මිය ගිය ස්වාමිපුරුෂයාගේ දේශපාලන උරුමය වඩාත්ම හොඳින් තේරුම් කළ හැක්කේ වැන්දඹුවකට පමණක් යයි ද යන අදහස ප්‍රජාතන්ත්‍රවාදී එකක් නොවේ. එය වැඩවසම් අදහසකි. පුතාගේ ප්‍රශ්නයේදී නම්, අඩු වශයෙන් තම පියාගේ කැබිනට් මණ්ඩලයේ ඇමතිවරයෙකු ලෙස හෝ සේවය කර තිබීම ඔහුට සැනසිල්ලට කරුණකි. වැන්දඹුව සම්බන්ධයෙන් නම්, ඇය තම ස්වාමියාගේ දේශපාලන විශ්වාසය පවා ලබා සිටියේ නැත. වැඩවසම් සම්ප්‍රදයන් සහ අදහස් තුළ අප මොනතරම් පටලැවී ඇත්දැයි කිවහොත්, වර්තමාන අගමැතිනියගේ එකම පරමාර්ථය වන්නේ "තම පුතාට උරුමය ලබාදීම සඳහා අවශ්‍ය කටයුතු පිළියෙල කළ හැකි වන තුරු, කෙසේ හෝ බලයේ රැඳී සිටීමටය" යනුවෙන් වූ කථා දනටමත් අසන්ට ලැබෙයි.

තම පියාගේ මරණය නිසා උපන් අනුකම්පාව මුලුමනින්ම උපයෝගී



කරගැනීම නිසා 1952 මහා මැතිවරණයේ දී ඩඩ්ලි සේනානායකගේ ජයග්‍රහණය පහසු විය. මධ්‍යම බැංකුවේ අධිපතිව සිටි ඇමරිකන් ජාතික ජෝන් එක්ස්ටර් විසින්, ඉදිරියේ ඇතිවන්නට යන ආර්ථික අර්බුදය ගැන අනතුරු අඟවමින් දැඩි පියවරවල් ගැනීමට පෙර නැවත ජනතා වරම ලබාගත යුතු යයි අවවාද කළ නිසා, නියමිත කාලයට පෙර ඡන්ද විමසීම සිදුකරන ලදී. 1953 අයවැය ලේඛණය මගින් ආර්ථික අර්බුදයේ බර ජනතාව මත පැටවීම සඳහා ගනු ලබන පියවරයන් ප්‍රකාශයට පත් කරන ලදී. සහල් සහනාධාරය අහෝසි කරමින් හාල් සේරුවේ මිල ශත 25 සිට 75 දක්වා නංවන ලදී. දුම්රිය හා තැපැල් ගාස්තු වැඩි කළ අතර, පාසැල් දරුවන්ගෙන් දිවා ආහාරය වූ බනිස් ගෙඩිය උදුරා ගන්නා ලදී.

එහෙත් ජනතාව මෙම බර පිළිගැනීමට කැමති නොවූහ. තවමත් වාමාංශික පක්ෂවල නායකත්වය පසු අවුරුදුවල ඇතිවූ ප්‍රතිසංස්කරණවාදය කරා පිරිහී නොතිබිණි. වාමාංශික පක්ෂ තුන හා ඔවුන්ගේ නායකත්වය යටතේ පැවති වෘත්තීය සමිති, එක්සත් ඉල්ලීම තුළින් 1953 අගෝස්තු 12 වනදා හර්තාලයක් ප්‍රකාශ කරන්නට යෙදුණි. ජනතාවගේ සහභාගිත්වය අති විශාලය. වැවිලි කම්කරුවන් හැර වැඩකරන පන්තියේ හැම අංශයක්ම එක්සත් ආයාචනයට සවන් දුනි. හර්තාලය කිරීම පිළිබඳව ප්‍රකාශයට අත්සන් කිරීම ඇස්.ඩබ්.ආර්.ඩී. බණ්ඩාරනායක විසින් ප්‍රතික්ෂේප කරන ලද්දේ වී නමුත්, එක්සත් ජාතික පක්ෂ විරෝධී බලවේග මුළුමනින්ම වාගේ විරෝධය පෑමේ මහා රැල්ලට එක් වූහ. බස් හා දුම්රිය ධාවනය කළ නොහැකි විය. සාප්පු වසා තිබුණි. සියලුම වැඩ නැවතුණි. ආණ්ඩුව අකර්මණ්‍ය විය. මේ අතර කැබිනට් මණ්ඩලය ආරක්ෂාව සඳහා කොළඹ වරායේ නැවක් තුළ රැස්වූ බව වාර්තා වේ. <u>එය ලංකාව තුල මෙතෙක් දක්නට ලැබුණු විප්ලවීය ක්‍රියාදාමයේ ඉහලම වඩ දිය රැල්ල විය. එය එක්සත් විප්ලවීය නායකත්වයක් දුන්නා නම්, ජනතාව කෙතරම් දුර යාමට සූදානම් දැයි පෙන්නුම් කරන්නක් විය.</u>

අවාසනාවකට මෙන් ජනතාවගේ දැවැන්ත සහභාගීත්වය කෙරෙහි රජය තරමටම ප්‍රතිසංස්කරනවාදී වාමාංශික නායකත්වයද බියවූහ. ප්‍රතිසංස්කරණවාදී වාමාංශික නායකත්වය, 12 ද සවසම හර්තාලය නතර කරන මෙන් ඉල්ලා සිටි අතර, රජය හදිසි නීතිය ප්‍රකාශයට පත් කරමින් විශාල ප්‍රමාණයෙන් මර්දනය දියත් කළාය. සිය ගණනින් සිරභාරයට ගත් අතර, දෙළොස් දෙනෙකු වෙඩි තබා මරණ ලදී. හර්තාලයේ එක් ප්‍රතිඵලයක් වූයේ තැතිගත් අගමැතිගේ ඉල්ලා අස්වීම හා 1960 දී නැවත ඇතුල් වනතුරු දේශපාලනයෙන් ඈත්වී යාමය.

එවිට සර් ජෝන් කොතලාවල අගමැති වූ අතර, රට තුළ මුළුමණින්ම ප්‍රතිගාමී වුත්, විදේශ කටයුතු වලදී සම්පූර්ණයෙන්ම අධිරාජ්‍යවාදීන්ට වහල් වුත්, ප්‍රතිපත්තියක් අනුගමනය කරන්නට විය. අධිරාජ්‍යවාදීන්ගේ බළල් අත්ඩක්

වීමට කවදත් කැමැත්තෙන් සිටි ඔහු, සුප්‍රකට බැංඩුං සම්මේලනයට සහභාගි වී චෞ එන් ලායි ට රිදවීමේ අදහසින් කොමියුනිස්ට් විරෝධී ප්‍රකෝපකාරී කථාවක් කළේය. චෞ එන් ලායි "මා මෙහි පැමිණියේ රණ්ඩු කිරීමට නොවේ" යයි පවසමින් ඔහුව ගණන් නොගෙන හැරියේය. සෝවියට් පාපන්දු කණ්ඩායමට හා සූර්යග්‍රහණය නිරීක්ෂණය සඳහා පැමිණි සෝවියට් විද්‍යාඥයින් කණ්ඩායමකට රටට ඇතුළු වීමට ඉඩ දීම ප්‍රතික්ෂේප කිරීම පිළිබඳවද ගවයකු පුළුස්සා කෑමේ වනචාරී සිද්ධියෙන් ප්‍රකාශවූ පරිදි ජනතාවගේ ආගමික හා සංස්කෘතික හැඟීම් ගැන ඔහු තුළ වූ විවෘත පිළිකුල පිළිබඳවද, අගමැති වශයෙන් ඔහුගේ නිළකාලය එක ලෙසම අපකීර්තියක් දරයි. එක්සත් ජාතික පක්ෂයට මෙතරම් වාසිදායක කාලයක් කිසිදු නොතිබුණේය, යන වැරදි අවබෝධය මත පිහිටා නියමිත කාලය ගතවීමටත් පෙර මැතිවරණයක් පැවැත්වීමට ගන්නා ලද තීරණයෙන්, ඔහු බහුජනතාවගෙන් මුළුමනින්ම ඈත්වී සිටි බැව් අවසාන වශයෙන් ප්‍රදර්ශනය විය.



5 වෙනි පරිච්ඡේදය

# බණ්ඩාරනායක යුගය

එහෙත් ජනතා ප්‍රවාහයට අසුවී ගිලීයාමට පෙර, භාෂා ප්‍රශ්නය පිළිබඳ මතභේදය ප්‍රකෝපකාරී තත්වයකට පත් කිරීමට සර් ජෝන් මුල් විය. යාපනයට ඔබ්බෙන් වූ දූපතකදී, මහත් හරසරින් ඔටුණු පළඳවා පිළිගත් ලැබූ උත්සවයකදී, එයින් උදම් වූ සර් ජෝන් සිංහල හා දෙමළ යන භාෂා දෙකටම සම තැන දීමට පොරොන්දු විය. එහි ප්‍රතිඵලය වූයේ දකුණේ සිංහලයන්ගේ ප්‍රචණ්ඩ ප්‍රතික්‍රියාවක් පැණ නැගීමය. තමා විසින්ම නිර්මාණය කරනු ලැබූ කුණාටුවෙන් තෝන්තුවට පත් සර් ජෝන්, සිංහලයන්ගේ කෝපය සමනය කිරීම සඳහා එක්සත් ජාතික පක්ෂයේ කැළණි සම්මේලනය පැවැත්වූ අතර, ලංකාවේ රාජ්‍ය භාෂාව සිංහල පමණක් විය යුතුය යන තීරණයට පක්ෂය එළඹියේය.

තම ප්‍රතිපත්තිය මෙසේ මුළුමණින්ම මාරු කිරීම තුළ ඇති වංචනික භාවය කොතරම් පැහැදිලි වීද යත්, එයින් කිසිවකු රැවටිය නොහැකිවිය. එයින් එක්සත් ජාතික පක්ෂයට තිබූ සියලුම ආකාරයේ ද්‍රවිඩ සහයෝගය නැති වූ අතර, මේ තීරණයෙන් සිංහලයන් ද රැවටිය නොහැකි විය. තමා විසින් පැය විසිහතරක් ඇතුළත සිංහල පමණක් රාජ්‍ය භාෂාව කරන බවට වූ සටන් පාඨය ඉදිරිපත් කිරීමෙන් ඇස්.ඩබ්.ආර්.ඩී. බණ්ඩාරනායක එයට ප්‍රතිඋත්තරය දීම පුදුමයක් නොවේ. මෙසේ 1956 අප්‍රියෙල් මස පැවති මහා මැතිවරණයේදී, ප්‍රධාන සිංහල පක්ෂ දෙක අතර විසඳාගත යුතු ප්‍රශ්නය වූයේ, සිංහල පමණක් රාජ්‍ය භාෂාව විය යුතුද යන්න නොව, එය කිරීම පිළිබදව විශ්වාසය තැබිය හැක්කේ කවුරුන් කෙරෙහි ද යන්නය. මේ තරඟයෙන් සර් ජෝන් පරාජයට පත්වීම අනිවාර්ය විය. සිංහලයින් තම ජීවිතයේදී ජාතික විරෝධී සහ බටහිර ගැති වශයෙන් සැළකූ සියළුම දේ ඔහු විසින් නියෝජනය කරන ලදී. එපමණක් නොව, ඔහුගේ විරුද්ධවාදියා ලෙස සිටි බණ්ඩාරනායක චතුර කථිකයෙක් මෙන්ම, දේශපාලන උද්ඝෝෂණයෙහි අති දක්ෂයෙක් ද විය.

එහෙත් 1956 මැතිවරණ ප්‍රතිඵල කෙරෙහි බලපෑවේ භාෂා ප්‍රශ්ණය පමණක් යයි යෝජනා කිරීම වැරදිය. මේ ප්‍රශ්නයෙහි දිගු සෙවනැල්ල මුළු මැතිවරණය පුරා වැටී තිබූ බවට සැකයක් නැත. එහෙත් මැතිවරණය කෙරෙහි බලපෑ තවත් හේතුන්ද තිබුණි. බණ්ඩාරනායක විසින් තම ශ්‍රී ලංකා නිදහස් පක්ෂය වටා ගොනු කරගත්, මුළු හදින්ම එකට නොබැඳුණු එක්සත් පෙරමුණ, මහජන එක්සත් පෙරමුණ වශයෙන් හැඳින්වුනු අතර, තරුණ, උන්නතිකාමී බෞද්ධ භික්ෂූන්ගෙන් සැදුණු එක්සත් භික්ෂු පෙරමුණ එහි වැදගත්

සංවිධානයක් විය. එහි සාමාජිකයන් සියල්ලෝම තම මුළු උත්සාහය යොදා ජනතාව අතර, විශේෂයෙන් ගම්බද ප්‍රදේශවල මහජනයා අතර තිබූ සංසයාගේ බලපෑම් යොදවා, මහජන එක්සත් පෙරමුණට ඡන්ද හැරවූහ. මෑත යුගයේ ඊට පෙර හෝ පසුව කිසිදාකත් බෞද්ධ භික්ෂූන් ලංකාවේ දේශපාලනය කෙරෙහි එතරම් තීරණාත්මක බලපෑමක් ඇති කළේ නැත. මෙම භික්ෂු සංවිධානයේ ඉහළම පෙළේ නායකයින්ගෙන් කෙනෙකුවූ බුද්ධරක්ඛිත පසුව බණ්ඩාරනායක ඝාතනයට හවුල්වීම ගැන වරදකරුවී සිරභාරයට පත් විය. (ඔහු සිර ගෙදරදීම මළේය)

එක්සත් ජාතික පක්ෂය කළ වැරදිවලින් පාඩම් උගෙන ජනමතයේ සුළඟට ගැලපෙන පරිදි රුවල් යොදාගත් බණ්ඩාරනායක, වාමාංශික ව්‍යාපාරය විසින් ජනප්‍රිය කරන ලද සටන් පාඨ සමහරක්ද පැහැර ගත්තේය. විදේශීන්ට අයත් වතු ජනසතු කිරීම වැනි අතිශයින් උන්නතිකාමී වූ ඉල්ලීමට පවා, මහජන එක්සත් පෙරමුණු මැතිවරණ ප්‍රකාශණයෙහි තැනක් ලැබුණි. ඇත්ත වශයෙන්ම එය කිසි දිනක ක්‍රියාත්මක නොවූ බව සත්‍යයකි. බණ්ඩාරනායක බලයට පැමිණි හැටියේම එම ඉල්ලීම අවුරුදු 10 කට කල් දමන බව ප්‍රකාශ කරමින්, සැබවින්ම එය අත්හැරදමීය. ඇතැම්විට සටන් පාඨය කවදාවත් ක්‍රියාත්මක කරන අදහසකින් ඇතුල් කළ එකක් නොවන්නට ඇත. එහෙත් ප්‍රශ්නය වන්නේ මෙම ඉල්ලීම ඉන්පසු සකස් වූ කිසිම මැතිවරණ ප්‍රකාශණයක ශ්‍රී ලංකා නිදහස් පක්ෂය විසින් ලංකා සමසමාජ පක්ෂය හා කේනමන් සංශෝධනවාදී කල්ලිය සමග සාකච්ඡා කොට ඉදිරිපත් කළ පොදු වැඩ පිළිවෙලේ පවා ඇතුළත් නොවීමය.

බණ්ඩාරනායක විසින් ලංකා සමසමාජ පක්ෂයේ ආරම්භක සාමාජිකයෙකු වූ පිලිප් ගුණවර්ධන මෙහෙයවූ, ලංකා සමසමාජ පකෂයෙන් කැඩී ගිය කණ්ඩායමක් ඔහුගේ එක්සත් පෙරමුණට ඇතුලත් කර ගැනීමෙන්, තමා වමට තල්ලුවීම තව දුරටත් අවධාරනය කළේය. එසේම, ඔහු ලංකා සමසමාජ පක්ෂය හා කොමියුනිස්ට් පක්ෂය සමග නිතරග ගිවිසුමකටද එළඹියේය. ප්‍රතිපඵලය වූයේ ප්‍රථම වතාවට මුළුමණින්ම වාගේ එක්සත් වූ විරුද්ධ පක්ෂයකට මුහුණ දුන් එක්සත් ජාතික පක්ෂය සම්පූර්ණ පරාජයකින් අවසක් විමය. පාර්ලිමේන්තුවේ ඔවුන්ගේ කලින් තිබූ ආසන 54 තත්ත්වය 8 දක්වා පහළ බැස්සේය. ආසන 51 ක් ජයගත් මහජන එක්සත් පෙරමුණට ඡන්ද 40.7% ක් ලැබුණි. එය විශිෂ්ඨ ජයග්‍රහණයක් විය.

සමහරෙක් 1956 මහජන එක්සත් පෙරමුණු ජයග්‍රහණය එක්තරා සමකාමී ජනතා විප්ලවයක් බව දක්වා ඇත. මේ ප්‍රකාශය හුදු අතිශයෝක්තියක් පමණක් නොවේ. එය සම්පූර්ණ වැරදි ප්‍රකාශයකි. එහිදී ධනේශ්වර පන්තියෙන් කොටසක් වූ, බටහිර අනුකරණය කළ, ඉංග්‍රීසි කථා කරන අධිරාජ්‍ය ගැති කොම්ප්‍රදෝරු ධනේශ්වර පංතියෙන්, දේශීය ධනේශ්වර පන්තිය අතට නියත



වශයෙන්ම බලය මාරුවීමක් සිදුවිය. එහෙත් සමාජයේ පන්ති සැකැස්ම වෙනස් කරන්නක්ය යන අදහස අනුව නම්, කිසිදු විප්ලවයක් සිදු නොවීය. 1956 මැතිවරණ ජයග්‍රහණය රටේ ආර්ථිකයේ විදේශීය අධිරාජ්‍යවාදී ග්‍රහණයට මොන අන්දමක හෝ බලපෑමක් ඇති කළේ ද නැත. කලින් තිබූ ආකාරයටම, සූරාකෑම දිගටම සිදුවිය.

මහජන එක්සත් පෙරමුණු පාලන කාලයේදී උන්නතිකාමී පියවරයන් කීපයක් ගත් බව ඇත්තකි. බස් සේවය හා කොළඹ වරාය ජනසතු කරන ලදී. සැර බාල කරන ලද කෘෂිකාර්මික ප්‍රතිසංස්කරණ නීතියක් වූ කුඹුරු පණත සම්මත විය. ත්‍රිකුණාමලයෙන් හා කටුනායකින් බ්‍රිතාන්‍ය කඳවුරු ඉවත්කරන ලදි. කම්කරුවන්ට වැඩවර්ජන සඳහා වැඩි නිදහසක් ලැබුණි. සේවක අර්ථසාධක අරමුදල් පණත නීතිගතවිය. සිංහල භාෂාව හා බුද්ධාගම වැඩි අවධානයට යොමු විය. මුල්වරට සමාජවාදී රටවල් හා තානාපති සම්බන්ධකම් පිහිටුවන ලදි. විදේශීය ප්‍රතිපත්තියේදී ලංකාව නොබැඳුන පිළිවෙත නමින් හැඳින්වෙන මග ගන්නට විය. මෙයින් අදහස් වූයේ අප කලින් මෙන් හැමවිටම අධිරාජ්‍යවාදීන් සමග ඉබේටම පෙළ නොගැසීමයි. එහෙත් තවමත් මේ සියල්ලම එකතු කළත්, එය සාමකාමීව හෝ වෙනත් මගකින් හෝ සිදු වූ විප්ලවයක් නොවේ. ඇත්ත වශයෙන්ම බණ්ඩාරනායක කළේ අනාගතයේදී අනතුරුදායක විය හැකි එක්සත් ජාතික පක්ෂ විරෝධී රළ වේගයෙහි විප්ලවීය තියුණු භාවය, ඔහු විසින්, "මැද පිළිවෙත" යනුවෙන් හැඳින්වූ ප්‍රතිපත්තීන් තුළ සිරකොට, මොටකිරීමෙන් අනතුරු රහිත ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදය දෙසට හැරවීමයි. ඔහු විශාලතම බලපෑමක් ඇති කළේ වාමාංශික ව්‍යාපාරයේ නායකත්වය කෙරෙහි විය හැක. ලංකා සමසමාජ පක්ෂයේ හා කොමියුනිස්ට් පක්ෂයේ නායකත්වයන් තුල කිසියම්ම හෝ විප්ලවවාදී ස්වරූපයක් තිබුණේ නම්, 1956 මහජන එක්සත් පෙරමුණ විසින් ලබාගත් මැතිවරණ ජයගහණය අභිබවා යාමට ඔවුන් තුල වූ ආශාව විසින් එයද සොරා ගන්නා ලද අතර, ඔවුන් ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදී දෙවොළ ඉදිරියේ වැඳවැටෙන බැතිමත් වන්දනාකරුවන් බවට හරවන ලදී. කලක් විප්ලව වාදීව සිටි මොවුන් තව දුරටත් හීලෑකිරීමේ කාර්යය බණ්ඩාරනායක වැන්දඹුව වෙත පැවරුණි.

මේ දැක්ම තුල බලන කල ඇතැම් විචාරකයන් විසින් "බණ්ඩාරනායක ප්‍රචණ්ඩ විප්ලවයක් වැලැක්වීමට උදව් කළා යයි" කියා සිටීම අතිශයෝක්තියක් නොවේ.

එහෙත්, 1956 මැතිවරණ ජයග්‍රහණය කිසිදු ආර්ථික ප්‍රශ්නයක් නොවිසඳූ බව ඔප්පු කරන හොඳම සාක්ෂිය නම්, මහජන එක්සත් පෙරමුණ හා එහි අධාරකරුවනට සිංහලයන්ගේ සහයෝගය රැකගනු සඳහා, ඔවුන්ගේ භාෂාව හා ජාතිවාදය පිළිබඳ හැඟීම් ඇවිස්සීමට සිදු වීමයි. ලංකාවේ මෙතෙක් ඇතිවූ බිහිසුණුම ජාතිවාදී ලැව්ගින්න හටගත්තේ මහජන එක්සත් පෙරමුණේ

පාලන කාලයේදීය. මෙම සිද්ධිය පිළිබඳ ව විස්තරාත්මක හැදෑරීමක් කිරීම අවශ්‍යවන නිසා, මේ කාලයේ පැනනැගුණ ජාතිවාදී ප්‍රශ්නය ගැන හැදෑරීමක් කිරීමට මෙය උචිත අවස්ථාවකැයි සිතමි.

ඩොනමෝර් හා සොල්බරි කොමිශන් සභාවලින් ජාතික නියෝජනයක් හෝ සුළු ජාතිකයන් වෙනුවෙන් කිසිම ආකාරයක නියෝජනය කිරීමක් ප්‍රතික්ෂේප කිරීම, සුළුජාතික කොටස් රටේ ව්‍යවස්ථාදායක මණ්ඩලයන් තුළ සදහටම සුළු කොටසක තත්ත්වයේ තැබීමක් විය. 1936 තනි සිංහල ඇමති මණ්ඩලයක් පිහිටුවීම, ඉන්දියානු සම්භවයක් ඇති ද්‍රවිඩ වතු කම්කරුවන්ට විරුද්ධව දැඩි අසාධාරණයක් වන පරිදි පුරවැසි පනත තුලින් ඔවුන්ගේ පුරවැසිකම මෙන්ම ඡන්ද අයිතියත් අහෝසි කිරීම, ජාතික ප්‍රශ්න වලදී සුළු ජාතික ද්‍රවිඩ නායකත්වයේ අදූරදර්ශී හා වගකීමෙන් තොර ආකල්ප (බ්‍රිතාන්‍ය කඳවුරු ඉවත් කිරීමට විරුද්ධ වීම, ජාතික දිනයේ කළු කොඩි එසවීම නිදසුන්ය.) තව දුරටත් ජාතීන් අතර භේදය උග්‍ර කරවීමට ආධාර විය.

අභ්‍යන්තරයේ පැසවමින් තිබූ ජාතිවාදී පිළිකාව 1955 දී භාෂා ප්‍රශ්නයේ ස්වරූපයෙන් මතු විය. දෙවන රාජ්‍ය මන්ත්‍රණ සභාවේදී බණ්ඩාරනායක විසින් ප්‍රතිසංස්කරණ යෝජනා ඉදිරිපත් කරන ලද කාලයේ සිට, ඊට කලින් සිට පවා, සියලුම දේශපාලන පක්ෂ රාජ්‍ය භාෂාව වශයෙන් ඉංග්‍රීසි වෙනුවට සිංහල හා දෙමළ (ස්ව භාෂා) යෙදිය යුතු යයි පිළිගෙන තිබුණි. 1955 දී හදිසියේම සිංහල පමණක් රාජ්‍ය භාෂාව විය යුතුයයි සිංහලයන් අතර උද්ඝෝෂණයක් මතුවිය.

මේ කැළඹීමේ එක් විශේෂ ලක්ෂණයක් කෙලින්ම සඳහන් කල යුතුය. වැඩිහරියක් රට වල ජාතිවාදී ප්‍රශ්න, සුළු ජාතීන් විසින් තමන්ගේ භාෂාමය හෝ අනෙක් අයිතියක්-මහජාතිය විසින් පාගා දමනු ලැබීමෙන් අරක්‍ෂා කර ගැනීම සඳහා කරන උද්ඝෝෂණයක ස්වරූපය ගනී. එහෙත් ලංකාවේ දී, සුළු ජාතීන්ගේ භාෂාව විසින් තම භාෂාව ආක්‍රමණය කරන්නේය යන බියෙන් කැළඹුණු මහජාතිය, ඊට විරුද්ධව එය ආරක්‍ෂා කරගැනීමට අවි අමෝරා ගත්හ. අප මේ සංකීර්ණ ප්‍රශ්නය පිළිබඳව කිසියම් හෝ අවබෝධයක් ලබා ගැනීමට නම්, සිංහල මහ ජාතිය, සුළු ජාතියක් ලෙස ක්‍රියා කිරීමට හා හැසිරීමට තුඩුදුන් විශේෂ හේතුන් හැදෑරීම හා තේරුම් ගැනීම කළ යුතුව ඇත.

ඇත්ත වශයෙන්ම සිංහලයන් මහජාතියක් වන රටෙහිම, ඔවුන් සුළු ජාතියක් ලෙස ක්‍රියා කරවූ හේතුන් බොහෝ ඇත. පළමු වැන්න, අතීතයේ දකුණු ඉන්දියාවේ සිට එල්ලවූ ද්‍රවිඩ ආක්‍රමණ පිළිබඳ මතකයන්ය. සිංහලයන්හට කවදාවත් මෙය අමතක කිරීමට ඉඩ දෙනු නොලැබේ. ඉතිහාසගත දුටුගැමුණු, එළාර යුද්ධය ගැන කියවා නැත්තේ මොන පාසල් දරුවාද? කෙනෙකු අනුරාධපුර හා පොළොන්නරු නටඹුන් බලන්න යන හැම විටකම, සිංහල ශිෂ්ඨාචාරයේ මේ පැරණි සෞභාග්‍යයන් සියල්ලම විනාශ



කරනු ලැබුවේ ද්‍රවිඩ ආක්‍රමණයන් විසින් බව ඔහුගේ මතකයට නංවනු ලැබේ.

දෙවනුව, බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන් විසින් පසුගිය ශත වර්ශයේදී ඔවුන්ගේ වතුවල වැඩ කිරීම සඳහා දස ලක්‍ෂයකට ආසන්න ප්‍රමාණයක දකුණු ඉන්දියානු ද්‍රවිඩ කම්කරුවන් ගෙන්වා, ඔවුන් උඩරට ප්‍රදේශ වලට තල්ලු කර දමන ලදී. ඒ මගින් ඔවුහු ජාතිවාදී කලබල වලට තවත් හේතුවක් වූ ඉන්දු ලංකා ප්‍රශ්නය ඇති කළහ.

තුන්වෙනුව, මිෂනාරි වැඩ කටයුතු නිසා උතුරේ ද්‍රවිඩයින්ට ලැබුණු වැඩි අධ්‍යාපන පහසුකම් හා බෙදාපාලනය කිරීමේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිය හේතුවෙන්, ඔවුන්ගේ ජනගහණයේ ප්‍රමාණයට වඩා වැඩි ප්‍රතිශතයක් රජයේ සේවාවන්හි, වෘත්තීය අංශයන්හි, ද්‍රවිඩ කොටස් වලට රැකියා ලැබීම් සිදුවිය. 1929-31 අතර සිදු වූ ලෝක අර්ථික අර්බුදය නිසා සිංහල මධ්‍යම පන්තිය අතර රැකියා විරහිත භාවය උග්‍ර වීමෙන්, ඔවුන් රැකියා සඳහා රජයේ සේවය දෙසට යොමු වන්නට පටන් ගත් අතර, ඒ වනවිට ද්‍රවිඩයන් එය අරක්ගෙන සිටි බව දක්නා ලදී.

මෙහිදී, භාෂා අර්බුධයේ පත්ලෙහි ඇත්තේ ආර්ථික ප්‍රශ්න බව පෙන්වා දිය යුතුය. 1956 ට පෙර රජයේ සේවය සඳහා අවසර පත්‍රය වූයේ ඉංග්‍රිසි භාෂාව පිළිබඳ දැනුමයි, එහි ප්‍රතිඵලයක් ලෙස ද්‍රවිඩයෙකුට සිංහලයෙකු හා සමාන තත්ත්වයෙන් හෝ ඊටත් වඩා හොඳින් තරග කළ හැකි විය. රක්‍ෂා නැතිකමේ පීඩනයෙහි බලපෑම නිසා, සිංහලයන් තමන් සඳහා රජයේ සේවයෙහි වඩා හොඳ අවස්ථා ලබාගත හැකිවන පරිදි, සිංහල භාෂාව පමණක් රාජ්‍ය භාෂාව කිරීම අවශ්‍ය විය. ලංකාව වැනි කාර්මික නොවූ රටක ප්‍රධාන රැකියා සපයන්නා රජය වනවා පමණක් නොව, රජයේ සේවය වඩාත්ම වාසිදායක රැකියාව වන බැවින්, භාෂා සටන ඇත්ත වශයෙන්ම ඒ ඒ මධ්‍යම පන්තීන් අතර රජයේ රැකියා සඳහා කරන ලද සටනක් විය. <u>ආර්ථික නොවන වෙනත් විසඳුමකට ස්ථිර ප්‍රතිඵල ගෙන දිය නොහැකි වීමටද</u> හේතුව වූයේ මෙයයි.

සිව්වනුව, දෙමළ භාෂාව වුකලී පෝක් සමුද්‍ර සන්ධියෙන් ඔබ්බෙන් හතර කෝටියකට වැඩි ජනතාවක් භාවිතා කරන භාෂාවකි. මෙය ඉන්දියාවෙන් එල්ලවිය හැකි සංස්කෘතික ආක්‍රමණයක බිය ඇති කරවන්නකි.

පස්වනුව, දෙමළ, සිංහලට වඩා පැරණි හා වඩා සංවර්ධනය වූ භාෂාවක්ද වේ. එබැවින් සිංහලයන් අතර හීනමාන හැඟුමක්ද ඇත.

මේ ඓතිහාසික යථාර්තයන් අගය කිරීමකින් තොරව, ලංකාවේ භාෂා ප්‍රශ්නයේ සංවර්ධනය තේරුම් ගැනීම අපහසුය. මහජන එක්සත් පෙරමුණු ජයග්‍රහණයෙන් පසුව, බණ්ඩාරනායක පෙඩරල් පක්ෂ නායක චෙල්වනායගම් සමග සාකච්ඡා මගින් භාෂා ප්‍රශ්නය විසඳීමට එක් ප්‍රබල උත්සාහයක් දැරිය. මේ සාකච්ඡාවල ප්‍රතිඵලය වූයේ සුප්‍රකට බණ්ඩාරනායක-චෙල්වනායගම් ගිවිසුමයි.

එය මුළු ලංකාවේම රාජ්‍ය භාෂාව සිංහල බව පිළිගනිමින්, ලංකාවේ උතුර හා නැගෙනහිර කොටස් වල දෙමළ භාෂාව සඳහා ඇතැම් රැකවරණයන්ද, පිළිගන්නා ලදී. එයින් එසේම ද්‍රවිඩ ප්‍රදේශවල ජනපද ඇති කිරීමේ ප්‍රකෝපකාරී ප්‍රශ්නය ගැනද එක්තරා අතරමග සමාදානයකට පැමිණ තිබුණි.

මෙහිදී ජාතිවාදී ප්‍රශ්නය ජනපද ව්‍යාපාරය අතර සම්බන්ධය පිළිබඳවද, කරුණු කීපයක් දැක්වීමද අවශ්‍යව ඇත. 1935 ඉඩම් කොමිෂන් වාර්ථාවෙන් පසු, ඩී.ඇස්. සේනානායක විසින් පටන්ගත් ඔහුගේ ගොවි ජනපද ව්‍යාපාරයන්ගෙන් වැඩිහරියක් පිහිටුවනු ලැබුවේ වියළි කලාපය ලෙස හැඳින්වෙන ප්‍රදේශයේය. ආරම්භයේදී මේවායින් වැඩි කොටස වූයේ උතුරු මැද පලාතේය. එහෙත් සමහරක්, ද්‍රවිඩයන් විසින් ඔවුන්ගේ සාම්ප්‍රදායික නිජබිම ලෙස අයිතිවාසිකම් කියනු ලබන උතුර හා නැගෙනහිර ප්‍රදේශවල පටන් ගැනුණි. ඇත්තෙන්ම වරක් මුළු දිවයිනම සිංහලයන්ට අයත්ව තිබුණි. එහෙත් අප විසින් පසුගිය ශත වර්ෂ 4 ක පමණ කාලය ගැන සලකන්නේ නම්, උතුරු හා නැගෙනහිර පළාත් වල පදිංචිකරුවන් ලෙස ද්‍රවිඩයන් අයිතිවාසිකම් ඉදිරිපත් කිරීම ඉවත දැමිය හැක්කක් නොවේ.

කෙසේ වුවද, සිංහල ජනපදිකයන් ද්‍රවිඩ ප්‍රදේශවල ජනපද ඇතිකිරීම ගැන ද්‍රවිඩ නායකයෝ විරුද්ධ වූහ. ඉඩම් ප්‍රශ්නය ජාතිවාදී ප්‍රශ්නයට ඈතුල් වූයේ මෙහිදීය. ලාංකික ද්‍රවිඩයන් ජාතියක් ලෙස සංවර්ධනයවී තිබේද? එබැවින් ඔවුන් ලංකාවේ කොටසකට හිමිකරුවන්ව සිටින්නේද? යන ප්‍රශ්නය පැන නගී. ලංකා ද්‍රවිඩයන් මේ දක්වාත් ජාතියක් ලෙස සංවර්ධනය වී සිටීද ? යන ප්‍රශ්නයට දිය යුත්තේ ''නැත'' පිළිතුරයි. මක්නිසාදයත්, ස්ටාලින් විසින් තම සුප්‍රකට විග්‍රහයේ දක්වා ඇති පරිදි, ජනතාවක් ඔවුන් ජාතියක් ලෙස පිළිගැනීමට පෙර සම්පූර්ණ කල යුතු යයි, සඳහන් කර ඇති කොන්දේසි වල එන ප්‍රධාන ගුණාංගයක් ඔවුන් සතුව නැති හෙයිනි. එනම් ඔවුන්ට පොදු ආර්ථිකයක් නැත.

ද්‍රවිඩයෝ ලංකාවේ වඩාත් නිසරු ඵලදායක නොවූ කොටස් වල පදිංචිව සිටිති. ලංකාවේ උතුරු කොටසේ කඳු වැටියක් හෝ ගංගාවක් හෝ නැත. එහි ප්‍රතිඵලයක් වශයෙන් ද්‍රවිඩයනට රැකියා සඳහා මලය ප්‍රදේශයට හෝ දකුණු ප්‍රදේශයට සංක්‍රමණය වීමට සිදුව ඇත. බ්‍රිතාන්‍යයන් විසින් වතුවල වැඩට ගෙන්වූ කම්කරුවන්ගේ භාෂාව කථා කිරීමට හැකිවීම නිසා, ඔවුන් වැඩි දෙනෙකුට වතුකරයේ ලිපිකරුවන් හා පරිපාලකයන් ලෙස රැකියා ලබාගත හැකි විය. ඉතිරි අයගෙන් විශාල ප්‍රමාණයක් රජයේ සේවයට බැඳුණි. බොහෝ පවුල් අඩු ගණනේ එක් අයෙකුවත් රජයේ රැකියා වල යෙදෙන බවට පුරසාරම් දොඩති.

මෙය, එවිට ද්‍රවිඩයන් තුළ දක්නට ලැබෙන ප්‍රතිවිරෝධතාව වෙයි. ඔවුන් ලංකාවේ එක් පලාතක ජීවත් වෙමින්, ඔවුන්ගේ ජීවන මාර්ගය වැඩි



වශයෙන්ම සොයා ගන්නේ වෙනත් පළාතකිනි. ද්‍රවිඩයන් එක් ප්‍රදේශයකටම බැඳී සිටියා නම්, ඔවුන් වෙනුවෙන් එක්තරා ප්‍රමාණයක ස්වාධිපත්‍යයක් ඉල්ලා සිටීමට විරුද්ධ වීමට නුපුළුවන් විය හැකිය. ඒ වගේම එය ජයග්‍රහණය කළ හැකි ඉල්ලීමක් විය හැකිව තිබුණි. එසේම ඒහා සමානව ද්‍රවිඩ ප්‍රදේශ වල සිංහල ජනපද පිහිටුවීමට දක්වන විරුද්ධත්වයද, ද්‍රවිඩයන්ට ලංකාවේ ඕනෑම කොටසක ඉඩම් අයිතිය හා රැකියා කිරීමේ අයිතිය අත්හැරීමට හැකිකමක් තිබුණි නම්, වඩාත් අර්ථවත් විය හැකිව තිබිණ. විදේශ විනිමය හිඟකම් නිසා, අත්‍යාවශ්‍ය නොවන ආහාර ද්‍රව්‍ය ආනයනය තහනම් කිරීමේ ප්‍රතිඵලයක් වශයෙන්, එතැන් සිට තත්ත්වය සුළු වශයෙන් වෙනස් වෙමින් තිබිණ. යාපනයේ කාර්‍ය්‍ය ශූර ගොවියා මෙම අවස්ථාව ප්‍රයෝජනයට ගනිමින්, මෙකී බෝගයන් වගා කළ බැවින්, පොහොසත් ගොවි පංතියක මතුවීමේ නිශ්චිත සළකුණු පෙනිණ.

කෙසේ වෙතත් ද්‍රවිඩ ප්‍රදේශවල සිංහල ජනපද පිහිටුවීමට පිටුපසින් වූ අදහස ද්‍රවිඩයන් වැඩි ප්‍රදේශ, සිංහලයන් වැඩි ප්‍රදේශ ලෙස පරිවර්තනය කිරීම බවට සැකයක් නැත. ඩී.ඇස්. සේනානායක ශූර සිංහල නායකයෙකු විය. ඔහු කිසි විටෙකත් ජාතිවාදය ප්‍රසිද්ධියේ ප්‍රකාශ කර නැත. එහෙත් ඔහු ද්‍රවිඩ පලාත් සිංහල කිරීමේ අරමුණින් දැඩිව ක්‍රියාත්මක විය. ඩී.ඇස්. සේනානායකගේ මරණින් පසුව ඩී.ඇස් ගේ සගයකු වූ වී. රත්නායක විසින් කරන ලද කතාවක දී, බළලා මල්ලෙන් එළියට පැන්නේය.

බණ්ඩාරනායක චෙල්වනායගම් ගිවිසුම එම වාතාවරණය යටතේ එළඹිය හැකිව තිබූ හොඳම එකඟතාව වන්නට තිබුණි. එහෙත් ඊට අවස්ථාවක් දුනනේ නැත. එකසත් ජාතික පක්ෂය කැළඹුන දියේ මසුන් ඇල්ලීමට තැත් කළ අතර, ගිවිසුමට විරුද්ධව ජනමතය සකස් කිරීමට නුවරට පයින් ගමනක් සංවිධානය කළේය. ගිවිසුම ආරක්ෂා කිරීමේදී, බණ්ඩාරනායක ඇතැම් විට රාජ්‍ය පාලකයකු වශයෙන් ඔහුගේ ශ්‍රේෂ්ඨත්වයේ උච්ච ස්ථානයටම පත් විය. බෝගම්බර පිට්ටනියේ දී පැවැත් වූ ඔහුගේ සුප්‍රකට කථාව ඇතැම් විට ඔහු කළ හොඳම කථාව, ඔහු තුළ වූ සියළුම හොඳ දේ ඇතුළත් වූ එකක් ලෙස හැම විටම සිහිපත් කළ හැකිය. එහෙත්, ඔහුගේ කඳවුර තුළ ද ජාතිවාදී කොටස් කැරළි ගැසීය. පෙඩරල් නායකයෝද, මේ තීරණාත්මක මොහොතේ ඔහුගේ ආධාරයට එනවා වෙනුවට, ශ්‍රී විරෝධී දීන ව්‍යාපාරය දියත් කළහ. ගිවිසුම ඉරා දමනු ලැබිණ. පෙඩරල් පක්ෂයේ ශ්‍රී විරෝධී ව්‍යාපාරයට විරුද්ධව, දකුණේ සිංහල ''යුද්ධකාමියා'' වූ කේ.ඇම්.පී. රාජරත්න විසින් තාර ගෑමේ ව්‍යාපාරය දියත් කරන ලදී. මෙම ක්‍රියාදාමයේදී, ප්‍රසිද්ධ ස්ථාන වල තිබූ දෙමළ අකුරු මත නිදහස් ලෙස තාර ආලේප කිරීම සිදු විය.

එය ලංකා ඉතිහාසයේ දරුණුම ජාතිවාදී ලේ වැගිරීම වන තැනට දෙපක්ෂයේම කැළඹීම උත්සන්න විය. එය නිවැරදිව සිතන සෑම ලාංකිකයකුම

ලජ්ජාවෙන් බිම බලාගත යුතු තරම් වන සිද්ධියකි. එය අප රට ඉතිහාසයේ නොමැකෙන කැළැලක්ව පවතිනු ඇත. මිනිසුන් එක රැයින් තිරිසනුන් බවට හැරෙමින්, වෙනම භාෂාවක් කථාකිරීම හැර තමන්ට කිසිම අපරාධයක් නොකළ ජනතාවක් මත, පැට්‍රල් දමා ගිනි තබන තරමට පිරිහීමට පත්වූහ.

මේ භයානක සිද්ධියේ ආසන්න හේතු ඇති කිරීම ගැන, ශ්‍රී විරෝධය පටන් ගත් පෙඩරල් පක්ෂයේ අන්තවාදී නායකයන්ද, තාරගෑම පටන්ගත් සිංහලයන් අතර වු උමතු ජාතිවාදීන්ද, ව්‍යාපාරය පැතිර යද්දී ක්ෂණික දෘඪ තීරණයක් ගැනීමට තරම් ශක්තියක් නොමැතිව අසරණ වූ බණ්ඩාරනායක ආණ්ඩුවද, වගකිව යුතුය. තත්වය පාලනය කළ හැකි වූයේ හදිසි නීතිය ප්‍රකාශයට පත්කිරීමෙන් පසුව පමණය. දකුණේ විපතට පත් ද්‍රවිඩයන් නැව්වලින් උතුරට ගෙනයාමට සිදුවීමෙන්, මෑතදී සිංහලයන් හා ද්‍රවිඩයන් අතර ජාතික සම්බන්ධකම් කෙතරම් දුරට පිරිහී ගියාද යන්න පෙන්වයි.

එසේම, මේ කෝලාහලය පෙඩරල් පක්ෂයේ දේශපාලන බංකොලොත් භාවයේ පිළිබිඹුවකි. හදිසි අවස්ථාවේ මුල් දින වලදී පෙඩරල් පක්ෂයේ නායකයින් අත්අඩංගුවේ රඳවා තබන ලදී. තමන් විසින් නියෝජනය කරන බව කියනු ලබන දෙමළ ජනතාවගේ අවශ්‍යතාවයන් රැකදීමට පෙඩරල් පක්ෂය අපොහොසත් විය. එහෙත්, බණ්ඩාරනායක ආණ්ඩු දෙක මගින් ගනු ලැබුවා වූ උන්නතිකාමී ක්‍රියාවන්ට, එනම් කුඹුරු පණත, පාසල් පවරා ගැනීමේ පණත, වැනිදේට වරුද්ධවීමෙන් ප්‍රගතිශීලී සිංහල ජනමතය සතුරු කර ගනිමින්ද, ප්‍රතිවිරුද්ධ සිංහල දේශපාලන කණ්ඩායම් දෙක අතර බේරුම්කාරයකු ලෙස ජීවත්වීමේ අපේක්ෂාව ඇති කර ගනිමින් ද, එලෙසම ද්‍රවිඩයන් සඳහා අවස්ථාවාදී කේවෙල් කිරීමේ ව්‍යාපාරයේ යෙදෙමින් ද, පෙඩරල් පක්ෂය උතුරේ ජාතිවාදය දේශනා කරමින්, ස්වකීය වඳ ක්‍රියා මාර්ගයෙහි දිගටම යෙදී සිටී. ඒ අනුව ද්‍රවිඩයන්ගෙන් අවස්ථාවාදී ලාභ ප්‍රයෝජන ලබමින් සිය වඳභාවය දිගටම ගෙන යයි. එය සිංහල පක්ෂ දෙකින් එකකට දෙමළ ජනතාවගේ අයිතිය වෙළඳාම් කිරීමට තැත් කිරීමකි. 1965 දී පෙඩරල් පක්ෂයට එබඳු වාසනාවක් උදාවුනි. එහෙත්, පසුව එවැනි තත්ත්වයක් උදා නොවීය.

ඇතැම් විට සිංහල පමණක් පණත ඉදිරිපත් කිරීමෙන් මහජන එක්සත් පෙරමුණු ආණ්ඩුවට මුළුමණින්ම ද්‍රවිඩ ආධාර නොලැබීයාම පිළිබඳව අවබෝධ වීම නිසා (1956 මැතිවරණයේදී සිංහල ප්‍රදේශවල ද්‍රවිඩයන් බොහෝ දෙනා එක්සත් ජාතික පක්ෂයට විරුද්ධව මහජන එක්සත් පෙරමුණට සහාය දුන්හ. ) බණ්ඩාරනායක විසින් පාර්ලිමේන්තුව තුළින් ද්‍රවිඩ භාෂාවේ සාධාරණ පාවිච්චිය ( ද්‍රවිඩ භාෂා විශේෂ විධි විධාන ) පිළිබඳ පණත ඉදිරිපත් කරන ලදී. එය ඇත්තෙන්ම පුහු ලිපියක් බවට පත්ව ඇත. ඒ යටතේ නීති රෙගුලාසි සකස් කළේ නැත. පසුව පත් වූ එක්සත් ජාතික පක්ෂ ආණ්ඩුව එසේ කිරීමට සූදානම් වූ විට, එය ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ තදබල විරෝධයට අසුවිය. කෙසේ හෝ



එය ද්‍රවිඩයන් සෑහීමකට පත්කිරීමට තරම් සාර්ථක නොවීය.

මේ කාලය තුළ සිංහල සහ දෙමළ යන භාෂා දෙකටම සම තත්ත්වය වෙනුවෙන් කෙලින්ම පෙනී සිටි සිංහල බහුතර සාමාජිකත්වයක් ඇති ජාතික පක්ෂ දෙක ලංකා සමසමාජ පක්ෂය හා කොමියුනිස්ට් පක්ෂය බව පෙන්වා දිය යුතුව ඇත. එහෙත්, එය වැඩිකල් නොපැවතුණි. පාර්ලිමේන්තු අවස්ථාවාදයේ හා ජාතිවාදයේ ද්විත්ව බලපෑමට යටවූ එම පක්ෂද, මේ ප්‍රශ්නයේ දී ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ සිතුම් මගටම වැටුණි.

අද, සිංහල පමණක් යෝජනාවේ වාසි අවාසි ගැන විවාද කිරීම නිෂ්ඵලය. <u>එහෙත්, ප්‍රගතිශීලියකු විසින් මොනම යෝජනාවක හෝ නිවැරදි බවත්, සාධාරණ බවත්, මැනිය යුත්තේ එකම මිම්මකිනි. එනම්, එය අධිරාජ්‍ය විරෝධී බලවේග එක්සත් කරනවාද ? නැත්නම් භේද කරනවාද</u>?, යන්නයි. මේ මිම්මෙන් මැන්න කල සිංහල පමණක් රාජ්‍ය භාෂාව විය යුතුය යන යෝජනාව ආපසු ගමනක් බව විනිශ්චය කළ යුතුය. එය නිශ්චිත වශයෙන්ම ද්විතීයික ප්‍රති විරෝධතාවය ( සිංහලයන් හා ද්‍රවිඩයන් අතර ) පුළුල් කරන අතර, ප්‍රධාන ප්‍රති විරෝධතාවය ( සිංහල හා දෙමළ ජනතාවත් - අධිරාජ්‍යවාදීනුත් අතර ) පස්සට තල්ලු කරයි. එය මිතුරකු සතුරු කර, විරුද්ධවාදියාට පහසුකම් සැපයීය. එසේම එය 1958 ජාතිවාදී කෝලාහලයේ මූලික හේතුව විය.

බණ්ඩාරනායක මහතාගේ මහජන එක්සත් පෙරමුණ මුලින්ම, එක්සත් ජාතික පක්ෂයට ඇති පොදු විරෝධයත්, බණ්ඩාරනායකගේ පෞරුෂත්වයත් යටතේ, වෙනස් මතධාරී බලවේග අතර, සිදු කළ විවාහයක් පමණි. එහෙත් එබඳු වෙනස් මත දරණ බලවේගයන් එකට තබාගත නොහැකි බව ඔප්පු විය. 1959 මුල් කාලයේදී කෘෂිකාර්මික සමූපකාර බැංකු පණත හා සහතික වී මිල ඉහළ නැංවීම උඩ භේදවීම ඇති විය. පිලිප් ගුණවර්ධන සහ ඔහුගේ සගයා වූ විලියම් සිල්වා මහජන එක්සත් පෙරමුණු බන්ධනයෙන් ඉවත් විය. මේ කාලයේ පැවැත්වූ ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ කුරුණෑගල සම්මේලනයේදී, බණ්ඩාරනායකට ඔහුගේ ප්‍රථම කොමියුනිස්ට් විරෝධී කථාව කිරීමට බල කෙරුණි.

ඔහුගේ කැබිනට් මණ්ඩලයේ ප්‍රගතිශීලී කොටස් ඉවත් වන්නට මග පෑදීමත් සමගම, බණ්ඩාරනායක ප්‍රතිගාමී කණ්ඩායම්වල සිරකරුවකු බවට පත්වූ අතර, ඔවුන්ගේ ඇතැම් නියෝජිතයෝ 1959 සැප්තැම්බර් 25 වනදා ඔහු මරා දැමීමේ කුමන්ත්‍රණය සාර්ථක කළහ. ඔහු තම නිවසේ බරාඳයෙහි වැඩ සිටි බෞද්ධ භික්ෂුවට නමස්කාර කිරීමට පහත් වූ විට, භික්ෂුව තම සිවුරු අතර සඟවා තිබූ පිස්තෝලයක් එළියට ඇද, එය අගමැතිගේ දුබල සිරුරට එල්ල කළේය. එය සිදුවූයේ අගමැති, එක්සත් ජාතීන්ගේ සංවිධානයට යාමට සිටි දිනයට පෙර දිනයේදීය. ඊලඟ දිනයේ අගමැති ඔහුගේ තුවාල හේතුකොට ගෙන මිය ගියේය.

මරණය සිදුවූ ආකාරයත්, ඔහු ඊට මුහුණපෑමේ දී දැක්වූ ධෛර්‍යයත්, තමන්ට වෙඩිතැබූ සාහසිකයාට සමාව දීමෙන් ප්‍රකාශ කළ ශ්‍රේෂ්ඨ ගුණයත්, ඔහුගේ නම වටා රැස් වළල්ලක් ගොඩ නගා ඇත. ඔහු දේවත්වයට පත් කිරීමට පවා උත්සාහයක් දරණ ලදී. එබඳු වාතාවරණයක් තුළ ලංකා දේශපාලනයේ ඔහුට හිමි තැන පිළිබඳ නිශ්චිත තක්සේරුවක් තවමත් කර නැත. ඔහු විසින් අනුගමනය කළ යුතු යයි ප්‍රකාශ කළ බවක් කියන ඊනියා බණ්ඩාරනායක ප්‍රතිපත්ති පිළිබඳ ජනප්‍රවාදයක් මතුව ඇත. එවැනි කෙනෙකුට බණ්ඩාරනායක ප්‍රතිපත්ති විස්තර කරන ලෙස කියා සිටියොත්, සතුටුදායක පිළිතුරක් නොලැබේ. සමහර විට මේ අපැහැදිලිකම, අද සිදුවන්නාක් මෙන්, කෙනෙකුට තම සිතැඟි සේ ක්‍රියාකාරී වෙමින්, ඒ අතරම තමන් භක්තිමත් ලෙස බණ්ඩාරනායක ප්‍රතිපත්ති අනුගමනය කරන බවද කියා පෑමට ඉඩ සලසා ඇත.

බණ්ඩාරනායක අනුගමනය කළ ප්‍රතිපත්ති වල කිසියම් මූලධර්මයක් දැකීමට තැත්කරන්නෙකුට - ඔහු ලෝක දෙකක් අතරත්, එනම් එකක් තවමත් නොමැරුනා වූත්, අනෙක තවමත් නූපන්නාවූත්, ලෝක දෙකක් අතර පාලමක් ලෙසින් සිතූ බවක් දැනගන්නට ලැබේ. ලංකාවේ වර්තමාන කාලය ඔහු විසින් පරිවර්තන යුගයක් ලෙස මහත් අභිරුචියකින් සඳහන් කරනු ලැබුවේ එහෙයිනි. ඔහු විසින් ධනවාදයේ හා කොමියුනිස්ට්වාදයේ අන්තවලින් මිදුන එකක්සේ අදහස් කරනු ලැබූ, මැදපිළිවෙතක් සැළසුම් කිරීමට තැත් කරන ලදී. ඇත්තෙන්ම මෙය තර්කාණුකූල නොවූත්, විනයානුකූල නොවූත්, සංකල්පයක් විය. ලංකාවට තෝරා ගැනීමට තිබුනේ ධනවාදය හා කොමියුනිස්ට්වාදය අතරින් යමක් නොවේ. කෙසේ හෝ දෙක අතර මැද මාවතක් නැත. <u>ලංකාවට තෝරා ගැනීමට තිබුණේ, නව යටත් විජිත වාදයේ වහල් බවත්, සැබෑ ජාතික ස්වාධීනත්වයත් යන දෙකින් එකකි.</u> බණ්ඩාරනායකට මෙය දැකීමට නොහැකි විය. ඔහු මළ පසු ඔහු බලයට පත්වන විට තිබුනාටත් වඩා ස්ථිරව නව යටත් විජිතවාදී බැමි තද විය. පොදු ජනතාව භාජනය කරනු ලැබූ සූරා කෑම තවමත් දරුණු ලෙස පවතී. එකම ආර්ථික ප්‍රශ්නයක්වත් විසඳී නැත. මැද මාවත පිළිබඳ සංකල්පය ඇත්ත වශයෙන්ම, පවතින තත්ත්වය දිගටම පවත්වාගෙන යාම සඳහා සැරසිලි කිරීමට තැත් කිරීමක් හා මූලික වෙනස්කම් කල් දැමීමක් සඳහා නිදහසට කරුණු දැක්වීමකි.

බණ්ඩාරනායකගේ නොබැඳි පිලිවෙත නමින් අදහස් වූ රටේ විදේශ ප්‍රතිපත්තිය නිසා, අඩු වශයෙන් ලංකාව අධිරාජ්‍යවාදීන්ගේ කඳවුරු පස්සේ යමින් සිටි තත්ත්වයෙන් ඉවත් විය. එහෙත් නොබැඳුන, පිළිවෙත සජීවී ප්‍රතිපත්තියක් නොවීය. වැඩි වශයෙන් එහි අදහස්ව ඇත්තේ, එක පැත්තක් අනෙක් පැත්තට විරුද්ධව යෙදවීම සහ ලෝක දෙකෙන්ම වාසි ලබා ගැනීමය. තවම එය එක්තරා ප්‍රමාණයකින් ලාබ කොටස ලබා ඇත. ඊට අමතරව හැම රටක්ම පැත්තක් තෝරා ගත යුතුව ඇත. ඉන්දියාව වැනි නොබැඳුන පිළිවෙත



ගැන ලොකුවට සෝෂා කළ රටවලින් සමහරක් අද, වඩාත්ම බැඳුන රටවල් බවට පත්වීම දක්වා ගමන් කර ඇත. කෙසේ හෝ බණ්ඩාරනායකගේ නොබැඳුන පිළිවෙත නිසා, ලංකාව අන්තර්ජාතික වශයෙන් වෙන කවදාටත් වඩා මිතුරන් දිනාගෙන ඇත.

බණ්ඩාරනායකගේ තැන ගැනීමට කෙනෙකු මතුවීමට සහ කුමන වර්ගයක හෝ දේශපාලන ස්ථාවරයක් ඇතිවීමට අවුරුද්දක් පමණ ගතවිය. බණ්ඩාරනායක මැරුණ විට ඒ වෙනුවට දේශපාලන වශයෙන් පැහැදිළිවම තෝරාගත යුතුව තිබුණේ, සභානායකව සිටි සී.පී. ද සිල්වාය. එහෙත්, ඔහු නුසුදුසු කුලයකට අයත් විය. ලංකාවේ රදළවාදයේ වාසනාවට, සී.පී. ද සිල්වා තම නායකයා මිය යන විට අසනීපව එංගලන්තයේ ප්‍රතකාර ලබමින් සිටියේය. කැබිනට් මණ්ඩලය විසින් අගමැති පුරප්පාඩුවට ඩබ්ලිව්. දහනායක තෝරා ගන්නා ලදී. එය අන්ත මෝඩ තේරීමක් වූ අතර, තෙරීම සිදු කළ අන්දම කිසිවකුත් විස්තර කර නැත. අනුකම්පා කළ යුතු පරිදි එය වැඩිකල් නොපැවතුණි. දහනායක තම කැබිනට් මණ්ඩලයෙන් බාගයක් පමණ අස්කළ අතර, තමා කැමති අය පත් කරගත්තේය. එහෙත් පාර්ලිමේන්තුවේ ඔහුට අභියෝග කිරීමට පෙර ඔහු එය විසුරුවා හැර, අලුත් මැතිවරණයක් පැවැත්වීමට නියෝග කළේය. ඔහු මැතිවරණය තරඟ කිරීම සඳහා අලුත් පක්ෂයක් පිහිටුවීය. දහනායක ඇතුළු එම පක්ෂයේ හැම අපේක්ෂකයෙකුම පරාජය වූ අතර, ඔවුන්ගෙන් වැඩි දෙනෙකුගේ ඇප රාජසන්තක විය.

1960 මාර්තු මැතිවරණය කිසිඳු තීරණාත්මක ප්‍රතිඵලයක් ඇති කළේ නැත. කිසිම පක්ෂයක් පාර්ලිමේන්තුවේ ප්‍රමාණවත් බහුතරයක් ලැබුවේ නැත. එහෙත්, එක්සත් ජාතික පක්ෂය පාර්ලිමේන්තුවේ විශාලම තනි පක්ෂය වූ අතර, ශ්‍රී ලංකා නිදහස් පක්ෂය දෙවන තැන ගත්තේය. වාමාංශික පක්ෂ වලට නරක දශාවක් ලබා තිබුණි. වාමාංශික පක්ෂ තුනම මැතිවරණය තනිතනිව තරඟ කළ අතර, අන්ත ලෙස පරාජයට පත් විය. මේ මැතිවරණය ඇන්.ඇම්. පෙරේරා හා පිලිප් ගුණවර්ධණ, තම තමන්ගේ පක්ෂ වල පමණක් ආධාරයෙන් අගමැතිකම ලබාගැනීම සඳහා නිෂ්ඵල ප්‍රයත්නයක යෙදුන මැතිවරණයක් ලෙස මතකයේ තිබෙනු ඇත. මීටත් වඩා නරක නිකාය වාදයක් හා යථාර්තයෙන් ඈත්වීමක් ගැන සිතාගත නොහැක. එහෙත් ලංකා සමසමාජ පක්ෂය මේ මැතිවරණයට මුහුණ දුන්නේ, ''ඇන්.ඇම්. අගමැති කරවමු'' යන සටන් පාඨය සහිතවද? යන්න අද අපට විශ්වාස කිරීමට පවා අපහසුය.

ඩඩ්ලි සේනානායක එක්සත් ජාතික පක්ෂයේ ආණ්ඩුවක් පිහිටුවීමට තැත් කළ නමුත්, මුල් විශ්වාසභංග යෝජනාවෙන්ම පරාජයට පත්විය. මේ අවස්ථාවේ දී පෙඩරල් පක්ෂය එක්සත් ජාතික පක්ෂයට එක්වීම ප්‍රතික්ෂෙප කළේය. 1960 ජූලි මස නව මැතිවරණයක් පැවැත්විණ. මේ මැතිවරණයේදී එක්සත් ජාතික පක්ෂ විරෝධීන් අතර, වඩා පොදු හැඟුමක් හා

යථාර්තය වටහාගැනීමක් දක්නට ලැබුණි. ඒ වන විට බණ්ඩාරනායක මැතිණිය ශ්‍රී ලංකා නිදහස් පක්‍ෂ නායකත්වය පිළිගෙන තිබුණි. තනිවම කැමට ගිය ලංකා සමසමාජ පක්‍ෂය මාර්තු හා ජූලි මැතිවරණ දෙකේදීම, එක්සත් ජාතික පක්‍ෂ විරෝධී පොදු එක්සත් පෙරමුණක් සඳහා හඩ නැගූ කොමියුනිස්ට් පක්‍ෂය හා එකමුතුවීමට තවමත් සූදානම් නොවූවද, ශ්‍රී ලංකා නිදහස් පක්‍ෂය සමග නිතරග ගිවිසුමකට කැමති විය.

ශ්‍රී ලංකා - සමසමාජ - කොමියුනිස්ට් පක්‍ෂ අතර ඇති වූ නිතරග ගිවිසුමේ ප්‍රතිඵලය වූයේ, එක්සත් ජාතික පක්‍ෂ විරෝධී බලවේගයන්ගේ පැහැදිළි ජයග්‍රහණයයි. එහෙත්, කිසි විටෙකත් බලාපොරොත්තු නොවූ පරිදි, ශ්‍රී ලංකා නිදහස් පක්‍ෂය අනෙක් පක්‍ෂ වල ආධාර නැතිව තමන්ගේම ආණ්ඩුවක් පිහිටුවීමට ප්‍රමාණවත් ආසන ගණනක් (75) ජය ගත්තේය. මෙය විශේෂයෙන්ම ශ්‍රී ලංකා නිදහස් පක්‍ෂයට ආණ්ඩුවක් පිහිටුවීම සඳහා තම පක්‍ෂයේ සහය අවශ්‍යමවේ යයි බලාසිටි, ලංකා සමසමාජ පක්‍ෂයට විශාල වශයෙන් බලාපොරොත්තු කඩවීමක් විය. එබැවින් අලුත් ආණ්ඩුව පිරිසිදු ශ්‍රී ලංකා නිදහස් පක්‍ෂ (එහෙත් වාමාංශික පක්‍ෂ සහයෝගය ලැබුණි.) ආණ්ඩුවක් වූ අතර, මෙවර එය බණ්ඩාරනායක මැතිණියගේ අගමැතිකම යටතේ, දෙවන බණ්ඩාරනායක ආණ්ඩුවක් විය. ඇය තමාවිසින් ආසනයක් තරග කර නොතිබුණි. සියලුම සම්ප්‍රදායන් ඉවත දැමූ අතර, ඇයට සෙනෙට් සභාවේ අසුනක් ලැබුණි. මෙසේ ඇය ප්‍රථම කාන්තා අගමැතිණිය බවට පත්වූවාය.

එහෙත්, බණ්ඩාරනායක මැතිණියට තම කාර්‍ය්‍ය එතරම් පහසු නොවීය. ඇගේ අගමැති තනතුරේ මුල් කාල පරිච්ඡේදය රළුපරුෂ එකක් බව ඔප්පු විය. ආර්ථික අර්බුදය ඉහළ නැගීම, පෙඩරල් පක්‍ෂයේ සත්‍යග්‍රහ ව්‍යාපාරය, ඉහළ පෙලේ හමුදා හා පොලිස් නිලධාරින්ගේ කුමණ්ත්‍රණ, එක්සත් වාමාංශික පෙරමුණේ වෘත්තීය සමිති ඒකාබද්ධ බලමණ්ඩලය නැගීම හා බැසීම, සභාග ආණ්ඩුව පිහිටුවීම, සිරිමා-ශාස්ත්‍රි ගිවිසුම අත්සන් කිරීම, වාමාංශික ව්‍යාපාරයේ තවත් බිඳීයාම් සහ පුවත්පත් පණත පිළිබඳ විවාදයේ දී රජය බිඳ වැටීම, එම වකවානුවේදී සිදු වූ දේය.

නව රජය බලයට පත්වූ මුල් කාලයේදීම, එහි මුදල් ඇමති වූ පීලික්ස් ඩයස් බණ්ඩාරනායකට, සහල් සහනාධාරයෙන් කොටසක් කපා හැරීමට යොජනා කිරීම තුළින්, ආර්ථික අර්බුදයෙන් මිදීමේ මගක් සොයා ගැනීමට බල කෙරුණි. එහෙත් , ආණ්ඩුවේ පාර්ලිමේන්තු කණ්ඩායම එම යොජනාව අස්කර ගැනීමට ඔහුට බල කළ අතර, ඔහු ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදී සම්ප්‍රදායට අනුකූලතාව දක්වමින්, සිය අමැති ධූරයෙන් ඉල්ලා අස්විය. ශ්‍රී ලංකා නිදහස් පක්‍ෂයට අවුරුදු පහක් තුළ එහි මුදල් ඇමතිවරුන් පස්වරක්ම වෙනස් කිරීමට සිදු වීම, ලංකාව මුහණදුන් ආර්ථික අර්බුදයේ උග්‍ර ස්වභාය පිළිබඳ නිදර්ශනයකි. කිසිවෙකුට විසඳුමක් සොයාගත නොහැකි විය. අන්තිම



විසඳුම වූයේ (විසඳුමක් නොවූ ) පසුව විස්තර කරනු ලබන දේශපාලනමය එකකි.

භාෂා ප්‍රශ්නයේදී ඔවුනට විඳින්නට සිදුවූ පරාජය හා ජාතිවාදී කෝලාහල වලදී ඔවුන්ගේ අකර්මන්‍ය බවේ ප්‍රතිඵලයක් වශයෙන්, ද්‍රවිඩ ජනතාව අතර ඔවුන්ට තිබුණ ආධාරය ඉරිතලා ඇති බව තේරුම් ගත් පෙඩරල් පක්‍ෂයේ නායකත්වය, නැවතත් ජනතාවගේ අවධානය තමන්වෙත ඇදගෙන, දිගටම ආධාර ලබා ගැනීම සඳහා යම්කිසි ඇස් බැන්දුමක් කළ යුතු විය ඔවුහු යාපනයේ සත්‍යග්‍රහ ව්‍යාපාරයක් ආරම්භ කිරීමට තීරණය කළහ. බලාපොරොත්තු වූ පරිදිම මහත් සහයෝගයක් ලැබුණි. පෙඩරල් පක්‍ෂය විශාල වශයෙන් ආධාර ලබා ගැනීමට සමත්වූ අතර. සත්‍යග්‍රහ කණ්ඩායම් සාර්ථක ලෙස නොකඩවා කච්චේරි ගේට්ටු අවහිර කිරීම සඳහා යෙදවීමට හැකිවිය ව්‍යාපාරයේ සාර්ථකත්වය පෙඩරල් පක්ෂ නායකයන්ගේ හිස් ඉදිමවූ අතර, වෙනම රාජ්‍යයක් ඇති කිරීම සඳහා උත්සාහයක් කර බැලීමේ කැරැල්ලක් දෙසට යොමු විය. ඔවුහු තමන්ගේම මුද්දර නිකුත්කරමින් එය ආරම්භ කළහ.

රජය ක්‍රියාත්මකවීමට තීරණයකළ අතර, තම හමුදාවන්ට සත්‍යග්‍රහය කඩාකප්පල් කිරීමට අණ දුණි. ඔවුහු මෙය විරුද්ධත්වය පෑමකින් තොරව, සිදු කළහ. එබඳු තත්වයකට මුහුණ දීම සඳහා පෙඩරල් පක්‍ෂයේ සූදානමක් නොවූ අතර, ව්‍යාපාරය බිඳ වැටුණි. නැවතත්, ඔවුන් අතර විශාල වශයෙන් එක්සත් බවක් තිබියදී පවා, උතුරු අයර්ලන්තයේ කැරලිවලට යන්තමින් හෝ සමාන දෙයක් කිරීමට පවා නොහැකි වූ කාරණය නම්, ද්‍රවිඩයන් ගෙන් වැඩි දෙනෙකුගේ ආර්ථික සම්බන්ධතා පැවතුනේ ලංකාවේ දකුණු ප්‍රදේශයේ වීමයි.

හමුදාවේ හා පොලිසියේ ඉහළ මට්ටමේ නිලධාරීන්ගේ අසාර්ථක වූ කුමණ්ත්‍රණය 1962 දී දක්නට ලැබුණි. මේ කුමන්ත්‍රණයට සහභාගී වූ අය අතර ලංකා ස්වේච්ඡා හමුදාවේ කපිතාන්, නාවික හමුදාවේ අණදෙන නිලධාරී, නියෝජ්‍ය පොලිස්පති සහ තවත් ඉහළ පෙලේ පොලිස් නිලධාරීන් කීපදෙනෙක්, සිවිල් නිලධාරීන් හා නම ගිය ව්‍යාපාරිකයෝද වූහ. ඔවුනට දේශපාලන සම්බන්ධකම් තිබුණි නම්, ඔවුන් කිසි විටෙක අසාර්ථක නොවනු ඇත. කුමන්ත්‍රණය හොඳින් සැලසුම් කර තිබුණ අතර, අසාර්ථක වූයේ එක් පොලිස් නිලධාරියෙක් (වර්‍තමාන පොලිස්පති ස්ටැන්ලි සේනානායක) කුමන්ත්‍රණය ගැන සිය බිරිඳගේ කණේ තැබීමත්, ඇය තම පියා වූ පී. ද ඇස් කුලරත්නට දැන්වූ අතර, ඔහු මගින් ආරංචිය පොලිස්පති අතට පත්වීමත් සිදු වූ හෙයිනි. තීරණාත්මක අවස්ථාවේ මෙය සිදුවූ නිසා, රජය අනූනවයෙන් බේරුණි.

කුමන්ත්‍රණකරුවන්ගෙන් එක් අයෙක් හෝ දෙදෙනෙක් සියදිවි නසා ගත්හ. ඉතිරි අය ශ්‍රේෂ්ඨාධිකරණය මගින් නඩු අසා වැරදිකරුවන් කළ නමුත්, රාජාධිකරණය විසින් නීති ප්‍රශ්නයක් උඩ නිදහස්කරන ලදී. අසාර්ථක වූ

කුමන්ත්‍රණය හා ඊට ගැවුන ඉහළ පෙළේ නම් නිසා රට තුළ මහත් ආන්දෝලනයක් ඇති විය. එය ලංකාවේ කුමන්ත්‍රණයක් ඇති කිරීමට තැත් කළ මුල් වතාව විය. අසාර්ථක වූ කුමන්ත්‍රණය පිළිඳබව කළ පරීක්ෂණවලදී මතුවූ එක්තරා සැකයක් නිසා, ආණ්ඩුව විසින් අග්‍රාණ්ඩුකාර සර් ඔලිවර් ගුණතිලකට ඉල්ලා අස්වීමට බල කරන ලදී. නිත්‍යානුකූලව ඔහු රැජිනගේ නියෝජිතයා වූ අතර, ඔහුව නෙරපීමට පෙර ඇයෙග් අනුමැතිය අවශ්‍ය විය. නම්‍ය සාකච්ජාවකින් පසු ඇතැම් කොන්දේසි පිට අනුමැතිය ලැබුණි. සෑම අගමැතිවරයෙකුගේම තිරය පිටුපස සිටි උපදේශකයා වූද, අපගේ දූෂ්ඨ බුද්ධිමතා යනුවෙන් සමහරෙක් විසින් හඳුන්වනු ලැබුවාවූද, ඔලිවර් ගුණතිලකගේ අපකීර්තිමත් අවසානය එය විය. බණ්ඩාරනායක මැතිණියගේ ඥාතියෙකු වූ විලියම් ගොපල්ලව ඔහුගේ තනතුරට පත්විය. කුමන්ත්‍රණ කරුවන් සියලු දෙනාම මහජන සහයෝගයක් හෝ අනුකම්පාවක් නොලැබූ නමගිය ප්‍රතිගාමීන් වූ නිසා, මේ කුමන්ත්‍රණය රජයට, රට පුරා අනුකම්පාවක් ජනිත කළේය.

ආර්ථික අර්බුදය වඩාත් උග්‍ර වන්නට විය. වැඩ වර්ජනද සුලභ විය. ඉතිහාසයේ දිගම වැඩ වර්ජන කීපයක් වූ, වරාය වැඩ වර්ජනය, බැංකු වැඩ වර්ජනය, වැල්ලවත්ත රෙදි මෝලේ වැඩ වර්ජනය, මේ යුගයේදී ඇති විය. රජය වැටුප් වැඩි නොකිරීමේ ප්‍රතිපත්තියක් ප්‍රකාශයට පත් කර, වැඩ වර්ජන කළ විට එය අවසන් වන තුරු බලාගෙන සිටීමේ ප්‍රතිපත්තියක් ද අනුගමනය කරමින්, අත්‍යාවශ්‍ය සේවාවන්හි වැඩ වර්ජන කඩාකප්පල් කිරීමට හමුදව යෙදවීය. මෙය වෘත්තීය සමිති මධ්‍යස්ථාන තුළ, නැවත දැඩි විමසීමකට මග පෑදීය. වැඩ කරන පංතිය හුදකලාව වැඩ වර්ජනය කිරීම සියල්ලම අසාර්ථකව අවසන්වීමට හේතුවන බැවින්, රජයේ සහ පෞද්ගලික යන අංශ දෙකේ මුළු මහත් වෘත්තීය සමිති ව්‍යාපාරයම පොදු ඉල්ලීම් පද්ධතියක් මත එක්සත් වෘත්තීය සමිති ක්‍රියා මාර්ගයක් සඳහා සමගි විය යුතු බවට 1963 මුල් භාගයේදීම ලංකා කම්කරු සමිති සම්මේලනය විසින් යෝජනා කරන ලදී. ඒ අනුව 1963 අප්‍රේල් මස ලංකා කම්කරු සමිති සම්මේලනය විසින්, සියලුම ප්‍රධාන වෘත්තීය සමිතිවල ප්‍රථම සාකච්ජාව තම කාර්යාලයේදී කැඳවන ලදී. මෙසේ මුලුමහත් වෘත්තීය සමිති ව්‍යාපාරය වෙනුවෙන්ම සුප්‍රකට ඉල්ලීම් 21 සකස් කරනු ලැබූ, වෘත්තීය සමිති ඒකාබද්ධ මණ්ඩලය බිහි වීය. මෙය ලංකවේ වෘත්තීය සමිති සමගිය මෙතෙක් ලැබූ ජයග්‍රහණය නියෝජනය කළේය. පෞද්ගලික අංශයේ සේවකයන් හා රාජ්‍ය අංශයේ සේවකයන්ද, ලිපිකාර ශ්‍රේණීන් හා ලිපිකාර නොවන ශ්‍රේණීන්ද, වැවිලි කම්කරුවන් හා නාගරික කම්කරුවන්ද, ගුරුවරුන් සහ කාර්මිකයන්ද, යන සියලුදෙනාම ප්‍රථම වතාවට එකම පෙරමුණක් තුළට ගෙනෙන ලදී. 1963 සැප්තැම්බර් මස වෘත්තීය සමිති ඒකාබද්ධ බල මණ්ඩලයේ ප්‍රථම සමස්ථ ලංකා සම්මේලනය සෙලින්කෝ හෝටලයේදී පැවැත්වීය.



මීට සමාන්තරවම වාමාංශික ව්‍යාපාරය එක්සත් කිරීමේ ව්‍යාපාරයක්ද ඇරඹී තිබුණි. එය පැවති මුල් සිව් වසර තුළ හැර, වාමාංශික ව්‍යාපාරයට තිබූ සාපය වූයේ එහි අසමගියයි. ලංකා සමසමාජ පක්ෂය නැවත නැවතත් බෙදී තිබුණි. එක් බිඳීයාමක ප්‍රතිඵලය ලංකා කොමියුනිස්ට් පක්ෂය පිහිටුවීම වූ අතර, අනෙක් බෙදීමක ප්‍රතිඵලය පිලිප් ගුණවර්ධන කාණ්ඩය කැඩී යාමයි. මේ පක්ෂ බෙදී යාමට තුඩු දුන් න්‍යායික වෙනස්කම් තේරුම් ගැනීමට අපොහොසත් වූ ජනතාව, සූරා කෑම අවසන් කර දැමීමේ බලාපොරොත්තු වඩාත් තහවුරු කරන්නා වූ, ප්‍රතිගාමීත්වයට එරෙහිව සාර්ථක ප්‍රහාරයක් දියත් කරනු වස් ස්වභාවයෙන්ම සියලුම වාමාංශික බලවේගවල සමගියක් පැතුවාහුය.

1951 පිලිප් ගුණවර්ධන ලංකා සමසමාජ පක්ෂයෙන් බිඳීගිය හැටියේම, ඔහුගේ කණ්ඩායම කොමියුනිස්ට් පක්ෂය සමග එක්සත් පෙරමුණු ගිවිසුමකට එළඹුණ අතර, එය කොමියුනිස්ට් පක්ෂ, ලංකා සමසමාජ පක්ෂ එක්සත් පෙරමුණ නමින් හැඳින්වින. මෙවර ඇන්.ඇම්. පෙරේරා මෙහෙය වූ ලංකා සමසමාජ පක්ෂය, නව ලංකා සමසමාජ පක්ෂය නමින් ප්‍රසිද්ධ විය. කොමියුනිස්ට් පක්ෂ-ලංකා සමසමාජ පක්ෂ එක්සත් පෙරමුණ වාමාංශික සමගිය වෙනුවෙන් පුළුල් ප්‍රචාරයක් ගෙන ගිය අතර, එහි ප්‍රතිඵලයක් වශයෙන් ලංකා සමසමාජ පක්ෂයේ තවත් බිඳුමක් ඇතිවිය. වාමාංශික සමගිය ගොඩනැගීමට නව ලංකා සමසමාජ පක්ෂ නායකත්වය විරුද්ධ වීම නිසා, එයට විරෝධය පළ කරමින් ටී.බී. සුබසිංහ, විලියම් සිල්වා, ස්ටැන්ලි තිලකරත්න ඇතුළත් බල සම්පන්න කණ්ඩායමක් නව ලංකා සමසමාජ පක්ෂයෙන් කැඩී ගියේය. මේ කණ්ඩායම ප්‍රථමයෙන් පිලිප් ගුණවර්ධනගේ පක්ෂයට බැඳුණි. එහෙත් වර්ෂයක් ඇතුලත ටී.බී. සුබසිංහ, විලියම් සිල්වා වැනි කීපදෙනෙකු හැර සියල්ලෝම කොමියුනිස්ට් පක්ෂයට බැඳුනහ. 1956 මැතිවරණයේදී, බණ්ඩාරනායකට හා ඔහුගේ මහජන එක්සත් පෙරමුණට බැඳීම සඳහා, පිලිප් ගුණවර්ධන කොමියුනිස්ට් පක්ෂ-ලංකා සමසමාජ පක්ෂ එක්සත් පෙරමුණෙන් කැඩී ගියේය.

1963 දී විශේෂයෙන්ම ශ්‍රී ලංකා නිදහස් පක්ෂය පිරිහීම හා අන්ත ප්‍රතිගාමීත්වයෙහි තර්ජන මතුවීම නිසා, වාමාංශික සමගිය ඇති කිරීමේ ව්‍යාපාරයට ලොකු ගැම්මක් ලැබුණි. 1963 මැයි දින වන විට ප්‍රමාණවත් දියුණුවක් ඇතිවූ අතර, වාමාංශික පක්ෂ තුන මගින් එක්සත් මැයි දින රැලියක් කැඳවන ලදී. වාමාංශික සමගිය වෙනුවෙන් සාමාන්‍ය ජනතාව තුළ ඇති වූ බලවත් උනන්දුව, එදින පැවති දැවැන්ත පෙළපාලියෙන් හා රැලියෙන් මැනගත හැකි විය. ලංකාව එවැන්නක් ඊට පෙර හෝ මෙතෙක් දැක නැත. කවදාවත් නොවූවිරූ පරිදි දහස් ගණනක් දෙනා පෙළපාලියේ ගමන් කළා පමණක් නොව, ඊටත් වැඩි දහස් ගණනක් මග දිගේ පෙළගැසී ඉඩ ඇති හැම තැනක්ම පවරාගෙන මේ අසාමාන්‍ය දර්ශනය නැරඹූහ. වැඩි දෙනාට එය ඔවුන්ගේ ගැඹුරු ආදරණීය අපේක්ෂා මුදුන්පැමිණීමක් විය. ගෝල්පේස් පිටිය

මිනිසුන්ගෙන් අතුරු සිදුරු නැති විය. ඊට සමකර බැලීමේදී එක්සත් ජාතික පක්ෂයේ සහ ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ තරඟකාරී රැස්වීම් ගණන් ගැනීමට දෙයක් නැති ඒවා විය. එවැනි දර්ශනයක් දැකිය හැක්කේ සමාජවාදී රටවල මැයි දින පෙළපාලියකදී හෝ ජාතික දින උත්සවයකදී පමණය. ඊළඟ වර්ෂයේ සභාග ආණ්ඩුවක් පිහිටුවීමෙන් කළ ද්‍රෝහිකමේ තරම මුළුමනින් තක්සේරු කිරීම සඳහා, 1963 මැයි දින වාමාංශික බලවේගයන්ගේ දැවැන්ත පෙළපාලිය නියෝජනය කළ නැඹුරුව, සිත්හි තබාගත යුතුය. මැයි දින පෙළපාලියේ ඉදිරියෙන් ජීප් රථයක නායකයන් තිදෙනා යද්දී පවා, ජනතාව ඔවුන් කෙරෙහි තිබූ විශ්වාසය වෙනුවෙන් කළයුතුව තිබූ දෙයට, වෙනස්වූ අදහස්ද ඔවුන්ගේ ඔලුගෙඩි තුළ තිබුණි.

1963 අගෝස්තු 12 වන දින හර්තාල් සැමරුම් දිනයේ දී වාමාංශික එක්සත් පෙරමුණ පිහිටුවීමේ ගිවිසුම නිදහස් චතුරශ්‍රයේදී උත්සවාකාරයෙන් අත්සන් කරන ලදී. එහෙත් එම වර්ෂයේ මැයි දින උද්යෝගය යළි මතු කළ නොහැකි විය. නායකයන්ගේ අවංක භාවය පිළිබඳ සැක පහළ කිරීම් ඒ වන විටත් මතුව තිබුණි. එහි සිටියේ ශතවර්ෂ කාලයක් පමණ සෑහෙන කාලයක් එකිනෙකාට විරුද්ධව නොයෙක් අයුරින් ක්‍රියා කළ පක්ෂ තුනකි. එක්වරටම නායකයෝ ඔවුන්ගේ බලවේග සමගි කිරීමට ඔවුන් තීරණය කළබව ප්‍රකාශ කළහ. එහෙත් කළින් වැරදි කළේ කවුරුද? වරද තිබුණේ කොතනද? යන්න පිළිබඳව ස්වයං විවේචනාත්මක ප්‍රකාශනයක් නොවීය. වෙනත් වචන වලින් කියනවා නම්, අවුරුදු ගණනාවක් තුළ පැවති වාමාංශික අසමගියට හේතු වූ කරුණු ගැන ජනතාව මත විශ්වාසය තබා, බලා නැත. ඉක්මණින් ඇති කරගත් සමගිය, පාර්ලිමේන්තුවේ හැකි තරම් වැඩි ආසන ගණනක් දිනා ගැනීමේ අදහසින් ඇති කර ගත් අවස්ථාවාදි සමගියක් මිස, ප්‍රතිපත්තියානුකූල සමගියක් නොවීය - යන නිගමනයට එළඹෙන්නට බැරිකමක් නැත.

වාමාංශික එක්සත් පෙරමුණ අවුරුද්දක්වත් නොපැවැත්වීමේ හේතුවෙන්ම, මෙම ප්‍රකාශනයේ නිවැරදි බව පැහැදිලි වෙයි.

1963 වර්ෂය තුල කොමියුනිස්ට් පක්ෂය ඇතුලත එක් අතකින් මාක්ස් - ලෙනින් වාදය හා අනෙක් අතින් නූතන සංශෝධනවාදය නියෝජනය කළ බලවේග දෙක-දෙකෙලවරක පෙල ගැසුණු දක්නා ලදී. කලින් දක්වා ඇති පරිදි, කොමියුනිස්ට් පක්ෂ නායකත්වයේ වැඩි කොටස හැම විටම මහා බ්‍රිතාන්‍ය හා ඉන්දියාවේ කොමියුනිස්ට් පක්ෂ වල මතවාදී බලපෑම අනුව සංශෝධන වාදී වූහ. ජනතාව අතර පැතිර පැවති විශ්වාසයට පටහැනි වූද, 1956 පසුවන තුරු ලංකා කොමියුනිසට් පක්ෂයට සෝවියට් කොමියුනිස්ට් පක්ෂය සමග සම්බන්ධයක් නොතිබූ බව පෙන්වාදිය යුතුව ඇත. මීට හේතු සාධකය වූයේ, තුන්වන කොමියුනිස්ට් ජාත්‍යන්තරය විසුරුවා හැරීමෙන් පසුව ලංකා කොමියුනිස්ට් පක්ෂය පිහිටුවීමය. ප්‍රථම සම්බන්ධය ඇති වූයේ, 1956 පැවති චීන



කොමියුනිස්ට් පක්ෂයේ අටවන සම්මේලන වාරයේදී ලංකා කොමියුනිස්ට් පක්ෂ නියෝජිතයන්ට, චීන පක්ෂ සම්මේලනයට සහභාගීවීමට පැමිණ සිටි සෝවියට් කොමියුනිස්ට් පක්ෂ නියෝජිතයන් මුණ ගැසුණු විටය.

එහෙත් මාලිගා විප්ලවයකින් බලය පැහැරගත් කෘෂොප්, මාක්ස් ලෙනින් වාදයේ විප්ලවීය ප්‍රතිපත්ති යටකර දමා, නූතන සංශෝධන වාදයේ ද්‍රෝහී මාවතට එලඹුණු පසු, සියලුම කොමියුනිස්ට් පක්ෂ සංශෝධනවාදී කක්ෂය තුලට ගැනීමට මාන බැලීය. සෝවියට් සංගමයේ කොමියුනිස්ට් පක්ෂයේ 21 වන සම්මේලන වාරයේ සිට නොකඩවාම ලංකා කොමියුනිස්ට් පක්ෂය, සෑම සෝවියට් පක්ෂ සම්මේලනයක් සඳහාම ආරාධනා ලැබුවාය. කොමියුනිස්ට් පක්ෂයේ ලේකම් පීටර් කේනමන් 1962 දී 22වන සම්මේලනයට ගොස් ආපසු පැමිණියේ, සෝවියට් පක්ෂයේ 20වන හා 22 වන සම්මේලන වාරවලදී සෝවියට් කොමියුනිස්ට් පක්ෂ මධ්‍යම කාරක සභාව තුළින් දියත් කරනු ලැබූ, ප්‍රති විප්ලවීය න්‍යායට සහයෝගය දෙන යෝජනාවක් සම්මත කර ගැනීමේ "නියෝගය" රැගෙනය. ඔහු එම සම්මේලනයේදී සෝවියට් බැටන් පොල්ලට හීලෑ වූ අතර. මධ්‍යම කාරක සභාවෙන් කිසිම අවසරයක් නැතිව, කෘෂොප් සහ ඔහුගේ සංශෝධනවාදය ප්‍රතික්ෂේප කිරීම ගැනද ඇල්බේනියාවට පහර දුන්නේය.

එහෙත් කේනමන්ට ඔහුගේ කාර්යය ඉටු කර ගැනීමට පහසු වූයේ නැත. කෘෂොප් විසින් ස්ටාලින්ට රහසිගතව පහර දුන් සෝවියට් පක්ෂයේ 20 වන සම්මේලනය ගැන, ලංකා කොමියුනිස්ට් පක්ෂය කිසි විටෙක නිල වශයෙන් සාකච්ඡා නොකල බව මෙහි සඳහන් කළ යුතුව ඇත. මීට හේතුව වූයේ ට්‍රොට්ස්කිවාදය සමග ඇතිවූ අරගලය තුලින් ජනිත වූ නිසා, වියයුතු පරිද්දෙන්ම පක්ෂය ස්ටාලින්ගේ නම සමග කිට්ටුවෙන් බැඳී තිබුණු අතර, මුළු පක්ෂයම ගැඹුරු ලෙස ස්ටාලින්ට පක්ෂපාතී වීමය. නායකත්වය මෙය අවබෝධ කරගෙන තිබූ අතර, සාකච්ඡාවක අවදානමකට මුහුණ දීමට තරම් නිර්භීත නොවීය. එහෙත් එය තව දුරටත් කල් දැමීමටද නොහැකි විය.

මේ කාලය වන විට මාක්ස් - ලෙනින්වාදී මග ගත් චීන කොමියුනිස්ට් පක්ෂයත්. සංශෝධනවාදී මග ගත් සෝවියට් කොමියුනිස්ට් පක්ෂයත් අතර වෙනස පැහැදිළිව මතුවී තිබුණි. අන්තර්ජාතික කොමියුනිස්ට් ව්‍යාපාරයේ තිබූ වෙනස් මතවාදයන්, ලංකා කොමියුනිස්ට් පක්ෂයේ මධ්‍යම කාරක සභා සාකච්ඡාවලදී පිළිබිඹු විය. බහුතර කොටස නූතන සංශෝධනවාදී මගගත් අතර, මාක්ස් ලෙනින් වාදීන්ට විරුද්ධව ඔවුහු දඩයමක් ඇරඹූහ. පසුව සඳහන් කළ මාක්ස් - ලෙනින් වාදීන්, ව්‍යවස්ථා විරෝධීව නායකත්වය විසින් නැවත නැවතත් කල් දැමූ පක්ෂයේ හත්වන සම්මේලනය පවත්වා, මාක්ස් ලෙනින් වාදී ලංකා කොමියුනිස්ට් පක්ෂය ලෙස, නැවත සංවිධානය වී, මාක්ස් ලෙනින් වාදයට හා මාඕ සේතුං චින්තනයට ඔවුන්ගේ ඇති පක්ෂපාත භාවය පලකළහ.

මුලින්ම කඳවුරු දෙක අතර ශක්තිය උරගා බලනු ලැබුවේ, කොමියුනිස්ට් පක්ෂ නායකත්වය යටතේ වූ විශාලම බහුජන සංවිධානය වන ලංකා කම්කරු සමිති සම්මේලනයේ 1963 දෙසැම්බර් මස පැවැත්වුණු 13 වන සම්මේලන වාරයේදිය. නූතන සංශෝධනවාදීන් තීරණාත්මක ලෙස පරාජය වූ අතර, ලංකා කම්කරු සමිති සම්මේලන නායකත්වය මාක්ස් - ලෙනින්වාදීන් අතෙහිම රැඳුණි.

1964 වර්ෂයේදී ආණ්ඩුව, ගොඩගැසුනු ආර්ථික ප්‍රශ්න වලට මුහුණ පෑවේය. වාමාංශික එක්සත් පෙරමුණේ සහ වෘත්තීය සමිති ඒකාබද්ධ බලමණ්ඩලයේ නිවුන් සංවර්ධනය තුළින්, වැඩකරන පංතියේ ඉහළ නගිමින් තිබූ නොසන්සුන්කම පිළිබිඹු විය. 1964 මාර්තු 21 වන දින වෘත්තීය සමිති ඒකාබද්ධ බල මණ්ඩලයේ ඉල්ලීම් 21 ට ආධාර සඳහා ගෝල්ෆේස් පිටියේ පැවැත්වූ දැවැන්ත රැස්වීම බණ්ඩාරනායක මහත්මියට අනතුරු ඇඟවීමක් වූ නිසා, කොළඹින් පිට රැස්වීමක් ඇමතීමට යාමට තිබූ ගමනද අවලංගු කර, අරලිය ගහ මන්දිරයේ රැඳී සිටියේ, හැම දෙසකින්ම කම්කරුවන් ලොරි පිටින් රැලියට එන බවට වාර්තා ලැබී තිබූ හෙයිනි.

ඇය ක්ෂණිකවම ක්‍රියාකිරීමට තීරණය කළාය. විවෘත මර්දනය ප්‍රශ්නයට අදාල පිළිතුර නොවිය. සතුරු බලකොටුව ඇතුලතින් අල්ලා ගැනීමේ ප්‍රකට උපාය අනුව ක්‍රියාත්මක වීමට ඇය තීරණය කළාය. ඇය ලංකා සමසමාජ පක්ෂ නායකයන් සමග සාකච්ඡා කිරීමට තමාගේ ඇති කැමැත්ත හැඟවූවාය. බණ්ඩාරනායක මැතිණිය ඔවුන් කැඳවීමට අත ඔසවනවාත් සමගම, ඇන්.ඇම්. පෙරේරා සහ පිලිප් ගුණවර්ධන යන දෙදෙනාම දෙපැත්තේ දොරටු වලින් අරලිය ගහ මන්දිරයට කඩා වැදී - එකිනෙකාගේ ඇඟේ හැප්පුනු අතර, අසරණ කේනමන්ට ගේට්ටුව අසල, ඇතුල්වීමට අවසර පතමින් රැඳීසිටීමට සිදු විය. මාස කීපයකට පෙර එය බිහිකල මිනිසුන් විසින්ම විනාශ කරනු ලැබූ වාමාංශික එක්සත් පෙරමුණ, අවසානයට පත්විය. එය බණ්ඩාරනායක මැතිණියගේ ශූර උපායක් විය. තම සැමියාට කළ නොහැකි වූ දෙය එනම්, වමේ නායකයන් යටත් කොට ගැනීම ඇයට එක පාරින්ම කළ හැකි විය. ඇගේ දක්ෂ සැමියාට දෙවැනි වීම ප්‍රතික්ෂේප කළ මිනිස්සු, දැන් ඇගේ පාමුල දණ්ඩ නමස්කාරයේ යෙදෙති. වැඩ කරන පංතිය හා වාමාංශික ව්‍යාපාරය ශෝකජනක ලෙස පාවාදෙන ලදී. ඇන්.ඇම්. පෙරේරා සහ ඔහුගේ පක්ෂයේ සගයන් දෙදෙනෙකු ඇමති රැකියා වලින් සංග්‍රහ ලැබූ අතර, සභාග ආණ්ඩුව බිහි විය. "සභාග ආණ්ඩුවක් යනු සමාජ වාදයෙන් පලා ගිය ද්‍රෝහීන්ගේ හා ධනේශ්වරයින්ගේ කැබිනට් මණ්ඩලයකය." යන ලෙනින්ගේ සුප්‍රකට විග්‍රහය මෙහිදී කෙනෙකුට සිහිපත් වනු ඇත. ලෙනින් එම ප්‍රකාශය කරන විට, 1964 ලංකාව පිළිබඳව ඔහුගේ සිතේ ඇඳී තිබුණා විය හැක.

ලංකා සමසමාජ පක්ෂය සභාග ආණ්ඩුවක් සඳහා ශ්‍රී ලංකා නිදහස් පක්ෂයට එක්වීමට ගත් තීරණයේ එක් ප්‍රතිඵලයක් වුයේ, පක්ෂයේ තවත්



බිඳීයාමක් සිදුවීමයි. සමරක්කොඩි, මෙරිල් ප්‍රනාන්දු හා බාලතම්පෝ මෙහෙය වූ කොටසක් ලංකා සමසමාජ පක්ෂය (වි) පිහිටු වීමට කැඩී ගියේය. 'වි' යන්න යෙදෙන්නේ විප්ලවකාරී යන්න හැඟවීමටය. මේ කණ්ඩායම නැවතත් බෙදුණු අතර, සමරක්කොඩි එහි නමට ඉදිරියෙන් (වි) සහිතව ලංකා සමසමාජ පක්ෂය පිහිටුවීමට ඉවත් විය. කණ්ඩායම් දෙකම තවමත් නියම ට්‍රොට්ස්කිවාදීන් කවුරුන්දැයි දැක්වීමට රණ්ඩු කරති.

මැතිවරණය කිට්ටුකර බණ්ඩාරනායක මැතිණිය, ඉන්දු-ලංකා ප්‍රශ්නය ගැන සාකච්ඡා කිරීම සඳහා ඉන්දියාව බලා ගියාය. සිරිමා-ශාස්ත්‍රී ගිවිසුම අත්සන් කෙරුණි. ඉන්දියානු සම්භවයක් ඇති තුන් ලක්ෂයකට පුරවැසිකම දීමට, ලංකාව එකඟ විය. ඉන්දියාව පන්ලක්ෂ හතලිස්පන්දාහක් ආපසු ගෙන්වා ගැනීමට එකඟ විය. ඉතිරි අයගේ ඉරණම පසුව තීරණය කිරීමට තබන ලදි. ලංකාව මේ සංඛ්‍යාලේඛන පිළිගැනීම, මුලින් පැවති නීති අසාධාරණ බව නිහඬව අනුමත කිරීමකි. එහෙත්, මේ ගිවිසුමේ ඇති ලොකුම අඩුපාඩුව-මේ සංඛ්‍යාවන් ගැන ස්වේච්ඡා පදනමක් වටා එකඟවිය නොහැකි වුවහොත්, ගත හැකි පියවර ගැන වචනයක්වත් ඇතුළත් නොවීමය. පන්ලක්ෂ හතලිස්පන්දාහක් දෙනා ඉන්දියානු පුරවැසිකම ඉල්ලා නොසිටියොත් බලය පාවිච්චි කිරීමට යනවාද? යන ප්‍රශ්නය පිළිතුරු නැතිව, ලක්ෂණට මගහැර දමා ඇත. ගිවිසුම පසුගිය මැතිවරණ වලදී ප්‍රධාන ආයුධයක් වුවත්, එය ක්‍රියාත්මක කිරීම සඳහා මේ දක්වා (1971) සැලකිය යුතු කිසිවක් කර නැත.

සභාග ආණ්ඩුව පැවති කාලයේ ප්‍රධාන උණුසුම් විවාදය වූයේ පුවත්පත් පණතයි. මේ ප්‍රශ්නය තේරුම් ගැනීමට පෙර ලංකාවේ පුවත්පත් සංවිධානය ගැන අවබෝධයක් ලබා ගැනීම අත්‍යාවශ්‍යය. මක්නිසාද? 1945 සිට ලැබූ නිදහස් අධ්‍යාපනයෙන් ලංකාවේ කියවීමේ හා ලිවීමේ දැණුම බොහෝ සේ දියුණු වූ නිසා, පුවත්පත් මිනිසුන්ගේ සිත් කෙරෙහි මහත් බලපෑමක් සිදුකර ඇත. එකල ලංකාවේ පුවත්පත් ක්ෂෙත්‍රයේ අද්විතීය ස්ථානය දැරුවේ එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගම හෙවත් ලේක්හවුසියයි. එය භාෂා තුනෙන්ම දිනපතා පුවත්පත් කීපයක් ගෙන ගියේය. එය ආරම්භ කරණු ලැබුවේ ඩී.ඇස්. සේනානායකගේ අනුගාමිකයෙකු හා මිත්‍රයෙකු වූ ඩී.ආර්. විජයවර්ධන විසිනි. ඔහු තම කණ්ඩායමේ ඒකාධිකාරය ගොඩනගනු සඳහා, එකල පැවති පුවත්පත් මිලදී ගෙන ඇත. විරුද්ධත්වය පෑවේ මුලින් බ්‍රිතාන්‍යයන්ට අයත්ව තිබූ "ටයිම්ස් ඔෆ් සිලෝන්" හා දෙමළ දිනපතා පත්‍රය වූ "වීරකේසරී" පමණි.

ඩී.ආර්. විජයවර්ධන බොහෝ විට ප්‍රතිසංස්කරණ නායකයෙකු හා තම පුවත්පත් තුළින් නිදහස් ව්‍යාපාරයට අනුග්‍රහය දැක්වූවකු ලෙස හුවා දැක්වෙයි. එහෙත්, පුවත්පත් ක්ෂෙත්‍රය තුළින් ඔහු පිළිබඳව විනිශ්චය කරන්නේ නම්, ඔහු ලංකාවේ විශාලම පච කම්හල හා ලොකුම ප්‍රතිගාමී බලකොටුව පිහිටුවීම වෙනුවෙන් සම්මාන ලැබිය යුතුය. ලේක් හවුසිය යනු ලංකාවේ සියලුම

ප්‍රතිගාමිත්වයන්ගේ කැටි කිරීමයි. එය ඕනෑම ආණ්ඩුවක් විසින් ඉදිරිපත් කරනු ලැබූ සෑම ප්‍රගතිශීලී යෝජනාවකටම විරුද්ධ විය. විදේශ විනිමය නීති තදබල ලෙස උල්ලංඝණය කිරීමත්, රුපියල් දශලක්ෂ විසිදාහකට ආසන්න මුදලක් එහි අධ්‍යක්ෂකවරුන් තිදෙනෙකු නමින් විදේශ බැංකුවල ඒකරාශී වීමත් (විජයවර්ධනගේ මරණින් පසුව වුවත්) පිළිබඳව මෑතක පත්කළ රාජකීය කොමිසමේ වාර්ථාවෙන් හෙළිවූ දූෂණ ක්‍රියාවන්, හැම දෙනාම අපේක්ෂා කරන පරිදි ඉක්මණින්ම එය සමාදානයේ සැතපීමට ඉඩ දුන් පසු, එහි සොහොන මත සටහන් කර තැබීමට සුදුසු හොඳම සිහිවටනය සකස් කරනු ඇත.

එය ආරම්භයේ සිටම වාමාංශික ව්‍යාපාරයට විරුද්ධව සටන් කළ අතර, ඒ සඳහා අපහාස, ඇනුම්පද, බාගෙට ඇත්ත, අමූලික බොරු යන ආයුධ යොදා ගත්හ. අතට ගතයුත්තේ කවර ආයුධයදැයි තෝරා ගැනීමට ඔවුන් නොවෙහෙසුණු අතර, වමට පහර දිය හැකි නම් ඕනෑම නරක දෙයක් ඔවුන්ට ඉතාම සුදුසු විය. බණ්ඩාරනායකට පවා එහි සම්පූර්ණ විරුද්ධත්වයට ඉහළින් යමින්, එය ජය ගැනීමට සිදු විය. දක්ෂ කරීකයකු වූ බණ්ඩාරනායක, රාජ්‍ය ගුවන් විදුලිය ප්‍රයොජනයට ගෙන, එය ධනේශ්වර ප්‍රවෘත්ති පත්‍රවලට විරුද්ධව යෙදවීය. එහෙත් ඔහුගේ අනුගාමිකයෝ ඊට අපොහොසත් වූහ. ඒ වන විට ලේක් හවුසිය රජයට ගන්නා ලෙස මහජන උද්ඝෝෂණයක් මතුවී තිබුණි. සභාග රජය ලේක්හවුසිය පවරා ගැනීමට පණතක් ඉදිරිපත් කළේය. ඊට වැරදුණේ එතනදීය. එය තම බලය යොදවා (අවශ්‍ය වූවානම් හදිසි නීතිය පවා) ලේක් හවුසිය පවරාගෙන, පසුව කථාකළ යුතුව තිබුණි. මෙම වරද මාරාන්තික එකක් විය.

ලේක් හවුසිය තම සටන ඇරඹීය. ලේක් හවුසිය තම පැවැත්ම සඳහා තර්ජනයෙන් බේරීමට ගනු ලැබූ පියවරවල් ගැන, රාජකීය කොමිෂන් වාර්තාව විස්තර කර ඇත. අධ්‍යක්ෂකවරුන්ගෙන් එක් අයෙකුට හෝ දෙදෙනෙකුට අභිමත පරිදි මුලුමණින්ම වියදම් කළහැකි වනසේ, රුපියල් ලක්ෂ කීපයක් අනුමත කෙරුණි. 1964 දෙසැම්බර් 4 වනදා රජයට විරුද්ධව ඡන්දය දීමට, විරුද්ධ පක්ෂයට එක්වූ මන්ත්‍රීවරුන්ට, ලේක් හවුසිය විසින් අල්ලස් දෙන ලදැයි පසුව පාර්ලිමේන්තුවේදී චෝදනා නගන ලදි. මේ ප්‍රශ්නය ගැන සලකා බැලූ රාජකීය කොමිසම, ඔවුන්ට එම චෝදනාව ඔප්පු කිරීමට තරම් සාක්ෂි ලැබී නැති බව ප්‍රකාශ කළේය. එහෙත්, ඒ සමගම ලේක් හවුස් අධ්‍යක්ෂකවරු මේ කාලය තුළ, ඔවුනට පැවරූ විශාල මුදල් ප්‍රමාණය වියදම් කළ ආකාරය ගැන පිළිගත හැකි තරම් තීරණයක් ගැනීමට, අපට ඉඩ හැර ඇත.

ලේක් හවුසියට විරුද්ධ ව්‍යාපාරය ලංකාවේ දක්නට ලැබුණ විශාලම ඒවායින් එකක් විය. එහෙත් ලේක් හවුසිය රජයේ දුබල උපායන් ජය ගත්තාය. ලංකා සමසමාජ පක්ෂයේ රත්තරන් මොල පුවත්පත් පනත සකස් කිරීම හා පාර්ලිමේන්තුව තුළින් සම්මත කිරීම අවුල් කළෝය. ලේක් හවුසිය පවරා



ගැනීම සඳහා වෙනම පනතක් ගෙන ඒමේ එකම අපේක්ෂාවෙන්, පාර්ලිමේන්තුව ඊළඟ වාරයට කල් දැමීය. 1964 දෙසැම්බර් 4 දා රාජාසන කථාව පිළිබඳ ඡන්දය විමසීමේදී, රජය එක් ඡන්දයකින් පරාජය කිරීමට හැකිවන පරිදි, ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ මන්ත්‍රීවරුන් ප්‍රමාණවත් සංඛ්‍යාවක් විරුද්ධ පක්ෂයට එක් වන අයුරු සංවිධාන යොදා තිබුණි. ලංකා සමසමාජ පක්ෂය (වි) මන්ත්‍රීන් දෙදෙනා වූ සමරක්කොඩි හා මෙරිල් ප්‍රනාන්දු, එක්සත් ජාතික පක්ෂයේ අනෙක් ප්‍රතිගාමීන් සමග ඡන්දය දෙමින්, 1965 එක්සත් ජාතික පක්ෂය බලයට පත්වීමට මග පාදන ලදි.

කෙසේ හෝ බණ්ඩාරනායක මැතිණිය අගමැතිණිය වූ පළමුවන ආණ්ඩු කාලය තුළ, ප්‍රගතිශීලී පියවරවල් කීපයක් ගත් බව පෙන්වා දිය යුතුය. වඩාත් ප්‍රධාන ඒවා වන්නේ පාසල් රජයට ගැනීම, ලංකා බැංකුව හා රක්ෂණ ජනසතු කිරිම සහ සියලුම විදේශික තෙල් සමාගම් රජයට පවරා ගැනීමයි. පසුව සඳහන් එකේ වන්දි මුදල් ප්‍රමාණය ගැන අර්බුදයක් මතු වූ අතර එක්සත් ජනපද ආණ්ඩුව ආධාර වැඩපිළිවෙල අත්හිටුවීය. අන්තිමේදි රජය ඇමරිකානුවන්ට පිළිගත හැකි මුදලක් ගෙවීමට එකඟ විය. ඇමරිකානු සාම දූතයන්ගේ මුල් කණ්ඩායම ලංකාවට පැමිණියේ ද, මේ ආණ්ඩුව පැවති කාලය තුළම බවද පෙන්වා දිය යුතුව ඇත.

1965 ඡන්ද ප්‍රතිඵල තිරණාත්මක් නොවූ නමුත්, එක්සත් ජාතික පක්ෂය ලොකුම තනි පක්ෂය ලෙස තේරී පත්විය. දෙපක්ෂයටම ආණ්ඩුවක් පිහිටුවීමට එහි ආධාරය අවශ්‍ය වූ නිසා, දෙපැත්තම පෙඩරල් පක්ෂයට ආරාධනා කරන ලදි පෙඩරල් පක්ෂය සමඟ එක්සත් ජාතික පක්ෂයේ සම්බන්ධය පසු කල දැඩි විවේචනයට භාජනය වූ නමුත්, ශ්‍රී ලංකා නිදහස් පක්ෂය ද, මේ සම්බන්ධය ඇති කිරිම සඳහා පෙඩරල් පක්ෂය සමග ගිවිසුමකට පැමිණීමට උපරිම මට්ටමින් තැත් කළ බවට සැකයක් නැත. එහෙත් ඩඩ්ලි සේනානායක සහ චෙල්වනායගම් යන දෙදෙනා රහස් ගිවිසුමක් ඇති බව පිළිගන්නා ලද අතර, එය කිසිදා ප්‍රකාශයට පත් නොකළේ වි නමුත්, එක්සත් ජාතික පක්ෂය එම ගිවිසුමේ පදනමේ පිහිටමින්, පිලිප් ගුණවර්ධන සහ ඩබ්ලිව්. දහනායක යන අය ඇතුලත් කර ගනිමින්, ඊනියා ජාතික ආණ්ඩුවක් පිහිටුවීය. එසේම වැවිලි කරුවන්ගේ විශාලම වෘත්තිය සමිතියේ නායකයා ලෙස, පුදුමාකාර අන්දමින් සැලකෙන ධනවත් වැවිලි හිමි තොණ්ඩමන්ද එක්සත් ජාතික පක්ෂය විසින් බැඳ ගන්නා ලදි. ඉන්දියානු සම්භවයක් ඇති වැවිලිකරුවන්ට 1948 දී පහරදුන් පය ලෙවකමින්, එම අදහස් වෙනස් කිරීමට තොණ්ඩමන් තීරණය කළේ- ඉන්දියානු සම්භවයක් ඇති වැවිලි කරුවන්ගේ අවශ්‍යතාවයන් නිසා නොව, ඔහුගේ පංති අවශ්‍යතාවයන් නිසා හා ඇතැම් විට ඉන්දියානු මහ කොමසාරිස්ගේ උපදෙස් මත පිහිටා ක්‍රියා කිරීමද නිසා විය හැක.

ජනතාව විසින් සභාග පක්ෂ ප්‍රතික්ෂේප කළ විට, ඔවුන්ගේ ප්‍රති ක්‍රියාව

වුයේ, ද්‍රවිඩ ජනතාව කන-බොන විදිය පවා ආයුධ කර ගැනීමට තරම් පහත් තත්ත්වයකට වැටුණාවූ, මෙතෙක් දියත් නොකළ තරමේ මහා ඝෝෂාවකින්, ජාතිවාදී ප්‍රචාරයක් කරගෙන යාමයි. ''මසල වඩේ'' හඬ නැගී ආවේද මේ කාලයේදීමය. මේ දරුණු ජාතිවාදී ව්‍යාපාරයේදී, ලංකා සමසමාජ පක්ෂය හා කොමියුනිස්ට් සංශෝධනවාදී කල්ලිය ශ්‍රී ලංකා නිදහස් පක්ෂයට කිසිසේත්ම දෙවැනි නොවිය.

1966 ජනවාරි 8 වන දින, ඩඩ්ලි සේනානායක ද්‍රවිඩ භාෂාවේ සාධාරණ පාවිච්චිය පිළිබඳ පණත යටතේ නීති කෙටුම්පත් කිරීමට තැත් කරන විට, විරුද්ධ පක්ෂය ජාතිවාදී වැඩ වර්ජනයක් හා පෙළපාළියක් සංවිධානය කළ අතර, එයින් බෞද්ධ භික්ෂුවකට වෙඩි තබා මැරීමටත්, හදිසි නීති තත්ත්වය පැනවීමටත් මග පෑදුණි. දවසේ වැඩ වර්ජනයට සහාගි වූ නොමග යවනු ලැබූ දහස් ගණනක් කම්කරුවන් රජය හා රාජ්‍ය සංස්ථා විසින් බිල්ලට ගනු ලැබූහ. පෙඩරල් පක්ෂයට අන්තිමේදී තම අවස්ථාවාදයට යමක් නොලැබෙන බව තේරුම් ගැනීමට සිදුවිය. පෙඩරල් පක්ෂයේ ඉල්ලීම අනුව, ඩඩ්ලි සේනානායක විසින් දිස්ත්‍රික්කවලට එක්තරා ප්‍රමාණයක ස්වාධීන බලතල ලැබෙන රට සභා පණත ඉදිරිපත් කළේය. සහාග පක්ෂ රට තුළ හා එක්සත් ජාතික පක්ෂය ඇතුළත පවා විශාල උද්ඝෝෂණයක් ඇති කිරීමට සමත් විමෙන්, ඩඩ්ලිට එම පණත අත්හැර දැමීමට සිදුවිය. ඒ සමගම කැබිනට් මණ්ඩලයේ පෙඩරල් පක්ෂ නියෝජිතයා ඉල්ලා අස්වූ අතර, ජාතික රජයක මායාව බිඳ වැටුණි.

ඩඩ්ලි සේනානායකගේ 1965 ආණ්ඩු කාලයේ ඉතිරි කොටසේදී ආර්ථික අර්බුදය තව දුරටත් උග්‍ර වූ බව සඳහන් කළ යුතුය. රන් පවුම් කළාපයේ පවුම අව ප්‍රමාණ කළ අතර, ලෝක බැංකුවේ අණ කිරීම නිසා රුපියල 20% කින් අවප්‍රමාණ කරන ලදී. අවප්‍රමාණ කළ අනුපාතය ගැන ලෝක බැංකුව සෑහීමකට පත් නොවූ නිසා. විදේශ විනිමය සහතික පත් ක්‍රමය මගින් තව දුරටත් අවප්‍රමාණ කිරීමට බල කෙරිණ. සහල් සළාකය බාගයක් කළ නමුත්. පළමු සේරුව නොමිළේ දෙන ලදී. ජීවන අංකය අජඨාකාශ ගතවූ අතර, රැකී රක්ෂා විරහිතභාවටද අහස උසට නැංගේය. 1967 හා 1968 පිළිවෙලින්, පෞද්ගලික අංශයේ හා රාජ්‍ය අංශයේ මහා වැඩ වර්ජන ඇති විය. ලංකාවේ ගොඩ ගැසුණු ආර්ථික ආපදවන්ට රජයට තිබූ එකම විසඳුම, ලෝක බැංකුව වැනි අධිරාජ්‍යවාදී ඒජන්තවරුන්ගෙන් පුළුල් ලෙස ණය ගැනීමය. එය අනෙක් කිසිම රජයකට වඩා ණය ගත්තේය. ඒ මගින් එය තව දුරටත්, ලංකාව විදේශීය අධිරාජ්‍යවාදයට හිරකර බැඳ තබන ලදී.

බණ්ඩාරනායක මහතාගේ 1956 මහජන එක්සත් පෙරමුණු මුල් මැතිවරණ ප්‍රකාශනයට බොහෝ දුර්වල වූ, පොදු වැඩ පිළිවෙලක් පදනම් කරගෙන ශ්‍රී ලංකා නිදහස් පක්ෂය, ලංකා සමසමාජ පක්ෂය හා කොමියුනිස්ට් සංශෝධනවාදී කල්ලිය දේශපාලන වශයෙන් එක්සත් පෙරමුණක් ගැසීය.



එසේම මේ කාලය තුලදී යාපනයේ පහත් කුලවල ජනතාව හා පීඩිත ජනතාව විඳිමින් සිටි සමාජ පීඩනයද, මතුපිටට එනු දක්නා ලදී. ස්පර්ශ නොකිරීම සහ කුල ක්‍රමය මුලිනුපුටා දැමීම පිළිබඳ බහුජන ව්‍යාපාරයේ නායකත්වය යටතේ, වරප්‍රසාද අහිමි මෙම ජනතාව කෝවිල් වලට ඇතුල් වීමේ ප්‍රශ්නය පදනම් කරගෙන ඔවුන්ගේ පීඩකයන් සමග ගැටුණි. රජය කුලීන හින්දූන්ට පක්ෂවූ අතර, ඊනියා පීඩිත කුලවලට විරුද්ධව මර්ධනය මුදලීය. මේ ඊනියා පීඩිත කුලවලට නායක්තවය දී එළිපිටම ආධාර කළේ, මාක්ස්-ලෙනින් වාදී කොමියුනිස්ට් පක්ෂය පමණය. පසුව සඳහන් අය නිර්භීතව සටන් කළ අතර, ජීවිත කීපයක් පරිත්‍යාග කරන ලදී. එහෙත්, ප්‍රශ්නය මුළුමණින් විසඳී නැත. එනමුත් මේ ව්‍යාපාරය අඩුම වශයෙන් පවතින අමානුෂික ක්‍රමය එළිදරවූ කළ අතර, සිංහලයන් සමග සමාන අයිතිවාසිකම් ඉල්ලා සිටින නමුත්, කුලය පහත් නිසා තමන්ගේම භාෂාව කථා කරන පිරිස සමානාත්මතාවයෙන් සැලකීමට අකමැති, පෙඩරල් පක්ෂයේ වංචනික ස්වරූපය එළිදරව් කළේය.

1970 මැතිවරණය කෙලින්ම සමගි පෙරමුණ හා එක්සත් ජාතික පක්ෂය මුහුණට මුහුණ දී කරන සටනක් බවට පෙරළුණි. මාක්ස්-ලෙනින්වාදී කොමියුනිස්ට් පක්ෂය පමණක් ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රෝඩාව කෙරෙහි විශ්වාසය තැබීමට විරුද්ධව අනතුරු ඇඟවූ අතර, මැතිවරණයට මොනම අන්දමකින් හෝ සහභාගී නොවන ලෙස ජනතාවගෙන් ඉල්ලා සිටියේය. එම කාලයේදී මෙම ඉල්ලීමට සැලකිල්ල දැක්වූයේ සුළු පිරිසක් වුවද, අවුරුද්දක් ගත වන්නට පෙර එම විග්‍රහයේ නිවැරදි කම ජනතාවගෙන් වැඩි දෙනෙක් පිළිගෙන ඇත. සමගි පෙරමුණු ආණ්ඩුව පාර්ලිමේන්තුවේ තුනෙන් දෙකකට වැඩි විශාල ඡන්දයකින් බලයට පත්වූ නමුත්, එය ජනතාවගේ කිසිදු මූලික ප්‍රශ්නයක් විසඳිය නොහැකිව අකර්මන්‍ය තත්ත්වයක පවතී. මීට ප්‍රතිවිරුද්ධ අන්දමින් ජීවන අංකය තව දුරටත් ඉහලට පියාඹන අතර, විරක්ෂිත බව අන්තයටම දරුණුව ඇත.

ඔවුන්ගේ පාර්ලිමේන්තු වැඩි ඡන්ද ප්‍රමානයේ විශාලත්වය තුළම එහි විනාශයේ බීජද අඩංගුව පවතී. එබඳු අද්විතීය වරමක් දීම තුලින් තමන් මොනයම් හෝ නිදහසට කරුණු පිළිනොගන්නා බව ජනතාව විසින් කල්තියා දැනුම් දීමක් කර ඇත. ආණ්ඩුව පිළිබඳ මායාව අතුරුදහන් වීමට වැඩිකල් නොගියේය. හඳ දෙන බවට පොරොන්දු වූ නව රජයද ඊට කලින් එක්සත් ජාතික පක්ෂය රජය ගිය මගම යන්නට පටන් ගත්තේය. ලෝක බැංකුවට ගැතිවීම ගැන එක්සත් ජාතික පක්ෂ රජය මහ හයියෙන් විවේචනය කළ නව මුදල් ඇමති-ට්‍රොට්ස්කිවාදී ආචාර්ය ඇන්.ඇම්. පෙරේරාගේ ප්‍රථම කාර්යය වූයේ, එම ලෝක බැංකුව වෙතම හිඟන දූත මෙහෙවරක යෙදීමය. අවුරුද්දක් ගතවීමටත් පෙර, ලෝක බැංකුව ඉදිරිපත් කළ හැම කොන්දේසියකටම යට වූ රජය, ආර්ථික අර්බුදයේ බර පොදු ජනතාවගේ හිසමත පැටවීය. පිපිරීම ඇති වීමට වැඩි කල් නොගියේය.

6 වැනි පරිච්ඡේදය

# අප්‍රියෙල් සිද්ධීන් ගැන විග්‍රහය

ජනතා විමුක්ති පෙරමුණ විසින් අරඹන්නට යෙදුණු පරාජය කල්ඇතිව තීන්දු වී තිබුණු කැරැල්ල ප්‍රකාශයට පත් කරමින්, 1971 අප්‍රේල් 5 වෙනිද වැල්ලවායෙන් නැගුණු වෙඩි හඬ, රාජකාරියේ යෙදී සිටි පොලිස් භටයෙකු මරා දැමුවා පමණක් නොව, ලංකාව පිළිබඳව ධනේශ්වර පුවත්පත් සහ ධනේශ්වර දේශපාලනඥයින් නිරන්තරයෙන් පතල කර හැර තිබුණු මායා විශ්වාසයන් බොහොමයක් අමතක නොවන ලෙස බිඳ හෙලුවේය.

අපේ රට ලෝකයේ අපරාධ අතින් තුන්වැනි තැන ගන්නා රට බවට ලෝ පතල වී තිබුණත්, ලංකාව සාමකාමී රටක් බවට මතයක්ද විය. එය මෛත්‍රිය සහ අවිහිංසාව නමැති ධර්මයට අනුකූලව පවතින රටක් බවටත් මතයක් විය. ලංකාව නමැති ධර්මද්වීපය ගෞතම බුදුන්ගේ පරිනිර්වාණය සිදුවූ මොහොතේ බුදුන්ගේ විශේෂ ඉල්ලීමක් උඩ, ශක්‍රයාගේ අණ පරිදි, විෂ්ණුගේ විශේෂ ආරක්ෂාවට පවරන ලද රටක් යයිද මතයක් වේ. 1958 දී ඇතිවූ ජාතිවාදී කලබල සමයේ දකින්නට ලැබුණු තිරස්චීන මිනී මැරුම් හැරුණුකොට, ලංකාවේ ජනතාව සැදී පැහැදී ඇත්තේ ප්‍රජාතන්ත්‍රවාදී ජීවන ක්‍රමයකට බවත්, ඔවුන් විප්ලව වලට සහ ප්‍රචණ්ඩ ක්‍රියා වලට විරුද්ධ බවත්, වශයෙන් මායාවක් නිර්මාණය කර තිබුණි. එදා 1958 දී ඇතිවූ ජාතිවාදී කෝලාහාල වල්දී මිනිසුන්ව පණපිටින් පුළුස්සා මරා දමන ලද්දේ, ඔවුන් වැරදි ජාතියකට අයත්වූ නිසාය. ඇත්ත වශයෙන් කියතොත්, ජනතා විමුක්ති පෙරමුණේ මෙම අසාර්ථක කැරැල්ල ආරම්භ වීමට සති කිහිපයකට කලින්, මහනුවර මහ සභා රැස්වීමක් ඇමතූ බණ්ඩාරනායක මැතිණිය ප්‍රකාශ කරන්නට යෙදුනේ, ලංකාව ප්‍රචණ්ඩ ක්‍රියාවලින් බේරී ඇත්තේ, එය විශේෂයෙන්, දෙවිවරුන්ගේ ආරක්ෂාව යටතේ පවතින රටක් නිසා බවය.

එහෙත්, ලංකාව පිළිබඳව පතල කර හැර තිබුණු විශාලම මායාව නම් ,මෙරට ජනතාව දැඩි ලෙසම ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රතිපත්ති වලට කැපවී සිටින බවයි. බ්‍රිතාන්‍ය පාලකයින්ගේ ඉතාමත්ම දක්ෂ ලෙස ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩු පවත්වා ගෙන යාමේ කලාව ඉගෙන ගත් රටත් අපේ රට බවය. අප සාර්ථක ලෙස ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රියාදාමයක් අනුගමනය කරමින්, ආණ්ඩු වෙනස් කර ඇති බවය. කලබලකාරී ලෝකයේ නිශ්චල ක්ෂෙම භූමිය ලංකාව බවය.

මෙකී සියළු න්‍යායයන් අද තුතුවී පොලව මත ඇද හැලී ඇත්තේය. තමන්ව නොමග යවා තිබීමේ ප්‍රශ්නය පසෙක තිබියදී, වැරදි ලෙස මග පෙන්වා



තිබියදී, සම්පූර්ණයෙන් වැරදි උපායන් අනුගමනය කර තිබියදී, ප්‍රතිගාමී උවමනාවන් සඳහා තමන්ව තිරයේ පිටුපසින් සිට මෙහෙයවා තිබියදී, එතරම් විශාල තරුණ-තරුණියන් ප්‍රමාණයක් එඩිතරවත්, ත්‍යාගශීලීවත්, ඔවුන්ගේ ජීවිත පරිත්‍යාග කිරීමට තරම් ඉදිරිපත්වීම තුළින්, අපේ ජනතාව විප්ලවවාදී නොවේය යන න්‍යාය සදහටම විනාශ කර දැමීය. ඔවුන් ඒ අතින් වෙනත් කිසිම ජනතාවකට නොදෙවෙනි බවද ඔප්පු කළේය. මේ කරුණ ප්‍රතිගාමීන්ට අනතුරු හැඟවීමක් වෙත්වා... ඒ සමගම එය විප්ලවවාදීන්ට ඒ හා සමානවම ධෛර්යයක් ලබාදෙත්වා....

අනිත් අතින් බැලූකල ඉතාමත් "ප්‍රජාතන්ත්‍රවාදී ලෙස" තෝරාගත් ආණ්ඩුවකට අද සිදුවී තිබෙනුයේ, මින් පෙර නොවූ තිරිසන් ඒකාධිපති බල පාවිච්චි කර, රට පාලනය කිරීමටය. ලංකාවේ ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදය කවදත් රැවටිල්ලකි. 1956 දිවංගත බණ්ඩාරනායක මහතාගේ මහජන එක්සත් පෙරමුණු ආණ්ඩුව ආරම්භවු ද සිටම පාහේ, හදිසි නීතිය යටතේ පාලනය කිරීම නීතියක්ම වී තිබේ. බණ්ඩාරනායක මහත්මියගේ 1960 ආණ්ඩුවත්, ඩඩ්ලි සේනානායකගේ 1965 ආණ්ඩුවත්, යන දෙකම එකිනෙකාට වැඩි කාලයක් හදිසි නීතිය යටතේ රට පාලනය කිරීම කළ හැක්කේ කාටද යන්න පිළිබඳව තරගයක යෙදුණි. මේ තරගයෙන් ශ්‍රී ලංකා නිදහස් පක්ෂයට වඩා එක්සත් ජාතික පක්ෂය සුළු කාලසීමාවකින් හෝ ජය ගත්තේය. ඒ කෙසේ වෙතත් ආණ්ඩු දෙකම තම ජීවිත කාලය තුළ වැඩි කොටසක් රට පාලනය කළේ හදිසි නීතිය යටතේය. අනේ අම්මෝ ලංකාවේ ප්‍රජාත්‍රන්තවදය එය විය.

එහෙත් බණ්ඩාරනායක මහත්මියගේ නායකත්වයෙන් යුතු වර්තමාන එක්සත් පෙරමුණු ආණ්ඩුව එම වාර්තා බිඳ හෙලා ඇත්තේය. මීට කළින් නොලැබූ ආකාරයේ තුනෙන් දෙකක, පාර්ලිමේන්තු වැඩි ඡන්දයකින් බලයට පත්ව සිටියදීත්, හදිසි අවස්ථා ප්‍රකාශයට පත්නොකර තම ජීවිත කාලයෙන් අවුරුද්දක් හෝ ගත කිරීමට ඊට නොහැකි විය. මේ ආණ්ඩුවේ ජීවිත කාලය කොතෙක් දීඝී වුවත්, කෙටි වුවත්, මෙම ජීවිත කාලය තුළ හදිසි නීතිය ඉවත් නොකිරීමට ඉඩ හැකිවේයයි කීම ඉතා අසීරුය. 1970 මැයි මසයේදී එක්සත් පෙරමුණු ආණ්ඩුව බලයට පත්වුණු අවස්ථාවේ එය ලද අති දැවැන්ත පාර්ලිමේන්තු ජයග්‍රහණය තුළම එහි විනාශයේ බීජ පවතින බව මාක්ස්-ලෙනින් වාදීහු පෙන්වා දුන්හ. එක්සත් පෙරමුණ විරුද්ධ පාර්ශවයේ සිටියදී ඔවුන් ජනතාවට මනනන්දණීය පොරොන්දු ගණනාවක් දෙන්නට යෙදුණි. ඔවුන් නොදුන් පොරොන්දුවක් නැත්තේය. තමන් අවුරුදු පහක් පමණ දීඝී කාලයක් විරුද්ධ පක්ෂයේ සිටියදී නිකං නොසිටිය බවත්, මාහැඟි ආර්ථික සැලැස්මක් කෙටුම්පත් කර ඇති බවත්, බලයට පත්වූ විගසම එම සැලැස්ම ක්‍රියාවට නංවන බවටත් එක්සත් පෙරමුණු නායකයින් කයිවාරු ගැසූහ.

ඔවුන් ජනතාවගෙන් ඉල්ලා සිටියේ එකම එක දෙයකි. එම ඉල්ලීම

වූයේ රට පාලනය කිරීම සඳහා වෙනත් දේශපාලන පක්‍ෂවල හෝ කණ්ඩායම්වල ආධාරය ඉල්ලීමට ඉඩ නොතබා, තමන්ට තනියෙන් ආණ්ඩු කිරීමට පුළුවන් වන වැඩි ආසන ගණනක් ලබාදෙන ලෙසය. ජනතාව එයිනුත් ඔබ්බට යමින්, එක්සත් පෙරමුණට තුනෙන් දෙකකටත් වැඩි ඡන්ද ප්‍රමාණයක් ලබා දෙන ලදී. තමන්වූ පොරොන්දු ඉටු කිරීමට ආණ්ඩුවට අවංකවම වුවමනා වූයේ නම්, ඒවා ඉටු නොකර සිටීමට ඉදිරිපත් කළ හැකි, පිළිගත හැකි හේතු කිසිවක් නොවීය. දණින් වැටුණු විරුද්ධ පක්‍ෂයක ආධාරයද එයට පොරොන්දු වී තිබුණි. මැතිවරණ සමයේදී ඉදිරිපත් කළ යෝජිත වැඩ පිළිවෙල ඉටු නොකිරීමට කිසිදු හේතුවක් නොවීය. එම පොරොන්දු ඉටු නොකිරීමට දක්වන හේතු වලට ඇහුම්කන් දීමට ජනතාව සූදානම් නැති බව තේරුම් ගැනීමට තරම් කරුණු වැඩිකල් නොගොස්ම පෙණෙන්නට තිබුණි. ජනතාවගෙන් ඉල්ලා සිටි දේ ජනතාව ලබා දී ඇති බැවින්, දැන් ඔවුන් බලාපොරොත්තු වූයේ ප්‍රතිඵලයයි.

1970 වේ මැතිවරණ ජයග්‍රහණයට කලින්මද, මාක්ස්-ලෙනින්වාදී කොමියුනිස්ට් පක්‍ෂය ජනතාවගෙන් ඉල්ලා සිටියේ, ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදී මායාව ප්‍රතික්ෂේප කරන ලෙසත්, මහ මැතිවරණයට කිසිම අයුරකින් සම්බන්ධ නොවන ලෙසත්ය. අද පවතින අධිරාජ්‍ය-රදළ-මහ ධනේෂ්වර ආර්ථික රාමුව කඩා බිඳ හෙලන්නේ නොමැතිව, මුර බල්ලෙකු ලෙස එය රකින මර්දනකාරී ධනේශ්වර රාජ්‍ය යන්ත්‍රය බලහත්කාරයෙන් පොඩිපට්ටම් නොකර, ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජතන්ත්‍රවාදී ප්‍රෝඩාව තුළින් බලයට පත්වන කුමන හෝ ආණ්ඩුවකට වේවා, ජනතාවගේ මූලික ප්‍රශ්න කිසිවක් විසඳිය නොහැකි බවට, මාක්ස්-ලෙනින් වාදීන් කල් ඇතිවම අනතුරු ඇඟවූහ.

එම අනතුරු ඇඟවීම අද නිවැරදි වී තිබේ. ලංකාවේ පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදය සේනානායක හා බණ්ඩාරනායක පවුල් අතර මාරුවෙන් මාරුවට පුටු මාරු කර ගැනීමේ සෙල්ලමක ආකාරය ගෙන තිබේ. 1947 සිට 1956 දක්වා වූ අවුරුදු නවයක කාලසීමාව රට පාලනය කළේ සේනානායක වරිගයයි. ඊළඟ අවුරුදු නවය වන 1956 සිට 1965 දක්වා වූ කාලය තුළ ස්වාමිපුරුෂයා භාර්යාව වශයෙන් බණ්ඩාරනායකලා බලය ලබා ගත්තෝය. දැන් ආපසු ඔරලෝසුවේ බට්ටා බණ්ඩාරනායකලා වෙතට පැද්දී ඇති අතර, එම තිරික්කලයට ලංකාවේ සංශෝධනවාදී කොමියුනිස්ට් පක්‍ෂය වන කේනමන් සංශෝධනවාදී කල්ලියත්, ප්‍රතිසංස්කරනවාදී ලංකා සමසමාජ පක්ෂයත්, රිංගා ගෙන ඇත්තේය. එහෙත් මේ රටේ ආර්ථික, සමාජමය සැකිල්ලේ වෙනසක් සිදුවී නැත්තේය. ලංකාව තවමත් නව විජිතවාදී සහ අර්ධරදළ රටක්ව පවතින්නේය. ලංකාවේ ආර්ථිකයේ මුදුන් තවමත් අල්ලාගෙන සිටින්නේ විදේශීය අධිරාජ්‍යවාදීන් විසිනි. රටේ ජාතික ආදායමෙන් වැඩි කොටසක් උපදවන්නාවූ තේ, රබර් වගාවන්ගෙන් වැඩි



ප්‍රමාණයක්ද, බැංකු වැඩි ප්‍රමාණයක්ද, බඩු පිටරට පටවන සහ මෙරටට ගෙන්වන වෙළඳාමද, නැව් ගතකිරීම යනාදී මේ හැම දෙයක්ම තවමත් ඇත්තේ විදේශ අධිරාජ්‍යවාදීන් අතේය. මෙරට දේශපාලන වේදිකාවේ, නටන රූකඩ ලංකාවේ සෑදූ ඒවා වුවත්, ඒවා නටවනු ලබන්නේ ලන්ඩනයේ සහ වොෂින්ටනයේ සිට අදිනු ලබන අදෘශ්‍යමාන නූල් සූත්තර මගිනි.

සමාජවාදය පිළිබඳව මහා හයියෙන් කොතෙකුත් හිස් ප්‍රලාප දෙඩුවත්, 1970 වේ මැයි මාසයේදී එක්සත් පෙරමුණ බලයට පත්වීමෙන් පසු, මෙම තත්වයෙහි කිසඳු හෝ වෙනසක් සිදුවී නැත්තේය. ඒ වෙනුවට බුද්ධිමතුන් යයි ලෝ පතල මන්දබුද්ධිකයින්, සමාජවාදය ගෙඩනැගීම පිළිබඳව දොඩවන දෙඩවිලි එක පැත්තකින් බලාගෙන සිටීමටත්, අනිත් අතින් රටේ මුදල් උපයන ප්‍රධාන මාධ්‍යන් වී තිබෙන තේ සහ රබර් වගාවන්ද, බැංකුද, තවමත් විදේශීය අධිරාජ්‍යවාදීන්ගේ අතේ පැවතීමේ දර්ශනය දෙස බලා සිටීමටත් ජනතාවට සිදුවී තිබේ. සමාජවාදය පිළිබඳව අලුත් තේරුම්කිරීම් නිපදවා ඇත්තේය. සමාජවාදය වශයෙන් දැන් තේරුම් කරන්නේ දුගී, දුප්පත් ජනතාව වැඩි වශයෙන් විනයගරුක වීම බවත්, වැඩි වැඩියෙන් මහන්සි වී වඩකළයුතු බවත්, බඳපටි තව දුරටත් තදකර ගත යුතු බවත් ය. මෙවැනි දේශනාවලට ඇහුම්කන් දෙන ජනතාවට, එවැනිම වූ පරිත්‍යාගයන් ඉහළ පෙලෙන් කෙරෙන බවක් පෙනෙන්නට නැත්තේය. පාර්ලිමේන්තු මන්ත්‍රීන් තම තමන්ගේ පඩි වැඩිකර ගත්හ. ඊනියා සමාජවාදී ඇමතිවරු තම තමන්ට සිසිලස දනවන වායු සමීකරණ කාර්යාල අලුතින් ගොඩනගා ගත්හ. තමන්ගේ අධ්‍යාපනය සඳහා අගමැතිණියගේ දරුවන් ගියේ පිටරට වලටය. අලුත් බෙන්ස් කාර්වල ප්‍රමාණයෙන් සහ කුමාර සැප ඇති ගොඩනැගිලිවලින්, අද හිඟයක් නැත. ලංකාවේ විශාලම ගෙවල් හිමියන්ගෙන් සමහරු ඇමති මණ්ඩලය තුළ සිටින නිසා, විශාල ප්‍රචාරයක් දෙන්නට යෙදුනත්, ගෙවල් කුලී සීමා කිරීමේ නීති රීති ක්‍රියාත්මක කිරීමට නොහැකි විය. දිවුර දිවුරා පොරොන්දු වූ මන්ත්‍රීවරුන්ගේ වත්කම් හෙළි කිරීම්, දිව්රූ පරිදි හෙළි කර නොමැත්තේය.

මේවා මෙසේ සිදුවූ අතර, ජීවන වියදම රොකට්ටුවක වේගයෙන් අහස උසට නගිමින් පවතියි. විසඳිය නොහැකි ගැටලුවක් වී තිබුණු රැකියා හිඟය අලුත් ආණ්ඩුව පත්වීමෙන් පසුව පලිගැනීම් වශයෙන් ගොවි හමුදාවේ 10,000 ක්ද ඇතුලුව, පසුගිය ආණ්ඩුව විසින් රැකියාවන් සපයා තිබුණු සංස්ථා වලින් සේවකයින් දොට්ට දැමීමෙන් එය තවත් උග්‍ර විය. දෙවැනි හාල් සේරුව ලබාදීමට වූ පොරොන්දුව පමණක් ඉටු කිරීමට ආණ්ඩුවට හැකිවූයේ, හාල් සහ පොලී රහිත ණය ලබාදීමෙන් චීනය දැක්වූ ත්‍යාගශීලී භාවය නිසාය. ලෝක බැංකුවෙන් ණය හිඟාකෑමේ කලින් පැවති ප්‍රතිපත්තියේ දරුණු විවේචකයින් වූ සමහර මිනිස්සු, බලයට පත්වී රැයක් එළිවීමට කලින් යාචකයින් මෙන් පොල්කටුවද අතේ ඇතිව තමන් හෙලා දුටු ඒ ලෝක බැංකුවෙන්ම ණය ඉල්ලා

සිටිමට තරම් නිර්ලජ්ජිතයෝ වී සිටිති.

විශ්වාස භංගත්වය, කළකිරීම සහ ඉවසීමේ සීමාව ඉක්මයෑම මුලු මහත් රට පුරාම පැතිර යාමත්; විශේෂයෙන්ම තරුණ තරුණියන් අතර එය තදින්ම බලපෑමත් මේ නිසා පුදුමයක් නොවේ. මෙම විශ්වාස භංගත්වය තවත් දරුණු කළ කරුණක් වූයේ, ආණ්ඩුවේ කොටස්කරුවන් වීමට කලින්, ඉතාමත් ඉස්තරම් විප්ලවවාදී කථා පැවැත්වූ සහ ඒ කථා වලටත් වඩා ඉස්තරම් පොරොන්දු දුන් ට්‍රොට්ස්කිවාදීන් සහ කේනමන් සංශෝධනවාදීනුත් නිසාය. මෙවැනි පොරොන්දු දුන් උදවිය පාලන බලය පිළිබඳ ඇමති තනතුරු නැමැති ලෝගු පොරවාගෙන හැඩ වූ මොහොතේම සහ වායු සමීකරණ කාර්යාල වලට රිංගා ගැනීමත් සමගම, පවතින ක්‍රමය එලෙසම පවත්වා ගැනීම සඳහා එය ආරක්ෂා කිරීමේ වීරයන් බවට පත්ව ඇත. හවුල් ආණ්ඩුවක් වූකලී <u>ධනේශ්වර පංතිය සහ සමාජවාදයෙන් සතුරන් වෙත පලාගිය ද්‍රෝහීන් සමඟ ඇතිකරගනු ලබන හවුල් ඇමති මණ්ඩලයක් යැයි</u> ලෙනින් නිවැරදිව ප්‍රකාශ කළේ මේ නිසාය.

කලක් වාමාංශිකව පැවති මෙකී පක්ෂ කෙරෙහි ජනතාව සහ විශේෂයෙන් තරුණ පරම්පරාව සම්පූර්ණ විශ්වාසය කඩාකරගත් බවට නම් කිසිම සැකයක් නැත්තේය. එහෙත් අප්‍රේල් මාසයේ ඇතිවූ සිද්ධීන් විසින් මෙකී බොරු විප්ලවවාදීන් සම්පූර්ණයෙන්ම හෙළිදරව් කළ අතර, මෙතෙක් කල් ලංකාවේ ඇතිවූ දරුණුම ලේ වැගිරීම සහ මිනිස් ඝාතනය, සියලු දේශපාලන මතධාරීන් 14,000ක් පමණ දෙනා මාස 7කටත් වැඩි කාලයක් පමණ කිසිදු නඩු විභාගයක් නොමැතිව හිර අඩස්සියේ තබා ගැනීමත් ගැන මොනම ආකාරයක හෝ මනස්ථාපයක් නොමැතිව, ඒවා අනුමත කළ <u>ප්‍රති විප්ලවවාදී හැතිකරයක් බව</u> මොවුන් නිරුවත් ලෙසම ජනතාව හමුවේ ඔප්පු විය.

අත්අඩංගුවට ගත් කෙනෙකු උසාවියට ඉදිරිපත් කරවීමේ නීත්‍යාණුකූල අයිතියද, ප්‍රසිද්ධ මහ සභා රැස්වීම් පැවැත්වීමේ අයිතියද ඇතුලු ජනතාවගේ සිවිල් සහ ප්‍රජාතන්ත්‍රවාදී අයිතීන් සියල්ලක්ම අහෝසිකර දමා ඇත්තාවූත්; දරුණු ප්‍රවෘත්ති පාලනයක්ද සහිතවද, දැඩි හදිසි නීතියක් ක්‍රියාත්මක කර ඇති, සහමුලින්ම පාහේ මිලිටරි පාලනයක් පවතින වත්මන් තත්වය නිසා; ධනේශ්වර පාර්ලිමේන්තු ක්‍රමයද, ප්‍රජාතන්ත්‍රවාදයද, කෙරෙහි ඇතිවී තිබුණු විශ්වාස භංගත්වය සම්පූර්ණ කර ඇත්තේය. සීයට හතලිස් නවයක ඡන්දයෙන් බලයට පත් වුවත් ජනතාවගේ අති බහුතර බලයකින් බලයට පත් වූයේ යැයි කියා ගන්නා මේ ඊනියා ජනතා රජයේ මැති - ඇමතිවරු කිසිවෙකුට ආයුධසන්නද්ධ පොලිස් බල ඇණියක ආරක්ෂාව නොමැතිව ජනතාව හමුවේ පෙනී සිටීමට අද නොහැක්කේය. විශාල ආයුධ සන්නද්ධ බලකායක ආරක්ෂාව නොමැතිව <u>"ඊනියා ජනතා අගමැතිණියට"</u> ඇගේ නිවසින් එක් අඩියක්වත් එළියට බැසිය නොහැක.



රාජ්‍ය බලයේ සිටින්නාවූ ධනේශ්වර දේශපාලන පක්ෂ කුමක් වුවත්, නියමිත බලය පවතින්නේ සැන් හස්ට් වල සහ නිව් ස්කොට්ලන්ඩ්යාඩ් වල යුධ පුහුණුව සහ පොලිස් පුහුණුව තවමත් ලබන උසස් නිලධාරීන්ගෙන් සමන්විත, සූරාකෑමේ නියත ආරක්ෂකයින් සහ මුර බල්ලන් වන; පාබල, නාවුක, ගගන සහ පොලිස් නැමැති මර්දනකාරී හමුදවන් අතේ යැයි මාක්ස් - ලෙනින්වාදීන් විසින් කරන ලද විග්‍රහය අද කිසිම සැකයක් නොමැතිව ඔප්පු වී ඇත්තේය. ජනතාවගෙන් තේරී පත් නොවූ ග්‍රාම සේවකයෙකු වැනි පැංචෙකුට මහජන මන්ත්‍රීවරයෙකු හෝ පලාත් ආණ්ඩු සභාවක සභිකයෙකු හෝ හිර කූඩුවේ දැමීමට බලයක් ඇති සැටිත්, ඒ ක්‍රියාව ගැන පාර්ලිමේන්තුවට, ජනතාවගේ ඡන්දයෙන් තේරී පත්වූ මන්ත්‍රීවරයෙකුට, කරකියාගත හැකි කිසිවක් නොමැතිව, වචනයක්වත් කථා කිරීමට හයියක් නොමැතිව බකන්නිලාගෙන සිටියහැටි අපි දුටිමු. ලංකාව තුළ නිර්මාණය කළ ගෝසා බද්දන්ගෙන් සමන්විත ලංකාවේ පාර්ලිමේන්තුවේ ක්‍රියා කලාපය, ධනේශ්වර පර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදී ඉතිහාසයේ ඉතාමත්ම වඳ එකක් බව ඔප්පු වනු ඇත. මේ හොර ගුහාව තුළ සිටි එකෙකු හෝ අතනෑර හැම එකෙක්ම පාහේ භීතියෙන් වෙව්ලා ගොස් සිටි අතර, සැහෙන කාලයක් යනතුරු තමතමන්ගේ මැතිවරණ කොට්ඨාශ වලට යාමට පවා ඔවුන් බියපත් වූහ. පාර්ලිමේන්තුව තුළ අගමැතිනියගේ දර්ශනය පවා දුර්ලභ දෙයක් බවට පත්විය. යුද්ධ හමුදව සහ පොලීසිය තමන්ට රුචි පරිදි ආණ්ඩුව නැටෙව්වේය. දැනුදු නටවන්නේය. ලෝකයේ කිසිම රටක මෙතෙක් නොකළ නව දෙයක් ලංකාව කර ඇත්තේය. ඒ දෙය නම්, සිවිල් පාලනයක් වෙස්මුහුනක් සහිතව යුද්ධ ආණ්ඩුවක් පවත්වාගෙන යාමය.

ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදය සහ පැරණි වාමාංශික පක්ෂ කෙරෙහි ජනතාවගේ ඇතිවී තිබෙන විශ්වාස භංගත්වය යන දෙක සමග, ජනතාවගේ ප්‍රශ්න විසඳීම සම්බන්ධයෙන් එක්සත් පෙරමුණු ආණ්ඩුවේ බංකොලොත්භාවයද, එකට එකතුවීම ලාංකීය ජනගහනයෙන් විශාල කොටසක් නියෝජනය කරන ගැමි තරුණ පරපුර අතරින් සමහර කොටසකගේ අනුකූලතාවය ජනතා විමුක්ති පෙරමුණට දිනා ගැනීමට මග පෑදුවේය.

ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදයේ බංකොලොත්භාවයත් ට්‍රොට්ස්කිවාදීන්ගේ සහ නූතන සංශෝධනවාදීන්ගේ පාවාදීම් සහ ද්‍රෝහිකමත් හෙළිදරව් කිරීම සහ සමාජ විපර්යාසයකට ඇති එකම මාවත විප්ලවීය පමණක් බවත්, ජනතාව හමුවේ නිරතුරුවත්, ක්‍රමානුකූලවත්, සහතික වශයෙන්ම ඉදිරිපත් කරන්න යෙදුනේ මාක්ස් ලෙනින්වාදී කොමියුනිස්ට් පක්ෂය විසිනි. මෙම පක්ෂය 1964දී සංශෝධනවාදී පක්ෂයෙන් කැඩී වෙන්වී වෙනම පක්ෂයක් වශයෙන් පිහිටුවාගත්දා සිටම මෙම පරමාර්ථය පෙරදැරිකොට ගනිමින් ක්‍රියා

කළේය.

එහෙත්, මිය ගිය එස්.ඩබ්.ආර්.ඩී. බණ්ඩාරනායක මහතා දේශපාලන ජීවිතයට පා තැබීමටත් කලින්, මෙරට වාමාංශික ව්‍යාපාරය විසින් ජනප්‍රිය කරන්නට යෙදුනු උන්නතිකාමී සටන්පාඨ හොරාගෙන ආගම, භාෂාව සහ ජාතිය යන ප්‍රශ්න කෙරෙහි ජනතාවගේ අවධානය දක්ෂ ලෙස නම්මවා ගැනීමට ඔහු 1956දී සමත් වුයේ යම් සේද, ඒ හා සමානව මාක්ස්-ලෙනින් වාදීන් විසින් කරන ලද වැඩවල ප්‍රතිඵල නෙලා ගැනීම සඳහා ඊට ("ඉන්දියානු විරෝධී භාවය වැනි") ජාතිභේදවාදයත්, කුල වාදයත්, මිශ්‍රකර ගැනීමට ජනතා විමුක්ති පෙරමුණ දක්ෂ විය. මෙය තේරුම් ගැනීම සමහරවිට දුෂ්කර වනු ඇත. අතීතයේදී ඩී. එස්. සේනානායකගේ සිටු ආර්.ජී. සේනානායක දක්වාත්, හේම බස්නායකගේ සිට කේ.එම්.පී. රාජරත්න දක්වාත් වූ දේශපාලනඥයින්, ජාතිභේදවාදය ප්‍රතිගාමී දේශපාලනය සමග එකට මිශ්‍ර කළෝය. ජනතා විමුක්ති පෙරමුණ අලුත් මිශ්‍රණයක් අත් හදා බැලීමට උත්සාහ දැරිය. ඉන්දියානු විරෝධීභාවය කෙරෙහි ඔවුන් ජනතාව උසි ගැන්වූ අතර, (එනම් ලංකාවේ කම්කරු පංතියෙන් සෑහෙන කොටසක්වන ඉන්දියානු ජන්මයක් ඇති, වතු කම්කරුවන්, ඉන්දියානු දේශ ව්‍යාප්තවාදයේ ඉත්තන් වශයෙන් ජනතා විමුක්ති පෙරමුණ විසින් මවා පෑම) ඔවුහු එය විප්ලවවාදී න්‍යායයන් සමග මිශ්‍ර කළහ. මෙසේ කිරීමෙන් ඔවුන් අනිත් අයට වඩා සාර්ථක වූ බව පෙනේ.

මෙම තත්වය විසින්, ජනතා විමුක්ති පෙරමුණේ ස්වභාවය ගැන විග්‍රහයක යෙදීම සඳහා අපට ඇරයුම් කරයි. ආණ්ඩුවේ නායකයින් විසින් කර ඇති විග්‍රහයන්ගෙන් බොහොමයක් බරපතල ලෙස කල්පනා නොකර කළ විග්‍රහයන්ය. ජනතා විමුක්ති පෙරමුණ ප්‍රතිගාමීන්ගේ අතකොලුවක් වශයෙන් හඳුන්වා තම විග්‍රහය ආරම්භ කළ මොවුන්, එම විග්‍රහය අවසන් කලේ ජනතා විමුක්ති පෙරමුණේ අය අන්ත වාමාංශික අතිධාවන කාරයින් බව කියමිනි. එහෙත් ජනතා විමුක්ති පෙරමුණේ නියම ස්වභාවය කුමක්ද? (උප ග්‍රන්ථය බලන්න)

ජනතා විමුක්ති පෙරමුණේ නායකත්වයේ ස්වභාවය ගැන ඇති වූ සැකය කුමක් වුවත්, එහි සාමාන්‍ය සාමාජිකත්වය අවංක වශයෙන්ම විප්ලවීය හැඟීම් වලින් යුක්ත වූවක් බව පිළිගත යුතු අතර, ඔවුනට තිබූ, මින්පෙර ලංකාවේ නොඇසුවිරූ ආඩම්බර වියයුතු ගුණාංගයක් වූකලී, තම ජීවිත වුවද පරිත්‍යාග කිරීමට ඔවුන් තුළ තිබුණු පරිත්‍යාගශීලී බවයි. ඉතාමත්ම වේදනා සහගත තත්වය නම්, මෙම පරිත්‍යාගයන් ප්‍රතිඵල රහිත වීමයි. තමන්ගේම වූ යටිකුට්ටු පරමාර්ථ සඳහා, ප්‍රතිගාමී බලවේගයන් විසින් තිරෙන් පිටුපස සිට, ජනතා විමුක්ති පෙරමුණේ නායකත්වයෙන් එක කොටසක් මෙහෙයවූ බවට නම් කිසිම සැකයක් නැත්තේය.

<u>මෙම ව්‍යාපාරය ලංකාව තුළ සීඝ්‍රයෙන් වර්ධනය වෙමින් පවතින මාඕ සේතුං චින්තාවට ප්‍රතිවිරුද්ධව නිර්මාණය කරන ලද්දක් බවට නම් සැකයක් නැත්තේමය</u>. සාමකාමී සහජීවනය සහ සමාජවාදය කරා සාමකාමීව පාර්ලිමේන්තුව තුළින් පරිවර්තනය වීම පිළිබඳවූ සංශෝධනවාදී න්‍යායයන් සහ ට්‍රොට්ස්කිවාදී න්‍යායයන්ද, ජනතාව තුළ එන්ට එන්ටම තේරුමක් නැති න්‍යායයන් බවට පත්වෙමින් පැවතුණෙන්, තමන්ගේ සහය සඳහා ප්‍රතිගාමීත්වයට, චේ ගුවේරාගේ නාමයට සම්බන්ධ බොරු විප්ලවවාදී න්‍යායක් ඉදිරිපත් කිරීමට සිදු විය. ප්‍රතිගාමීත්වය මෙය කළේ, මාඕ සේතුං චින්තාවේ විප්ලවීය සත්‍යයන්ගෙන් තරුණ පරපුරේ අවධානය වෙනතකට හැරවීම සඳහාය. තම අනුගාමිකයින් රැවටීම සඳහා, ඔවුන් මාඕ සේතුං සහෝදරයාගේ උද්ධෘතපාඨ බාගෙට උපුටා දැක්වූහ. එහෙත්, ඔවුන්ගේ දර්ශනවාදය අත්‍යන්තයෙන්ම අමූලික අමු මාක්ස් - ලෙනින් විරෝධී එකක් විය.

ලක්ෂ සංඛ්‍යාත ජනතාවක් සමග සංසන්දනාත්මකව ගත් කළ, ආයුධ සන්නද්ධ සටන්කරුවන්, එසේත් නැත්තම් ගරිල්ලා භටයින් කුඩා කණ්ඩායමකට වීරයින් ලෙස රාජ්‍ය යන්ත්‍රය අත්පත් කර ගත හැකි බවත්, ඊට පසු ජනතාව තමන් වෙත දිනා ගත හැකි බවත් කියවෙන, චේ ගුවෙරාගේ න්‍යාය ඔවුන් ජනප්‍රිය කළෝය. මෙම න්‍යාය අතිකක් නොව පෞද්ගලිකත්වය පිළිබඳ දැඩි හැඟීම් ඇත්තා වූත්, කම්කරු පංතිය කෙරෙහි සැක සහිත වූත්, සුළු ධනේශ්වර පංතියේ සුරතල් න්‍යායයයි. එය සමාජ විපර්යාසයකට තුඩු දෙන විප්ලවයකට බහු ජනතාවගේ සහභාගීත්වය ප්‍රතික්ෂේප කරයි. ඒ නිසාම මෙම න්‍යාය මාඕ සේතුං සහෝදරයා විසින් සොයා දැනගෙන, අත්හදා බළා සකස් කර ඇති, මහජන යුද්ධය පිළිබඳ න්‍යායයේ ප්‍රතිවිරුද්ධ න්‍යායයයි.

මාඕ සේතුං සහෝදරයා අපට මෙසේ උගන්වා ඇත :- "<u>විප්ලවවාදී යුද්ධය වූ කලී බහු ජනතාවගේ යුද්ධයකි. එය මෙහෙයවිය හැක්කේ ජනතාව ඒ සඳහා පුබුදුවාලීමෙන් සහ ඔවුන් කෙරේ විශ්වාසය තැබීමෙන් පමණි.</u>" ජනතා විමුක්ති පෙරමුණේ ඊනියා කැරැල්ල ගැන සලකා බැලීමේදී, එහි ඇති කැපී පෙනෙන අංග ලක්ෂණයන්ගෙන් ප්‍රධානම ලක්ෂණය නම්, ඊට බහුජනතාවගේ සහයෝගය කොහෙත්ම පාහේ නොලැබීමත්, සංවිධානය වූ කම්කරු පංතියෙන් එය සම්පූර්ණයෙන්ම පාහේ තනිවී තිබීමත්ය.

ඔවුන්ගේ යුද්ධ උපායයන්ද සකසාගෙන තිබුණේ, එක දිනක විප්ලවයක් කර, හදිසි ජයග්‍රහණයක් ලබා ගැනීමේ අති ධාවනකාරී න්‍යායයන්ගෙන්ය. එවැනි උපායයන් ඉස්මතුවූයේ, සතුරාගේ නියම ශක්තිය පිළිබඳව නියම තක්සේරුවක් සහ කිසිදු හැඟීමක් හෝ අවබෝධයක් නොතිබීමත්, මාඕ සේතුං සහෝදරයා විසින් ඉදිරිපත් කළ දීර්ගැස්සුණු මහජන යුද්ධයේ සුප්‍රසිද්ධ න්‍යාය පිළිබඳව ඔවුන් තුළ පැවති අනවබෝධයත් නිසාය. ජනතා විමුක්ති පෙරමුණ අනුගමනය කළ එකම මොහොතකදී පොලිස් ස්ථාන ගණනාවකට පහරදීමේ උපායත්, උපායික වශයෙන් නොපැසුණු උපායක්

වන්නේය. එම ස්ථාන සතුරාගේ ශක්තියේ කේන්ද්‍රස්ථානයන්ය. එවැනි වූ උපායක් වූ කලී ඉතාම බොලඳ සංකල්පයකි. එහි එකම ප්‍රතිඵලය වී ඇත්තේ, සිදුවූ පරිද්දෙන්ම මහා මිනිස් ඝාතනයක් සිදුවීමයි.

ජනතා විමුක්ති පෙරමුණ අපි දන්නා අර්ථයෙන් ගත්කල දේශපාලන පක්ෂයක් වශයෙන් සංවිධානය වී නොතිබුණි. එය රහසිගත හෝ ප්‍රසිද්ධ සම්මේලන වාර පැවැත්වූයේ නැත. එහි නායකත්වය සාමාජිකත්වයෙන් තෝරා ගන්නා ලද්දේ නොවේ. එහි නායකයා සිතීමට පවා නොහැකි, බොරු පුද්ගල අභිවාදනයෙන් වටකර ගනු ලැබූවෙක් විය. තමන් මාක්ස් - ලෙනින් වාදීන් යයි කියා ගන්නා අතරම, අනිත් අතින් ප්‍රජාතන්ත්‍රවාදී මධ්‍යගතවාදය පිළිබඳව ඔවුන් කිසිවක් දැන සිටියේ නැත. එවැනි වූ ව්‍යාපාරයක් තුළට සතුරාගේ ඒජන්තවරුන් රිංගවා, නුසුදුසු අවස්ථාවන්වලට උසිගැන්වීම් කරවන විනාශකාරීන් ඒ තුළ ක්‍රියාත්මක කරවීමටත්, ප්‍රතිගාමී අරමුණු සපුරා ගැනීම සඳහා, තිරයෙන් පිටුපස සිට සැඟවී සිටින ප්‍රතිගාමීන්ට, එවැනි ව්‍යාපාරයක් නොමග යැවීමටත්, මෙම අඩුව ඉතාමත්ම වාසිදායක තත්වයක් වන්නේය.

සමහර විට, දැනට සම්පූර්ණයෙන් පැහැදිළි කිරීමට නොහැකි විධියේ කරුණු ගණනාවක් ජනතා විමුක්ති පෙරමුණ සම්බන්දව තිබේ. දැන් ඔප්පුවී ඇති පරිදි, කළින් පැවති එක්සත් ජාතික පක්ෂයේ ආණ්ඩු සමයේ ආණ්ඩුවේ එවකට සිටි විශේෂ ආරක්ෂක උපදේශකයා විසින්, (මොහු කලින් සිටි පොලිස් පතිවරයෙකි.) ජනතා විමුක්ති පෙරමුණේ වැඩ කටයුතු පිළිබඳව විශේෂ වාර්තා දෙකක්ද, මෙම වාර්තා දෙක පදනම් කර ගැනීමෙන් තවත් කරුණු ඇතුලත් වූ වඩා සම්පූර්ණ වාර්තාවක්ද, ආරක්ෂ ක හා විදේශ කටයුතු භාර අමාත්‍යංශයේ ස්ථිර ලේකම්වරයා විසින් එද සිටි අගමැතිවරයාට බාර දී ඇත්තේය. ජනතා විමුක්ති පෙරමුණේ වැඩ කටයුතු කරන ස්ථාන, එම පෙරමුණේ වගකිවයුතු පුද්ගලයන්ගේ ලැයිස්තුවක්, පෙමුණේ සාමාජිකයින් ලබන්නා වූ පුහුණුවද ඇතුළුව, (සිද්ධීන් විසින් මෙම කරුණු සනාථ කර ඇත.) ඔවුන් කුමන ආකාරයේ වැඩ කටයුතු වල යෙදෙන්නේද යන කරුණු මෙම වර්තා වල තිබුණු බව දැන් ප්‍රසිද්ධ කරුණකි. සන්නද්ධ හමුදා ප්‍රධානීන්ගෙන් සමන්විත ආරක්ෂක මණ්ඩලයට හෝ ඇමති මණ්ඩලයට හෝ එදා සිටි අගමැතිවරයා මෙකී වාර්තාව ඉදිරිපත් කළේ නැත. එපමණක්ද නොව, එකී වාර්තා පිළිබඳව ඔහු කිසිදු හෝ පියවරක් නොගත්තේය. පොලීසිය කල එකම දෙය නම්, ඒ දිනවල ජනතා විමුක්ති පෙරමුණේ නායකයාද ඇතුළුව පුද්ගලයන් ස්වල්ප දෙනෙකු අත් අඩංගුවට ගෙන, පසුව නිදහස් කර හැරීමයි. ජනතා විමුක්ති පෙරමුණට රට පුරා දේශපාලන ප්‍රසිද්ධියක් හා පදනමක් ඇති වීමට මෙම ක්‍රියා කලාපය මහෝපකාරී විය.

මෙම වාර්තා පිළිබඳව තමන් කිසිවක් නොකළේ මන්ද? යන අභියෝගය පාර්ලිමේන්තුව තුලදී කලින් සිටි අගමැතිවරයාට එල්ල කළත්, ඔහු



සතුටුදායක පිළිතුරක් දුන්නේ නැත. ඒ හා සමානවම සැක උපදවන අනෙක් කරුණ නම්, අලුත් ආණ්ඩුවත් මේ වාර්තා ගැන ක්‍රියා නොකළේ මන්ද යන්නයි. මෙකී වාර්තා සියල්ලක්ම රහස් පොලීසියේ විශේෂ අංශයේ කාර්යාලයේ තිබුණි. සුළු සුළු වෙනස්කම් ඇති වුවත්, විශේෂ අංශයේ දැනුදු රාජකාරි කරන්නේ කලින් සිටි පුද්ගලයින්මය. එක අතකින් ඔවුන් ක්‍රියා නොකළේ මන්ද? යනු ප්‍රශ්නයකි. අනිත් අතින් සුදුසු ක්‍රියා මාර්ගයක් ගන්නා ලෙස මේ ආණ්ඩුව මෙම අංශයට උපදෙස් නුදුන්නේ මන්දැයි, තවත් ප්‍රශ්නයකි. සමහර විටක මේ ප්‍රශ්නවලට පිළිතුරු, අපට කිසි දිනක හෝ නොලැබෙනවා විය හැක. ජනතා විමුක්ති පෙරමුණේ අභිලාෂයයන් පිළිබඳව සියල්ල දැන සිටි මෙකී නිලධාරීන්ම, අද අප්‍රේල් සිද්ධිය පිළිබඳව පරීක්ෂණ පැවැත්වීම විමතියට කරුණක් වන්නේමය.

ජනතා විමුක්ති පෙරමුණට ධනේශ්වර පුවත් පත් විසින් දෙන ලද ප්‍රචාරයද ඒ හා සමානවම සැකය අවුස්සන කරුණකි. ධනේශ්වර පුවත් පත් වල ප්‍රධාන කණ්ඩායම් තුනෙන් අඩුම වශයෙන් එක කණ්ඩායමක් විසින් හෝ ජනතා විමුක්ති පෙරමුණේ එක ආරංචියක් හෝ පළ නොකළ එකම දිනයක්වත් සොයා ගැනීමට අපහසු කරුණක් විය. තම වර්ධනය සඳහා එවැනි වූ ප්‍රචාරයක්, මෙරට වෙනත් කිසිම දේශපාලන සංවිධානයකට මෙතෙක් ලැබී නැත්තේය. ඩී. ඇස්. සේනානායක, එස්.ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක ළඟට බලයට පත්වන තැනැත්තා විජේවීර බව හඳුන්වා දෙමින්, සිලෝන් ඩේලි නිව්ස් පත්‍රය මැද පිටුවේම ලිපියක් පලකළ බවද, මෙතනදී මතක් කළ යුතුය. මෙකී සියළු දෙයම අහම්බෙන් සිදුවූ දේ විය නොහැක.

ඊලඟට මතුවන ප්‍රශ්නය නම් ආයුධ සහ වෙඩි බෙහෙත්, මුනිස්සම් පතරොම් යන ආදියයි. තුවක්කු නම් සොරකම් කර ගත් ඒවායයි කියන කතන්දරය අපි මොහොතකට පිළිගත්තත්, ලංකාවේ මින්පෙර දැක නැති නා නා ප්‍රකාර වූ අත් බෝම්බ තොගය කොහෙන් ගෙනා ඒවාද? ඊටත් වඩා බරපතල දෙය නම්, මෙතරම් විශාල ප්‍රමාණයක් පතරොම් ලැබුණේ කොහෙන්ද? ජනතා විමුක්ති පෙරමුණ වියදම් කලේ යයි කියන විශාල මුදල් කන්දරාවද ගණන් ගත යුතුය. මෙතෙක් දී ඇති එකම සතුටු දායක පිළිතුර නම්, දකුණු පලාතේ වෙළඳ ව්‍යාපාරිකයින්, ඉන්දියානු විරෝධී ප්‍රචාරය කොතෙක් දුරට ගිල ගත්තේද යත්, මෙම ව්‍යාපාරය වෙනුවෙන් රුපියල් දහස් ගණනක් වීසි කළෝය යන්නයි. එම පැහැදිලි කිරීම සම්පූර්ණයෙන්ම සැලකිල්ලට නොගෙන සිටිය හැක්කක් නොවේ.

ඒ කෙසේ වෙතත් ජනතා විමුක්ති පෙරමුණ විසින් කරගෙන ගිය දරුණු ඉන්දියානු විරෝධී, ජාතිභේදවාදී ව්‍යාපාරය ගැන නම් කිසිදු සැකයක් නැත්තේය. සිංහල රාජ්‍යය ආරක්ෂා කර ගැනීම සඳහා, "දෙමළ ලේ සාගරයක්" ධාරණය කිරීම පිළිබඳවද ඔවුන් කථා කළෝය. ලංකාවේ උතුරු සහ

නැගෙනහිර පළාත්වලත්, වතුකරයේත්, එනම්, ලංකා සහ ඉන්දියානු ද්‍රවිඩ ජනතාව ජීවත්වන ප්‍රදේශ තුළ සැලකිය යුතු සිද්ධීන් කිසිවක් සිදු නොවූයේ මේ නිසාය. ජනතා විමුක්ති පෙරමුණේ සාමාජිකත්වය හෝ එහි නායකත්වය තුළ හෝ ද්‍රවිඩයින් නොසිටීමේ හේතුවද මෙයයි.

අළුත් ආණ්ඩුව හෙළිදරව් වීමටත්, එසේ හෙළිදරව්වීමේ ප්‍රතිඵලයක් වශයෙන් ජනතාවගෙන් කොන්වී වියෝ වීමටත් පෙර, කැරැල්ල ගැසීමේ දින නියම කිරීම විසින් ඔප්පු කරන්නේ, එහි ඇති දේශපාලන නොපැසුනු භාවය හෝ සතුරා විසින් ඒ තුළට ඇතුල් කරනු ලැබූ විනාශකාරී කුපිත කරන්නවුන් සිටීමය. එකවර පොලිස් ස්ථාන ගණනකට පහර දීමේ උපායයන්ගේ ඇති තකතීරුකම ගැන, මීට කලින්ද අපි සඳහන් කර ඇත්තෙමු. ආණ්ඩුව ඒ අවස්ථාවේදී කළාක් මෙන්, අවශ්‍ය ඕනෑම අවස්ථාවකදී ආණ්ඩුවේ හමුදාවන්ට අවශ්‍යතරම් සන්නද්ධ සේනා රැස්කර ගත හැකි වීමෙන් මෙය ඔප්පු වේ.

ජනතා විමුක්ති පෙරමුණට අනිත් අතින් පැහැදිලි වැඩසටහනක්ද නොවීය. ඊට තිබුණ එකම වැඩ සටහන ආණ්ඩුව විවේචනය කිරීම සහ වාමාංශික පක්ෂ විසින් මීට කලින් ඉදිරි පත් කළ සමහර කරුණු තම වැඩ පිළිවෙල මෙන් ඉදිරිපත් කිරීම පමණි. ජනතා විමුක්ති පෙරමුණේ සාමාජිකයින්ගේ දේශපාලන අවබෝධය ඉතා පුදුමාකාර ලෙස, සිතීමට පවා නොහැකි පහත් මට්ටමක පැවතිණ. ඔවුන්ගේ දේශපාලන අධ්‍යාපනය කැටිකර තිබුණේ දේශනා පහකට පමණි. එම දේශනා පහෙන් පිට කිසිවක් කියවීම ඔවුන්ට තහනම් විය. එසේ නැත්තම් ඒ සඳහා දිරිගැන්වීමක් නොවීය. අනිත් අතින් මාක්ස් - ලෙනින්වාදී මාඕ සේතුං චින්තනය පිළිබඳව පලවූ සිංහල පොත් පත්වල හිඟයද මෙයට බලපෑවේය. එම නිසා කැත ජාතිභේද වාදයත්, විජේවීර ලුමුම්බා විශ්ව විද්‍යාලයේදී ඉගෙන ගත් විප්ලවවාදී වාග් මාලාවත් අඩංගු මිශ්‍රණයක්, මාක්ස්-ලෙනින්වාදය වශයෙන් ඉගැන්වූ අතර, එය අහිංසක ගෝල බාලයෝද නිවැරදියයි සිතා පිළිගත්හ.

ඇත්ත වශයෙන්ම, දේශපාලන මට්ටමේ මෙකී පහළ තත්ත්වයත්, ආවාට ගියාට සාමාජිකයින් බඳවා ගැනීමත් නිසා, අත් අඩංගුවට ගත්තවුන් ගෙන් බොහෝ දෙනෙකු ඔත්තු කාරයින් වී රහස් පොලීසියට ඔත්තු සැපයූහ.

පොදු සතුරාට විරුද්ධව සියළුම විප්ලවීය පංතීන්ගේ සහ කණ්ඩායම් වල, එක්සත් පෙරමුණක් ගොඩනැගීමටද, ජනතා විමුක්ති පෙරමුණ කිසිදු හෝ උත්සාහයක් ගත්තේ නැත.

ඒ සමග යථා තත්ත්වයට බැස මෙම ව්‍යාපාරයේ ප්‍රභාමත් පැත්ත ගැනද, නිවැරදි අවබෝධයක් ලබා ගත යුතුය. ජනතා විමුක්ති පෙරමුණ විප්ලවයක් කළ යුතුය, යන මතය දේශනා කළේය. එහෙත් ඔවුන් මේ දේශනා කිරීමේදී, මාක්ස්-ලෙනින්වාදීන් මෙන් නොව, එක්සත් පෙරමුණේ අපේක්ෂකයින්ට පසුගිය මැතිවරණයේදී ආධාර කළ අතර, අළුත් ආණ්ඩුව



පිහිටුවීමෙන් පසුවද, එය සමාජවාදය ගොඩ නගන්නේ නම්, තම පෙරමුණ විසුරුවා හැරීමට පවා කැමැත්තෙන් සිටින බවද, ප්‍රකාශ කරන්නට යෙදුණි. මෙයින් පෙනීයන්නේ ඔවුන් පාර්ලිමේන්තුව තුළින් සමාජවාදය ගොඩනැගීමේ මායාව තවදුරටත් පවත්වා ගැනීම බවය. කෙසේ වුවද, වැඩි බර දමන්න යෙදුනේ විප්ලවය කෙරෙහිය.

ගැමි ශිෂ්‍යයින් සහ තරුණයින් අතර වැඩකිරීම කෙරෙහි දැඩි අවධානයක් යොමු කිරීමෙන්, ඔවුන් කළේ නිවැරදි දෙයකි. මෙම පරම් පරාවට සමසමාජ පක්ෂය සහ කොමියුනිස්ට් පක්ෂය, ඒවායේ මුල් විප්ලවීය යුගයේදී පවත්වන්නට යෙදුනු දේශපාලන පංති වලට ඇහුම්කන් දීමට අවස්ථාවක් නොලැබුණි. මෙකී තරුණ පරම්පරාව පරිත්‍යාගයට ඕනෑම මොහොතක කැපවීමට තරම් සූදානම් කිරීම, ඇත්ත වශයෙන්ම සිහි කටයුතුය. මුලදී තමන් විසින් කරන ලද සියලු දෙයක්ම රහසිගතව කිරීමේ උපායන් නිවැරදි වුවත්, එක්සත් පෙරමුණු ජයග්‍රහණයෙන් පසුව විවෘතව වැඩ කිරීමටත්, තමන්ගේ මුළු ශක්තියම ගොනුකර යෝධ මහා සභා රැස්වීම් පැවැත්වීමටත් යාමෙන් ඔවුන් කළේ වරදකි. මක්නිසාදයත්, මේ තුළින් ඔවුන්ගේ සාමාජිකත්වය හෙලිකිරීමත්, තම ව්‍යාපාරය තුළට ද්‍රෝහීන්ට ඇතුල් වීමට ඉඩදීමත් සිදුවූ බැවිණි. ආයුධ එක්රැස් කිරීම සඳහා ඔවුන් දැක්වූ උද්යෝගය සහ තම සමාජිකයින්ගෙන් කොටසකට හෝ එම ආයුධ පාවිච්චි කිරීමට පුහුණුවක් ලබාදීමද ප්‍රශංසනීය ක්‍රියාවකි.

<u>එහෙත් විස්තර කරන්නට යෙදුණු සියළුම සාධක විසින් වුවද මෙම ව්‍යාපාරය මුළු එකක් වශයෙන් ගත් කල, මූලික වශයෙන් ප්‍රති විප්ලවවාදී එකක්ය, යන සත්‍ය ඉවත දැමීමක් නොකෙරේ.</u> නායකත්වයෙන් ප්‍රධානම කොටස, තමන්ව නැටවීමට ප්‍රතිගාමීත්වයට ඉඩ හැර තිබුණි. අපේ ප්‍රධාන සතුරන් කවරහුද? අපේ මිතුරන් කවරහුද? යන ප්‍රශ්නයට ඔවුන් නිවැරදිව පිළිතුරු සැපයුවේ නැත. වෙනත් වචන වලින් පවසතොත්, විප්ලවයේ අවධිය කුමක්ද? යන්නත්, විප්ලවයේ ක්ෂණික කාර්ය භාරයන්ගේ ස්වභාවය කුමක්ද? යන්නත්, පිළිබඳව ඔවුන්ට තිබුණේ වැරදි අවබෝධයකි. මේ පිළිබඳ කැපී පෙනෙන සනාථ කිරීම වූ කලී, එකම අධිරාජ්‍යවාදියෙකුගේ හෝ ජීවිතය නැතිනොවූ අතර, අධිරාජ්‍යවාදී හෝ රදළ දේපල වලට කිසිදු හානියක් සිදු නොවීමය. විපතට පත්වූවන් අතර එකද මහා ධනේශ්වරයෙකු හෝ මහ ඉඩම් හිමියකුද නොවීය.

පොදු සතුරාට විරුද්ධව සමගි කළ හැකි සියළුම විප්ලවීය බලවේගයන්ගේ එක්සත් පෙරමුණක් ගොඩනැගීම පිළිබඳව, මොවුන් තුළ කිසිදු හෝ උත්සාහයක් නොවීය. ජනතා විමුක්ති පෙරමුණේ නායකයින් විසින් අනුගමනය කරන්නට යෙදුණු සම්පූර්ණයෙන්ම වැරදි සහගතවූත්, බොළඳ වූත්, යුධ උපායයන් පිළිබඳව අපි මේ වන විට කරුණු පෙන්වා දී ඇත්තෙමු. ඒ වැරදි

උපායයන්ගේ ප්‍රතිඵලයක් වශයෙන් බිලි දෙන්නට යෙදුණු අසීමිත තරුණ ජීවිත ගැන, ඔවුන් මොහොතකටවත් කල්පනා කළේ නැත. ඕනෑම විප්ලවීය අරගලයකදී පරිත්‍යාගයන් වැළැක්විය නොහැක්කේමය. එහෙත් විප්ලවවාදීහු අනවශ්‍ය පරිත්‍යාගයන්ගෙන් වැළකිය යුතුමය.

එහෙත් ජනතා විමුක්ති පෙරමුණ විසින් කරන්නට යෙදුණු මෙකී සියළු වැරදි දඩමීමා කර ගනිමින්, පොලිසිය හා යුද්ධ හමුදාව ප්‍රධාන කොට, ආණ්ඩුව විසින් තම ප්‍රතිගාමී රාජ්‍ය යන්ත්‍රය පිස්සු බල්ලන් මෙන් මුදාහැර කරන්නට යෙදුණු, දරුණු බහුජන මර්ධනයට ඉහත සඳහන් මොනයම්ම හෝ හේතු නිදහසට කරුණු නොවේ. දැඩි හදිසි අවස්ථාවක් ප්‍රකාශයට පත්කර, පූර්ණ පුවත්පත් පාලනයක්ද ප්‍රකාශයට පත් කළ ආණ්ඩුව, මුළු රටම බිහිසුණු යුද්ධ හමුද පාලනයට යටත් කළේය. ලංකාව තම ඉතිහාසයේ මෙතෙක් නොදුටු විරූ රුධිර ගංගාවකින් නැහැවී ගියාය.

ඒ දින වල ආණ්ඩුවේ ආරාධනයක් පිට ලංකාවට පැමිණ සිටි මහාචාර්‍ය රෙනී ඩූමාට් පැරීසියේ පළවන ''ලේ නොබෙල් ඔබ්සර්වේටර්'' නැමැති පුවත් පතට ලිපියක් සපයමින් මෙසේ ලීවේය. ''ගල් ගැසී බලා සිටින්නන් සිය ගණනක් සිටියදී, අගනුවර උතුරේ සිට ගලා බසින ගංගාවක මළමිනී පාවෙනු මම වික්ටෝරියා පාලමේ සිට බලා සිටියෙමි. දිනය අප්‍රියෙල් දහතුනය. මේ මිනිසුන් මැරූ පොලීසිය, සැඩ පහර සමග එම මළමිනී පාවීමට ඉඩ හැරියේ, ජනතාව බිය වැද්දීම සඳහාය.''

තමන්ට මුහුණපෑමට සිදුවී තිබූ අනතුර හිතා මතාම විශාල කර පෙන්වූ ආණ්ඩුව, ජනතාවට විරුද්ධව මේ රටේ ප්‍රතිගාමි සන්නද්ධ හමුදවන් මුද හැරියා පමණක් නොව, තමන්ගේ සහායට ඉන්දියානු දේශ ව්‍යප්තවාදීන්ගේ, විදේශීය සහායද ලබා ගන්නට යෙදුණි. මින් පෙර නොවූ විරූ ආකාරයකින් ජනතාව ඝාතනය කිරිම සහ ත්‍රාසයෙන් මුසපත් කිරිම සදහා, ඉන්දියානු නාවික හමුදව සහ හෙලිකොප්ටර් යානාද, රුසියානු මිග් ප්‍රහාරක යානාද, බ්‍රිතාන්‍ය-අමෙරිකානු යුද්ධ ආයුධ සහ පතරොම්ද ප්‍රයෝජනයට ගන්නා ලදී. එක් අවස්ථාවකදී එක්සත් ජනපද නාවික හමුදව පවා කැඳවීම ගැන කථා තිබුණි. කොරියන් විරෝධී සහ චීන විරෝධී කුපිත කරවීම්ද විය. අප්‍රේල් සිද්ධීන්ට විදේශීය බලවේගයන් කිසිවකගේ කිසිදු සම්බන්ධයක් නොමැතියැයි ප්‍රමාද වී විලාප නැගුවත්, උතුරු කොරියානු තානාපති කාර්යාලයේ කාර්‍යමණ්ඩලය රටින් පිටුවහල් කරන ලදී. නව චීන පුවත් සේවා කාර්‍යාලයද, රුපියල් තුන්කෝටි පනස් ලක්ෂයක වියදමින් චීනය විසින් නොමිලයේ ඉදිකරගෙන යමින් තිබූ චීන ඉන්ජිනේරුවන් සහ කම්කරුවන් වැඩ කරමින් සිටි බණ්ඩාරනායක අනුස්මරණ සම්මන්ත්‍රණ ශාලා වැඩ බිමද පොලීසිය විසින් ආක්‍රමණය කරන්නට යෙදුණි. මාඕ සේතුං සහෝදරයා විසින් ලියන ලද පොත් සිය ගණනාවක් සහ ඔහුගේ පින්තූරද පොලීසිය විසින් බලහත්කාරයෙන්



ගන්නට යෙදුණු අතර, එක් අවස්ථාවකදී පොලිසිය විසින් සියළුම පොත් පත් ගිණිබත් කරන්නට යෙදුණි.

අධිරාජ්‍යවාදී කඳවුරට ලංකාව සම්පූර්ණයෙන් තල්ලුවීයාම වැලකුණේ, චීනය අනුගමනය කරන්නට යෙදුණු නිවැරදි රාජ්‍ය තාන්ත්‍රික හැසිරීම නිසාත්, චීනයේ නිර්ලෝභී ආධාර නිසාත්ය. (එම ආධාර ඇත්ත වශයෙන්ම ප්‍රදානය කෙරුණේ කැරැල්ලට කලින්ය. ) එහෙත් පනලොස් කෝටියක පොලී රහිත ණය මුදලක් චීනයෙන් දීම පිළිබඳව ජනතාවට ප්‍රකාශ කිරීමට, ආණ්ඩුව මාසයකටත් වැඩි කාලයක් ගැනීම සැලකිල්ලට ගත යුතු කරුණකි.

අධිරාජ්‍යවාදීන්ගෙන්ද, සෝවියට් සමාජ අධිරාජ්‍යවාදීන් සහ ඉන්දියානු දේශ ව්‍යාප්තවාදීන්ගෙන්ද යුද්ධ ආධාර ලබා ගැනීම, තම ආණ්ඩුවේ නොබැඳි පිළිවෙත ඉහළින්ම සනාථ කිරිමක් බව ඔප්පු කිරිමට බණ්ඩාරනායක මහත්මිය දිවා රෑ වෙහෙසුනාය. එහෙත් එය ඇත්ත වශයෙන්ම තවත් රටක අභ්‍යන්තරික කටයුතු වලට නිරුවත් ලෙසම ඇඟිලි ගැසීමක් හැර, අන් කිසිවක් නොවේ. ඉන්දියාවේ සමහර කොටස් විසින් ප්‍රකාශ කර ඇති දේශ ව්‍යාප්ති අදහස්ද සැලකිල්ලට ගැනීමේදී, අප්‍රේල් සිද්ධීන් පැවති අවදියේ ඉන්දියානු නාවික හමුදාව ලංකාව වටා ඊනියා ආරක්ෂක වළල්ලක් ක්ෂණිකව දැමීමේ ක්‍රියාවද, ලංකාවට අනාගතයේදී අනිෂ්ඨ විපාක ගෙනදීම පිළිබඳ පෙර නිමිත්තක් බව, විශේෂයෙන් සඳහන් කළ යුතුය. මේ ආණ්ඩුවේ පැවැත්ම රැකුණේ විදේශීය යුද්ධ ආධාර නිසා බව සත්‍යයක් නම්, එවැනි ආණ්ඩුවකට තව දුරටත් තමන් ජනතා ආණ්ඩුවක්ය යන නම පටබැඳගෙන සිටිය නොහැක්කේය. අවශ්‍යවූ මොහොතේ ජනතාව සිටියේ කොහේද? මෙකී ජනතාව ක්‍රියාශීලී ලෙස කැරලි කරුවන්ගේ පැත්ත නොගත්තත්, තමන් විසින්ම තෝරා ගනු ලැබූ ආණ්ඩුව ආරක්ෂා කර ගැනීමට නැත්නම්, ඊට ආධාර කිරිමටවත් නැගී නොසිටියේ මන්ද?

ජනතාව දැක්වූ මේ උදාසීන තත්ත්වයට එක හේතුවක් නම්, වරදකරුවන් හෝ අහිංසකයින් හෝ යනාදී වශයෙන් සොයා නොබලා ජනතාවට විරුද්ධව පොලීසිය සහ යුද්ධ හමුදාව අමානුෂික ලෙස ක්‍රියා කිරිමයි. දුටු තැන මිනිසුන් වෙඩි තබා මරමින්, සැකයක් නිසාම හෝ බොරු පැමිණිලි නිසා දහස් ගණන් අත්අඩංගුවට ගත් අතර, තරුණියන් සහ ස්ත්‍රීන් දූෂණය කරමින් මුළු ජීවිත කාලයම අංගවිකල වූවන් බවට පත්කළ, කාමුක කෲර වධ හිංසා වලට, බොහෝ දෙනෙකු භාජනය කරන්නට යෙදුණි. ජනතාවගේ වෛරයෙන් ඔවුන් තවදුරටත් බේරී සිටින්නේ හදිසි අවස්ථාව ප්‍රකාශයට පත්කර තිබීමත්, සන්නද්ධ හමුදාවලට පූර්ණ බලතල පවරා තිබීමත් නිසාමය.

මෙම ඊනියා කැරැල්ල ආණ්ඩුව තුළ සහ එහි පිටුපස සිටින ප්‍රතිගාමී බලවේග වලට මහෝපකාරී වරමක් විය. කැරැල්ලට සම්බන්ධ වූවත්, නැතත්, ආණ්ඩුව විවේචනය කළා වූ, ඊට සියේට සීයක් ආධාර නොකළා වූ හෝ හැම කෙනෙකුම මොවුන් විසින් තොග ගණනේ අත්අඩංගුවට ගන්නා ලදී. මර්ධනයේ

දරුණු හස්තයේ වේදනාකාරී ප්‍රහාරය විප්ලවවාදී බලවේගයන්ට සහ විප්ලවීය කුසලතාවයන් ඇති බලවේගයන්ට දරුණු ලෙස එල්ලවූ බව විශේෂයෙන්ම සඳහන් කළ යුතුය. කැරැල්ල ඇතිවීමට බොහෝ කලකට පෙර සිටම ජනතා විමුක්ති පෙරමුණේ ප්‍රතිවිප්ලවීය ස්වභාවය හෙළිදරව් කළ එකම දේශපාලන සංවිධානය ලංකාවේ මාක්ස්-ලෙනින්වාදී කොමියුනිස්ට් පක්ෂය වී තිබියදීත්, එහි ප්‍රධාන පෙලේ සමාජිකයින් ගණනාවක්ද, එම පක්ෂයේ නායකත්වයෙන් යුත් කම්කරු සමිතිවල නායකයින්ද අත්අඩංගුවට ගත් අතර, ඔවුන් තව දුරටත් හිර අඩස්සියේ තබා ඇත්තේය. අත් අඩංගුවට ගත්තවුන් අතර පක්ෂයේ ප්‍රධාන ලේකම්වරයාද වෙයි. පක්ෂයේ ප්‍රධාන කාර්යාලය ආක්‍රමණය කරන්නට යෙදුණු අතර, පක්ෂයට අයිති මුද්‍රණාලයට හිතාමතාම අලාභහානි කරන්නට යෙදුණි. සිංහල හා දෙමළ භාෂා වලට පරිවර්තනය කර තිබුණු මාඕ සේතුං සහෝදරයාගේ පොත් සිය ගණනාවක්ද, තවත් පොත් රාශියක්ද ගෙන යන්නට යෙදුණු අතර, ඒවා කිසිදාක ආපසු බාරදී නැත්තේය. මේ නයින් බැලුකල ප්‍රතිගාමීත්වය බලාපොරොත්තු වූයේ විප්ලවවාදී ව්‍යාපාරය සදහටම නිහඬ කර වීමටය. අත් අඩංගුවට ගෙන හිර අඩස්සියේ තබා ඇති උදවිය අතර, ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ ප්‍රධාන පෙලේ සාමාජිකයින් සමහරක්ද වේ. ඔවුන් එසේ අත්අඩංගුවට ගැනීමට හේතුවී ඇත්තේ, ඔවුන් කෙසේ හෝ චීන හිතවාදීන් ලෙස ප්‍රසිද්ධ වී සිටීමය.

අත් අඩංගුවට ගත්තවුන් අතර, ලංකා සමසමාජ පක්ෂයේ පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙකු වූ, එම පක්ෂයේ තරුණ සමිති සම්මේලන සභාපතිවරයාද වෙයි. ඔහු අත්අඩංගුවට ගන්නට යෙදුණේ ඔහු ජනතා විමුක්ති පෙරමුණේ සාමාජිකයෙකු බවට සැක කළ නිසාය. එක්සත් පෙරමුණු ආණ්ඩුවේ දෙවන විශාල කොටස්කරු වන, ලංකා සමසමාජ පක්ෂය මොහුව නිදහස් කර ගැනීමට ක්‍රියා නොකිරිම, ලංකා සමසමාජ පක්ෂ ඉතිහාසයේ ඉතාමත් නින්දනීය බේදවාචකයක් ලෙස ඉතිහාස ගතවනු ඇත. <u>ලංකා සමසමාජ පක්ෂයේ මෙම ක්‍රියා කලාපය සමග ජේ.ආර්. ජයවර්ධන මහතා ක්‍රියා කළ අයුරු සසඳා බලමු. මුලින් කී ආකාරයේ සැකයක් නිසාම අත් අඩංගුවට ගත් ජේ.ආර්. ජයවර්ධන මහතාගේ පුතාව පැය හතරක් ඇතුළත දී නිදහස් කර ගැනීමට ඔහුට හැකි විය.</u> මෙය ආණ්ඩුව වෙනුවෙන් කරන ලද තීක්ෂණ දේශපාලන කුප්පකමකි. එය මක් නිසාද යත්, හදිසි අවස්ථාව ගැනත්, හිරකරුවන් ගැනත්, වූ සියළුම මූලික කරුණු ගැන කථා නොකිරීමට, විරුද්ධ පක්ෂයේ නායකයා වන ජේ.ආර්. ජයවර්ධනගේ කට සාර්ථක ලෙස වසා දැමීමය. එහෙත් මෙම ක්‍රියාවෙන් පෙන්නුම් කරන අනිත් දෙය නම් මේ ආණ්ඩුවේ පංති කෝණයයි. කොහොම බැලුවත් ජයවර්ධනලා සහ බණ්ඩාරනායකලා අයිති වන්නේ එකම පංතියටය.

මේ හැර ජනතා විමුක්ති පෙරමුණට සම්බන්ධ යයි සැක කර, නඩු විභාගයක් නොමැතිව, ප්‍රධන වශයෙන් තරුණයින් ඇතුළු 15,000 කට ඉහල



සංඛ්‍යාවක් තවමත් අත්අඩංගුවේ තබා ඇත්තේය. අගමැතිණිය විසින් දෙන්නට යෙදුණු සමාව දීමේ ගාම්භීර පොරොන්දුවක් අනුව, මෙයින් දහස් ගණනක් සිය කැමැත්තෙන් භාර විය. එහෙත් මොවුනුත් දිගින් දිගටම හිර අඩස්සියේ තබා ඇත්තේය. මීට වඩා බරපතල් දේශපාලන අර්බුද වලට මුහුණ දුන් ඊජිප්තුවට හා පකිස්ථානයට, තම රටවල ඇතිවූ කුමණ්ත්‍රණ පිළිබඳ කරුණු සෙවීමටත්, එහි නායකයින් උසාවි වලට පමුණුවා දඬුවම් දීමටත්, සෙස්සන් නිදහස් කිරීමටත්, හදිසි අවස්ථාව ඉවත් කිරීමටත්, ප්‍රවෘත්ති පාලනය ඉවත් කිරීමටත්, ගතවූයේ මීටවඩා ඉතාමත්ම කෙටි කාල සීමාවක්ය. එහෙත් අපේ කුඩා ලංකාවේ කුමන හෝ පරීක්ෂණයක් කෙරෙනවා නම්, එයද කෙරෙන්නේ ගොළුබෙලි වේගයෙනි.

මේ අත් අඩංගුවට ගැනීම් පිළිබඳව සඳහන් නොකර සිටිය නොහැකි එක කරුණක් ඇත්තේය. ලංකාවේ ට්‍රොට්ස්කිවාදී කණ්ඩායම් සෑහෙන සංඛ්‍යාවක් ඇති බවට ගසනු ලබන කයිවාරු එසේම තිබියදී, ජනතා විමුක්ති පෙරමුණ සමග එකම වේදිකාවේ පෙනී සිටියා වූත්, ඒ සමග ඉතාම කිට්ටුවෙන් ඇසුරු කළා වූත්, එකම කණ්ඩායම් සමහරක නායකයින් ගණනාවක් සිටියදීත්, ඔවුන්ගෙන් එක ට්‍රොට්ස්කිවාදියෙක් හෝ අත් අඩංගුවට ගත්තේ නැත. හෙළිදරව් කිරීමට අසීරු අභිරහස් වලින් මෙයද එකකි.

එහෙත් මෙම අවස්ථාව සම්පූර්ණයෙන්ම ප්‍රයෝජනයට ගනිමින්, කළින් පැවති එක්සත් ජාතික පක්ෂ ආණ්ඩු පවා ගැනීමට බිය වූ ජනතා විරෝධී පියවරයන් ආණ්ඩුව ගත්තේ ආර්ථික පෙරමුණේය. රැස්වීම් පැවැත්වීමේ අයිතිය, කථා පැවැත්වීමේ සහ වැඩ වර්ජන කිරීමේ අයිතිය, හෝ එවැනි විරෝධය පෑමේ කිසිම ඉඩක් නොමැතිව අහිංසක තත්ත්වයට පත් කර සිටි ජනතාවට විරුද්ධව එල්ලකර ඇති බයිනෙත්තු වල ආධාරය යටතේ, ලංකාවට ණයක් දීමට කලින් ඇමරිකන් ආධිපත්‍යයෙන් යුතු ලෝක බැංකුවේ කොන්දේසි සියල්ලක්ම පාහේ ඉටු කිරීමට ආණ්ඩුව ක්‍රියාශීලී විය. දුම්රිය ගාස්තු, තැපැල් සහ ටෙලිපෝන් ගාස්තු, විදුලි ගාස්තු, බස් ගාස්තු යන ආදී සියල්ලක්ම ඉහල දමන ලදි. සීනි, කිරි, පැට්‍රල්, සිගරට්, යනාදියේ මිළ වැඩි කරන්නට යෙදුණි. සහල් සලාකය අඩකින් කපාහැරි අතර, මෙතෙක් නොමිලයේ සපයන්න යෙදුනු සෞඛ්‍ය සේවයටද ගාස්තුවක් නියම කරන්නට යෙදුණි. ජීවන වියදම තවතවත් අහස උසට නැංගේය. ලංකා සමසමාජ පක්ෂයේ ඇන්.ඇම්. පෙරේරාගේ මෙවර අය වැය ලේඛණය, යූ. ඇන්. පී. කාරයින් විසින් සමාදරයෙන් පිළිගන්නට යෙදුණේ රතිඤ්ඤා පත්තු කිරීමෙනි.

ජනතාව මත මෙතෙක් විස්තර කරන ලද සියලු ආකාරයේ දැවැන්ත බර පටවමින්, සන්නද්ධ හමුද සඳහා කරන වියදම දරුණු ලෙස වැඩි කරන්නට යෙදුණි. සාමය හා සමාදනයේ දූපත, බුදුන් විසින් දේශනා කරන්නට යෙදුණු අවිහිංසාව පිළිබඳවූ පරිශුද්ධ ධර්මය තැන්පත් කරඇති භාණ්ඩාගාරය වූ මෙම දූපත, මේ අවුරුද්ද තුළ යුද්ධ හමුද වල සහ පොලීසියේ ශක්තිය සියයට

විසිපහකින් වැඩි කරන්නට යයි. 1971 අය වැය ලේඛණයේ රු. 81,069,093 ක් වූ යුද්ධ හමුද වියදම රු. 151,779,255 දක්වා වැඩි කර ඇත්තේය. නාවුක හමුදවේ වියදම රු.23,778,540 සිට රු.36,601,880 දක්වා වැඩි කර ඇත්තේය. යුද්ධායුද පතරොම් සහ අනිකුත් හමුද ආම්පන්න මිළදී ගැනිම සඳහා වෙන්වී තිබුණු මුලද වූ රු. 1,490,000 සිට රු. 4,800,000 දක්වා වැඩි වී ඇත්තේය. ලංකාව යස රඟට පොලිස් රාජ්‍යයක් වෙමින් පවති.

ලෝක බැංකුවෙන් නව විජිතවාදි ආධාර ලැබීමේ ඊනියා වාසනාවන්තයෙකුගේ තත්ත්වයට ලංකාව ඇද දැමීම සඳහා අවශ්‍ය කොන්දේසි සියල්ලම දැන් සපුරාලමින් ඇති අතර, එයින් නව දුරටත් අපේ ආර්ථිකය විදේශිය අධිරාජ්‍යවාදයේ රථ රෝදයට තදකර බැඳ දමනවා ඇත. වර්තමාන ආර්ථික රටාව බිඳ නොහෙළනතාක් කල්, රාමා රට පාලනය කළත්, රාවණා රට පාලනය කළත්, කිසිම වෙනසක් නොමැතිව අධිරාජ්‍යවාදි, රදළ සහ ධනවාදී සූරාකෑම නිදැල්ලේ දිගටම කෙරිගෙන යන බව එක්සත් පෙරමුණු ආණ්ඩුව ඔප්පුකර ඇත්තේය.

සමාජවාදය වූ කලී වැඩි වැඩියෙන් විනය ගරුක විමත්, වැඩියෙන් මහන්සි වී වැඩ කිරිමත් යයි දැන් බහු ජනතාවට කියන්නට පටන්ගෙන ඇත. මේ විකාර කියමනකි. සමාජවාදය වූ කලී ධනවාදය අහෝසි කිරිමයි. බණ්ඩාරනායකලා, ඇන්. ඇම්. පෙරේරලා, කේනමන්ලා නොකර ඇත්තේත්, කවදකවත් කිරිමට බලාපොරොත්තු නොවන්නේත් මේ දේමය. මහන්සිවී වැඩියෙන් වැඩ කිරිම ධනවාදය හා සමාජවාදය යන ක්‍රම දෙක තුළම තිබිය යුතු පොදු සාධකයකි. ධනවාදය යටතේ ඉල කඩාගෙන කම්කරුවන් වගුරුවන ඩහදිය උපකාරී වනුයේ ධනපතීන් සහ ඉඩම් හිමියන් පොහොසත් කිරීමටය. සමාජවාදය යටතේ එකී ඩහදිය මුගුරුවල එළ ප්‍රයෝජන ආපසු ලැබිය යුත්තේ කම්කරුවන්ට සහ ගොවීන්ටය. මෙකී සරල සත්‍යය මහාචාර්ය පට්ටම් දෙකක් ඇති මිනිසුන් ඉදිරිපත් කරන වංචනික බොරු තර්ක කන්දරාවකින් වුවද වසන් කළ නොහැක්කේමය.

පරාජිත කැරැල්ලේ අවසාන ප්‍රතිඵලය වි ඇත්තේ, එය දඩමීමා කර ගනිමින් ජනතාව මත හමුද ආඥාදයකත්වයක් ඇති කිරිමත්, පොහොසතුන් තවත් පොහොසත් කරන, දුප්පතුන් තවත් දුප්පත් කරන අද පවතින අධිරාජ්‍ය - රදළ - මහ ධනේශවර සූරාකෑමේ ආර්ථික ක්‍රමයට මුක්කු ගසන ජනතා විරෝධී ආර්ථික පියවරයන් සියල්ලක්ම ගැනීමට ආණ්ඩුවටත්, එය පිටුපස සිටින ප්‍රතිගාමීන්ටත් බලාපොරොත්තු නොවූ වරමක් ලැබීමත්ය.

තත්ත්වය මෙසේ නම්, ඊට ඇති විසඳුම කුමක්ද ? මුලින්ම කළ යුතු ක්ෂණික දෙය නම් ජනතා නිදහස නැවත ඇති කරන ලෙසත්, අත් අඩංගුවේ සිටිනවුන් එක්කෝ නිදහස් කරන ලෙසත්, නැත්නම් උසාවියක් ඉදිරියට පමුණුවන ලෙසත්, හදිසි අවස්ථාව ඉවත් කරන ලෙසත්, බල කර කියා සිටිමේ



උද්ඝෝෂණ ව්‍යාපාරයක් අරඹා එය උත්සන්න කිරීමය. එවැනි ඉල්ලීම් වලට ආණ්ඩුව ලෙහෙසියෙන්ම එකඟ නොවනු ඇත. තමන් ජනතාවගෙන් සම්පූණයෙන්ම තනිවී ඇති බවත්, එසේත් නැත්නම් ජනතාවගේ වෛරයට නියත වශයෙන්ම පාත්‍ර වී ඇති බවත් ආණ්ඩුව හොඳාකාරව දනී. සන්නද්ධ හමුදා විසින් මෘග ලෙස මරා දමන්න යෙදුණු අයගේ (ඔවුනගෙන් බොහෝ දෙනකු අහිංසකයින්ය.) නෑදෑ හිත මිතුරන් සහ සහෝදරයින් එකී සාපරාධී මිනිස් ඝාතනයට විරුද්ධව පළිගැනීමට අවස්ථාවක් උදාවෙන්නේ කොයිමොහොතේ දැයි, බලාසිටින බවත් ආණ්ඩුව හොඳාකාරව දනියි.

ජනතාවගේ කොපාග්නියෙන් ආණ්ඩුවත් එහි නායකයනුත් ආරක්ෂා වී ඇත්තේ හදිසි අවස්ථාව නිසාත්, යුද්ධ හමුදාවේ සහ පොලීසියේ බයිනෙත්තු නිසාත්, පමණි. එවැනි තත්ත්වයක් කොතෙක් කල් පවත්වාගෙන යා හැකිද? එය පවතිනුයේ ජනතාව අතේ සහ විප්ලවවාදීන්ගේ නායකත්වය අතේය. ඔවුන් නිවැරදි උපායයන් උපයොගී කර ගනිමින්, පොදු සතුරා වන විදේශීය අධිරාජ්‍යවාදය, රදළ ක්‍රමය සහ අධිරාජ්‍ය ගැති ධනේශ්වර පංතියට විරුද්ධව කම්කරු පංතියේ නායකත්වය යටතේ සමගි කල හැකි සියළුම බලවේගයන් සමගි කර, විප්ලවය ගැන කථා කිරීම පමණක් නොව, එය කිරීමටද උගත යුත්තාහ.

විප්ලවීය ව්‍යාපාරය මුහුණපා ඇති තාවකාලික පසුබෑම නිසා වුවත්, මින් ඉදිරියට විප්ලවයක් කරන්න දරන්නා වූ සියලු උත්සාහයන්ට විරුද්ධව, මින්පෙර තිබුණාටත් වඩා දරුණු අන්දමින් මුහුණ දීමට ආණ්ඩුව යුද්ධ හමුදාව සූදානමින් තබා සිටියත්, සිත්තැවුල් ඇතිකර ගැනීමට හෝ දොම්නසට කිසිම හේතුවක් හෝ නොමැත්තේය. ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදය නැමැති කුණු සැරවෙන් පිරි ගෙඩිය පුපුරා ගොස් ඇති අතර, එහි දූර්ගන්ධය අහස් උසට නැග ඇත්තේය. අපේ තරුණ පරපුර තම ජීවිතයේ යහපත් පරමාර්ථ සඳහා තම ජීවිත වුවද පරිත්‍යාග කිරීමට පවා සූදානම් බව ඔප්පු කර ඇත්තේය. ආණ්ඩුව බරපතල ලෙස තනි වී සිටියි. නැවත වරක් එක්සත් ජාතික පක්ෂයට බලය ලබා දීම සඳහා දරන්නා වූ සියළුම උත්සාහයන් වළක්වා, ඒවා ව්‍යවර්ථ කර දැමීමේත්, ජනතාවගේ කෝපාග්නිය ඒ වෙනුවට විප්ලවීය මාවතට යොමු කිරීමේත්, වගකීම භාරගත යුත්තේ මෙරට විප්ලවීය ව්‍යාපාරයයි.

මාක්ස්-ලෙනින්වාදී මාඕ සේතුං චිංතනයේ බලවේග දිනපතාම ශක්තියෙන් ශක්තියට පත්වන ඉස්තරම් ජාත්‍යන්තර තත්ත්වයක් යටතේ, අප අපේ වැරදි හරිගස්වාගෙන වඩා හොඳින් මාඕ සේතුං චින්තාව ග්‍රහණය කරගෙන එය අපේ රටේ පවතින යථාතත්ත්වයට ගැලපීමට ඉගෙන ගතහොත්, අප ස්ථිර වශයෙන්ම ජයග්‍රහණය කරා ඉදිරියට ගමන් කළ හැක්කේය... ගමන් කරනු නියතය....

## සම්පිණ්ඩනය

ලංකාවේ ජනතාව මුහුණපා ඇති ජාතිවාදී ප්‍රශ්නය ඇතුළු සියළුම මූලික ප්‍රශ්න නොවිසඳී තිබීමේ ප්‍රධාන හේතුව. රටේ ආර්ථිකයේ ඇති යටත් විජිත ස්වභාවය හා එහි ගැඹුරු වෙමින් පවතින ආර්ථික අර්බුදයයි. අවුරුදු ගණනාවක් මුළුල්ලේම රට තුළ දිග්ගැස්සෙමින් පවතින ආර්ථික අර්බුදකාරී තත්ත්වයක් ඇත. මේ ආර්ථික අර්බුදයට හේතුව සඳහටම වැඩිවන ජනගහනයට අවශ්‍ය පාරිභෝගික භාණ්ඩ නිෂ්පාදනය කර ගැනීමට හෝ අපේ අපනයන බෝගවලින් ලබාගන්නා මුදල් වලට ඒවා හුවමාරු කර ආනයනය කර ගැනීමට හෝ අප අපොහොසත් වීමයි. අපේ සෞභාග්‍යය හෝ දූර්භාග්‍යය රඳා පවත්නා ලංකාවේ අපනයන භෝග; ප්‍රධාන වශයෙන් තේ, රබර්, සහ පොල් වල වටිනාකම, ලංකාවට පාලන බලයක් නැති අධිරාජ්‍යවාදීන්ගේ පාලනය යටතේ පවතින අන්තර්ජාතික වෙළඳ පොල විසින් හිතුවක්කාර ලෙස තීරණය කිරීම මෙම තත්ත්වය කෙරෙහි බලපා ඇති ප්‍රධාන හේතුවයි.

මේ අතර අර්බුදකාරී තත්ත්වයට හේතු වී ඇත්තේ, වැඩි වශයෙන් තේ හා රබර් මත රඳා පවතින අපගේ ජාතික ධනයෙන් විශාල ප්‍රමාණයක් තවමත් උපයන, අපේ වැවිලිවලින් වැඩි කොටසක්, අපේ බැංකු වලින් වැඩි ගණනක්, අපේ ආනයන හා අපනයන වෙළඳාමෙන් වැඩි ප්‍රමාණයක්, නැව් සමාගම් ආදී වශයෙන් වූ අපේ ආර්ථිකයේ මුදුන් මේ දක්වාත් විදේශීය අධිරාජ්‍යවාදීන් විසින් පාලනය කරනු ලැබීමයි. දැනට දශක ගණනාවක්ම අධිරාජ්‍යවාදීන් විසින් අපේ තේ සහ රබර් මිළ අනුක්‍රමයෙන් පහත හෙලා ඇත. ඊට සමානුපාතව ඔවුහු පොහොර වර්ග, යන්ත්‍ර සූත්‍ර, ආදී අපට එවන ඔවුන්ගේ අපනයනයන්ගේ මිළ ඉහළ යවා ඇත. මෙසේ ලංකාව දෙපැත්තෙන්ම බැටකෑම නිසා දරුණු පීඩනයට ලක්වී ඇත. මේ මං පැහැරීමෙන් කොටසක් අප විසින් පොලී ගෙවිය යුතු හා කෘතඥතාව පළ කළ යුතු, සතුටෙන් පරිත්‍යාග කෙරෙන ණය හෝ ආධාර වල ස්වරූපයෙන් අප වෙත වක් මගකින් ආපසු දෙයි. අවුරුදු 23 ඊනියා නිදහසකින් සහ ආණ්ඩු ගණනාවක මාරුවීමකින් පසුවත් කිසිම ආණ්ඩුවක් එක්සත් ජාතික පක්ෂය, ශ්‍රී ලංකා නිදහස් පක්ෂය, හෝ සමගි පෙරමුණ හෝ වේවා, අපේ ආර්ථිකය බැඳ තබාගෙන සිටින විදේශීය අධිරාජ්‍යවාදයේ මෙම ග්‍රහණය මූලික වශයෙන් බිඳ දැමීමට කිසිවක් කර නැත.

අර්බුදය උග්‍රවූ හැම විටකම හැම ආණ්ඩුවක්ම ආර්ථික අර්බුදයේ බර ජනතාවගේ කරපිට පැටවීමේ විශේෂඥයන් වී ඇත. 1953 එක්සත් ජාතික පක්ෂ ආණ්ඩුව සහල් සහනාධාර ඉවත් කර තැපැල් හා දුම්රිය ගාස්තු වැඩි කළ අතර, පාසල් දරුවන්ගේ දවල් ආහාරයට දුන් බනිස් ගෙඩියද ආපසු උදුරා ගත්තේය. 1962 දී ශ්‍රී ලංකා නිදහස් පක්ෂය සහල් සහනාධාරය අඩු කිරීමට තැත් කළ නමුත්, පසු බැසීමට බල කෙරුණි. 1967 දී එක්සත් ජාතික පක්ෂය රුපියල බාල්දු කළ අතර, සහල් සලාකය අඩක් බවට පත් කළේය. ඔවුන් ඒ සමග එක්සත් ජනපද



අධිරාජ්‍යවාදී ආධිපත්‍යය යටතේ පවතින ලෝක බැංකුවෙන් විශාල වශයෙන් ණය ගැනීමට ඉදිරිපත් විය. 1971 දී සමගි පෙරමුණ දුම්රිය, බස්, විදුලිබල, ටැලිපෝන්, තැපැල් ගාස්තු වැඩි කළ අතර, පැට්‍රල්, සිගරට් හා තවත් බොහෝ අත්‍යවශ්‍ය පාරිභෝගික භාණ්ඩවලද මිළ නංවා නිදහස් සෞඛ්‍ය සේවාව ද කපා හරින ලදී.

එකිනෙක ආණ්ඩු ලෝක බැංකුවේ අණ පරිදි මේ පියවර වලින් වැඩි හරියක් ගනු ලැබුවේ ණය ලබා ගැනීමේ ප්‍රාග් කොන්දේසි ලෙසිනි. ලංකාවේ අනාගතය දැනටමත් ලෝක බැංකුවට උගස් කර ඇත. ජනතාව මත බර තව තවත් වැඩි කරමින් සමාජවාදය ගැන හිස් කතා දෙඩවන නමුත්, ධනපතියන්ගෙන් ඊට අනුරූපව පරිත්‍යාග කිරීමක් සිදු නොවේ. මේ රඟපෑමේ ලොකුම විහිළුව රටේ විශාලම මුදල් උපයන යන්ත්‍රය වූ විශාලම වැවිලි විදේශීය අධිරාජ්‍යවාදීන් අත තිබෙන්නට හැර ඇති අයම, සමාජවාදය ගොඩනැගීමට කථා කිරීමය. සමගි පෙරමුණේ සමාජවාදය ගොඩනැගීම අළුතෙන්ම අගය කරන්නට වී ඇත්තේ, විරුද්ධ පක්ෂයේ නායක, එක්සත් ජාතික පක්ෂයේ නියෝජ්‍ය නායක හා ලංකාවේ ධනපති පන්තියේ අසහාය නායකයන්ගේ කෙනෙකු වූ  ජේ.ආර්. ජයවර්ධනයි. ඔහු ආණ්ඩුවට ආධාර කරන්නට නිකම්ම කැමැත්ත පළ කළා පමණක් නොව, ඇමති වරයෙකු ලෙස ඊට ඇතුළත් වීමටද බලාපොරොත්තු විය. එක්සත් ජාතික පක්ෂයට කළ හැකි වූවාට වඩා හොඳින් මේ ආණ්ඩුව ධනපතියන්ගේ අවශ්‍යතා සපුරාලන බැවින්, ඔහුගේ පන්ති අවශ්‍යතාව අනුව විප්ලවයට විරුද්ධ බලකොටුව එය බැවින්, ඒ කඩා බිඳ වැටීමට නොදී මුක්කු ගැසිය යුතුව ඇත.

අවුරුදු හතලිහකට ආසන්න සර්වජන ඡන්ද බලය හා අවුරුදු 23 ක ඊනියා නිදහස එසේම තිබියදී, ලංකාව මුහුණ දී ඇති කිසිදු හෝ ප්‍රශ්නයක් මෙතෙක් විසඳී නැත. ඇත්ත වශයෙන්ම ඒවා අසාධ්‍යව පවතී. රැකීරක්ෂා විරහිත ප්‍රශ්නය පාලනය කළ නොහැකි ප්‍රමාණයකට  ලඟා වී ඇති අතර. ජීවන අංකය සිතිය නොහැකි තරම් දුරට අජටාකාශ ගත වී ඇත. විසඳුමක් පෙනෙනතෙක් මානයකවත් නැත. හේතුව ඉතා සරලය. ලංකාව මුහුණ දි ඇති ආර්ථික ගැටළුවට විසඳුමක් සොයාගත හැකි වන්නේ, එහි ආර්ථිකය අධිරාජ්‍යවාදීන්ගේ ග්‍රහණයෙන් මුදවා ගැනීමෙන් පමණය. කොතෙක් ආණ්ඩු වෙනස් වූවත් පලක් නැත්තේ, මෙය ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදය තුලින් ජයගත නොහැකි හෙයිනි.

අධිරාජ්‍ය, රදළ, මහා ධනේශ්වර, ආර්ථික රාමුව කඩාබිඳ නොදමන තාක්කල්, එය ආරක්ෂා කරන මර්ධනකාරී ධනේශ්වර රාජ්‍ය යන්ත්‍රය බලහත් කාරයෙන් පොඩිපට්ටම් කර නොදමන තාක්කල්, ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රෝඩාව තුලින් කුමන හෝ ආණ්ඩුවක් බලයට පැමිණියද; ජනතාවගේ මූලික ප්‍රශ්න එකක්වත් නොවිසඳී පවතින බැව්, මේ සියල්ල විසින්ම මනාව ඔප්පු කරයි.

මාක්ස් - ලෙනින් වාදී මාඕ සේතුං චින්තනයේ දීප්තියෙන් ආලෝකමත් වූ විප්ලවීය මාවත එකම පිළිතුරයි...

# එකතුවක්

මෙම පොතේ අවසාන පිටු මුද්‍රණය කරගෙන යමින් සිටින අවස්ථාවේ දී, ලංකාව බ්‍රිතාන්‍ය පොදු රාජ්‍ය මණ්ඩලය තුළම සමූහාණ්ඩුවක් බවට ප්‍රකාශ කර ඇත්තේ යයි, යන ප්‍රවෘත්තිය ලැබුණි. මෙයද එක්සත් පෙරමුණු ආණ්ඩුව විසින් ජනතාව මෝඩයින් කිරීමේ සහ රැවටීමේ බලාපොරොත්තුවෙන් තිරගත කර ඇති තවත් ප්‍රෝඩාවකි. එහෙත්, එය කිසිසේත්ම සාර්ථක වේ යැයි සිතිය නොහැක.

ව්‍යවස්ථාවන් ඉතාමත්ම හොඳින් සකස් කරන ලද ඒවා වුවද, කඩදාසි කැබලි පමණක් වන්නේය. ඒවායේ ශක්තිය රඳා පවතිනුයේ රාජ්‍ය බලය ඇත්තේ කා අතද යන්න මතයි. මෙම ව්‍යවස්ථාවද පැරණි ව්‍යවස්ථාව මෙන්ම දිගටම පවතිනු ඇත. බ්‍රිතාන්‍යයේ පුහුණුව ලද සන්නද්ධ හමුදාවන්, පොලීසිය සහ නිළධාරි පැලැන්තියම ලංකාව පාලනය කිරීම දිගටම කරගෙන යමින්, වඩාත් දරුණු අන්දමින්, අධිරාජ්‍ය රදළ ධනේශ්වර සූරාකෑම ආරක්ෂා කරනු ඇත.

මෙතෙක් පැවති සියළුම ආණ්ඩු විසින් නිවැරදි ප්‍රතිපත්තීන් ක්‍රියාත්මක කිරීම වැලැක්වූයේ පැරණි ව්‍යවස්ථාව නොවන බව, සිහියේ තබා ගනිමු. ශ්‍රී ලංකා ආණ්ඩුව විසින් බස් සේවය, වරාය, තෙල් සමාගම්, රක්ෂණ ආදිය ජනසතු කළා පමණක් නොව, උත්තර මන්ත්‍රී මණ්ඩලය ද, ඉවත් කිරීම කරන ලදි. එහෙත් දේපොළ සම්බන්ධතාවය වෙනස් කිරීම සඳහා මූලික වූ කිසිවක් ඔවුහු නොකළහ. නව ව්‍යවස්ථාව යටතේ ද, දැන් ඔවුන් එසේ නොකරනු ඇත. එහෙත්, මොවුන් ඉදිරිපත් කරන නිදහසට කරුණු ජනතාව තවදුරටත් භාර නොගනු ඇත. එමෙන්ම, තවදුරටත් ව්‍යවස්ථාවේ අඩුපාඩු මත වරද පැටවීමට ඔවුන්ට නොහැකිවනු ඇත. පොදු රාජ්‍ය මණ්ඩලය තුළ තවදුරටත් රැඳී සිටීමට ගන්නා ලද තීරණය තුළින්, ලංකාව තුළ ආයෝජනය කර ඇති බ්‍රිතාන්‍ය ප්‍රාග්ධනයේ ශක්තිය ප්‍රදර්ශනය වන බව මෙහිදී සිහියේ තබා ගත යුතුය.

තවදුරටත් ඉතිරි රඟපෑම් ගැන පවසන්නේ නම්, එය අලුත් බෝතල්වල බහාලූ පැරණි වයින් පිළිබඳ කථාවම වන්නේය.





ජනතා විමුක්ති පෙරමුණ විසින් ලාංකික තරුණ පරපුර නොමග යැවීම සඳහා ඉදිරිපත් කළ "ඊනියා චේ ගුවේරා" න්‍යායට විරුද්ධවත්, තරුණයන් වැරදි මතවාදයෙන් නිදහස් කර ගැනීම සඳහාත්, ලංකා කොමියුනිස්ට් පක්ෂය විසින් දැඩි උත්සාහයක් ගත් අතර, ඒ වෙනුවෙන් "කම්කරුවා" පත්‍රය සහ දැන්වීම් පත්‍රිකා ජනතාව අතට පත්කර, ජනතාවට නිවැරදි මග පෙන්වීමක් කරන ලදි. එසේ රටපුරා ජනතාව අතට පත්කළ දැන්වීම් පත්‍රිකාවන්ගෙන් එකක් නැවත කියවීමට, අපි මෙයින් සලස්වමු.

# චේ ගුවේරා කල්ලිය නිසා නොමග ගියවුන් වෙතය...

## විප්ලවවාදී දර්ශනයක් විනා හිස් වචන වලින් වැඩක් නැත.

අද්භූතභාවයත්, පුහු අලංකාරයත්, ආවේශ කිරීම සඳහා චේ ගුවේරාගේ නාමය පට බැඳගත්; ඊනියා අළුත් දේශපාලන ව්‍යාපාරයක් ගැන පසුගිය සති කීපය මුලුල්ලේම ධනපති පුවත්පත් විසින් විශාල ප්‍රචාරයක් දීගෙන යනු ලැබේ. ඒ පුවත්පත් මෙවැනි ප්‍රචාරයක් ගෙන යන්නේ, ඔවුන්ගේම අභිමතාර්ථයන් ඉටුකර ගැනීම සඳහා බව කිව යුතු නොවේ. මෙම ව්‍යාජ විප්ලවකාරී ව්‍යාපාරය දැන් කලඑලි බැස සිටින අතර, ජනතා විමුක්ති පෙරමුණ නමින් හඳුන්වාගනු ලබයි. පුරසාරමෙන් සහ අරුත් සුන් වචන වලින් පිරුණු තම ආකුල ව්‍යාකුල මතයන් ඉදිරිපත් කිරීම සඳහා ඔවුන් පත්‍රයක්ද ප්‍රසිද්ධ කර ඇත.

එම වෙස්මූණුකාර පුස්සන් කල්ලිය එළිදරව් කිරීමේ කාර්ය භාරය; නිවැරදි වූත්, විප්ලවවාදී වූත්, එකම දේශපාලන දර්ශනය වූ මාක්ස්-ලෙනින්වාදී-මාඕවෝ චින්තනය මාර්ගෝපදේශ කොටගත් අප පක්ෂය වෙත පැවරී තිබේ. අප මේ එළිදරව් කරණුයේ, එම අලුත් කල්ලිය පිළිබඳව පැහැදිලි අවබෝධයක් ජනතාව තුළ ඇති කිරීම සඳහා මෙන්ම, එම ව්‍යාපාරය විසින් නොමග යවනු ලැබ, ඔවුන්ගේ අනුගාමිකයින් වී සිටින සහෝදර සහෝදරියන් නිවැරදි

විප්ලවවාදී මාර්ගයකට යොමු කරවීම සඳහාත්ය.

මෙම ව්‍යාපාරයේ උපතට චින්නඹුකම් කළ හේතුන් රාශියකි. එම විවිධ හේතූන් අතරින් ප්‍රධානම හේතුව වශයෙන් සැලකිය හැක්කේ, අප රටේ අවංක විප්ලවවාදීන් විසින්, කාලාන්තරයක් මුලුල්ලේ ආදරයෙන් හා භක්තියෙන් ආරක්ෂා කරගෙන ආ උත්තුංග විප්ලවවාදී ප්‍රතිපත්ති, ලංකා සමසමාජ පක්ෂයේ නායකයින් සහ කේනමන් සංශෝධනවාදී කල්ලිය විසින් නිහීන ලෙස පාවාදීම කරණ කොටගෙන, ජනතාව තුළ ඇතිවූ කලකිරීමය. මාඕ චින්තනය මත පදනම් වූ මාක්ස් - ලෙනින්වාදී පක්ෂයක් ලෙස අප පක්ෂය ප්‍රතිසංවිධානය වූයේ, මේ නින්දිත පාවාදීමට විරුද්ධව ජනතාවට විප්ලවකාරී නායකත්වයක් දීම උදෙසාය. අප පක්ෂය විසින් පෙන්නුම් කරන ලද. නිවැරදි විප්ලවකාරී මාර්ගය ඔස්සේ බහු ජනතාව ඇදෙන්නට විය.

මාඕ සේතුං චින්තනය ලංකාවේ ස්ථිර ලෙස ව්‍යාප්ත වීම වැලැක්වීමට නූතන සංශෝධනවාදින් සහ විවිධ ට්‍රොට්ස්කිවාදී කණ්ඩායම් අපොහොසත් වූහ. එවැනි තත්ත්වයකට මුහුණ පෑ එක්තරා ප්‍රති-විප්ලවාදී කණ්ඩායමක්, මාඕ සේතුං චින්තනයේ ප්‍රගතිය වැලැක්වීමේ ප්‍රයත්නයක් වශයෙන් වැඩ පිළිවෙලක් අදින ලදී. කුමක්ද ඒ ? චේ ගුවේරාගේ නාමය ආශ්‍රිතව පවතින, පුහු විප්ලවවාදී න්‍යායක්, මාඕ චින්තනයට විරුද්ධව ඉදිරිපත් කිරීමය. නූතන සංශෝධනවාදීන්ටත්, ට්‍රොට්ස්කිවාදීන්ටත්, බැරිවූ දෙය කිරීමට; දැන් මාක්ස්-ලෙනින්වාදී දෘෂ්ටියට හතුරු වූ තවත් දෘෂ්ටියක් කැස කවයි.

ජනතා විමුක්ති පෙරමුණේ නායකයා මොස්කව් නුවර පිහිටි ලුමුම්බා විශ්ව විද්‍යාලයට යවා පුහුණුවක් දී සංශෝදනවාද-විරෝධී වෙස් මූණක් බැඳගෙන, මාක්ස් - ලෙනින්වාදී ව්‍යාපාරය ඇතුලතින් කඩාකප්පල් කිරීමට, ආපසු ලංකාවට එව්වේ කව්ද? සෝවියට් සංශෝධනවාදීන්ය. මෙය අහම්බෙන් සිදුවූවක් නොවේමය. ඔහු මොස්කව් පොත මනාලෙස පාඩම් කර තිබෙන බව පැහැදිළිව පෙනේ. ශ්‍රේෂ්ඨ නිර්ධන පංති සංස්කෘතික විප්ලව සමයේදී චීනයේ විප්ලවවාදීන් කළේ කුමක්ද? රතු ධජයට පහර දීම සඳහා රතු ධජයක්ම එසෙව්වෝය. එමෙන්ම, ප්‍රතිවිප්ලවයට අතදීම සඳහාත්, ලාංකීය විප්ලවය විනාශ කිරීම සඳහාත්, ප්‍රතිවිප්ලවවාදීන්ට මුක්කු ගැසීම සඳහාත්, ජනතා විමුක්ති පෙරමුණු කාරයෝ ඔසවන්නේද විප්ලවීය ධජයයි.

තමා විසින්, තමා ගැනම, කියාගන්නා දෙයින් මිනිසෙකු මැනිය නොහැකි වන්නාසේම; ව්‍යාපාරයක් විසින් තමන් ගැනම කියාගනු ලබන දේ පදනම් කරගෙන, එම ව්‍යාපාරය මැනිය නොහැක. බහු ජනතාව ඉදිරියේ විවෘතව තැබිය හැකි නිශ්චිත දර්ශනයක් ජනතා විමුක්ති පෙරමුණට නොමැති බව, ඔවුන් විසින් නිකුත් කරනු ලැබූ පත්‍රයේ මංගල කලාපය කියවීමෙන් අනාවරණය වෙයි. දර්ශනයක් නොමැති තැන පවතින්නේ ධනේශ්වර දර්ශනයකි. අනෙක් අතින් බලන කළ, මේ ව්‍යාපාරයේ නායකයින් විසින් ටික කළක සිට පතුරුවනු ලැබූ ඔවුනගේ නියම දර්ශනය සැඟවීමට, මෙම පත්‍රය



විශේෂ පරිශ්‍රමයක් දරා තිබේ. දැන් ''ජනප්‍රිය'' වී තිබෙන ඔවුන්ගේ දේශන 5 හේ පළමු වැනි දේශනයේදීම, ඉන්දියානු සම්භවයක් ඇති වතුකරයේ කම්කරුවන්ට විරුද්ධව, මේ ව්‍යාපාරයේ නායකයින් විසින් ඉදිරිපත් කරනු ලබන ජාතිවාදී ප්‍රචාරයට අදල එක වචනයකුදු මේ පත්‍රයේ ලියා නැත්තේ ඇයි?

මෙම කල්ලිය එක්තරා ප්‍රමාණයකට ව්‍යාප්ත වී සිටින්නේ, ඉතා කපටි ලෙස ජාතිභේදවාදය විප්ලවකාරී අදහස් සමග එකට ගැට ගසා ඉදිරිපත් කිරීමෙන්, සමහර සිංහල තරුණ කොටස් තමන් වෙත දිනා ගැනීමට ඔවුන් සමත්වූ නිසාය. ජාතිභේදවාදය වූකලී, මිනිසා තුළ ඇති පහත්ම හැඟීම් විශේෂයක් වන අතර. එය ලෙහෙසියෙන්ම ඇවිස්සියද හැක. එහෙත් අහස පොළව ගැට ගැසුවත්. ජාතිභේදවාදය සමග නම් මාක්ස්-ලෙනින්වාදය වේවා, වෙනත් විප්ලවවාදී දර්ශනයක් වේවා, එකට ගැටගැසිය නොහැක්කේමය. චේ ගුවේරා හා ජාතිභේදවාදය අතරද කිසිදු සම්බන්ධයක් නොමැත; චේ ගුවේරා සහ ඔහුගේ අනුගාමිකයන් විසින් ප්‍රචලිත කරන ලද න්‍යායයන් කිසිවක් සමග අපි එකඟ නොවෙමු. විශේෂයෙන්ම, කම්කරු පන්තියට නායකත්වය දීම සඳහා නිවැරදි විප්ලවවාදී දර්ශනයක් මත පදනම් වූ දේශපාලන පක්ෂයක අවශ්‍යතාවය ප්‍රතික්ෂෙප කරන චේ ගුවේරා න්‍යායයත්; එමෙන්ම, කිසිම විප්ලවයකට බහුජන සහභාගිත්වය අවශ්‍ය නැතැයි යන ඔහුගේ න්‍යායද. අපි ප්‍රතික්ෂෙප කරමු. එහෙත්, චේ ගුවේරා කිසිදිනක ජාතිභේදවාදියෙක්වත්, පටු ජාතිවාදියෙක්වත්, නොවීය. ඔහු ජාතිය ගැන හෝ රට ගැන තැකුවේ නැත. ආජන්ටිනාව නිජබිම කොටගත් ඔහු, ගෝතමාලාවේ විප්ලවයට වැඩ කළේය. කියුබන් විප්ලවයේ සටන් කළේය. බොලිවියනු ගරිල්ලා භටයින්ට අතදීමට ගොස් දිවිපිදූ බව සැළයි.

එහෙත් ලංකාවේ චේ ගුවේරා කල්ලිය විප්ලවය මෙහෙයවන්නට කැස කවන්නේ කාට විරුද්ධව ද? මේ රටේ කම්කරු පන්තියෙන් සැලකියයුතු විශාල කොටසක් වූ; එමෙන්ම; ජාතික ධනයෙන් වැඩි ප්‍රමාණයක් නිෂ්පාදනය කරමින් සිටින ඉන්දියානු සම්භවයක් ඇති වතු කම්කරුවන්ට විරුද්ධවය. ඇයි ? ඉන්දියානු සම්බවයක් ඇති මේ කම්කරුවෝ, ඉන්දියානු දේශව්‍යාප්තවාදීන්ගේ අතකොලුවක් නිසාලු..! බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීහු පැනවූ මුඩුබිම් පණත නිසා, සිය පරම්පරාවේ ඉඩකඩම් වලින් සාපරාදී ලෙස පන්නනු ලැබූ උඩරට ගොවිජනතාව මෙන්ම, බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදයට ගොදුරු වී දුක් විඳින පිරිසකි, මේ කම්කරු කොටස.

සිංහල කම්කරුවාද, සිංහල ගොවියාද, එමෙන්ම; ඉන්දියානු සම්භවයක් ඇති වතු කම්කරුවාද, සාමූහිකව, විදේශ අධිරාජ්‍යවාදය විසිනුත්, රදල ක්‍රමය විසිනුත්, මහා ධනේශ්වර පන්තිය විසිනුත්, සූරාකනු ලබයි. එහෙයින්, පොදු සතුරාට විරුද්ධව කෙරෙන පොදු සටනේදී, ඔවුන් සැම දෙනාම ස්වභාවික මිතුරන් මිස එකිනෙකාට විරුද්ධ වූ සතුරු බලවේගයන් නොවේ. විප්ලවයේ සාර්ථකත්වය පතන සැම විප්ලවවාදියෙක් විසින්ම, මේ

පරම සත්‍යය අවබෝධ කරගත යුතුය. ප්‍රතිගාමීන් නම් එය අවබෝධ කරගෙන සිටිති. සිංහල ගොවි කම්කරුවනුත්, ඉන්දියානු සම්භවයක් ඇති වතු කම්කරුවනුත්, අතර එක්සත්කමක් ගොඩනැගුනහොත්, අධිරාජ්‍යවාදයට, රදල ක්‍රමයට හා ධනවාදයට මරු පහරක් වදින බව ප්‍රතිගාමීහු දනිති. ඩී.එස්. සේනානායකගේ පටන් ආර්.ජී. සේනානායක, හේම බස්නායක සහ කේ.ඇම්.පී. රාජරත්න දක්වාවූ ප්‍රතිගාමීන්ද, ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ දක්ෂිණාංශයද, මේ ජන කොටස් දෙක එකට හැප්පවීමට හැම විටම ප්‍රයත්න දැරුවේ එහෙයිනි. ලංකාවේ විප්ලවීය ව්‍යාපාරය කඩාකප්පල් කිරීම සඳහා ඔවුන් මේ උප්‍රක්‍රමය උපයෝගී කර ගත්තේ ඒ නිසාය.

ඉන්දියානු සම්භවයක් ඇති කම්කරුවන් කෙරෙහි බද්ධ වෛරයක්, සිංහල තරුණ පරපුරේ හදවත් තුළ රෝපණය කිරීමේ ව්‍යාපාරය ඉදිරියට ගෙන යෑමෙන්, දැන් ජනතා විමුක්ති පෙරමුණ කරන්නේ කුමක්ද? මේ රටේ විප්ලවයක් සාර්ථක කිරිමෙහිලා අත්‍යාවශ්‍ය වී තිබෙන, අධිරාජ්‍ය විරෝධී විප්ලවකාරි එක්සත් පෙරමුණක් ගොඩනැගීමේ කාර්යය, ක්‍රියාශීලී ලෙස කඩාකප්පල් කිරිමය. එහෙයින්, ඔවුන්ගේ කයිවාරුව කෙතරම් "විප්ලවවාදී" වූවත්, ඔවුන්, ඇත්ත වශයෙන්ම රඟපාන්නේ ඩී.ඇස්. සේනානායකලා, ආර්.ජී.සේනානායකලා, හේම බස්නායකලා සහ කේ.ඇම්.පී. රාජරත්නලා එදත් අදත් උරුම කරගත් නීච නින්දිත ජවනිකාවමය. එනයින් ජනතා විමුක්ති පෙරමුණකාරයෝ හිතා මතාම ප්‍රතිවිප්ලවවාදීන් වී සිටිති. එතකුදු වුවත්, අප මේ චෝදනාව එල්ල කරන්නේ එහි නායකයින්ට මිස, නොමග යවනු ලැබූ අනුගාමිකයන්ට විරුද්ධව නොවන බව සැලකිය යුතුය.

අද ලංකාවේ විප්ලවවාදී ව්‍යාපාරයට විරුද්ධව තර්ජන දෙකක් එල්ලවී තිබේ. එක් පැත්තකින් නූතන සංශෝධනවාදීන්, ප්‍රතිසංස්කරණවාදීන් සහ විවිධාකාරවූ ට්‍රොට්ස්කිවාදීන් සිටිති. අනෙක් පැත්තෙන් ජාතිභේදවාදීන් සිටිති. එහෙයින් කම්කරු පංතිය ඇතුලට රිංගා ඇති, නූතන සංශෝධනවාදය, ට්‍රොට්ස්කිවාදය සහ අනෙක් සතුරු දෘෂ්ඨීන්වලට විරුද්ධව අපි ගෙන යන දෘෂ්ඨිමය අරගලය හා සමානම දැවැන්ත අරගලයක්, මේ ජාතිභේදවාදයට විරුද්ධවද මෙහෙයවිය යුතු වෙමු.

මාඕ සේතුං සහෝදරයා විසින් ලියා ඇති "නෝමන් බේතුන් සමරණුවස්" යන ලිපිය නැවත නැවතත් කියවන ලෙස අපි සියලු දෙනාටම නිර්දේශ කරමු. නෝමන් බේතුන් කැනේඩියානු ජාතික වෛද්‍යවරයෙකු වූ, කොමියුනිස්ට්වාදියෙකි. ඇමරිකන් එක්සත් ජනපද කොමියුනිස්ට් පක්ෂය සහ කැනඩා කොමියුනිස්ට් පක්ෂය විසින් ඔහු රතු හමුදාව සමග සේවය කිරීම සඳහා, චීනයට එවන ලදී. දකුණු චීනයට පැමිණි ඔහු චියාංකායි ෂෙක්ගේ හමුදාවට බඳවා ගැනීම සඳහා, චියාංකායි ෂෙක් විසින් ඔහු පොළඹවා ගැනීමට තැත්කළ නමුත්, ඒ සියල්ලම අසාර්ථක විය.

එහි ප්‍රතිඵලයක් වශයෙන් චීන කොමියුනිස්ට් හමුදාවන් වෙත යාමට



ඔහුට වාහන පහසුකම් පවා නොලැබිණ. වයසින් අවුරුදු පනස්විය ඉක්මවා සිටියත්, ඒ සියළුම බාධක අභිබවා සැතපුම් දහස් ගණනක් ගෙවා නෝමන් බේතුන් යෙනානයට ගොස් මාඕ සේතුං සහෝදරයා හමු විය. සිය කැමැත්තෙන්ම යුද්ධ පෙරමුණට ගිය ඔහු, අවුරුද්දකට අධික කාළයක් ආදර්ශමත් ලෙස සේවය කළේය. එහිදී තම ඇඟිල්ල තුවාලව තිබියදී, වෙනත් සහෝදරයෙකුට ශල්‍ය කර්මයක් කිරීමට ගොස්, ලේ විෂ වී මරුමුවට පත්විය. මාඕ ස්තුං සහෝදරයා මෙම ලිපිය ලීවේ ඔහුගේ නාමය අනුස්මරණය කිරීම සඳහාය. මෙම ලිපිය අද ඉතාමත්ම පුළුල් ලෙස කියවනු ලබන මාඕ සේතුං සහෝදරාගේ ලිපි වලින් එකක් බවට පත්වී තිබේ.

එම ලිපියෙහි මාඕ සේතුං සහෝදරයා වැදගත් ප්‍රශ්නයක් නගයි. "චීන ජනතාවගේ විමුක්ති ව්‍යායාමය තමන්ගේම ව්‍යායාමයක් ලෙස භාරගෙන ක්‍රියා කිරීම පුබුදුවාලීමේ ජීවගුණය කුමක්ද? එය අන්තර් ජාතිකත්වයේ ජීවගුණයයි. කොමියුනිස්ට්වාදී ජීවගුණයයි. හැම චීන කොමියුනිස්ට්වාදියෙකුම එයින් උගත යුතුය. පටු ජාති වාදයටත්, පටු දේශප්‍රේමිත්වයටත්, අපි විරුද්ධ වන්නේ මෙකී අන්තර් ජාතිකත්වයෙනි ඒ තමා අපේ අන්තර් ජාතිකත්වය.

මෙය අප විසින් ආදර්ශයට ගත යුතු පාඩමකි. විප්ලවයත්, ජාති භේදවාදයත්, කිසි දිනක එකට කළවම්කළ නොහැක. ජාතිභේද වාදයත්, පටු ජාතිවාදයත්, දේශනාකරන තැනැත්තා නිර්ව්‍යාජ මාක්ස්-ලෙනින්වාදියෙක් නොවන්නේමය.

සටන් පාඨ ශබ්ද නගා කියමින් පමනක්, විප්ලවාදියෙකුට තෘප්තියට පැමිණිය නොහැක. විප්ලවයේ සෑම අවදියකදීම ප්‍රධාන සතුරා හඳුනා ගැනීමටත්, ඔහු තනි කිරීමටත්, එමෙන්ම පොදු සතුරාට විරුද්ධව සමගි කළ හැකි සෑම බල වේගයක්ම එක්රැස් කිරීමටත්, නිවැරදි සටන් උපක්‍රම අනුගමනය කිරීමටත්, නිර්ව්‍යජ විප්ලවවාදියෙක් සමත් විය යුතුය. මේ එකකින්වත් ඔහු අසමත් වුව හොත්, ප්‍රතිගාමීන්ගේ අතට පත්වී දැනුවත්ව හෝ නොදැනුවත්ව ඔවුන්ගේ අතකොලුවක් වනු ඇත. නූතන ලෝකයේ සවර්ධනයේ උපරිම අවස්ථාවට පැමිණ තිබෙන්නා වූත්, ඉතාමත්ම විප්ලවවාදී දර්ශනය වූත්, මාඕ සේතුං චින්තනයේ පදනම මත පිහිටා, ලංකාවේ දේශපාලන තත්ත්වය අධ්‍යයනය කරන ලෙස, ජනතා විමුක්ති පෙරමුණ නොහොත්, ඊනියා චේ ගුවේරා කල්ලියේ ප්‍රතිවිප්ලවවාදී න්‍යායන්ගෙන් නොමග ගොස් සිටින නිර්ව්‍යාජ විප්ලවවාදීන්ට අද අපි ආයාචනය කරමු.

අවුරුදු 22ක ඊනියා නිදහසකින් පසුවත් පවතින අධික රක්ෂා හිඟය, ඉඩම් අහේනිය සහ ජනතා පීඩනය යනාදියට හේතුවී තිබෙන්නේ ජාතිය හෝ භාෂාව පිළිබඳ ප්‍රශ්න නොව, අප රට බ්‍රිතාන්‍ය සහ අමෙරිකන් අධිරාජ්‍යවාදීන් සහ ඔවුන්ගේ ගැත්තන්ගේ ග්‍රහණයට යට වී තිබෙන නිසා බව, එවිට ඔවුනට අවබෝධවනු ඇත. මේ රටේ ජනතාවගේ ප්‍රධාන සතුරා විදේශීය අධිරාජ්‍යවාදය, රදළ ක්‍රමය සහ මහ ධනේශ්වර පන්තිය බව අවබෝධ වනු ඇත.

එමෙන්ම මේ ප්‍රධාන සතුරා තනි කිරීම් වස් අපේ උපායික යුතුකම වනුයේ ජාතිය භාෂාව හෝ ආගම නොසලකා, සමගි කළ හැකි සෑම බලවේගයක්ම සමගි කිරීම බව අවබෝධ වනු ඇත. එමෙන්ම මේ ප්‍රධාන සතුරා තනි කිරීම් වස් අපේ උපායික යුතුකම වනුයේ ජාතීය භාෂාව හෝ ආගම නෙසලකා සමගි කල හැකි සෑම බලවේගයක්ම සමගි කිරීම බව පැහැදිලි වනු ඇත. කම්කරුවන් ගොවීන්,විප්ලවවාදී බුද්ධිමතුන්, ශිෂ්‍යයින්, තරුණයින් සහ සියලුම දේශප්‍රේමී ජන කොටසක්ම කම්කරු පංති නායකත්වය යටතේ වූ විප්ලවවාදී එක්සත් පෙරමුණකට ගෙන ඒම බව පැහැදිලි විය යුතුය. මෙම එක්සත් පෙරමුණේ ශෛලමය අත්තිවාරම විය යුත්තේ කම්කරු- ගොවි සංවිධානයයි.

එවැනි එක්සත් පෙරමුණක ඉලක්කය විය යුත්තේ, විදේශීය අධිරාජ්‍යවාදයත්, රදළ ක්‍රමයත්, එක්සත් ජාතික පක්ෂය විසින් මෙහෙයවනු ලබන දේශීය ප්‍රතිගාමිත්වයත්, මුලින් උපුටා දැමීමය. ප්‍රතිසංස්කරණ මගින් වේවා, පර්ලිමේන්තුව ඔස්සේ යන සාමකාමී පරිවර්තනය මගින් වේවා, සූරාකන පංතියේ ආර්ථික බලය සහ රාජ්‍ය බලය විනාශ නොකළ හැකි බව, මෙහිදී මාඕ සේතුන් චින්තනය විසින් පෙන්වාදෙනු ඇත. මෙම කාර්යභාරය සාක්ෂාත් කර ගැනීම සඳහා ඇත්තේ එකම මාර්ගයක් පමණි. <u>එනම් ප්‍රචණ්ඩ විප්ලවයේ මාර්ගයයි</u>. ජනතාව මුහුණදී තිබෙන ප්‍රශ්නවලට තිරසාර විසඳුම වනුයේ, අධිරාජ්‍ය- රදළ- මහ ධනේශ්වර ආර්ථික රාමුව සහ එහි සූරා කෑමේ මුර බල්ලන් ලෙස ක්‍රියා කරන රාජ්‍ය යන්ත්‍රය සුනු විසුනු කර, ඒ වෙනුවට නිර්ධන පංතියේ ආඥාදායකත්වය යනුවෙන්, මාක්ස් විසින් හඳුන්වනු ලැබූ <u>කම්කරු පංතියේ රාජ්‍ය යන්ත්‍රය ස්ථාපිත කිරීමය.</u>

අපේ යුගයේ ශ්‍රේෂ්ඨතම මාක්ස්-ලෙනින්වාදියාවූ මාඕ සේතුං සහෝදරයාගේ ඉගැන්වීම වූ "<u>දේශපාලන බලය වැඩෙන්නේ තුවක්කු කඳ තුලිනි"</u> යන පරම සත්‍යය සෑම විප්ලවවාදියෙක් විසින්ම ග්‍රහණය කරගත යුතුය. මාක්ස්-ලෙනින් වාදයේ හරය මෙම සරල සටන් පාඨයේ ගැබ්ව තිබේ. එහෙයින් ධනේශ්වර පාර්ලිමේන්තුවාදය සම්පූර්ණ ප්‍රෝඩාවක් බව සලකා ප්‍රතික්ෂෙප කිරිමට විප්ලවවාදීන් උගත යුතුය. කොටස් වශයෙන් නොව, අබ මල් රේණුවක විශ්වාසයක් නැතිවම, සර්ව සම්පූර්ණවම එය ප්‍රතික්ෂෙප කළ යුතුය. පාර්ලිමේන්තු ආසන තරඟ කිරීමෙන් කාලය නාස්ති නොකළ යුතුවාක් මෙන්ම, මැතිවරණවලට සහභාගීවන ලෙස ජනතාව පෙළඹවීමෙන් රැවටිය යුතුද නොවේ.

පාර්ලිමේන්තුව වූකලී, ප්‍රතිගාමීන් විසින් ජනතාව භේද කිරීමටත්, රැවටීමටත්, ඔවුන්ගේ පංති ප්‍රබෝධය මොට කිරීමටත්, පාර්ලිමේන්තුව තුළින් සාමකාමීව සමාජවාදය කරායෑමේ මායා විශ්වාසයන් ජනතාව තුළ නිර්මාණය කිරීමටත්, නියම බලය පවතින ස්ථාන වන ආයුධ සන්නද්ධ හමුදාවලින් ජනතාවගේ අවධානය වෙනතකට යොමු කිරීම සඳහාත්, නිර්මාණය කර ඇති අවියකි. <u>එය ආයුධවලින් කරන සටන වෙනුවට වචනවලින් කරන සටන</u>



<u>ඇබ්බැහි කිරීමට දරන උත්සාහයකි.</u>

විප්ලවීය මාර්ගය ඔස්සේ පියනගන සෑම විප්ලවවාදියෙක්ම අත්‍යාවශ්‍යයෙන්ම, ගත යුතු මූලික පියවරකි මෙය. ධනේශ්වර පාර්ලිමේන්තු මාර්ගයේ ප්‍රෝඩාව නිර්භයව ප්‍රතික්ෂෙප කළ එකම පක්ෂය, අපේ පක්ෂය වීම සම්බන්ධයෙන් අපි ප්‍රීති වෙමු. ආඩම්බර වෙමු. ජනතා විමුක්ති පෙරමුණු කල්ලිය පාර්ලිමේන්තුවාදයෙන් නිදහස් වී නැති බව, ඔවුන්ගේ පත්‍රයේ මුල් කලාපයේ එන ප්‍රතිපත්ති ප්‍රකාශයෙන් පැහැදිලි වෙයි. පසුගිය මැතිවරණයේදී, සමගි පෙරමුණට ඡන්දය දෙන ලෙස ජනතාවට ආයාචනය කිරීමෙන් තෘප්තියට පැමිණ නැති මෙම කල්ලිය, සමාජවාදය ගොඩනගන ලෙස වර්තමාන රජයෙන් ඉල්ලා සිටී. එයින් පැහැදිලි වන්නේ කුමක්ද? විප්ලවයෙන් තොරව සමාජවාදය ගොඩනැගිය හැකි බවය. ඔවුන් එතැනින් නැවතී ඇද්ද? නැත, රාජ්‍ය බලය "ජනතාව සන්තක කිරීම" "නිර්ධන පංතිය සන්තක කිරීම" පිළිබඳ අලුත් "න්‍යායක්" මොවුන් ඉදිරිපත් කරති. මෙය සංශෝධනවාදය වෙනත් මුහුණුවරකින් ඉදිරිපත් කිරීමකි. ධනේශ්වර පංතිය සතුව තිබෙන මර්ධනකාරී රාජ්‍ය යන්ත්‍රය අත්පත් කරගෙන, එය කම්කරු පංතියේ ප්‍රයෝජනය සඳහා පාවිච්චි කළ හැකිය යන න්‍යායට විරුද්ධව ලෙනින් ප්‍රබලවූත්, දීර්ඝවූත් සටනක් ගෙන ගියේය. <u>පරණ රාජ්‍ය යන්ත්‍රය සුණු විසුණු කර ඒ වෙනුවට සම්පූර්ණයෙන්ම අලුත් කම්කරු පංතියේ රාජ්‍ය යන්ත්‍රයක් යෙදවිය යුතුය</u> යන මතයේ ඔහු දැඩි ලෙස එල්බ සිටියේ ඒ නිසාය. මෙය අවබෝධ කර නොගන්නා තැනැත්තෙක් වෙතොත් ඔහු මාක්ස්-ලෙනින්වාදියෙක් නොවන්නේමය.

කෙතරම් පූහුණුවී සිටියත්, පුද්ගලයන් අතලොස්සකට එක පොලීසියකට විරුද්ධව පනහක් බැගින් යෙදූවත්, විප්ලවය සාර්ථක කර ගත නොහැකි බවත්, එහි සාර්ථකත්වය රඳා පවතින්නේ ජනතාවගේ සහභාගීත්වය උඩ බවත්, අවධාරණයෙන් පෙන්වා දිය යුතුව ඇත. විශ්වාසය තැබිය යුත්තේ පුද්ගලයන් මත නොව, ජනතාව මත බව, මාඕ සේතුං චින්තනය අපට උගන්වයි. විප්ලවවාදියෙකුගේ වගකීම වනුයේ, ධනේශ්වර රාජ්‍ය යන්ත්‍රය ප්‍රබලව පවත්නා ප්‍රතිගාමීත්වයේ බලමධ්‍යස්ථානය වූ නගර වලින් ඈත්ව, ජනතා බලය වඩා බලවත් වූ ගම්බද ප්‍රදේශ වලට ගොස් ඔවුන් පුබුදුවා විප්ලවකාරී මුල කඳවුරු ප්‍රදේශ පිහිටුවා, ආයුධ සන්නද්ධ විප්ලවීය හමුදා ගොඩනගා, ඒවා පුළුල් කර, දැනට විප්ලවවාදී බලවේගයන්ට වඩා තාවකාලිකව ශක්තිමත්ව සිටින අධිරාජ්‍යවාදින්ගේ හා ප්‍රතිගාමීන්ගේ සන්නද්ධ මර්ධනයට ප්‍රති-ප්‍රහාරය දීම තුලින්, දීර්ඝකාලීන ආයුධ සන්නද්ධ අරගලය අත් නොහැර කරගෙන යෑමෙන්, නගර ගම්බිදින් වටකර, අවසානයේදී ඒවා අත්පත් කර ගැනීම, විප්ලවකාරීන්ගේ කාර්ය භාරයයි.

මේවා මාඕ සේතුං සහෝදරයා විසින් පෞද්ගලිකව සකස් කරන ලදුව, ශ්‍රේෂ්ඨ චීන විප්ලවයේ දේශව්‍යාප්ත ජයග්‍රහණයට මග පෑදූ, මහජන යුද්ධයේ නාම්‍ය උපායන් හා උපක්‍රමද වෙති. මෙරටට උචිත වන පරිදි සකසා ගැනීමෙන්

පසු, ලාංකීය විප්ලවයේ සාර්ථකත්වය සහතික කරන උපායයන් සහ උපක්‍රමද වන බව නිසැකය. අපගේ යුගයේ ශ්‍රේෂ්ඨ විප්ලවවාදියා වන මාඕ සේතුං සහෝදරයා විසින් පැහැදිලි කර ඇති, මෙකී විප්ලවය පිළිබඳ පොදු න්‍යායයෙන් පිට පැනීමට උත්සාහ ගැනීම හෝ වැඩි වර්ධනය වේගෙන එන විප්ලවීය ව්‍යාපාරය, ජාතිභේදවාදී ව්‍යාපාරයට ඇද දැමීමට හෝ දරන්නාවූ උත්සාහය මග පාදන්නේ විනාශයට පමණී.

පැරණි "වාමාංශික" පක්ෂය වන ලංකා සමසමාජ පක්ෂය සහ කේනමන් සංශෝධනවාදී කල්ලිය, බහු ජනතාව හමුවේ සම්පූර්ණව නග්න ලෙස හෙළිදරව් වී සිටිති. වත්මන් අණ්ඩුව විසින් දෙන ලද පොරොන්දු ඉටු කරනු ඇතැයි හෝ ජනතාවගේ මූලික ප්‍රශ්න විසඳේ යැයි හෝ බහුජනතාවට විශ්වාසයක් නැත. සමාජවාදය ගැන කරන හිස් කථා වලින් ඔවුන් රැවටෙන්නේ නැත. බහු ජනතාවට ඔවුන් කෙරෙහි විශ්වාසයක් නැත්තේය. ඔවුන් අද නව විප්ලවවාදී නායකත්වය සොයා යෑමේදී වඩා දරුණු පාතාල වලට නොවැටිය යුතුය. ඔවුන්, එකම ස්වාමියෙකුගේ එහෙත් වෙනත් වාදන වලට නටන මිනිසුන්ට ගොදුරු නොවිය යුතුය.

නව විප්ලවීය නායකත්වයන් සොයා යන්නාවූත්, විශේෂයෙන්ම මෙරට චේ ගුවේරා කල්ලිය විසින් නොමගයවා ඇති කොටස් වලිනුත්, අපි ඉල්ලා සිටින්නේ, ලාංකීය විප්ලවය සාර්ථකත්වය කරා මෙහෙයවිය හැකි එකම විප්ලවීය දර්ශනවාදය වූ මාඕ සේතුං චින්තනය ඉගෙන ගන්නා ලෙසත්, එය පිළිගන්නා ලෙසත්ය. විප්ලවයක් වූ කලී හමුදා කුමන්ත්‍රණයක් (කුදෙතාවක්) නොවේ. එය, මාඕ සේතුං සහෝදරයා පෙන්වා දී ඇති පරිදි, "<u>ආයුධ සන්නද්ධ කැරැල්ලකි. එක පංතියක් විසින් තවත් පංතියක් පෙරලා දමන ප්‍රචණ්ඩ ක්‍රියාවකි.</u>" එය ලක්ෂ ගණන් බහුජනතාව සහභාගී විය යුතු දෙයකි. එය විද්‍යාත්මකව සකස් කරනු ලබන්නාවූත්, විප්ලවීය දර්ශනවාදයකින් මග පෙන්වීම ලැබිය යුත්තා වූත්, ව්‍යායාමයකි. ලෙනින් පෙන්වා දී ඇති පරිදි "<u>විප්ලවීය න්‍යායයක් නොමැතිව, විප්ලවීය භාවිතයක් තිබිය නොහේ.</u>"

වැරදි න්‍යායයන්ගෙන්, අදහස් වන්නේ වැරදි භාවිතයකට මග පෑදීමය. ජනතා විමුක්ති පෙරමුණට නිවැරදි මග යා නොහැක්කේ ඒ නිසාය. ඔවුන්ගේ දර්ශනය මාඕ සේතුං චින්තනයට පටහැනිය. එම නිසා සියලුම විප්ලවකාරීන් මාඕ සේතුං චින්තාව පිළිගෙන ලංකාවේ පවතින යථාතත්වයන්ට අනුරූපීව එය ක්‍රියාවට නැගීමට, උත්සාහ ගනිත්වා..!

ලංකා කොමියුනිස්ට් පක්ෂය

123, යුනියන් පෙදෙස
කොළඹ 2. 70-8-10



## මාඕ චින්තනයෙන්

"තරුණයෙකු විප්ලවාදියෙකු ද, නැද්ද, යන්න අප තක්සේරු කරන්නේ කෙසේද? කියන්නේ කෙසේද? තිබිය හැක්කේ එක් පරීක්ෂණයකි. එනම්, ඔහු ගොවි-කම්කරු බහු ජනතාව සමග එකට බැඳෙන්නට කැමතිද, ක්‍රියාවේදී ඔහු එසේ කරනවාද, යන්නය. ඔහු එසේ කිරීමට කැමති නම්, ඇත්ත වශයෙන්ම එසේ කරන්නේ නම්, ඔහු විප්ලව වාදියෙකි; නොඑසේ නම් ඔහු විප්ලවවාදියෙකු නොවේ. නැතිනම් ඔහු ප්‍රති - විප්ලවවාදියෙකි. ඔහු අද ගොවි කම්කරු බහුජනතාව සමග එකට බැඳෙන්නේ නම්, අද ඔහු විප්ලවවාදියෙකි; හෙට ඔහු එසේ කිරීම නවතා දමන්නේ නම් හෝ ඔහු විප්ලවවාදී නොවන්නකු හෝ ප්‍රතිවිප්ලවවාදියෙකු හෝ බවට පත්වන්නේය."

* * *

"විප්ලවයක් ඇතිවීමට නම්, විප්ලවවාදී පක්ෂයක් තිබිය යුතුයි. විප්ලවවාදී පක්ෂයක් නොමැතිව; මාක්ස්-ලෙනින්වාදී විප්ලවීය න්‍යාය මත ගොඩනැගුවා වූත්, මාක්ස්-ලෙනින්වාදී විප්ලවීය වැඩ කිරීමේ ශෛලියක් මත පදනම් වූත්, පක්ෂයක් නොමැතිව; අධිරාජ්‍යවාදය හා එහි මුර බල්ලන් පරාජය කිරීම සඳහා කම්කරු පංතියත්, පුලුල් බහු ජනතාවත් මෙහෙයවිය නොහැක."

* * *

"මනා ලෙස විනයානුකූල වූ, මාක්ස්-ලෙනින්වාදී න්‍යායයෙන් සන්නද්ධ වූ, මාක්ස්-ලෙනින්වාදී න්‍යායයෙන් සන්නද්ධ වූ, ස්වයං විවේචන ක්‍රමය ප්‍රයෝජනයට ගන්නා වූ, බහු ජනතාව සමග ඇඳී සිටින්නා වූ පක්ෂයක්, එවැනි වූ පක්ෂයක් යටතේ පවතින හමුදාවක්, එවැනි වූ පක්ෂයක නායකත්වය යටතේ ගොඩනැගුණු, සියළුම විප්ලවවාදී පංතිවල සහ සියළුම විප්ලවවාදී කණ්ඩායම් වල එක්සත් පෙරමුණක්-මේ, අප සතුරා පරාජය කිරීමට උපයෝගී කරගත් ප්‍රධාන ආයුධ තුන වේ."

## පසු වදන

මෙම පොත ලිවීමෙන් පසු රටේ ඇති වු වෙනස්වීම් ගැන කෙටියෙන් හෝ සාකච්ඡා කිරීම අද දවසේ ඉතාමත්ම වැදගත්වුත්, අත්‍යාවශ්‍යවුත් කරුණකි. විශේෂයෙන්ම ආර්ථික හා දේශපාලන ක්ෂේත්‍රයේදී රජය විසින් ගෙන ඇති පියවරයන් ගැන නිවැරදි අවබෝධයක් ලබා ගැනීම වැදගත් වන්නේ, ජනතාව ඒ පිළිබඳව දැඩි විමසිලිමත් බවකින් සිටිය යුතු නිසාත්, මොනම හේතුවක් නිසා හෝ වැරදි නිගමනයන් ගැනීම හෝ නොමගයෑම සිදු නොවිය යුතු නිසාත්ය. එබැවින්, එම තත්වයන් ගැන විග්‍රහයක් කිරීමට, අපි මෙම අවස්ථාව ප්‍රයෝජනයට ගනිමු.

බ්‍රිතාන්‍යයන් සතු සියළුම වතු පවරා ගැනීමෙන් පසුව පවා ඃ ස්වරූපයෙන්, අධිරාජ්‍යවාදයෙන් බිඳුණද, හරයෙන් අධිරාජ්‍ය ගැති වූ අපේ ආර්ථිකය, තවමත් නව-විජිතවාදී ආර්ථිකයක්ය, යන සත්‍ය කාරණය අපි බරපතල් ලෙසම ප්‍රකාශ කරමු. අපගේ ආර්ථිකයේ සෞභාග්‍ය හෝ දුර්භාග්‍ය තවමත් විශාල වශයෙන් තේ සහ රබර් වගාවන් මත රඳා පවතින අතර, මෙම අපනයන වගාවන්ගේ අපනයනය සහ වෙළඳාම තව දුරටත්, විශාල වශයෙන්ම අධිරාජ්‍යවාදී සමාගම් මත රඳා පවතී. මේ නිසා අප විශාල වශයෙන්ම ඔවුන්ගේ ග්‍රහණයට අසුව ඇත. මීට අමතරව තව දුරටත් විදේශීය බැංකු විසින් අපගේ ආර්ථිකය පාලනය කරනු ලබන අතර, විදේශීය ප්‍රාග්ධනයට අප රටට ඇතුල්වීම සඳහා අවශ්‍ය සියළුම ඉඩ කඩ සහ පහසුකම් සලසා ඇත. නොවැලැක්විය හැකි සේම නව විජිතවාදී කොන්දේසි අප මත පටවා ඇති, ඇමෙරිකන් අධිරාජ්‍යවාදී පාලනය යටතේ පවතින ලෝක බැංකුවෙන් ණය ලබා ගැනීම තුළින්, අපගේ ආර්ථිකය තවදුරටත් විදේශීය අධිරාජ්‍යවාදී රථ රෝද වලට ගැට ගසා ඇත.

අවුරුදු 5ක කාල පරිච්ඡේදයක් තුළ ඔවුහූ මේ රටේ සමාජවාදය ගොඩනගමින් සිටින්නේයයි යන ප්‍රලාපය සමගි පෙරමුණු රජයේ කොටස්කරුවන් විසින් පවත්වාගෙන විත් ඇත. එහෙත් ඔවුහූ ඔවුන් එකිනෙකා අතර භේද බින්න වීමෙන් පසුව, ධනවාදය ගොඩනැගීම පිළිබඳව එකිනෙකාට විරුද්ධව චෝදනා කරති. ආචාර්ය ඇන්.ඇම්.පෙරේරා සරොන් මුදලාලිලා බිහි කිරීම පිළිබඳව බණ්ඩාරනායක මහත්මියට චෝදනා කරන අතර, (එම චෝදනාව ප්‍රතික්ෂේප නොකරම) ඇය ආචාර්ය ඇන්.ඇම්.පෙරේරාට පිළිතුරු



දෙමින්, ඔහු විසින් ටයි සහ කෝට් මුදලාලිලා බිහි කර ඇතැයි යන චෝදනාව නගයි. ඔවුන්ගෙන් කිසිවෙක් සමාජවාදය ගොඩනැගීම පිළිබඳව ප්‍රකාශ නොකරන අතර, ධනේශ්වර පංතියේ වෙනස්, වෙනස්, කණ්ඩායම් බිහි කිරීම පිළිබඳව එකිනෙකාට චෝදනා කර ගැනීමේ වේදනාකාරී සත්‍යය එසේම පවතී.

සමගි පෙරමුණු ආණ්ඩුව පිහිටුවා ගතවූ අවුරුදු කීපය තුළ ශ්‍රී ලංකාව තුළ සමාජවාදය බිහිකර ඇත්තේ යයි යන ප්‍රකාශයෙන් කිසිවෙකු හෝ නොරැවටෙනු ඇත. සමගි පෙරමුණු රජය තුළ සිටින මුදලාලිලා විසින් සමාජවාදය වූ කලී, ක්‍රමාණුකූලව සිදුවන ක්‍රියාදාමයක් ලෙස දේශනා කරනු ලැබුවද, එය එවැනි වූ ක්‍රියාවලියක් නොවේ. එය වූ කලී, කම්කරු පංතිය සහ ඇයගේ සගයින් විසින් මර්ධනකාරී ධනේශ්වර ක්‍රමය ප්‍රචණ්ඩ ලෙස සහ බලහත්කාරයෙන් පෙරලා දැමීම තුළින් ඇතිවන ප්‍රතිඵලයකි. ධනේශ්වර ක්‍රමය පොඩිපට්ටම් කර දැමීමත්, ධනේශ්වර පංතිය සහ ඇයගේ සගයින් පරාජය කර දැමීමත්, එයට ඇතුලත් වේ. එය සමාජයේ ඉදිරි ගමන පිළිබඳව ගුණාත්මක පිම්මකි.

ශ්‍රී ලංකාව තුළ එවැනිවූ කිසිවක් සිදුවී නැත. ධනේශ්වර පංතියේ සමහර කොටස් දුර්වල වී තිබෙනවා විය හැක. එහෙත් ඔවුන්ටත් වඩා දරුණු පදනමක සිට ජනතාව මත ක්‍රියාත්මක කිරීම සඳහා වෙනත් අළුත් කණ්ඩායම් එම ස්ථානය ගෙන ඇත. එක් කලකදී ශ්‍රී ලංකාව තුළ කොම්ප්‍රදෝරු ධනේශ්වර පංතියේ එකම නියෝජිතයා වශයෙන්, ඉතාමත්ම නිවැරදිව එක්සත් ජාතික පක්ෂය සලකන ලදි. අද මෙය තවදුරටත් සත්‍යය නොවේ. ශ්‍රී ලංකා නිදහස් පක්ෂය තම දේශපාලන පක්ෂය වශයෙන් පිහිටුවා ගැනීම පිණිස, ජාතික ධනේශ්වර පංතිය දේශපාලන බලවේගයක් වශයෙන්, කොම්ප්‍රදෝරු ධනේශ්වර පංතියේ පක්ෂය වූ එක්සත් ජාතික පක්ෂයෙන් බිඳී වෙන්වී දැනට අවුරුදු විසිපහක් ගෙවී ඇති මේ අවස්ථාවේදී, ඔවුන් බොහෝදුර ඉදිරියට ගමන්කර ඇත. අවුරුදු 15කට අධික කාලයක් තුළ බලයේ රස විඳ ඇති තත්වය යටතේත්, ජාතික ධනේශ්වර පංතියේ සැලකිය යුතු කොටස් මහ ධනේශ්වර පංතියේ ශ්‍රේණීන් දක්වා වර්ධනය වී ඇත. දස මුදලාලි, මැල්කම් මුදලාලි, පියදස මුදලාලි සුපැහැදිලි නිදසුන් වෙති. මෙය, මෙයට වෙනස් වූ අන් මගක් ගත නොහැකිය. පදර්ථයේ සියළුම අවස්ථාවන් ද්විසටනාත්මක වර්ධනයට භාජනය විය යුතුය. ජාතික ධනේශ්වර පංතිය මෙයට වෙනස්ව ක්‍රියාකළ හැකි බලවේගයක් නොවේ. එය මීට අවුරුදු 25ට පෙර පැවති තත්වයේම, සැමදා පැවතිය නොහැකිය. ද්විසටනාත්මක වර්ධනයේ ස්වාභාවික ක්‍රියාදමය සිදුවී ඇති අතර, ඔවුන්ගෙන් සමහර කණ්ඩායම්, ඔවුන් සරොම් අඳින්නේද, කෝට් සහ ටයි අඳින්නේද යන්න ගැන වෙනසක් නොතකා, මහ ධනේශ්වර පංතිය බවට පත්වී ඇත්තේය.

නව ධනේශ්වර පංතියක වර්ධනයට බලපෑ තවත් හේතුවක් නම්, වර්තමාන රජය බලයට පත්වීමෙන් පසුව මහා පරිමාණයකින් රාජ්‍ය සංස්ථා බිහි වීමයි. ඉහල වැටුප්, දූෂණය, අල්ලස් සහ විදේශවල කොමිස් එකතුවීම තුළින්, මෙම සංස්ථාවල සභාපතිවරු, සාමාන්‍යාධිකාරීවරු අති විශාල ප්‍රාග්ධනයක් ඒකරාශිකරගෙන ඇත. ධනේශ්වරයින් වන අතරම, රාජ්‍ය සංස්ථාවල ක්‍රියාකාරී පුද්ගලයින් වශයෙන් කටයුතු කරන, නවතම වර්ගයේ නිලධාරී ධනේශ්වර පංතියක් මේ තුළින් පැන නැගී ඇත.

ඇත්ත වශයෙන්ම, රාජ්‍ය ධනවාදයේ නොයෙකුත් අවස්ථාවන්ගේ සැලකිය යුතු වර්ධනයක් ශ්‍රී ලංකාව තුල දක්නට ඇත. වතු වගාවන් පවරා ගැනීමත්, ඒවා ඉඩම් ප්‍රතිසංස්කරණ කොමිසමට හෝ රාජ්‍ය වැවිලි සංස්ථාවට පැවරීමත් වූ කලී, මෑතකදී ඇතිවූ රාජ්‍ය ධනවාදයේ ස්වභාවයයි. එය සහතික වශයෙන්ම සමාජවාදය නොවේ. මෙහදී පැනනගින වැදගත් වූත්, තීරණාත්මක වූත්, ප්‍රශ්නය නම්, රාජ්‍ය බලය පවතින්නේ කා අතද යන්නයි. මූලික වශයෙන් ඉහළ පෙළේ රදළ නිලධාරි පැලැන්තිය සහ පැරණි සහ අළුත් මහ ධනේශ්වර පංතියේ සහභාගීත්වයෙන් යුත්, ප්‍රතිගාමී පාලක පංතිය අත ලංකාවේ රාජ්‍ය බලය රඳා පවතින බවට කිසිදු හෝ සැකයක් නැත. මේ අර්ථයෙන් ගත් විට වතු වගාවන් ජනසතු කිරීම තුළින් සිදුවී ඇත්තේ, මෙම වතු වගාවන්ගේ අයිතිය නව පාලක පංතිය අතට මාරුවීම පමණි. මාක්ස්-ලෙනින්වාදීන් වශයෙන් අප මෙම වතු වගාවන් ජනසතු කරන ලෙස කරන ලද ඉල්ලීමෙන් බලාපොරොත්තු වූයේ කම්කරු පංතිය සහ ඇයගේ සගයින් රාජ්‍ය බලය තමන් සතු කර ගැනීමෙන්; එනම්, නව ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ජයග්‍රහණයේ ප්‍රතිඵලයක් වශයෙන් මෙය සිදුවිය යුතු බවය. එහෙත් මෑතදී ශ්‍රී ලංකාව තුළ වතු වගාවන් ජනසතු කරන ලද්දේ විප්ලවයකින් තොරව මෙන්ම, රාජ්‍ය බලය තවමත් ප්‍රතිගාමී පාලක පංතිය අතේ තිබෙන තත්වය යටතේය. නිෂ්පාදනයේ පංති සබඳතාවයන් නොවෙනස්ව පවතින තත්වය යටතේ, මෙය රාජ්‍ය ධනවාදයේ ස්වරූපයක් නියෝජනය කරන්නේ එබැවිනි. එය ධනවාදය විනාශ කිරීමක් හෝ සමාජවාදයේ ස්වරූපයක් නොවේ.

ධනේශ්වර රාමුව තුළම ක්‍රියාත්මක කරන ලද හෙයින්, 1972 ඉඩම් ප්‍රතිසංස්කරණ නීතිය පවා සමාජවාදී පියවරක් නොවේ. එවැනි වූ ඉඩම් බෙදීමක් දෙවන ලෝක මහා යුද්ධය අවසානයේදී, ජෙනරල් මැක් ආතර් විසින් ජපානයේදීද, ප්‍රංශ විප්ලවයෙන් පසු, නැපෝලියන් විසින් ප්‍රංශයේදීද සිදුකරන ලදී. එහෙත් මේ තුළ සමාජවාදය නොවීය. මීට අමතරව අයෙකුට අක්කර 50 බැගින් අයිති කරගත හැකි පුද්ගලික ඉඩම් හිමියන් ඉතුරු කරන ලද අතර, මේ අනුව 5 දෙනෙකුගෙන් යුක්ත වූ පවුලකට අක්කර 250 තබාගත හැක. මෙය ශ්‍රී ලංකාව තුල විශාල ඉඩම් අයිතියකි. ඒ සමානව මේ රජය විසින් ක්‍රියාත්මක



කරන ලද්දේ යයි පවසන සියළුම උන්නතිකාමී පියවරයන් වශයෙන් සළකන ප්‍රාග්ධන බද්ධ, ආදයම් සීමා පණත, (දැන් මෙය ක්‍රියාත්මක වීම අත්හිටුවා ඇත.) නිවාස පණත ආදිය සමාජවාදී පියවරයන් නොවේ. ඊට ප්‍රතිවිරුද්ධ අන්දමින් ඒවා තුළින් ධනේශ්වර ක්‍රම ශක්තිමත් කිරීම බලාපොරොත්තු වේ. ඉඩම් හෝ ආදයම් ඉතාමත් සුළු කොටසක් අත ඒකරාශී වීම තුළින්, සහතික වශයෙන්ම විප්ලවය පැන නගී. මේ හේතුව නිසා, දුරදිග පෙනෙන ධනේශ්වරයින්, විප්ලවය ඇතිවීම වැලැක්වීම සඳහා, ඉඩම් සහ ආදයම් අයිතිය පුළුල් ලෙස බෙදී යන ලෙස ක්‍රියා කිරීමට වග බලාගෙන ඇත. මේ අර්ථයෙන් ගත් විට, මේ රජය විසින් ගෙන ඇති සියළුම පියවරයන්ගේ අරමුණ වූ කලී, ධනවාදය ආරක්ෂා කිරීම සහ ශක්තිමත් කිරීම වන අතර කිසිසේත්ම එය විනාශ කිරීමක් නොවේ.

ශ්‍රී ලංකාව මෙතෙක් මුහුණ පා ඇති දරුණුම මර්ධනය ක්‍රියාත්මක කිරීම සඳහා, මේ රජය විසින් 1971 අප්‍රේල් කැරැල්ල නිදහසට කරුණක් වශයෙන් පාවිච්චි කරනු ලබන්නේ එහෙයිනි. දිගින් දිගටම ක්‍රියාත්මක වෙමින් පවතින හදිසි නීති තත්වය යටතේ අපව පාලනය කරනු ලබයි. වැඩ වර්ජනය කිරීමේ අයිතිය ඇතුළු බලාපොරොත්තු විය හැකි ප්‍රජාතන්ත්‍රවාදි අයිතීන්වලට පවා අපව අහිමි කොට ඇත. අහිංසක ජනතාවක් වෙත එල්ල කරන ලද බයිනෙත්තු සහිතව, පාරිභෝගික ද්‍රව්‍යයන් සියල්ලම වාගේ සහ මහජන සේවාවන්ගේ මිළ ඉහල නැංවීම තුළින්, ආර්ථික අර්බුදයේ බර ජනතාවගේ කරපිටට පැටවීමේදී, මේ රජය සාර්ථකත්වය ලබාගෙන ඇත. රැකීරක්ෂා ප්‍රශ්ණය විසඳීම සහ ජීවන අංකය පහත දැමීම වශයෙන් වූ තම ප්‍රධාන මැතිවරණ පොරොන්දු දෙක, සුළු ප්‍රමාණයකින් හෝ විසඳීමට අපහසු වීම මේ රජයේ දරුණුම පරාජයයි.

පාර්ලිමේන්තුව තුළ ලබාගත් 2/3 ක වැඩි ඡන්දය, ප්‍රජාතන්ත්‍රවාදය සහ ප්‍රජාතන්ත්‍රවාදී අයිතීන් ගැන කරනු ලබන ප්‍රෝඩාකාරී කථා සහ පැසිස්ටවාදය පරාජය කිරීම සඳහා දිගින් දිගටම කරනු ලබන ඉල්ලීම් එසේම තිබියදී, හදිසි නීති තත්වයෙන් තොරව එක් සම්පූර්ණ අවුරුද්දක් හෝ රට පාලනය කිරීමට මේ රජයට නොහැකි වීම තුළින්, ධනේශ්වර පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදයේ පූර්ණ බංකොලොත්භාවය සහ වෙනස් වෙනස් විවෘත පැසිස්ට්වාදී ආඥාදායකත්වය මත නොපිහිටා, ආර්ථික අර්බුදයේ තර්ජනයට මුහුණදීමට පාලක පංතියට නොහැකි බව මනාව පිළිබිඹුවේ.

## ලෙනින්ගෙන් උපුටාගත් පාඨයක්

- "ධනේශ්වරයන් ඔවුන්ගේ දේපොළවල අයිතිය තබා ගන්නා තාක්කල් සර්වජන ඡන්ද බලය වූ කලී, ධනේශ්වර රාජ්‍යයේ ආයුධවලින් එකක් පමණක් බව....... මේය අමතකකොට අප ධනේශ්වර පාර්ලිමේන්තුවාදයේ එල්බ ගැනීම" වූ කලී, නිර්ලජ්ජ ලෙස නිර්ධන පංතිය පාවාදීමත්, නිර්ධන පංතිය පැත්තෙත් සිට පංති සතුරාගේ එනම්, ධනේශ්වර පංතියේ පැත්තට යාමත් සමඟ ද්‍රෝහියෙක් සහ පාවා දෙන්නෙක් වීමත්ය."

- "ධනේශ්වරයින්ගේ දේපොළ සහ බලය ආරක්ෂාවී ඇත්තේ නම්, ධනේශ්වර පාර්ලිමේන්තුව කුමන අන්දමින් ප්‍රජාතන්ත්‍රවාදී වූවත්, සහ කුමන අන්දමින් ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් වුවත්, එය අන් කිසිවක් නොව, සූරා කන්නන් සුළු සංඛ්‍යාවක් විසින් දසලක්ෂ සංඛ්‍යාත වැඩ කරන ජනතාව මර්ධනය කිරීම සඳහා වූ යන්ත්‍රයයි."

- "භාවිතයේදී, වැඩ කරන ජනතාව මත සූරා කන්නන්ගේ අඥාදයකත්වය - ධනේශ්වර පංතියේ අඥාදයකත්වය වූ, (ධනේශ්වර) ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව - "ජනතා ආණ්ඩුව" හෝ පොදුවේ ප්‍රජාතන්ත්‍රවාදය, හෝ පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය වෙනුවෙන් හැඳින්වීමට තරම් කපටි වීමට ධනේශ්වර පංතියට බල කරනු ලැබ ඇත.............. එහෙත් මාක්ස්වාදීහූ, කොමියුනිස්ට්වාදීහූ, මෙම කුහකකම හෙළිදරව් කරන අතර, පොදුවේ කම්කරුවන්ටත්, වැඩ කරන ජනතාවටත්, අවංක හා ඍජු සත්‍යය-එනම්, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව, ව්‍යවස්ථාදයක සභාව, මහ මැතිවරණ ආදී භාවිතයේදී ධනේශ්වර පංතියේ අඥාදයකත්වය බවත්, ධනේශ්වර අරටුවෙන් ශ්‍රමයේ විමුක්තිය ලබා ගැනීම සඳහා මෙම ධනේශ්වර පංතියේ අඥාදයකත්වය, නිර්ධන පංතියේ අඥාදයකත්වය විසින් ඉවත් කළ යුතු බවත් පවසති."



## කතෘගේ වෙනත් පොත් :-

★ ඔක්තෝබර් විප්ලවයේ පාඩම

★ මාඕ සේතුං චින්තනයේ ප්‍රභාමත් රතු පතාකය

★ කම්කරු සමිතිවල වැඩ කොටස

★ මාඕ සේතුං සහෝදරයා මාක්ස්-ලෙනින් වාදයේ සංවර්ධනයට කළ එකතුව

★ විසිපස් වසරකට පසු සමාජවාදී ඇල්බේනියාව

**දැනට මුද්‍රණය වෙමින් ඇත**

1. ලංකාවේ වාමාංශික ව්‍යාපාරයේ කෙටි ඉතිහාසයක්
2. මාක්ස්වාදී රචනා :-
   - (i) රාජ්‍යය
   - (ii) දේශපාලන අර්ථශාස්ත්‍රය
   - (iii) මාක්ස්වාදී දර්ශණ විද්‍යාව

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස)፡ 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත

- කෘතිය: ලංකා ඉතිහාසය දෙස මාක්ස්වාදී ඇසකින්
- කතෘ/පරිවර්තක: එන් ශන්මුගදාසන්
- ප්‍රකාශක: -
- පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-27
- ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-27, V2:2019-05-31
- පිටු ගණන: 114
- භාෂා මාධ්‍ය: සිංහල
- ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com